

# THE SANSKRIT & SINHALESE DICTIONARY


BY

**W. JAMES FERNANDO,**

*AYURVEDIC PHYSICIAN*

PUPIL OF

***The Ven. P. Nanawimala Thissa***

*PRINCIPAL OF*

"SAUGATHA VIDYALAYA" & "RANKOT VIHARE"

**PANADURA.**


---

# අමර ශබ්දාවලී.

නම්වූ

## සංස්කෘත සිංහල අකාරාදිය.

---

තාමලිඹගාතු ශාසනයෙහි හෙවත් අමරකොෂයෙහි
පැණෙන ශබ්දයන්ගෙන් යුක්තයි.

---


පානදුරේ රන්කොත් විහාරයෙහි හා තදීය
සෞගත විද්‍යාලයෙහිද අධිපතිවූ
**පණ්ඩිතාචාර්ය්‍ය ශ්‍රී ඥානවිමල තිෂ්‍යාභිධාන**
**මහා ස්ථවිර පාදයානන් වහන්සේගේ**
ශිෂ්‍යවූද
ප්‍රාචීන භාෂෝපකාරක සමිතියේ සාමාජිකවූද
**පානදුරේ නල්ලුරුවේ**
**ඩබ්ලිව්. ජේම්ස් ප්‍රනාන්දු වෙදමහත්මයා**
විසින්
**සම්පාදනය කරනලදී.**

# PREFACE.

THE Sanskrit Stanzas compiled by famous Pandits, as referred to in "Amara Kosha" and "Medini Kosha" and other valuable information relating to Logic Grammer and Rhetoric in vogue in differen countries, requires a systematic study by all intelligent sinhalese students.

To acquaint the student with the fullest meanings of the mentioned Stanzas and other phrarses, a dictionary would prove a very useful medium and to fulfil this mostly dissreable need, the writer of this volume has laboured to the best of his ability to place before the sinhalese reading public, a Dictionary, the first of its kind, ever published.

I owe a debt of gratitude, for the very able help rendered to me by my Preceptor, The Ven'ble. Sri Nanáwimala Thissa, Maha Thero, Principal of the "Saugatha Vidyalaya" Oriental college of Panadure, whose efforts were of immense benefit to me in connection with the alphabetical arrangement of different stanzas.

The English Encyclopaedia known as "Amara kosha" was published by Mr. H. T. Coolebrooke an English Professor in 1807, and almost all the English reading Sanscrit Students are belived to be in touch with this useful book. The same book "Amara Kosha" which is an original sanskrit production by on eminent scholar who lived in India by the name of "Amarasinha" contains 1501 stanzas, and our sinhalese production too, contains the meanings of all those mentioned stanzas.

In other Sanskrit Vocabularies hereto published, there existed only some 16 lexicons, but in this present work the reader will find these hexicons in a revised, form, thereby, the reader will no doubt realise the importance of this work, which will prove as a general hand book for all sanskrit students of Ceylon.



**W. James Fernando,**
Ayurvedic Physician.

"Pracheena" Medical Hall
Panadure, May 23, 1922.



පණ්ඩිතාචාර්ය
පානදුරේ ශ්‍රී ඥානවිමලතිෂ්‍යාභිධාන
මහස්ථවිරපාදයානන් වහන්සේ.

# අමර ශබ්දවලී.

## උපොද්ඝාතම්.

1. සර්ව ශබ්දාර්ණවොත්තීර්ණං
සර්ව ලොක නමස්කෘතම්;
සර්ව ලොක විමුක්ත්‍යර්ථං
සර්ව ලොක විදං නමෙ.

2. යස්‍යාබ්ධියො'භූද් භරතානුයාත
ඉතීතිහාත් පූරුව කොෂ නාම්නඃ;
ප්‍රතීයතෙ ද්‍රාවිඩක ප්‍රබන්ධාත්
පුරාණතො භාරත නාමතශ්ච.

3. යස්‍යාඞ්ඝ්‍රි පද්මං මධු පූර්ණ පද්ම
මිවභ්‍රමද්භිර් භ්‍රමරෛර් භ්‍රමද්භිඃ;
යදාශ්‍රමශ්චාත්‍ර වරෛර්විරාජන්.
ජගන් මනාහ්ලාදයතෙ සදෛව.

4. තත්‍රාශ්‍රමෙ සවර්ණ ශෘඞ්ග
නාමති පානදුරා පුරෙ;
යතතෙ යති ශ්‍රෙෂ්ඨොයඃ
**ශ්‍රී ඥාන විමලාභිධඃ.**

5. තස්‍යාඞ්ඝ්‍රිපද්මං ප්‍රණිපත්‍ය භක්ත්‍යා
ශබ්දාන්‍යනෙකාන්‍යුපචීය කොෂාත්;
ටීකාත්‍රයාර්ථානුපනීය සම්‍යක්
**ශබ්දවලී** සංස්ක්‍රියතෙ '**මරාදි**.

6. නල්ලූරු නාම්නා විදිතෙ සමෘද්ධෙ
ග්‍රාමෙහි ජාතෙන ජන ප්‍රියෙන
**ජේම්ස් ප්‍රනාන්දු** ඉති විශ්‍රුතෙන
වෛද්‍යෙන ලොකාර්ථ ධියා කෘතෙයම්.

7. ජේ. එස්. ඩයස් ඉතිමහා සච්චො දයාවාන්
භාණ්ඩාරනායක කුලාර්ණව පූර්ණචන්ද්‍රඃ;
ශබ්දාවලිං සමභිගම්‍ය මයා ප්‍රදත්තාං
ප්‍රීත්‍යානුතෙය මිතිතං සච්චං ප්‍රනෞමි

8. ශබ්දාර්ණ වොත්තාරි තරීවයෙෂාං
මතිනී තාන්තාං තරතෝ'ත්‍රකොශෙ,
කොෂාග්‍රගණ්‍යෝ'මරසිංහසූරෙට
තතඃ පරෙෂා මිහමෙශ්‍රමොස්තු.





# අමර ශබ්දාවලී.

## උපෝද්ඝාතය.

**අමර ශබ්දාවලි** යන නමින් යුත් මේ අකාරාදිය අමරසිංහ නම් පණ්ඩිතොත්තමයන් විසින් ප්‍රණීත හෙයින් ඒ තුමන්ගේම නාමයෙන් ලක්දිව වැස්සන් විසින් අමරසිංහයයිද ගෞඩයන් විසින් කොෂයක් බැවින් ඒ තුමන්ගේ නාමයෙහි ආද්‍යක්ෂ රත්‍රය ආදියෙහි යොදා අමරකොෂයයිද යන අපරනාමධෙයයන් ගෙන් ව්‍යවහාරකරන ලද්දාවූ ඒ පණ්ඩිතොත්තමයාණන් විසින් "නාමලිඞ්ගානු ශාසන"යයි නම්කරනලද කොෂයෙහි පන්සිය එකක් අධික කොට ඇති දහසක් පමණ ශ්ලොකයන්ගෙන් යුත් ස්වර්ගවර්ගාදි තෙතිසක් වර්ගයන්හි ස්වර්ගාදීන් සම්බන්ධවූ යම් පමණ නාමයෝ දක්වනලද්දාහුද ඒසියල්ල නොපිරිහෙළා අකාර ආදි පිළිවෙළින් යොදා කළ හෙයින් ගෞඩයන්මෙන් අපිදු ඒ පඬිතුමන්ගේ නාමයෙහි ආද්‍යක්ෂරත්‍රය මුල්කොටගෙන මීට **අමර ශබ්දාවලී** යයි නම් කෙළෙමු.

මෙය සකස් කරන්නාවූ අප විසින් නාමලිඞ්ගානු ශාසන යෙහි ටීකාවය හා අප ඇදුරු පරපුර ප්‍රධාන ආචාර්‍ය්‍යවරයෙක්වූ **අත්තරගම බණ්ඩාර රාජගුරු නම් පණ්ඩිතොත්තමයාණන් විසින්** ලියනලද සන්නයද මොනවට බලා පානදුරේ රන්කොත්විහාර යෙහි හා තදීය සෞගත විද්‍යාලයෙහි ආධිපත්‍යයට පැමිණවසන අප ආචාර්‍ය්‍යභූත පණ්ඩිතාචාර්‍ය්‍ය **ශ්‍රී ඥානවිමල තිෂ්‍ය** භිධාන මහා ස්ථවිරපාදයන් වහන්සේගේ ප්‍රාසාදාතිශය ලාභයෙන් සැකැහැර තිදෙස්ලෙස සිංහලාර්ථ සහිතව ඒනාමයෝ මෙහි යොදනලද්දාහු නමුත් ග්‍රන්ථප්‍රතිසංස්කාර කර්තෘවරයන්ගේ මතභෙදයන් විභාග යෙහි අසමර්ථවූවන්ට වරදවශයෙන් හැඟීයනතැන් මෙහිදනැතැයි නොසිතමු. ඒ එසේමැයි÷ "ශිශ්විදා නො'කෘෂ්ණකර්මා" යනු වෙන් ශිශ්විදාන" යනු පර්‍ය්‍යායකරන්නායයි මේ කොෂයෙහි දක්වනලද්දේ වී නමුත් ශබ්දස්තොම මහානිධියෙහි "ශිශ්විදාන, ත්‍රි. ශ්වි, කානච්, මිත්‍රම්, පාපකාරකෙ' යනුවෙන් පර්‍ය්‍යාකරන්නායයි දක්වනලදී. ශබ්දස්තොමයෙහිම ගොධා. ස්ත්‍රී. ගුධ්‍යතෙ, වෙෂ්ට්‍යතෙවා බාහුරනයා, ක්‍රොෂ්ටබද්ධ චර්මණි" යනුවෙන් දක්වන ලද කයිසරබුවට නම්වූ ගොධා නාමය ලක්දිව මුද්‍රිත අමරකොෂ යෙහිලිඞ්ගානන්තරයකින් යොදා ඊට කබුතුඩයයි නම්කොට තිබේ. මෙසේ භෙදව පවත්නාතැන් බොහොදක්නා ලැබෙත්. එබැවින් එබඳු පරස්පර විරුද්ධව පවත්නා තැන් දුටු වහාම වරදයයි එක විට බැහැර නොලා විමසා බැලිය යුතුවෙත්.

තවද ශබ්දසෝනාමාදි කෙවල සංස්කෘත අකාරාදිද අමර ශබ්දාවලියත මේනාමයෙන්ම හා තවත් නාමයන්ගෙන් සංස්කෘත ඉංග්‍රීසි අකාරාදිද රාශියක් තිබියදී මින් ප්‍රයෝජන තව ඇද්දැයි යතහොත් ඒ අකාරාදි වල බෙහෙවින් නොදක්වන ලද කෘත්‍යප්‍රත්‍යයාන්ත ගණනීය, මුසල්‍ය, විෂ්‍ය, යනාදී බොහෝ නාමයන් මෙහි දක්වනලද බැවින් ඒ නාමයන් දැක ගැනීමටද, සංස්කෘත භාෂාව නූගත් හට තබා උගත් හටත් තේරුම්ගත නොහැකිවූද සිංහලෙන් නම්කළ නොහැකිවූද නාමයන් උදාහරණයන්ගෙන් සපුවාකොට සියබසින් ව්‍යවහාර නාමයන් දක්වනලද බැවින්ද උගත් නූගත් සියලු දෙනාහටම වෛද්‍ය නක්ෂත්‍ර තර්කව්‍යාකරණ ඡන්දෝලංකාරාදි ශාස්ත්‍රයන් පිළිබඳවූද ධනුශ් ශිල්පාදිශිල්පයන් පිළිබඳවූද සංස්කෘත නාමයන්හි නිසැක ව සුවසේ සිංහල නාම සහිත අර්ථාවගමයට අනන්‍යවූ සිංහල අකාරාදියක් නොමැතිබැවින් මේ අමරශබ්දාවලිය ඊට ඉතාම ඉවහල් වේයයි දතයුතුයි.

තවද අ ෂර යොජකයන්ගේ හා අපගේ ප්‍රමාද භ්‍රමාදියෙන්වූ අක්ෂර විපර්යාසාදිය මුද්‍රණයෙන් පසු දකින්ට ලැබුණේවී නමුත් ඉන් අර්ථාවගමයට බාධාවක් නොමැතිබැවින්ද මෙවර මුද්‍රණයකරවන ලද්දේ කොපි සවල්පයක් බැවින් වහා ඉවරවීමෙන් ඉක්මනින් තව වරක් මුද්‍රණයකරවීමට සිදුවනු නිසැක බැවින්ද එවර සම්පූර්ණ ශුද්ධියක් ඇතිකරවන අදහසින් මෙවර මෙහි ශුද්ධිපත්‍රයක් නොයෙදූයෙමු. එතකුදුවූවත් 9 වෙනි පෝර්මයේ පිටු ඉලක්කම්ම 10 වෙනි පෝර්යටත් වැරදි වැටී තිබෙන බැව් දන්වමු.

මෙහිබවට,-පානදුරේ තල්ලූරුවේ
**ඩබ්ලිව්. ජේම්ස් ප්‍රනාන්දු,**
වෛද්‍යනැන.

2466
වර්ෂ 1922 ක්‍රි මැයි මස 23 වෙනිදින
පානදුරේ ප්‍රාචීනෞෂධ ශාලාවේදීය.

---

**සාඞ්කේතික ශබ්ද ශඞ්ඛ්‍යාන විඥාපනය.**

| සඞ්කේත. | සඞ්කේත බෝධ්‍ය | සඞ්කේත. | සඞ්කේත බෝධ්‍ය. |
|---|---|---|---|
| පු | පුංලිඞ්ග. | ඒ. | ඒ වචන. |
| ස්ත්‍රී. | ස්ත්‍රීලිඞ්ග. | බ. | බහුවචන |
| ත්‍රි. | ත්‍රිලිඞ්ග. | | |

---

# DEDICATED

BY

KIND PERMISSION

TO

**Sir. SOLOMON DIAS BANDARANAIKE, Kt.**

**C. M. G., J. P.,**

*Maha Mudaliyar of Ceylon Etc. Etc.*

**In appreciation of the Great interest**

**he has taken in the promotion of**

**Oriental Studies in Ceylon.**

**ප්‍රාචීන භාෂා ශාස්ත්‍රාභිවෘද්ධි කාමීවූ**

**සී. ඇම් ජී., ජේ. පී. නාමොපලක්ෂිත**

**වංශාධිපති ශ්‍රීමත්**

**සලමොන් දියෙස් බණ්ඩාරනායක**

**මහමුදලි මන්ත්‍රීශ්වරයාණන් වහන්සේට**

**මේ ග්‍රන්ථය පිළිගන්වන ලදින්**

**එතුමාණන් විසින්**

**සමාදරයෙන් පිළිගන්නාලදී.**

# අමර ශබ්ද වලි.

නමස්තස්මෛ භගවතෙර්හතෙ සම්‍යක් සම්බුද්ධාය.

## අ

**අ**, අව්‍ය. අභාවය.
**අංශ**, පු. භාගය.
**අංශු**, පු. සූර්‍ය්‍යරශ්මිය.
**අංශුක**, න. වස්ත්‍ර.
**අංශුමතී**, ස්ත්‍රී. අස්වැන්න.
**අංශුමත්ඵලා**, ස්ත්‍රී. කෙහෙල්.
**අංස**. පු.න. උරහිස.
**අංසල**, ත්‍රි. බලඇත්තා.
**අංහති**, ස්ත්‍රී. දනය.
**අංහස්**, න. පාපය.
**අකරණී**, ස්ත්‍රී. ශාපය.
**අකූපාර**, පු. මුහුද.
**අක්ෂ**, පු. පසඇට, මාෂක සොළස හෙවත් තුන්කලඳ, රියසක, ව්‍යවහාරය හෙවත් ඒ පිළිබඳගණුදෙනු සැලකීම, බුලුගස, සුවසලුණු, න. චක්ෂුරාදි ඉන්ද්‍රිය.
**අක්ෂත**, න. විලඳ.
**අක්ෂදර්ශක**, පු. ධර්මාධිකරණිකයා.
**අක්ෂදේවින්**, පු. දූකෙළින්නා.
**අක්ෂධූර්ත**, පු. දූකෙළින්නා.
**අක්ෂර**, න. නිවන්, වර්ණ, පු. බ්‍රහ්මයා.
**අක්ෂරචණ** (ත,) පු. ලියන්නා.
**අක්ෂරචුඤ්චු**, පු. ලියන්නා.
**අක්ෂවතී**, ස්ත්‍රී. දූකෙළිය.
**අක්ෂරවින්‍යාස**, පු. ලිපිකිරීම.
**අක්ෂාන්ති**, ස්ත්‍රී ඊර්ෂ්‍යාව.
**අක්ෂිගත**, ත්‍රි. වෛෂ්‍යයටසුදුස්සා.
**අක්ෂින්**, න. ඇස.
**අක්ෂිව**, න. මුහුදුලුණු, පු. මුරුංගා
**අ (ආ) ක්ෂෝඩ** (ට,) පු. වෙනෙහිවුණමාර.
**අක්ෂෞහිණී**, ස්ත්‍රී. අනීකිනී නම් සේනාපාර දශය. එනම් ඇතුන් එක්විසිදහස් අටසියසැත්තෑවක් හා එපමණ රථයන්ගෙන්ද අසුන් සැටපන්දහස් සසිය දස දෙනෙකුන්ගෙන්ද පාබලසෙන් එක්ලක්ෂ නවදහස්තුන්සිය පණසකගෙන්ද යුත්සේනාභේදයයි.
**අඛණ්ඩ**, ත්‍රි. නොඅඩුදු.
**අඛාත**, පු. න. සයංජාතපොකුණ, දෙවචාරයෙහිවූ ජලාශය.
**අඛිල**, ත්‍රි. නොඅඩුදු.
**අග**, පු. ශෛලය, වෘක්ෂය.
**අගද**, පු. ඖෂධය.
**අගදඞ්කාර**, පු. වෙද.
**අගම**, පු. වෘක්ෂය.
**අගශ්‍රී**, ස්ත්‍රී. දෙවදැළි.
**අගරු**, පු. අගිල්.
**අගස්ත්‍ය**, පු. අගස්ති ඍෂි, මෙනි

අගසහි යතුදවේ.
**අගාධ,** ත්‍රි. පත්ල නොදක්නා ඉතා ගැඹුර.
**අගාර,** න. ගේ.
**අගුරු,** ඇට්ටර.
**අ (ආ) ග්න,** පු. සරඹ.
**අග්නි** පු. ගිනි.
**අග්නිකණ,** පු, ගිනිපුපුර.
**අග්නිචින්,**පු ගිනිදෙවියා පුදන්නා
**අග්නිජ්වාලා,** ස්ත්‍රී. මලඉත්ත, (මේ රතුමල් ඇතිරුකෙකි.)
**අග්නිභූ,** පු. කඳකුමරු.
**අග්නිමන්ථ,** පු. මීදි.
**අග්නිශිඛින්,** පු. බදුලුගස.
**අග්නිශිඛ,** න. කොකුම්.
**අග්නිශිඛා,** ස්ත්‍රී. ලියනගලා,නියඟලා ල්ගස.
**අග්න්‍යුත්පාත,** පු. උත්පාතය, ධූමකෙතු, අහසින්නොන්වූ උල්කාපාතය.
**අග්‍ර,** න. ඉදිරිය,වැඩියක්,රුක්මුදුන, මත්ත, ත්‍රි. ප්‍රධානදෑ.
**අග්‍රජ.** ත්‍රි. වැඩිමහලුබෑයා.
**අග්‍රතස්,** අව්‍ය,සම්මුඛ වීගි, "ලෙඛප්‍රත්‍යර්ථිනොග්‍රතඃ" සතුරාහමුවෙහි ලියමනතබා යනාදි උදාහරණයි.
**අග්‍රතඃසර,** ත්‍රි. පෙරටුවයන්නා.
**අග්‍රමාංස,** න, වකුගඩුව හෝ හදවත.
**අග්‍රහායණී,** ස්ත්‍රී. මුවසිරිස.
**අග්‍රිය,** පු. වැඩිමහලුබෑයා, ත්‍රි. ප්‍රධානදෑ.
**අග්‍රීය.** ත්‍රි. ප්‍රධානදෑ.
**අග්‍රෙදිධිෂු,** පු. දෙවරක් සරණ ගිය ස්ත්‍රියගේ බමුණුසැමියා.
**අග්‍රෙසර,** ත්‍රි පෙරටුවයන්නා.
**අග්‍ර්‍ය,** ත්‍රි. ප්‍රධානදෑ.
**අග්ලහ.** පු. පරදුතැබූදූය (දූකෙළියෙහිපැරදගියකල දෙනදෑ.)
**අඝ,** න. පාපය, ජරාමරණාදිදුක, දුකෙළිආදිවිපත්ක්‍රියා.
**අඝමර්ෂණ,** ත්‍රි. සියලු පව් නැසිමපිණිස ජපකටයුතු මන්ත්‍රාදිය.
**අඝ්න්‍යා.** ස්ත්‍රී, දෙන.
**අඞ්ක,** පු. ඇකය, සලකුණ.
**අඞ්කු (ඞ්කූ) ර,** පු. පැලය.
**අඞ්කුශ,** පු.න. අකුස්ස.
**අඞ්කොඨ (ඨ,)** පු. රුකඟුනු.
**අඞ්කොල,** පු. රුකඟුනු.
**අඞ්ක්‍ය,** පු. "සාඞ්ගනාලත්‍රයායාමං චතුර්දශාඞ්ගුලානනඃ හරීතකාක්‍රෘතිඃසාඞ්කායා 'ඞ්කසභිධාද්‍යතෙ,, යම් අඞ්ක්‍යයෙක් අඞ්සහිත තාල තුණක් දික් වූයේ [තාලය නම් මාපටඇඟිලි මැදැඟිලි විහිදීමින් දෙකෙකි] තුදුස් අඟුල් මුඛ ඇත්තේ අරළුපතක ආකාර ඇත්තේවන්නේද හේ ඇකයේතබා වාදනයකරණුලැබෙයි" කියනලද ලක්ෂණයෙන්යුත් මිහිඟුබෙරවෙසෙසෙක් [රබන්යයි හැගේ]
**අඞ්කොම,** පු. රුකඟුනු.
**අඞ්ග,** අව්‍ය. සම්බොධනාර්ථයෙහිද නැවත යනඅර්ථයෙහිදවේ.



"මූර්ඛොපිනාව මන්‍යෙතෙකිම ඞ්ගවිචාන්,, මූඪයෙක්ද අවමන් නොකෙරේ වැලිතුව නැත්තෙක්කිම යනදියෙහි නැවත යන අර්ථයි.
**අඞ්ග,** න. "ශික්ෂා කල්පො ව්‍යාකරණං නිරුක්තං ජ්‍යොතිෂාංගතිරිත්‍යෙෂඃ ෂඩඞ්ගා වෙදප්‍රව්‍යතෙ"යි කියනලදවෙදඞ්ග, ශරීරාවයව.
**අඞ්ගණ,** න. මිදුල.
**අඞ්ගද,** න.අතමූලපලඳනාවළල්ල.
**අඞ්ගනා,** ස්ත්‍රී. ස්ත්‍රී ලක්ෂණොපෙතවූ ප්‍රශස්තවූහස්තපාදාදිඅඞ්ග ඇති ස්ත්‍රී, සාර්වභෞමනම් දිග්ගජයාගේඇතිනී.
**අඞ්ගවික්ෂෙප,** පු. ඇඟිලිආදීන්ගේ වින්‍යාසභෙදයෙන්තිස්වැදෑරුම්වූ නෘත්‍යය.
**අඞ්ගහාර,** පු. ඇඟිලි ආදීන්ගේ වින්‍යාස භෙදයෙන් තිස්වැදෑරුම්වූ නෘත්‍යය.
**අඞ්ගාර,** පු. න. ගිනිපෙණෙලෙල්ල.
**අඞ්ගාරක,** පු. අඟහරු.
**අඞ්ගාරධානිකා,** ස්ත්‍රී. ගිනිකබල.
**අඞ්ගාරවල්ලි,** ස්ත්‍රී. දුම්මැල්ල.(දත්දෙව්සුදු)
**අඞ්ගාරවල්ලරී,** ස්ත්‍රී. කරඳ භෙදයක්.
**අඞ්ගාරශකටී'** ස්ත්‍රී. ගිනි කබල.
**අඞ්ගීකාර,** පු. පොරොන්දුව.
**අඞ්ගීකෘත,** ත්‍රි. ශවීකාර කරණලද්ද හෙවත් ගිවිස්නාලද්ද.
**අඞ්ගුලි,** ස්ත්‍රී. ඇඟිලි.
**අඞ්ගුලිත්‍රාණ,** න. ප්‍රමාණය. හෙවත් රියනින් මිනිම.
**අඞ්ගුලිමුද්‍රා,** ස්ත්‍රී. අකුරු සහිත ඇඟිලි මුදුව.
**අඞ්ගුලීයක,** න. ඇඟිලි මුදුව.
**අඞ්ගුෂ්ඨ,** පු, මහපට ඇඟිල්ල.
**අඞ්ඝ්‍රි,** පු පාදය.
**අඞ්ඝ්‍රිපර්ණිකා,** ස්ත්‍රී. පුස්වැන්න.
**අඞ්ඝ්‍රිවල්ලිකා.** ස්ත්‍රී. පුස්වැන්න.
**අචණ්ඩී.** ස්ත්‍රී. කීකරු දෙන.
**අචල,** පු. පර්වතය.
**අචලා.** ස්ත්‍රී. භූමිය.
**අච්ඡ,** ත්‍රි. නිර්මලදේ.
**අච්ඡභල්ල,** පු. වලසා.
**අච්ඡාදන.** න. පියන
**අච්‍යුත,** පු .විෂ්ණු.
**අච්‍යුතාග්‍රජ,** පු. බලභද්‍රයා.
**අජ,** පු. විෂ්ණු. ශිව. එළුවා.
**අජශෘඞ්ගිකා,** ස්ත්‍රී. වේලං ගස.
**අජගර,** පු. පිඹුරා.
**අජග(ගා)ව,** න. ඊශ්වර දුන්න.
**අජන්‍ය,** ශුභා ශුභ සූචක ම්ගා භූතවිකාරය—එනම් ශුභ අශුභ ප්‍රකාශ කිරීම් වශයෙන් සිඩවන්නාවූ පොළෝ කම්පාදියයි.
**අජමොද,** ස්ත්‍රී. අදිමෝදගම්, හෙවත් අසමෝදගම්.
**අජශෘඞ්ගී,** ස්ත්‍රී. මැඩහඟු.
**අජස්‍ර,** න. නිරන්තරය ද්‍රව්‍යයෙහි වැටෙනකල තුන්ලිඟුයි.
**අජා,** ස්ත්‍රී. එළුදෙන.

අජාජී, ස්ත්‍රී. දුරු.
අජින, පු. විෂ්ණු. ත්‍රි. නොදිනූ දෙය.
අජිනපත්‍රා, ස්ත්‍රී. වවුලා. න. තෙලිසම හෙවත් මුවආදීන්ගේ සම.
අජිනයොනි, පු. මුවා.
අජිහම, ත්‍රි. ඇදනැතිදෑ.
අජිර, න. රූපශබ්දාදි විෂය හෙවත් පඤ්චකාමය, කය, මිදුල, වාතය.
අජිවනී, ස්ත්‍රී. ශාපය.
අජ්ජුකා, ස්ත්‍රී. වෙශ්‍යාව. "නාට්‍යොක්ත්‍යා ගණිකාජ්ජුකා,, යනු වචන බැවින් මේ ශබ්දයාගේ ප්‍රයොගය නාට්‍ය විෂයෙහිවේ.
අඤ්ඤ, ස්ත්‍රී. අත්‍යන්ත ශුද්ධයා.
අඤ්ඤාන, න. නුනුවන.
අඤ්ඩිමා, ස්ත්‍රී. බිම්නෙලලි.
අඤ්චිත, ත්‍රි. පුදන ලද්දේ.
අඤ්ජන, පු. පශ්චිමදිග්ගජයා.
අඤ්ජනකෙශී, ස්ත්‍රී. හට්ට විලාසිනිනම් සුගන්ධ ද්‍රව්‍යය. "නලිනා මගන්ධ ද්‍රව්‍යස්‍ය,, යනු අමරකොශටීකා වචනයි.
අඤ්ජනාවතී, ස්ත්‍රී. සුප්‍රතීක නම් ඊශාන කොණයෙහිවූ දිග්ගජයාගේ ඇතිනි.
අඤ්ජලී, පු. දෝත.
අඤ්ජසා, අව්‍ය. ශීඝ්‍රාර්ථ තත්වාර්ථ දෙක්හිවේ.
අටනී, ස්ත්‍රී. දුනුකෙළවර.
අටරූෂ, පු. වංඇපල.
අටවී, ස්ත්‍රී. වනය.

අටා, ස්ත්‍රී. භික්ෂාදිය පිණිස නැවත නැවත ඇත මෑත භ්‍රමණය.
අට්ට, පු. අට්ටල්ල, "හර්ම්‍යාදිපෘෂ්ඨස්‍ය" යනු කියනලද බැවින් මුදුනෙහි වෙනිගෙවල මතුභාගය, පවුරු මතුයේ.
අට්‍යා, ස්ත්‍රී. භික්ෂාදිය පිණිස නැවත නැවත ඇත මෑත භ්‍රමණය හෙවත් ඇවිදීම.
අණක, ත්‍රි. නින්දිතයා.
අණව්‍ය, ත්‍රි. අණුයයි ඛ්‍යාතවූ අබ ආදී සූක්ෂ්මශස්‍ය වැපිරීමට සුදුසු කෙත.
අණාවීන, ත්‍රි. අණුයයි කෙදුරාදි දෙශයෙහි ප්‍රසිද්ධවූ අබ ආදී සූක්ෂ්ම ශස්‍ය උපදනා කෙත.
අණීයස්, ත්‍රි. ඉතා කුඩාදෑ.
අණු, ත්‍රි. කුඩාදෑ. පු. කොදුරාදි දෙශයෙහි මේ නමින් රූඪවූ ව්‍රීහි භෙදයෙක්. (එනම්. බොඩ හමුආදී සූක්ෂ්ම ධාන්‍යයි.)
අණ්ඩ, න. පක්ෂීන්ගේ බිජුවට.
අණ්ඩකොශ(ෂ), පු. අණ්ඩකොශය.
අණ්ඩජ, පු. මත්ස්‍යයා, පක්ෂියා, ත්‍රි. පක්ෂි සර්පාදි බිජුවටින් උපදනා සත්වයෝ.
අතට, පු. පර්වත ප්‍රපාතය.
අතලස්පර්ශ, න. පතුල නොදක්නා ඉතා ගැඹුර.
අතසී, ස්ත්‍රී. මාගධාදි දෙශයෙහි මේනමින් ප්‍රසිද්ධ ධාන්‍ය වර්ගයෙක්.
අති, අව්‍ය. "අත්‍යුත්කට මොවිෂ්ණුඃ"



යනමෙහි, ඉතා උත්කර්ෂය යන අර්ථයෙහිද "අති වෙලමතික්‍රමා" යනාදියෙහි ඉක්මීම් අර්ථයෙහිදවේ.
අතික්‍රම, පු. ඉක්මයාම.
අතිචරා, ස්ත්‍රී. උත්තරපථයෙහි වන්නාවූ පද්මචාරිණී නම් ගස. මැණික්වැන්නායයිදකියත් "සාලකම්ලිනීකඛ්‍යාකායං" යනුකියනලදබැවින් ගොඩනෙලුම්යයිද පැනේ.
අතිච්ඡත්‍ර, පු. වදකහාවැනි පත්හා ඡත්‍රාකාර මුල් ඇති තෘණ විශෙෂයෙක් [තාලමාඛනා] යනු මරාවීනාමයයි.
අතිච්ඡත්‍රා, ස්ත්‍රී. ශතපුෂ්ප නම් ද්‍රව්‍යය.
අතිජව, ත්‍රි. දිවීයහෙන්නා. (දිවීමෙහි දක්ෂයා.)
අතිථි, පු. ආගන්තුකයා.
අතිනු, ත්‍රි. නැවෙන් පසුකළදෙය.
අතිපථින්, පු. මහාමග.
අතිපාත, පු. ව්‍යතික්‍රමය හෙවත් නියම පිළිවෙළ ඉක්මවීම. ඉක්මයාම.
අතිමාත්‍ර, න. අතිශය. ද්‍රව්‍ය වාචී කලතුන්ලිඟුයි --
අතිමුක්තක, පු. කෝබෝගස. මෙහි 'අතිමුක්ත,, යනුදවේ.
අතිරික්ත, ත්‍රි. ඉතිරිදෑ, ඉතා අධිකදෑ.
අතිවක්තෘ, ත්‍රි. බොහෝ බෙණෙන්නා.
අතිවාද, පු. පරුෂ තෙපුල.

අතිවිෂා, ස්ත්‍රී. ඉවද.
අතිවෙල, න. අතිශය, ද්‍රව්‍යයෙහි වැටෙනකල තුන් ලිඟුයි.
අතිශක්වරී, ස්ත්‍රී. වික්‍රමය.
අතිශය, පු. ප්‍රකර්ෂය.
අතිශොභන, ත්‍රි. ඉතා හොබනාදෑ.
අතිසර්ජන, න. අතිදානය.
අතිසාරකින්, ත්‍රි. අතිසාර ඇත්තා.
අතිසෞරභ, පු. මී අඹ.
අතීන්ද්‍රිය, ත්‍රි. අප්‍රත්‍යක්ෂ.
අතීව, අව්‍ය. අතිශය.
අත්‍යන්තීන, ත්‍රි. අත්‍යර්ථයෙන් සෙවණා ප්‍රවෘත්ති ඇත්තා හෙවත් අතිශයින් කැමතිසේ යන්නා.
අත්‍යය, පු. මරණය, ඉක්මීම, ආයාසය, දොෂයට පැමිණීම, දඬුවම.
අත්‍යර්ථ, න. අතිශය. ද්‍රව්‍යයෙහිවැටෙන කල තුන්ලිඟුයි.
අත්‍යාහිත, න. ජීවිතාපෙක්ෂා රහිතවූ මහත්භය ඇති ක්‍රියාව, ඉතාභය.
අථ, අව්‍ය. }
අථො, අව්‍ය. } මේ අව්‍යයවය මඞ්ගල අනන්තර, ආරම්භ, ප්‍රශ්න, කාත්ස්න්‍ය යන අර්ථයන්හිවෙත්. "අථාතො බ්‍රහ්මජිඥාසා, ඇතහෙක්වෙදය දන්නා කැමැත්ත" යනාදියෙහි මඞ්ගලාර්ථයි. "ස්නානං කෘත්වා අථ භුඤ්ජීත, නැහැමකොට ඉක්බිතිව වළඳන්න" යනාදියෙහි අනන්තරාර්ථයි. "අථ ශබ්දානුශාසනං ලිඛ්‍යතෙ, ශබ්දානුශාසය

නා ප්‍රස්තුත කොට ලියනු ලැබේ,, යනාදියෙහි ආරම්භාර්ථයි. "අථ වක්තුං සමර්ථඃ අසි, කිමෙක කි යන්ට සමර්ථයෙහිද,, යනාදියෙහි ප්‍රශ්නාර්ථයි. "අථ ධාතූන් බ්‍රෑමඃ" සාකල්‍යයෙන් ක්‍රියාර්ථයන් කිය මු,, යනාදියෙහි සාකල්‍යාර්ථයි.

**අදභ්‍ර**, ත්‍රි. බොහෝද.

**අදර්ශන**, න. විනාශය.

**අදිතිනන්දන**. පු. දෙවියෝ.

**අදෘශ්**, ත්‍රි. අන්ධයා.

**අදෘෂ්ට**, න. අදෘෂ්ටභය. "හුතාශ තොයජලං ව්‍යාධි ර්දුර්භික්ෂං මහ රණාථා අතිවෘෂ්ටිරනා වෘෂ්ටි මූ ෂිකාඃ ශලභාදයඃ,,යනු කියන ලද ගිනි, දිය, ලෙඩ, දුර්භික්ෂ ඝෝර ඉතාවැස්ස වැසිනැතිවී ම මී පලඟැටි යනාදීන් වනභය.

**අදෘෂ්ටි**, ස්ත්‍රී. කොප බැල්ම.

**අද්ධා**, අව්‍ය. තත්වාර්ථයි.

**අද්භුත**, න. විස්මය. ඉන්ද්‍රයුක්ත යෙහි, තුන්ලිඟුයි. පු. එනම් නා ව්‍යරසය.

**අද්මර**, ත්‍රි. කැයහොන්නා හෙවත් බොහෝ බුදින්නා.

**අද්‍ය**, අව්‍ය. අදදිනයෙහි.

**අද්‍රි**, පු. පර්වතය, රුක , හිරු.

**අද්වයවාදීන්**. පු. බුදුන්.

**අධම**, ත්‍රි. නින්දිතයා, හීන.

**අධමර්ණ**, ත්‍රි. නයගත් අය.

**අධර**, පු. තොල. ත්‍රි. යට, හීන.

**අධරේද්‍යුස්**, අව්‍ය. පෙරවිද. "අධ රෙද්‍යුඃ ප්‍රසූතාසා,,භිනතාමෝ පෙ රවිදුවැදුවා" යනාදියෙහිවේ.

**අධිකර්ධි**, ත්‍රි. සමෘධයා.

**අධිකාර**, පු.ව්‍යවස්ථා තැබීම.

**අධිකාඞ්ග**, පු. දවාලකාසනනා හස නාඩයන් ඒමතු කවීයෙහිබ බඳනාළුවිය එනම් සැට්ටයමතුනය හි බඳනාපටිය.

**අධිකෘත**, පු. සතිස් වැදෑරුම් කර්මස්ථානයෙහි යම් යම් කෙ ණෙක් අධිකෘතයෝද ඔවුන්ට නම් හෙවත් නිලදරන්නෝයි.

**අධික්ෂිප්ත**, ත්‍රි. සපඩා කරන්නවුන් විසින් සොයසාදියෙන් නිරසනයා හෙවත් බැහැරකෙළේ.

**අධිත්‍යකා**, ස්ත්‍රී. පර්වත මස්තක භූමිය.

**අධිප**, ත්‍රි. ස්වාමියා.

**අධිභූ**, ත්‍රි. ස්වාමියා.

**අධිරෝහිණී**, ස්ත්‍රී. දබුහිත.

**අධිවාසන**, න. සුවඳ මල්ආදියෙන් වස්ත්‍ර තාම්බූලාදිය සැරසීම හෙ වත්සුවඳ කැවීම.

**අධිවින්නා**, ස්ත්‍රී. පළමු හිඳි භා ර්‍යාව.

**අධිශ්‍රයණී**, ස්ත්‍රී. ලිප;

**අධිෂ්ඨාන**. න. ජීයනක, පුරය, ආ ක්‍රමණය, හෙවත් මැඩ පැවැත් ම, ප්‍රභාවය, හෙවත් මහිමය හෝ ප්‍රධාන භාවය.

**අධීන**, ත්‍රි. අයත් මාත්‍රය, හෙවත් අසිතිකම.

**අධීර**, ත්‍රි. භය ක්ෂුත් පිපාසාදියක් පැමිණිකල ධෛර්‍ය නැත්තා



හෙවත් ව්‍යාකූලවන්නා.

**අධීශ්වර**, පු. අගරජ.

**අධුනා**, අව්‍ය. මේකාලයෙහි.

**අධෘෂ්ට**, ත්‍රි. විළි ඇත්තා, හෙවත් හිස්මුනෙන්,

**අධොක්ෂජ**, පු. විෂ්ණු.

**අධොංශුක**, න. යට හඳනා පිළි.

**අධොභුවන**, න. නාගලොව.

**අධ්‍යක්ෂ**, ත්‍රි, සතිස් වැදෑරුම් කර්මස්ථානයෙන් යම්කෙනෙක් අධිකෘතයෝද ඔවුන්ටනම්, හෙ වත් නිලදරන්නෝ' ඉන්ද්‍රිය හමු දුහෝ ප්‍රමාණ ප්‍රමෙය දෙක.

**අධ්‍යවසාය**, පු. උත්සාහය.

**අධ්‍යාහාර**, පු. එකතු කොට සිතීම.

**අධ්‍යූඪා**, ස්ත්‍රී. පළමු හිඳි භාර්‍යාව.

**අධ්‍යේෂණ**, ස්ත්‍රී, ගුරුවරාදීන් සත් කාර පූර්වකොට කිසි අර්ථයෙක් හි නියොජනය හෙවත් ගුරුවරා දීන්ට කරණ ආරාධනාව.

**අධ්වග**, පු. මගියා.

**අධ්වන්**, පු. මග.

**අධ්වනීන**, පු. මගියා.

**අධ්වන්‍ය**, පු .මගියා

**අධ්වර**, පු. යාගය.

**අධ්වර්‍යු**, පු. යජුර්වේද දන්නෝ.

**අනක්ෂර**, න. නොකිය යුතු තෙ පුල.

**අනඞ්ග**, පු. අනඞ්ගයා.

**අනච්ඡ**, ත්‍රි. නොපැහැදිදේ.

**අනඩුහ්**, පු. භාරොද් වහනක්ෂමවූ ගොනා, ප්‍රථමා වෙහි රූපයෝ- අනඩ්වාන්, අනඩ්වාහෞ අනඩ්වා හඃ, කියාවෙත්,

**අනන්ත**, න. අහස, අනන්තනා රජ, ත්‍රි. සීමාරහිතය, ශෙෂය,

**අනන්තා**. ස්ත්‍රී. හැල්කසාඹිලියා, පෘථිවිය, හිරමුසු, නිවාලිගස්, එළ ඊතණ.

**අනන්‍යජ**, පු. අනඞ්ගයා.

**අනන්‍යවෘත්ති**. ත්‍රි. එකග වූයේ.

**අනය**, පු. අඹුසොඬ සුරාසොඬ බැව්ආදි ව්‍යසනය, දුදෛවය, වි පත්.

**අනර්ථක**, ත්‍රි. අසම්බන්ධ (සමුදායාර්ථ ශූන්‍ය) නෙපුල්.

**අනල**, පු. ගිනි.

**අනවධානතා**, ස්ත්‍රී. ප්‍රමාදය.

**අනවරත**, න. නිරන්තරය, ද්‍රව්‍ය වාචීකල තුන්ලිඟුයි.

**අනවරාර්ධ්‍ය**, ත්‍රි. ප්‍රධානද.

**අනවස්කර**, ත්‍රි. කිළිටි හලද.

**අනස්**, න ගැල.

**අනාගතාර්තවා**, ස්ත්‍රී. අවහැවිරිදි කන්‍යාව.

**අනානප**, පු. සෙවන.

**අනාදර**, පු. අනාදරය.

**අනාමය**, න. නිරොගි බව.

**අනාමිකා**, ස්ත්‍රී. මැදඟිලි හුලැඟි ලි දෙක අතර ඇඟිල්ල.

**අනාශාසකාශ**. ත්‍රි. ඵාණ්ට නම් කෂාය "ක්ෂුණ්ණා ද්‍රව්‍ය පලෙ සම්‍යක් ජලමුෂ්ණං විනික්ෂිපෙත් මුත් පාත්‍රෙ කුඩ බොන්මානං තතඃසතු ස්‍රාවයෙත් පටාත්සඃස්‍යා චතුර්ණිදුවඃ ඵාණ්ටස් තන්මානං වි

පලොංත්මිනම් ,, යනු වෛද්‍ය ශොංකාහි හෙයින් සුණුකළද්‍රව්‍ය පලමක ඉතා උණුදිය පතක් බ හා පෙරාගත් දිය ඵාණ්ටනම්.

**අනාසර්ණිකපා,** පු. බිම්කොසඹ.

**අනාහත,** ත්‍රි. අලුත්පිලි.

**අනිමිෂ,** පු. දෙවි, මත්ස්‍යයා.

**අනිරුද්ධ,** පු. අනඞ්ගයාගේ පුත්‍රයා'

**අනිල,** පු. සුලඟ, එනම් දෙවතා වර්ගය "වාතාඃ පචා ශදූනකාඃ" යනු වචන හෙයින් මේවර්ගයේ දෙවතාවෝ උනු පණසකැයි දත යුතු.

**අනිශ,** න. නිරන්තරය, ද්‍රව්‍ය වාචී කල තුන්ලිඟුයි.

**අනීක,** න. චතුරඞ්ගිනිසෙනාව, යුද්ධය.

**අනීකසථ,** පු. රජුන්ගේ අඞ්ගරක්ෂ ක වර්ගය.

**අනීකිනී,** ස්ත්‍රී. චතුරඞ්ගිනී සෙනා ව. බාහිනිනම් සෙනාන්තර තු නකින් යුත් සෙනාභෙදය එනම් ඇතුන් දෙදහස් එකසිය අසූ හත් දෙණෙකුගෙන්ද එපමණ රථයන්ගෙන්ද අසුන් හයදහස් පන්සිය එක්සැටකින්ද පාබල සෙන් දසදහස් නවසිය පන් තිස් දෙණෙකුගෙන්ද යුත් සේ නාව.

**අනු,** අව්‍ය. පශ්චාදර්ථ සදෘශාර්ථ දෙක්හිවේ. "රථ මනුගච්ඡති,, රථය පසුවයේ යනාදියෙහි පශ්චා දර්ථයි. "ජ්‍යෙෂ්ඨං අනුකරොති,, ජ්‍යෙෂ්ඨයා සෙයින් කෙරේ යනා දියෙහි සදෘශාර්ථයි.

**අනුක,** ත්‍රි. කාමුක තැනැත්තා. හෙවත් මෛථුනයෙහි ඉතා ඇලුම් ඇත්තා.

**අනුකම්පා,** ස්ත්‍රී. කරුණාව.

**අනුකර්ෂ,** පු. රියසක මතුයෙහි සර සම්බන්ධවූ රියයටසිටිලීය. (මෙ කල අච්චුකඳයයි කියත්.)

**අනුකල්ප.** පු. දෙවනවූ වෛදිකවි ධානය, එනම් නියොග ශාස්ත්‍රය.

**අනුකාමින්.** ත්‍රි. සෙච්ඡාප්‍රවෘත්ති ඇත්තා හෙවත් කැමතිසේ යන්නා.

**අනුකාර.** පු. විඩම්බනය—එනම්, යම්කිසි වස්තුවයක්හුගේ සමා න ගති ප්‍රකාශකිරීම.

**අනුක්‍රම.** පු. පිළිවෙළ.

**අනුක්‍රොශ.** පු. කරුණාව.

**අනුග.** ත්‍රි. අනුව යන්නා.

**අනුග්‍රහ.** පු. අධිකාරය හෙවත් අහිත වැලකීම් පෙර දූරිකොට ඇතිහිත සැපසීම් සවරූපවූ භා රගැනීම.

**අනුචර,** ත්‍රි. අනුචරයා.

**අනුජ.** ත්‍රි. මල්ලූ.

**අනුජීවින්.** පු. සෙවකයා.

**අනුත්තීණ.** න. ඕඩම. (රාබොන බඳුන)

**අනුතාප.** පු. පසුතැවීල්ල.

**අනුත්තම.** ත්‍රි, ප්‍රධානදෑ.

**අනුත්තර.** ත්‍රි. යට, අතිශය ශ්‍රෙෂ්ඨ, පිළිතුරු රහිත. ස්ත්‍රී. උතුරුදිග හැර අනික් දිග.



**අනුපද,** ත්‍රි. අනුව යන්නා, අනුව යාම් මාත්‍රයෙහි වැටෙන කල න පුංසක ලිඟුයි අව්‍යයී භාවයි.

**අනුපදීනා,** ස්ත්‍රී පාදකෘතිවූ පයබැ දිවහණ (සපත්තුව).

**අනුපමා,** ස්ත්‍රී. කුමුදනම් නෛර් ඍත්‍ය කොණයෙහිවූ දිග්ගජයා ගේ ඇතිනි.

**අනුප්ලව,** ත්‍රි. අනුචරයා.

**අනුබන්ධ,** පු. දෙස් ඉපැද්ම, ප්‍රකෘ ති ප්‍රත්‍යාදීන් අනුචරගී නොසිටි න වර්ණය, ප්‍රධානියා අනුව යන් නාවූ දරුවා, ආරබ්ධානුවර්තනය.

**අනුබොධ,** පු. පළමු ඇඟ ආලෙප කල සඳුන් ආදීන්ගේ ඉක්මුනු සුවඳ නැවත ව්‍යාකරණ පිණිස කස්තුරි ආදියෙන් ඉලීම් ආදී ක්‍රියාව.

**අනුභව,** පු. ප්‍රත්‍යක්ෂකාරණය හෙ වත් පලමුදන්නාලද අර්ථයාගේ නැවත සංවිඥානය.

**අනුභාව,** පු. ප්‍රභාව හෙවත් තෙ ජස, සත්පුරුෂයන්ගේ ප්‍රඥනිශ්චය, ක්‍රොධනෂ්ටාදීන්වූ චිත්තයාගේ විකාරය.

**අනුමති,** ස්ත්‍රී. අඩුවූ කලායෙන් යු ත් පුණු පොහොය.

**අනුයොග,** පු ප්‍රශ්නය.

**අනුරොධ,** පු. අනු කූලබව.

**අනුලාප,** පු. කීතෙපුල් නැවතකීම.

**අනුලෙපන,** න. කොකුම්ආදී විල වුන්.

**අනුවර්තන,** පු. අනුකූලබව.

**අනුවාක,** පු. ගිත රහිත සාංග්වේද අවයවයෙක්.

**අනුශය,** පු. දීර්ඝවෛරය. පසුතැ විලි.

**අනුෂ්ණ,** පු. අලසයා.

**අනුහාර,** පු. විඩම්බනය, එනම් යම් වස්තුවයකගේ සමානගති ප්‍රකා ශකිරීම.

**අනූක,** න. ශීලභාවය, වංශය.

**අනූචාන,** පු. ශික්ෂාදිෂඞ්ග සහිත සම්වෙද හදාල අය.

**අනූනක,** ත්‍රි. නොඅඩුදෑ.

**අනූප,** ත්‍රි. ජලබහුලදෙශය.

**අනූරු,** පු. අරුණ, සූර්ය රථාච යකයා.

**අනෘජු,** ත්‍රි. වක්‍ර අදහස් ඇත්තා.

**අනෘත,** න. කෘෂිකර්මය, බොරුබස්, ත්‍රි. බොරුබස් ඇත්තා.

**අනෙකප,** පු. ඇතා.

**අනෙහස්,** පු. කාලය, මෙහි ප්‍රථමා විභක්තිරූප– අනෙහා, අනෙහ සෝ අනෙහසඃ, කියාවෙත්.

**අනොකහ,** පු. වෘක්ෂය.

**අන්ත,** පු. මරණය, පු. න. අන්තය,

**අන්තඃපුර,** න. ඇතුළු වූරත් වස නගේ.

**අන්තක,** පු. යමරජ.

**අන්තර,** ත්‍රි. අවකාශහෙවත් අ වසර, අවධි හෙවත් ඉම. අඳනා රෙදි ආදිය, මුවාවීම, භෙදය හෙවත් වෙනස, තාදර්ථ්‍ය, සිදුර, තමන් අයත්, හැර, පිටත, අව සරහෙවත් ප්‍රාප්ත කාලය, මැද,

අනන්තරාතම්ය.
අන්තරා, අව්‍ය. මධ්‍යයෙහි. “ත්වාංමාංච අන්තරා කමණ්ඩලුඃ” තට ත් මටත් මැද කමණ්ඩ ලාවයි. යනාදි උදාහරණයි.
අන්තරාංස, පු අනාතුර.
අන්තරාල, න. අතුදිග.
අන්තරීක්ෂ, න. අහස.
අන්තරීප, න. දිවයින.
අන්තරෙ, අව්‍ය. මධ්‍යයෙහි. “අන යො රන්තරෙ තිෂ්ඨ, මුන්දෙදෙන මැද සිටු” යනාදි උදාහරණයි.
අන්තරෙණ, අව්‍ය. මධ්‍යවියෙහි ද වර්ජනාවියෙහිදවේ.
අන්තර්ගත, ත්‍රි. විස්මෘතදෑ.
අන්තර්ද්වාර, න. කුරුඹුවැව (ගේඅතුලේ දොර.)
අන්තර්ධා, ස්ත්‍රී. පියන.
අන්තර්ධි, පු. පියන.
අන්තර්මනස්, ත්‍රි. ව්‍යාකුලසිත් ඇත්තා.
අන්තර්වත්නී, ස්ත්‍රී. ගැබ්ඇත්තී.
අන්තර්වාණි, ත්‍රි. ශාස්ත්‍රඥයා.
අන්තර්වංශික, පු. අන්තඃපුරාධිකාරතැනැත්තෝ.
අන්තාවසායින්, පු. කරනැවැමියා.
අන්තික, ත්‍රි. සමීපය.
අන්තිකතම, ත්‍රි. ඉතාසමීපදෑ.
අන්තිකා, ස්ත්‍රී ලිප, නාටකාදියෙහිලා වැඩිමල් බූහනනී, අක්කායනුදවේ.
අන්තෙවාසින්, පු. චණ්ඩාලයා, ශිෂ්‍යයා.

අන්ත්‍ය, ත්‍රි. අනතයා.
අන්ත්‍ර, න. අතුනුබහන.
අන්දුක, පු. ඇතුන් බඳිනදම.
අන්ධ, න. අඳුර, පු. බත්, ත්‍රි. අන්ධයා.
අන්ධකරිපු, පු. ඊශ්වරයා.
අන්ධතමස, න. ඝනාන්ධකාරය.
අන්ධු, පු. ළිඳ.
අන්න, ත්‍රි. කනලද යන මේ අර්ථ වාචකයි, න. බත්.
අන්‍ය, ත්‍රි. දෙකක් අතුරෙන් ජාත්‍යාදියෙන් වෙන්කල අනිත.
අන්‍යතර, ත්‍රි. නිර්ධාරණශබ්දයෙන්වාච්‍යවූ අර්ථඇතිදෑ හෙවත් දෙකක් අතුරෙන් ජාත්‍යාදියෙන් නිර්ධාරිත හෙවත් වෙන්කල අනික්දෑ.
අන්‍යතරෙද්‍යුඃ, අව්‍ය. එක්තරාදිනෙක “අන්‍යතරෙද්‍යුඃ පිතරං ද්‍රෂ්ටායසි” එක්තරා දිනෙක පියාදකු යනාදී උදාහරණයි.
අන්‍යෙද්‍යුඃ, අව්‍ය. පසුවද. “අන්‍යෙද්‍යුරාත්මානුචරස්‍යභාවං ජිඥාසමානා, පසුවදනමන් අනුව හැසිරෙන්නහුගේ අභිප්‍රාය දන්නට කැමැත්තී. යනාදි උදාහරණයි.
අන්වච්, ත්‍රි. අනුවයන්නා.
අන්වක්ෂ, ත්‍රි. අනුවයන්නා.
අන්වය, පු. වංශය, ප්‍රත්‍යක්‍ෂ, අව්‍ය. ඇසසමීපය.
අන්වාහාර්‍ය්‍ය, න. ශ්‍රාද්ධය හෙවත් මයින් මස මළපියන් පිණිසදෙනදන්.
අන්විෂ්ට, ත්‍රි. සොයනලදදෑ.



අන්වීක්ෂිකී, ස්ත්‍රී. ගෞතමාදීන් විසින් කරණලද තර්කශාස්ත්‍රය.
අන්වේෂණා, ස්ත්‍රී. සෙවීම.
අන්වේෂිත, ත්‍රි. සෙයනලදදෑ.
අ (ආ) ප්, ස්ත්‍රී. ජලය.
අපක්‍රම, පු. යුද්ධයෙහිපලායාම.
අපඝන, පු. ශරීරාවයව
අපචය, පු. අපහරණය හෙවත් එකතුවීමෙන් මහත්වන හෝ රැස්වන යම්වස්තුවක් හුගේ එසේ එකතු නොවපහවීම.
අපචායිත, ත්‍රි. පුදනලද්දේ.
අපචිත, ත්‍රි. පුදනලද්දේ
අපචිති, ස්ත්‍රී. පිදීම, හානිය.
අපටු, ත්‍රි. රෝග ඇත්තා.
අපත්‍ය, ගැණු පිරිමි දරුදෙපක්ෂයට සා මාන්‍යනාමයෙකි.
අපත්‍රපිෂ්ණු, ත්‍රි. ලජ්ජාසිලිවූයේ.
අපත්‍රපා, ස්ත්‍රී. අන්‍යහෙතුව කින් හෙවත් අනුන්ගෙන්වූ ලජ්ජාව.
අපථ, න. නොමග.
අපථින්, න. නොමග.
අපදාන්තර, ත්‍රි. එකාබද්ධ, හෙවත් එකටබැඳුනුදෑ.
අපදිශ, න. අනුදිග.
අපදෙශ, පු. ස්වරූ පාච්ඡාදනය (වෙස්පෙරළීම) පු. ව්‍යාජය, ඉලක්කය, නිමිත්ත හෙවත් සලකුණ.
අපධ්වස්ත, ත්‍රි. නින්දිතයා, හෙවත් අපකාරබසින් නින්දාකොට පහකරනලද්දේ.
අපභ්‍රංශ, පු. අපශබ්දය එනම් ශබ්දානුශාසනයෙන් අනිෂ්පන්නාවූ ගාවී ගොණ යනාදියයි.
අපයාන, පු. යුද්ධයෙහි පලායාම.
අපරස්පර, න. අවිච්ඡින්නාව පවත්නා ක්‍රියාවටද ක්‍රියාවතුන්ට දනම් ක්‍රියාවතාන්මවූ කලීවාච්‍යලිඟුයි. “අපරස්පරංගච්ඡන්ති”. අවිච්ඡින්නාව ගමනය කෙරෙති හෙවත් නොනැවත නිතර ගමන්කෙරෙති යනු අවිච්ඡින්න ක්‍රියාවට උදාහරණයි. “පරස්පරං සාමීනගච්ඡන්ති” ගැල්පදින්නෝ අනිකෙක්ද අනිකෙක්ද එකතුවූවාහුයෙන් යනුක්‍රියාවතුන්ට උදාහරණයි.
අපරාජිතා, ස්ත්‍රී. අසන පණීණ. නොකාණියයිද ප්‍රසිද්ධයි (කටරොළු.)
අපරාද්ධපෘෂත්ක, පු. ලකින්. (ලක් වැරදවූනුවායා)
අපරාධ, පු. අපරාධය.
අපරාහ්ණ, පු. පස්වරු.
අපරෙද්‍යුඃ, අව්‍ය. අනිද්දා.
අපර්ණා, ස්ත්‍රී. උමාදෙවී.
අපලාප, පු. වලහා (ගුප්තකොට) බිණීම.
අපවර්ග, පු. නිර්වාණය.
අපවර්ජන, න. දනය.
අපවාද, පු. නින්දාව. ආඥාව. ගුණ ණනීම.
අපවාරණ, න. පියන.
අපසව්‍ය, ත්‍රි. වමසිරුර.
අපශද, පු. නීචයා.

**අපසර්ප**, පු. චරපුරුෂයා.
**අපසව්‍ය**, ත්‍රි. වම්සිරුර, දකුණු සිරුර.
**අපස්කර**, පු. අක්ෂයුග චක්‍ර දිවූරථාවයව.
**අපස්නාත**, ත්‍රි. මළවුන් පිණිසනෑයේ.
**අපහාර**, පු. අපහරණය හෙවත් එකතුවීමෙන් මහත් වනහෝ රස්වනයම් වස්තුවකගේ එසේ එකතුනොව පහවීම.
**අපාංපති**, පු. මුහුද.
**අපාංග**, පු. ඇසකොණ, අවයවහීනයා, අප්‍රධානියා, තිලකය.
**අපාන**, පු. ගුදය, ශරීරවායු. (ගුද වායුව)
**අපාමාර්ග**, පු. සැබෝ.
**අපාවෘතක**, ත්‍රි. සවප්‍රධානියා (අනුන් අයත්නොවූඅය)
**අපාසන**, න. මැරවීම.
**අපි**, අව්‍ය. ගැරහීමය සමුච්චය ප්‍රශ්නය සැකය සම්භාවනාය යනමේ අර්ථයන්හිවේ —
"අපි සිංචෙත් පලාණ්ඩුම්" ලූනු ළූනු ඉස්සෙන් නින්දයෙක යනාදියෙහි නින්දාර්ථයි. "ස්ත්‍රියං පාලය පුත්‍රංඅපි" අඹුවහා පුත්‍රයා රකු යනාදියෙහි සමුච්චයාර්ථයි "අපි ජානාසි කිංචනම්" කිංචක්දතෝ කිසිවක් දන්නෙහිද? යනාදියෙහි ප්‍රශ්නාර්ථයි" අපිචෞරෝ භවේත්" සොරෙක් වන්නේ නොද? යනාදියෙහි සැකය යනාර්ථයි" අපිස්ථාණුං ජයෙත්රාමඃ" රාමතෙම ඊශ්වරයාදීනාගේ යනාදියෙහි ලතානාටකොටික සංශයයි කියනලද සම්භාව නාර්ථයි —
**අපිධාන**, න. පියන.
**අපිනද්ධ**, පු. (චොලකාදිය.) හැන්දේ.
**අපූප**, පු. පූ.
**අපොගණ්ඩ**, ත්‍රි. හීන අවයව ඇත්තා.
**අප්පති**, පු. වරුණයා.
**අප්පිත්ත**, න. ගිනි.
**අප්‍රකාණ්ඩ**, පු. ගුල්මය. (පඳුර).
**අප්‍රගුණ**, ත්‍රි. ආකුලදෑ.
**අප්‍රත්‍යක්ෂ**, ත්‍රි. ඉන්ද්‍රිය විෂය නොවූදෑ.
**අප්‍රධාන**, න. අප්‍රධානදෑ.
**අප්‍රහත**, ත්‍රි, සීසෑම් ආදි වැඩනොකල කුඹුරු ආදි හිස්බිම.
**අප්‍රාග්‍ය**, න. අප්‍රධානදෑ.
**අප්සරස්**, ස්ත්‍රී. බහුවචනයි. දෙවයොනි එනම්. "ඝෘතාචී මෙනකාරම්භා උර්වශීච තිලොත්තමා සුකේශී මිශ්‍රකේශාඛ්‍යා කථ්‍යන්තෙප්සරසො බුධෛඃ "යයිදක්වනලද ඝෘතාචීය මෙනකාය රම්භාය උර්වශීය, තිලොත්තමාය. සුකේශීය. මිශ්‍රකේශීය. යනාදිවූදෙව්ලෙවසඹුවෝ.
**අඵල**, ත්‍රි. සාතුවෙහිද ඵලරහිත වෘක්ෂාදිය.
**අබද්ධ**, (ධ්‍ය) ත්‍රි. අසම්බන්ධ තෙපුල් (සමුදායාර්ථශූන්‍යතෙපුල්)



**අබද්ධමුඛ**, ත්‍රි. අප්‍රියවාදියා.
**අබලා**, ස්ත්‍රී. ස්ත්‍රී.
**අබාධ**, ත්‍රි. අනිවාරිතදෑ.
**අබ්ජ**, පු. සඳ, සක; න. සියක්කෝටිය.
**අබ්ජයොනි**, පු. බ්‍රහ්මයා.
**අබ්ද**, පු. වලාපටල, අවුරුද්ද.
**අබ්ධි**, පු. මුහුද.
**අබ්ධි**, පු. මුහුදුපෙන.
**අබ්ධිකඵ**, පු. මුහුදුපෙන.
**අභ්‍රමු**, ස්ත්‍රී. ඓරාවතනම් පූර්ව දිග්ගජයාගේ ඇතිනී.
**අබ්‍රහ්මණ්‍ය**, න. නාටකොක්තියෙහි දඬුමට නුසුදුස්සා.
**අභය**, න. සුදුමල් ඇති සැවැන්නමුල්.
**අභයා**, ස්ත්‍රී. අරලු.
**අභාෂණ**, න. නොබිණීම.
**අභික**, ත්‍රි. කාමුකතැනැත්තා හෙවත් මෛථුනයෙහි ඉතා කැමැත්තා.
**අභික්‍රම**, පු. යුද්ධයෙහි භයනැත්තනුගේ සතුරන්හරායාම.
**අභිඛ්‍යා**, ස්ත්‍රී. නාම. ශෝභාව.
**අභිග්‍රහ**, පු. කලහ පිණිස කැඳවීම.
**අභිග්‍රහණ**, න. සොරකම. පැහැරගැන්ම.
**අභිඝාතින්**, පු. සතුරා.
**අභිචාර**, පු. මන්ත්‍රාදියෙන් කටයුතු ජාරණ මාරණාදි හිංසාව.
**අභිජන**' පු. කුලප්‍රධානහෝ වංශය. ජන්මභූමිය.
**අභිජාත**, ත්‍රි. වංශවත්, පණ්ඩිත.
**අභිඥ**, ත්‍රි. ක්‍රියායෙහි දක්ෂයා.
**අභිතස්**, අව්‍ය සමීප, උභය, ශීඝ්‍ර, සාකල්‍ය, අභිමුඛ, යනඅර්ථයන්හිවේ. "බාරාණසිං අභිතඃ භාගිරථී" බරණැසවෙතගඟායි යනාදියෙහි සමීපයි. "අභිතඃ කුරුචාමරෞ" චාමරදෙක දෙපසටකර යනාදියෙහි උභයාර්ථයි. "අභිතඃ අධිගච" වහාඟදර යනාදියෙහි ශීඝ්‍රාර්ථයි. "අභිතඃසිංහඃ හන්ති" ව්‍යාඝ්‍රයාගතෙම ඉදිරියෙන් අවුත් නසයි යනාදියෙහි අභිමුඛාර්ථයි.
**අභිධාන**, න. නම.
**අභිධ්‍යා**, ස්ත්‍රී. අන්සතුවෙහි ආසාව.
**අභිනය**, පු. හැඟවීම.
**අභිනව**, ත්‍රි. අලුත්දෑ.
**අභිනිම්ලුක්ත**, පු. සූර්‍ය්‍යාස්තකාලයෙහි අස්තප්‍රාප්තවූ සූර්‍ය්‍යයා ඇත්තේ හෙවත් ඉරබස්නා කල නිදීමෙන් එකලකටයුතු ක්‍රියාඉක්මවූ තැනැත්තේ.
**අභිනිර්‍ය්‍යාණ**, න. විජිගීෂුහු. යුද්ධ පිණිසයාම.
**අභිනීත**, ත්‍රි. සුදුස්සෙන් නොරනොවූද, අතිප්‍රසන්නදෑ, ක්ෂමාඇත්තේ.
**අභිපන්න**, ත්‍රි. අපරාධ ඇත්තා, සතුරන් විසින් මඩනා ලද්දේ, විපත්පැමිණියේ.
**අභිප්‍රාය**, පු. අදහස.
**අභිභූත**, ත්‍රි. සතුරන්විසින් බිඳුන ලදදජි ඇත්තේ.

**අභිමාන**, පු. ධනාදියෙන් උපන් එඩිය, නුවන, සොහොය, හිංසා.
**අභිඝොෂණ**, පු. කලහපිණිස නැඟවීම.
**අභිරූප**, පු. පණ්ඩිත, මනොහර
**අභිලාව**, පු. ධාන්‍යාදිය කැපීම.
**අභිලාෂ**, පු ආසාව.
**අභිලාෂුක**, ත්‍රි. ලොභ ඇත්තා.
**අභිවාදක**, ත්‍රි. වඳින සුලුවූයේ.
**අභිවාදන**, න. වැඳීම.
**අභිව්‍යාප්ති**, ස්ත්‍රී. සියලුඅතපැතිරීම.
**අභිශස්ත**, ත්‍රි. ලොකාපවාදයෙන් දූෂිතවූයේ.
**අභිශස්ති**, ස්ත්‍රී. ඉල්ලීම.
**අභිශාප**, පු. සුරාපීම් ආදිය නො කලාහට කලේයයි ආරොපනය කරන මිථ්‍යාපවාදය.
**අභිෂඞ්ග**, පු. ශාපය, පරිභවය.
**අභිෂව**, පු. සොමරසපානය, සුරා තැනීම.
**අභිෂෙණන**, න. යුඞපිණිස සෙන් හා සතුරා කරායාම.
**අභිෂ්ටුත**, ත්‍රි. සතුතිකරණලද ය නඅභිවාචකයි.
**අභිසර**, ත්‍රි. අනුචරයා.
**අභිසාරිකා**, ස්ත්‍රී. ලකුණු කොට දක්වූ තැනට වල්ලභයන් කැමැත්තෙන් යන්නාවූ අබිසරුලිය.
**අභිසම්පාත**, පු. න. යුඞය.
**අභිසාර**, පු. පැහැරගැන්ම හෙවත් සොරකම, යුඞාදියෙහි සතුරන් බැහැරලන පරිද්දෙන් ඉදිරියටයාම, සනාඞවීම.
**අභිහිත**, ත්‍රි. කීයනලද.
**අභීක**, ත්‍රි. කාමුකතැනැත්තා හෙවත් මෛථුනයෙහි ඉතාකැමැත්තා.
**අභීක්ෂ්ණම්**, අව්‍ය. නොයෙක්වර, නිතර.
**අභීප්සිත**, ත්‍රි. අභීෂ්ට හෙවත්ප්‍රියදෑ.
**අභීරපල්ලි**,(ල්ලී) ස්ත්‍රී. ගොපලුගම.
**අභීරු**, ස්ත්‍රී. ශතාවරිය.
**අභීරුපත්‍රී**, ස්ත්‍රී. ශතාවරිය.
**අභීෂඞ්ග**, පු. සාපකිරීම.
**අභීෂු**, පු. අසුන් මුවරුහැන, හිරු ආදීන්ගේරැස්.
**අභීෂ්ට**, ත්‍රි. ප්‍රියදෑ.
**අභ්‍යග්‍ර**, ත්‍රි. සමීපය.
**අභ්‍යන්තර**, න. අනුදිග.
**අභ්‍යමිත**, ත්‍රි. රොගඇත්තා.
**අභ්‍යමිත්‍රීණ**, ත්‍රි. අතිශයින් සතුරා ඉදිරියට යන්නා.
**අභ්‍යමිත්‍රීය**, ත්‍රි. අතිශයින් සතුරා ඉදිරියට යන්නා.
**අභ්‍යමිත්‍ර්‍ය**, ත්‍රි. අතිශයින් සතුරා ඉදිරියට යන්නා.
**අභ්‍යර්ණ**, ත්‍රි. සමීපය.
**අභ්‍යවකර්ෂණ**, න. ශල්‍යාදිය ඉදිරීම.
**අභ්‍යවස්කන්දන**, න. යුඞයෙහි පහරදීම් ආදියෙන් සතුරන් බලසිඳීම.
**අභ්‍යවපන්න**, ත්‍රි. කනලදදෑ.
**අභ්‍යාඛ්‍යාන**, ත්‍රි. මටසියයක්නයවූ යෙහිය යනාදිබොරුවෙන් දොෂාරොපණය කිරීම.
**අභ්‍යාගම**, පු. යුඞය.



**අභ්‍යාගාරික**, පු. කෙලඹියා හෙවත් දරාදිපොෂණයෙහි සංසක්තයා.
**අභ්‍යාදාන**, න. ආරම්භය.
**අභ්‍යාන්ත**, ත්‍රි. රොගඇත්තා.
**අභ්‍යාමර්ද**, පු. යුඞය.
**අභ්‍යාශ**, ත්‍රි. සමීපය.
**අභ්‍යාසාදන**, න. යුඞයෙහි පහරදීම් ආදියෙන් සතුරන් බලසිඳීම.
**අභ්‍යුදිත**, පු. සුපනකල්හි උදාවූ සූර්‍ය්‍යයා ඇත්තේ හෙවත් ඉර උදාවනකල නිඳීමෙන් එකලත වයුත ක්‍රියාදුරුකල තැනැත්තේ.
**අභ්‍යුපගම**, පු. පොරොන්දුව. (ගිවිසුම.)
**අභ්‍යුපපත්ති**, ස්ත්‍රී. අභිනය වලක්වා හිතය සම්පාදන ආකාරඇති අනුග්‍රහය, පිළිගැනීම.
**අභ්‍යූෂ**, පු. අඩක්තැම්බුනවාදිය.
**අභ්‍ර**, න. අහස, මෙඝය.
**අභ්‍රක**, න. මිහිරන්(තහඩුමිණිරන්)
**අභ්‍රපුෂ්ප**, පු. හොම්බුගස්.
**අභ්‍රමාතඞ්ග**, පු. ශක්‍රයාගේ ඇතා.
**අභ්‍රමු**, ස්ත්‍රී. දිගැතිනිනු.
**අභ්‍රමුවල්ලභ**, පු ශක්‍රයාගේ ඇතා.
**අභ්‍රි (භ්‍රී)**, ස්ත්‍රී. පලුපත "පොතා දෙමිලාපනයනාමිං කාෂ්ඨාදිරචිතකුද්දාලසා" නැව් හොරු ආදියේ මිලාපනය නය පිණිස දැවආදියෙන් කලඋදැල්ල.
**අභ්‍රිය**, ත්‍රි. වලාහෙයහිවූදෙය.
**අභ්‍රේෂ**, පු. සුදුසුදෙය.
**අමත්‍ර**, න. සැලිවලන් ආදී සියලු බඳුන්.
**අමර**, පු. දෙවියො.
**අමරාවතී**, ස්ත්‍රී. ශක්‍රයාගේනුවර.
**අමර්ත්‍ය**, පු. දෙවියෝ.
**අමර්ෂ**, පු. කොපය.
**අමර්ෂණ**, ත්‍රි. කිපන සුලුවූයේ
**අමල**, න. අභ්‍රක (මිණිරන්.)
**අමා**, අව්‍ය. සහාර්ථ සමීපාර්ථ යන්හි වේ. "පුත්‍රෙණ අමාතුඩොණ" පුතුහාකැටිව වළඳයි යනාදීයෙහි සහාර්ථයි "අමාත්‍ය" රාජාදීන් හා කැටිව පවත්නේය යනාදි යෙහි සමීපාර්ථයි.
**අමාංස**, ත්‍රි. දුර්වලයා.
**අමාත්‍ය**, පු. මන්ත්‍රියා.
**අමානස්‍ය**, න. සිත්පීඩාව (දුක) ව්‍යාකුලබව, විශෙෂාලිඟදාවී.
**අමාවස්‍යා**, ස්ත්‍රී. අවපසළොස්වක.
**අමාවාස්‍යා**, ස්ත්‍රී. අවපසළොස්වක.
**අමිත්‍ර**, පු. සතුරා.
**අමුත්‍ර**, අව්‍ය. ජන්මාන්තරාර්ථයි "ඉහචා මුත්‍රච පලම්" මෙලොවද පරලොවද පලයි යනාදි උදාහරණයි.
**අමෘණාල**, න. සුදුමල් ඇති සැවැන්නමුල්මෘණාලයනුද මෙහිනමි.
**අමෘත**, න. (නිතරධාන්‍යාදිය) නොඉල්ලීම, දිව්‍යභොජනය. යාගයෙහි ශෙෂවූදී ගිතෙල්දියආදියජලය.
**අමෘතා**, ස්ත්‍රී. කිදී, ඇඹුලුගස, අරලු.
**අමෘතාන්ධස්**, පු. දෙවියෝ.
**අමොඝා**, ස්ත්‍රී. වලඟසාල්.

**අම්බර**, න. අහස, වස්ත්‍ර.
**අම්බරීෂ**, න. ඇතිළිය (එනම්මැටි බඳුන)
**අම්බෂ්ඨ**, පු. වෛශ්‍ය ස්ත්‍රියගේ බ්‍රාහමණ පුරුෂයා නිමිත්තකොට ගෙන උපන් අය. හේ චිකිත්සා ව්‍යාපාරීසි, හෙවත් ඔහුගේ ජීවිකාව වෙදකමයි.
**අම්බෂ්ඨා**, කිඳි වැල්, දියමිත්තා, යූථිකාගස්.
**අම්බා**, ස්ත්‍රී. නාට්‍යෝක්තියෙහි මව, සාමාන්‍යෝක්තියෙහිදවේ.
**අම්බිකා**, ස්ත්‍රී. උමාදෙවී.
**අම්බු**, න. ජලය.
**අම්බුජ**, පු. දිය මිදෙල්ලගස.
**අම්බුභෘත්**, පු. මේඝය.
**අම්බුවේතස**, පු. දිය[illegible]ලුගස.
**අම්බූකෘත**, න. කෙලතොලු බස්.
**[illegible]ම්භස්**, න. ජලය.
**අම්භෝරුහ**, පු. න. පියුම්.
**අම්මය**, ත්‍රි. ජලවිකෘතිය එනම් පෙන ආදිවූ ජලයෙහි විකාරයයි.
**අම්ල**, පු. ඇඹුල් රස, ඉන්යුත් දෙයෙහි තුන්ලිඟුයි, ඇඹුල්වේගස.
**අම්ලලෝණිකා**, ස්ත්‍රී. ඇඹුලැඹිලිය.
**අම්ලාන**, පු. කටුකරඬුගස.
**අම්ලිකා**, ස්ත්‍රී. සිහිඹලා.
**අය**, පු. පුරාකෘත කුශලය.
**අයන**, න. අයනය (හිරුදුරුත්තර සංක්‍රමණය කළතැන් පටන් ඇසළමස දක්වා උත්තරායනය ඇසළමස සිට දුරුත්ත දක්වා දක්ෂිණායනයයි කියා අයනම යෙකි,) මග.
**අයස්**, න. යකඩ.
**අයඃප්‍රතිමා**, ස්ත්‍රී. ලෝපිළිරුව.
**අයි**, අව්‍ය. නලවා කියන බස්හි "අයිවිලාසිනී කථයසි" මැණී කෝකොහියන්නීද? යනාදී අංකාරයි.
**අයුත**, න. දසදහස.
**අයොග්‍ර**, න. මොහොල.
**අර**, න. ඉක්මන්.
**අරඝට්ට**, පු. ලිඳ විශෙෂයෙක්, "අරෙඃච ක්‍රාකාරසදෘශෙශොකාෂ්ඨ විශෙෂෙෂඃ ඝට්ටතෙසා අරඝට්ට," යනු වචන බැවින් චක්‍රාකාරවූ දැව විශෙසෙකින් රචනා කරනලද ලිඳැයි හෙවත් දියනැගීමට රොදයක්යෙදු ලොකු ලිඳ.
**අරණි**, පු. ස්ත්‍රී. ගිනිගානලීය.
**අරණ්‍ය**, න. වනය. අරණ්‍යානී කියාබහු වචන වූවිට මහවනයට නමි.
**අරත්නි**, පු. මිටිරියන.
**අරර**, ස්ත්‍රී. දෙර, අරරී කියාමෙයි ස්ත්‍රී ලිඟුදවේ.
**අරලු**, පු. තොටිලගස.
**අරවින්ද**, පු. න. පද්මය.
**අරෂ්කර**, පු. බඩුලු, ත්‍රි. වණකරණ්ද.
**අරාති**, පු. සතුරා.
**අරාල**, ත්‍රි. වක්‍ද. පු. සදෙලමල.



(දුම්මල)
**අරි**, පු. සතුරා.
**අරිත්‍ර**, න. රිට.
**අරිමෙද**, පු. ඉඹුරු, ගුරන්ද.
**අරිෂ්ට**, න. සොල සමනාය—එනම් පාදයක් දියබහා දබෙන් ඇලළු තක්‍රය, අඩක් දියබහා ඇලළු දශ්විත්ය, දියරහිතව එසේ ඇලළු මථිතය යන තක්‍රයට, සාමාන්‍ය නාමයයි. අශුභය, කිඹිරිගෙය, පු. රුක්පෙතෙල, හෙලලූණු, කවුඩා, කොසඹගස.
**අරිෂ්ටදුෂ්ටධී**, ත්‍රි. ආසන්න මරණයෙන් දුෂිත බුද්ධි ඇත්තේ.
**අරුණ**, පු. සූර්යරථාචාර්යයා. අරුණ, සූර්යයා, අරුණුවන් (මදක්රත) ත්‍රි. ඉන්යුත්දෙය.
**අරුණා**, ස්ත්‍රී. ඉවද.
**අරුන්තුද**, ත්‍රි. මර්මපීඩා කරන්නේ.
**අරුෂ්කර**, පු. බැදුලුගස.
**අරුස්**, න. වණය.
**අරෝක**, ත්‍රි. ප්‍රභාරහිතවූ සඳහිරු ආදිදෙය.
**අර්ක**, පු. වරා, හිරු, පිළිමිණි.
**අර්කපර්ණ**, පු. වරාගස.
**අර්කබන්ධු**, පු. ගෞතමසර්වඥ.
**අර්කාහ්ව**, පු. වරාගස.
**අර්ගල**, ස්ත්‍රී. න. අගුල.
**අර්ඝ**, පු. මිල, පූජාවිධිය.
**අර්ඝ්‍ය**, ත්‍රි. පිදියයුත්ත.
**අර්චා**, ස්ත්‍රී. පිදීම, පිළිරුව.
**අර්චිත**, ත්‍රි. පුදනලද්දේ.
**අර්චිස්**, ස්ත්‍රී. න. ගිනි සිළු, (පුංනපුංසකයයිද පැණේ.) ස්ත්‍රී. න. රශ්මිය.
**අර්ජන**, පු. හෙලපණ්ඩුවර්ණය.
**අර්ජුන**, පු. සුදුපැහැ, කුඹුක්ගස, ත්‍රි. ඉන්යුත් දෙය, න. තණකොල.
**අර්ජුනී**, ස්ත්‍රී. දෙන.
**අර්ණව**, පු. මුහුද.
**අර්ණස්**, න. ජලය.
**අර්තික**, න. පිළිකුල.
**අර්ති**, ස්ත්‍රී. පීඩාව, දුනුමුඩාව.
**අර්ථ**, පු. වචනාර්ථය, ධනය, තත්වය, ප්‍රයොජනය, වැලැක්ම.
**අර්ථනා**, ස්ත්‍රී. ඉල්ලීම.
**අර්ථප්‍රයොග**, පු. පොලියෙන් ජීවත්වීම.
**අර්ථින්**, පු. සෙවකයා, යාචකයා.
**අර්ය**, න. ගල්සෙවෙල්.
**අර්දනා**, ස්ත්‍රී. ඉල්ලීම.
**අර්දිත**, ත්‍රි. අර්දිකලේ හෙවත්යදනාලද්දේ.
**අර්ධ**, පු. නොසමඅඩ, න. සමඅඩ, මෙහිතුන්ලිඟුදවේ.
**අර්ධචන්ද්‍රා**, ස්ත්‍රී. කෘෂ්ණ තෙවඩි, (කළුතුසකවාලු)
**අර්ධනාව**, න. අඩනැව.
**අර්ධරාත්‍ර**, පු. මධ්‍යමරාත්‍රිය.
**අර්ධවක**, පු. යවමැදකට බඳුම්හීගු බෙරවෙසෙසෙක්.
**අර්ධහාර**, පු. දෙළොස් වැලක්ඇති මුතුහර.
**අර්බුද**, න. දශකොටිය.
**අර්භක**, පු. පක්ෂි පැටවා.

**අම්බර**, න. අහස, වස්ත්‍ර.

**අම්බරීෂ**, න. ඇතිළිය (එනම්මැටි බඳුන)

**අම්බෂ්ඨ**, පු. වෛශ්‍ය ස්ත්‍රියගෙ බ්‍රාහ්මණ පුරුෂයා නිමිත්තකොට ගෙන උපන් අය. හේ චිකිත්සා ව්‍යාපාරියි, හෙවත් ඔහුගේ ජීවිකාව වෙදකමයි.

**අම්බෂ්ඨා**, කිඳි වැල්, දියමිතතා, යූථිකාගස්.

**අම්බා**, ස්ත්‍රී. නාට්‍යෝක්තියෙහි මව, සාමාන්‍යෝක්තියෙහිදුවේ.

**අම්බිකා**, ස්ත්‍රී. උමාදෙවි.

**අම්බු**, න. ජලය.

**අම්බුජ**, පු. දිය මිදෙල්ලගස.

**අම්බුභෘත්**, පු. මේඝය.

**අම්බුවේතස**, පු. දියහොමුනස.

**අම්බූකෘත**, න. කෙලතොලු බස්.

**අම්භස්**, න. ජලය.

**අම්භෝරුහ**, පු. න. පියුම්.

**අම්මය**, ත්‍රි. ජලවිකෘතිය එනම් පෙන ආදිවූ ජලයෙහි විකාරයයි.

**අම්ල**, පු. ඇඹුල් රස, ඉන්යුත් දෙයෙහි තුන්ලිඟුයි, ඇඹුල්වේගස.

**අම්ලලෝණිකා**, ස්ත්‍රී. ඇඹුලැඹිලිය.

**අම්ලාන**, පු. කටුකරඹුගස.

**අම්ලිකා**, ස්ත්‍රී. සිඹලා.

**අය**, පු. පුරාකෘත කුශලය.

**අයන**, න. අයනය (හිරුදුරුත්ත වසංක්‍රමණය කළතැන් පටන් ඇසළමස දක්වා උත්තරායනය ඇසළමස සිට දුරුත්ත දක්වා දක්ෂිණායනයයි කියා අයනම යෙකි,) මග.

**අයස්**, න. යකඩ.

**අයඃප්‍රතිමා**, ස්ත්‍රී. ලෝපිළිරුව.

**අයි**, අව්‍ය. නලවා කියන බස්හි "අයිවිලාසිනි කථයාසි" මැණි කෝකොහියන්නිද? යනාදි අංකාරයි.

**අයුත**, න. දසදහස.

**අයෝග්‍ර**, න. මොහොල.

**අර**, න. ඉක්මන්.

**අරසමට**, පු. ලිත්වි ශේෂයෙක්, "අරෛරෑව ක්‍රාකාරසඳුශෛෂෑකා ෂඨ විශෙෂශේෂඃ සවාඃතෙසෞ අරසට්ටා" යනු වචන බැවින් චක්‍රාකාරවූ දවවෙසෙසින් රචනාකරනලද ලිඳැයි හෙවත් දියනැගීමට රොදයක්යෙදූ ලොකු ලිඳ.

**අරණි**, පු. ස්ත්‍රී. ගිනිගානාලිය.

**අරණ්‍ය**, න. වනය. අරණ්‍යානී කීයාබහු වචන වූවිට මහවනයට නමි.

**අරත්නි**, පු. මිට්රියන.

**අරර**, ස්ත්‍රී. දොර, අරරී කියාමෙහි ස්ත්‍රී ලිඟුදවේ.

**අරලු**, පු. තොටිලගස.

**අරවින්ද**, පු. න. පද්මය.

**අරස්කර**, පු. බඳුලු, ත්‍රි. වණකරණාදී.

**අරාති**, පු. සතුරා.

**අරාල**, ත්‍රි. වක්ද. පු. සඳෙලමල.



(දුම්මල)

**අරි**, පු. සතුරා.

**අරිත්‍ර**, න. රිට.

**අරිමේද**, පු. ඉඹුරු, ගුරන්ද.

**අරිෂ්ට**, න. සොල සමන්‍යය–එනම් පාදයක් දියඹහා දඬෙන් ඇලළුතන්‍රය, අඩක් දියඹහා ඇලළුලදශවත්‍ය, දියරහිතව එසේ ඇලළු මථිතය යන තක්‍රයට, සාමාන්‍ය නාමයයි. අශුභය, කිඹිරිගෙය, පු. රුක්පෙතෙල, හෙළලුණු, කවුඩා, කොසඹගස.

**අරිෂ්ටදුෂ්ටධී**, ත්‍රි. ආසන්න මරණයෙන් දූෂිත බුඩි ඇත්තේ.

**අරුණ**, පු. සූර්‍යරථාචාර්‍යයා. අරුණ, සූර්‍යයා, අරුණුවන් (මදක්රත) ත්‍රි. ඉන්යුත්දෙය.

**අරුණා**, ස්ත්‍රී. ඉවද.

**අරුන්තුද**, ත්‍රි. මම්පීඩා කරන්නේ.

**අරුෂ්කර**, පු. බඳුලුගස.

**අරුස්**, න. වණය.

**අරෝක**, ත්‍රි. ප්‍රභාරහිතවූ සඳහිරු ආදිදෙය.

**අර්ක**, පු. වරා, හිරු, පිළිමිණි.

**අර්කපර්ණ**, පු. වරාගස.

**අර්කබන්ධු**, පු. ගෞතමසම්බුද.

**අර්කාහ්ව**, පු. වරාගස.

**අර්ගල**, ස්ත්‍රී. න. අගුල.

**අර්ඝ**, පු. මිල, පූජාවිධිය.

**අර්ඝ්‍ය**, ත්‍රි. පිදියයුත්ත.

**අර්චා**, ස්ත්‍රී. පිදීම, පිළිරුව.

**අර්චිත**, ත්‍රි. පුදනලද්දේ.

**අර්චිස්**, ස්ත්‍රී. න. ගිනි සිළු, (පුංනපුංසකයයිද පැණේ.) ස්ත්‍රී. න. රශ්මිය.

**අර්ජක**, පු. හෙළපර්ණාසවෘක්ෂය.

**අර්ජුන**, පු. සුදුපැහැ, කුඹුක්ගස, ත්‍රි. ඉන්යුත් දෙය, න. තණකොල.

**අර්ජුනී**, ස්ත්‍රී. දෙන.

**අර්ණව**, පු. මුහුද.

**අර්ණස්**, න. ජලය.

**අර්තික**, න. පිළිකුල.

**අර්ති**, ස්ත්‍රී. පීඩාව, දුනුමුඩාව.

**අර්ථ**, පු. වචනාර්ථය, ධනය, කාර්‍යය, ප්‍රයෝජනය, වැළැක්ම.

**අර්ථනා**, ස්ත්‍රී. ඉල්ලීම.

**අර්ථප්‍රයොග**, පු. පොලියෙන් ජීවත්වීම.

**අර්ථින්**, පු. සේවකයා, යාචකයා.

**අර්ථ්‍ය**, න. ගල්සෙවෙල්.

**අර්දනා**, ස්ත්‍රී. ඉල්ලීම.

**අර්දිත**, ත්‍රි. අර්දිකලේ හෙවත්යදනාලද්දේ.

**අර්ධ**, පු. නොසමඅඩ; න. සමඅඩ, මෙහිතුන්ලිඟුදවේ.

**අර්ධචන්ද්‍රා**, ස්ත්‍රී. කෘෂ්ණ තෙවඩී, (කළුතුසකවාලු)

**අර්ධනාව**, න. අඩනැව.

**අර්ධරාත්‍ර**, පු. මධ්‍යමරාත්‍රිය.

**අර්ධකා**, පු. යවමැදකට බඳුමිහිගු බෙරවෙනසෙක්.

**අර්ධහාර**, පු. දොළොස් වැලක්ඇති මුතුහර.

**අර්බුද**, න. දශකොටිය.

**අර්භක**, පු. පක්ෂි පැටවා.

අර්ම, ත්‍රි. එනම් අක්ෂිරෝගය.
අර්ය, පු. ස්වාමියා, වෛශ්‍ය කුල උපන්නේ,
අර්යමන්, පු. සූර්යයා, ප්‍රථමායෙහි රූප—අර්යමා, අර්යමනෝ, අර්යමනඃ යනුයි.
අර්යා, ස්ත්‍රී. වෛශ්‍යස්ත්‍රී, ස්වාමිදූ.
අර්යාණී, ස්ත්‍රී. වෛශ්‍යස්ත්‍රී, ස්වාමිදූ.
අර්යී, ස්ත්‍රී. වෛශ්‍ය භාර්යාව.
අර්වන්, පු. අශ්වයා, මෙහි ප්‍රථමායෙහි රූප—අර්වා, අර්වාණෝ, අර්වාණඃ, යනුයි. ත්‍රි. නින්දිතයා.
අර්වාක්, අව්‍ය. පශ්චාදර්ථයි “සෘතුත්‍රයාදර්වාක් මණ්ඩනානානතු මුණ්ඩනම්” සෘතුත්‍රයෙන් පසුසැරසීම් නිමිත්තෙන් ඉසමුඬුනොකරන්නේය යනාදි උදාහරණයෙහි දතයුතු. න. මෙතෙර.
අර්ශස්, න. එනම්රෝගය.
අර්ශස, ත්‍රි. අර්ශස් ඇත්තා.
අර්ශෝඝ්න, පු. කිඩාරම්.
අර්හණා, ස්ත්‍රී. පිදීම.
අර්හිත, ත්‍රි. පුදනලද්දේ.
අලම්, අව්‍ය. භූෂණ, පර්යාප්ති හෙවත් පරිපූර්ණතා, ශක්ති, වාරණ හෙවත් වැලකීම යන මේඅර්ථයන්හිවේ. “අලඞ්කෘතඃ ශිශුඃ” ලදරුතෙමේ සරසනලද්දේය. යනාදියෙහි භූෂණයි, “අලං භුක්තවාන්” සෑහෙනතෙක් අනුභවකෙළේය යනායෙහි පර්යාප්තිහෙවත් පරිපූර්ණතායි.

අලක, පු. කියඹුවහෙවත් කුටිලකෙශය.
අලකා, ස්ත්‍රී. වෙසමුණුගේ නුවර.
අලක්ත, පු. ලාකඩ.
අලගර්දී, පු. දියනයා.
අලංකරිෂ්ණු, ත්‍රි. පහන් ගන්වනලද්දේ හෙවත් සරසනලද්දේ.
අලඞ්කතෘ, ත්‍රි. සරසනාදුලුවුයේ.
අලඞ්කර්මීණ, ත්‍රි. ක්‍රියායෙහියොග්‍යයා හෙවත් සමර්ථයා.
අලඞ්කාර, පු. ආභරණය.
අලඞ්කෘත, ත්‍රි. පහසින්ගන්වන ලද්දේ හෙවත් සරසන ලද්දේ.
අලඞ්ක්‍රියා, ස්ත්‍රී. අලඞ්කාරණය.
අලර්ක, පු. හෙළවරා, පියරුබලු.
අලක්ෂ්මී, කාලකණ්ණිය.
අලස, පු. අලසයා.
අලාත, න. ගිනිපෙණෙහෙල්ල.
අලාබු(බූ), ස්ත්‍රී. ලබු.
අ(ආ)ලි, පු. ගෝණුස්සා.
අලි, පු. බඹරා.
අලික, න. නලල.
අලින්, පු. බඹරා.
අලිඤ්ජර, පු. මහත් කුසී ඇතිදිය බහාතබන ලොකු සැළ.
අලීක, න. අප්‍රිය, අසත්‍යය.
අල්ප, ත්‍රි. කුඩාදෑ.
අල්පතනු, ත්‍රි. කුරුඅය.
අල්පමාරිෂ, පු. සුලුකුර.
අල්පසරස්, න. කුඩාවිල.
අල්පිෂ්ඨ, ත්‍රි. ඉතාකුඩාදෑ.
අල්පීයස්, ත්‍රි. ඉතාකුඩාදෑ.
අවකර, පු. කසලගොඩ.



අවකීර්ණින්, පු. ස්ත්‍රීසහමයෙන් නශවුවුව්‍රතඇත්තේ.
අවකෘෂ්ට, ත්‍රි. නික්මවූයේ.
අවකේශින්, ත්‍රි. සෘතුවෙහිද ඵල රහිත වෘක්ෂාදිය.
අවක්‍රය, පු. මිල.
අවගණිත, ත්‍රි. අවඥකරණලද්දේ.
අවගත, ත්‍රි. අවබොධකලදෑ.
අවගීත, ත්‍රි. නින්දිතදෑ හෝ ප්‍රසිද්ධ වූගහීතඇත්තේ, ජනාපවාදය, නින්දාව.
අවග්‍රහ, පු. වැසිහඹ, ඇතුන්ගේ ලලාටය.
අවග්‍රාහ, පු. වැසිහඩ.
අවචූර්ණිත, ත්‍රි. සුධාදිවූ චූර්ණයෙන් අවකීර්ණවූදෑ.
අවඥා, ස්ත්‍රී. අනාදරය.
අවඥාත, ත්‍රි. අවඥ කරණලද්දේ.
අවට, පු. භූමියෙහිවූ සිදුර(වළ) ස්ත්‍රී ලිඞ්ගයෙහි අවටිකියාවේ.
අවටීට, ත්‍රි. පැතලි නාසා ඇත්තේ.
අවටු, පු. උකුණුවළ හෙවත් ඉසහාග්‍රීවය ගැළපුනු සන්ධිය.
අවතංස, පු න. කර්ණාභරණය, මුදුන් මල් කඩ.
අවතමස, න. විරලාන්ධකාරය (ඇඳිරිය)
අවතොකා, ස්ත්‍රී. වැටෙන ගැබ් ඇතිදෙන.
අවදංශ, පු. සුරාපානයට ගන්නා බැදිමස් ආදිඅවුලු.
අවදාත, පු. සුදුපැහැ, කහපැහැ.
අවදාන, න. පූර්වචරිතය, එනම්—අද්භුතරූපවූ විශුද්ධවූ අභිප්‍රෙතවූසම්ශීලයෙන් දූෂණය නොකෙරේද හෙයයි.
අවදාහ න. සුදුමල් ඇති සැන්න මුල්.
අවදාරණ, න. හුදැල්ල.
අවදීර්ණ, ත්‍රි. දියවූදෑ.
අවද්‍ය, ත්‍රි. නින්දිතයා.
අවධාරණ, න. මෙතෙකැයි පිරිසිඳීම, නිශ්චය.
අවධි. පු. සීමාව, බිලය.
අවධ්වස්ත, ත්‍රි. සුධාදිවූ චූර්ණයෙන් අවකීර්ණවූදෑ.
අවන, න. පිණවීම.
අවනත, ත්‍රි. අගනැමිදෑ.
අවනාට, ත්‍රි. තැපලිනාසා ඇත්තේ.
අවනාය, පු. පාතවැටීම.
අවනි(නී), ස්ත්‍රී. භූමිය.
අවන්තිසෝම, න. කාඩි.
අවන්ධ්‍ය, ත්‍රි. සෘතුප්‍රාප්තියෙහි ලාපලදරණරුක් ආදිය.
අවභෘථ, පු. යඥනාදික දෝෂනිරාසයපිණිසද ප්‍රධානයාගයාගේ ප්‍රතිෂ්ඨාපිණිසද කරණලද යාගය.
අවභ්‍රට, ත්‍රි. තැපලිනාසා ඇත්තේ.
අවම, ත්‍රි. නින්දිතයා, හීන.
අවමත, ත්‍රි. අවඥකරණලද්දේ.
අවමර්ද, පු. ශස්‍යසම්පන්න දෙශයට සතුරු සෙනග කරන පීඩාව.
අවමානන, න. අනාදරය.
අවමානිත, ත්‍රි. අවමන් කරණලද්දේ.
අවයව, පු. ශරීරාවයව.

**අවර**, න. ඇතුන්ගේ පශ්චාජ්ජඞ්ඝාදිශෙෂය හෙවත් පසුභාගය.
**අවරජ**, ත්‍රි. මල්ලු.
**අවරති**, ස්ත්‍රී. විරතිය.
**අවරවර්ණ**, පු. ශුද්‍රයා.
**අවර්ණ්‍ය**, ත්‍රි. නින්දිතද හෝ නින්දිතමාත්‍රය.
**අවරොධ**, පු. අන්තඃ පුරය, හෙවත් ඇතොවුරත් හිඳිනාගේ.
**අවරොධන**, න. අන්තඃ පුරය හෙවත් ඇතොවුරන්හිඳිනාගේ.
**අවරොහ**, අරලු, (ගසමුලින් අගට නැගි කිඳිවැල්ආදිය).
**අවර්ණ**, පු. නුගුණකිම.
**අවලග්න**, පු. ශරීරමධ්‍යය.
**අවල්ගුජ**, පු. බෝදිගස්.
**අවවාද**, පු. අවඥව.
**අවශ්‍යම්**, අව්‍ය. නිශ්චයාර්ථයි.
**අවශ්‍යාය**, පු. පිනි.
**අවෂ්ටබ්ධ**, ත්‍රි. ආශ්‍රිත, නුදුරු, බද්ධ.
**අවසර**, පු. ප්‍රස්තාව.
**අවසාන**, න. කෙළවර.
**අවසිත**, ත්‍රි. නිමවනලද්ද, අවබොධකළද්ද.
**අවස්කර**, පු. මල, පුරීෂාදි නිම්තන.
**අවස්ථා**, ස්ත්‍රී. අවස්ථාව.
**අවහාර**, පු. මෝරා.
**අවහිත්‍ථා**, ස්ත්‍රී. ආකාරගුප්තිය, (ශොකාදියෙන්වූ මුවමැල වීම් ආදිආකාර සැඟවීම)
**අවහෙල**, න. අනාදරය.
**අවාක්පුෂ්පී**, ස්ත්‍රී. ශතපුෂ්ප.
**අවාග්‍ර**, ත්‍රි. අගනැමිද්ද.

**අවාච්**, ත්‍රි. ගොලුවා, යටබැලූමුවඇත්තා.
**අවාචී**, ස්ත්‍රී. දකුණුදිග. අපාචී යනුද පාඨයි.
**අවාච්‍ය**, ත්‍රි. නොකියයුතු තෙපුල්.
**අවාඞ්මුඛ**, ත්‍රි. යටබැලූමුවඇත්තා.
**අවාර**, න. මෙතෙර.
**අවාසස්**, ත්‍රි. නග්නයා.
**අවි**, පු. සෙල්, එළු, හිරු, ස්ත්‍රී. ඔසප් ඇත්තී.
**අවිග්න**, පු. කරඹ.
**අවිත**, ත්‍රි. රක්ෂාද්ද.
**අවිද්‍යා**, ස්ත්‍රී. නුනුවන.
**අවිනීත**, ත්‍රි. උඩඟුවූයේ.
**අවිරත**, න. නිරන්තරය. ද්‍රව්‍යයෙහි වැටෙනකල තුන්ලිඟයි.
**අවිලම්බිත**, ත්‍රි. ඉක්මන්ද්ද, න. ඉක්මන.
**අවිස්පෂ්ට**, න. අව්‍යක්ත වචනය. ඉන්යුත්දෙයෙහි වැටෙන කල තුන්ලිඟයි.
**අවීචි**, පු. එනම් නිරය හෙදය.
**අවීරා**, ස්ත්‍රී. සැමිපුත්හා දරුවන් නැත්තී.
**අවෙක්ෂා**, ස්ත්‍රී. ප්‍රත්‍යවෙක්ෂාව.
**අව්‍යක්ත**, පු. විෂ්ණු.
**අව්‍යක්තරාග**, පු. අරුණ.
**අව්‍යණ්ඩා**, ස්ත්‍රී. වලුරුම්ද්ද.
**අව්‍යථා**, ස්ත්‍රී. අරලු, උත්තරදෙශයෙහි වන්නාවූ පද්මචාරිණීනම් ගස. සථලකමලිනියයි ප්‍රසිද්ධද්‍රව්‍යය. මැණික්වැන්නායයි කියත්.
**අව්‍යවහිත**, ත්‍රි. ගැළපුනු හෝ ඇ



ලුනුද.
**අශනායා**, ස්ත්‍රී. ක්ෂුධාව.(බඩගිනි)
**අශනායිත**, ත්‍රි. බඩසාඇත්තේ.
**අශනි**, ස්ත්‍රී. විදුරවිය.
**අශිත**, ත්‍රි. කනලදයනඅර්ථයි.
**අශිශ්වී**, ස්ත්‍රී. දරුවන්නැත්තී.
**අශුභ**, න. අශුභය, පාපය.
**අශෙෂ**, ත්‍රි. නොඅඩුද්ද.
**අශොක**, පු. හෝපලුගස.
**අශොකරොහිණී**, ස්ත්‍රී. කුළුරු සැණ. අශොකා, රොහිණීකියා වෙන්වශයෙන් නම් දෙකක්ද වෙත්.
**අශ්මගර්භ**, පු. මරාමිරා.
**අශ්මජ**, න. ගල්සෙවෙල්.
**අශ්මන්**, පු. පහණ (ගල).
**අශ්මන්ත**, න. ලිප.
**අශ්මපුෂ්ප**, න. ගල්සෙවෙල් (කප්පරවල්ලියටදනම්.)
**අශ්මරී**, ස්ත්‍රී. එනම් රෝගය.
**අශ්මසාර**, පු. යකඩ.
**අශ්‍ර(ස්‍ර)**, පු. හිසකේ, කොණ, න. රුධිල, ලේ, කඳුලු.
**අශ්‍රාන්ත**, න. නිරන්තරාර්ථ.
**අශ්‍රි**, ස්ත්‍රී. කඩුආදින්ගේකොණ.
**අශ්‍රු(ස්‍රු)**, න. කඳුලු.
**අශ්ලීල**, ත්‍රි. ග්‍රාම්‍යවචන.
**අශ්ව**, පු. අශ්වයා.
**අශ්වකර්ණික**, පු. සල්ගස.
**අශ්වත්ථ**, පු. ගිවුළු.
**අශ්වයුජ්**, ස්ත්‍රී. අස්විදේ නැකත, අශ්වයුජ, කියාපුංලිඟද වේ.
**අශ්වා**, ස්ත්‍රී. වෙළඹ.

**අශ්වින්**, පු. දෙව්වෙද්දු. (ද්විවචනයි)
**අශ්විනී**, ස්ත්‍රී. අස්විදේනැකත.
**අශ්විනීසුත**, පු. දෙව්වෙද්දු.(ද්විවචනයි)
**අශ්වීය**, න. අශ්වසමූහය.
**අෂඩක්ෂීණ**, පු. සතරකන්මන්ත්‍රය.
**අෂ්ටාපද**, පු. න. රන්. න. දූපෝරුව.
**අෂ්ඨීවත්**, පු. න. දනහන්දිය.
**අසංහත**, පු. "තිස්‍රශ්ච්‍යාත්ති සතු දණ්ඩඃ සාංද්භොගොගභ්‍යා ව්‍යාත්ති රෙවච, මණ්ඩලඃ සර්වතොව්‍යාත්තිඃ පෘථග්ව්‍යාත්ති රසංහතඃ"යි. දක්වනලද සිව්වැදෑරුම්වූ සේනාවින්‍යාසයන් අතුරෙන් ඔවුනොවුන්හා අසම්බන්ධවූ ඉතා දුරුවසිටියාවූ සේනාවගේ පෘථග්ව්‍යාත්තියයි. හෙද අභීචක්‍රකයාදි හෙදයෙන් සයවැදෑරුම්වේ.
**අසකෘත්**, අව්‍ය. නොයෙක්වර.
**අසති**, ස්ත්‍රී. පතිව්‍රතා නැත්ති.
**අසතීසුත**, පු. පතිව්‍රතානොවූ ස්ත්‍රීයගේ පුතා.
**අ (ආ) සන**, පු. පියාගස.
**අසමීක්ෂ්‍යකාරින්**, ත්‍රි. ගුණදෙස් නොවිමසා කරන්නා.
**අසාර**, ත්‍රි. බෙලහීනද්ද.
**අසි**, පු. කඩුව.
**අසික්නී**, ස්ත්‍රී. නොමැහැලිවූ මහාදේවීන්විසින් යවනු ලබන්නාවූ අන්තඃ පුරචාරිණීවූ ස්ත්‍රී.
**අසිත**, පු. කළුපැහැ, ඉන්යුත් දෙ

යෙහි තුන් ලිඟුයි.

**අසිධාවක**, පු. සිරියෙරු හෙවත් අවිසණගාන්නා.

**අසිධෙනුකා**, ස්ත්‍රී. සිරිය.

**අසිපුත්‍රී**, ස්ත්‍රී. සිරිය.

**අසිහෙති**, ත්‍රි. කඩුව ආයුධකොට ඇත්තා.

**අසු**, පු. ප්‍රාණය අපානය උදානය ව්‍යානය සමානය යනමේ පංච වායූන්ටනම්. එහෙයින් ව්‍යවහාරයෙහි බහුවචනයි.

**අසුධාරණ**, න. ජීවත්වීම.

**අසුර**, පු. අසුරයෝ.

**අසූක්ෂණ**, න. අනාදරය.

**අසූයා**, ස්ත්‍රී. ගුණෙහිදු දොෂාරොපණය.

**අසෘග්ධරා**, ස්ත්‍රී. සම.

**අසෘජ්**, න. ලේ.

**අසෞම්‍යස්වර**, ත්‍රි. නපුරු ස්වර ඇත්තා.

**අස්ත**, පු. අවරගිර. ත්‍රි. ප්‍රෙරිත (මෙහෙයූ)දෑ.

**අස්තම්**, අව්‍ය. අදශීනාර්ථයි. "ලඞ්කාඞ්ගනා නාමචබොධකාලෙ තුලාමනාරුහ්‍ය ගතොස්ත මිත්‍රඃ" ලඞ්කාන පුදනකල තුල්‍යකරණයට නොපැමිණ චන්‍ද්‍රතෙම අදශීනයටගියේ යනදි උදාහරණයි.

**අස්ති**, අව්‍ය. විද්‍යමානාර්ථයි.

**අස්තු**, අව්‍ය. අසුයොප ගම්යෙහි හෙවත් නොසතුටු පෙරදැරිපිළිගැන්මෙහි "නාථාවිධස්තාවදශෙෂමස්තුනඃ" එසේය සියල්ලම අපටවේවයි යනාදී උදාහරණයි.

**අස්ත්‍ර**, න. ආයුධය.

**අස්ත්‍රින්**, ත්‍රි. දුනුවායා.

**අස්ථි**, න. ඇට.

**අස්ථිර**, ත්‍රි. චලප්‍රකෘති ඇත්තා.

**අස්ඵුටවාච්**, ත්‍රි. අවියත්තෙපුල් ඇත්තා.

**අස්‍රප**, පු. රාක්ෂසයා.

**අස්වච්ඡන්ද**, ත්‍රි. අයත්මාත්‍රය හෙවත් අයතිකම.

**අස්වප්න**, පු. දෙවියෝ.

**අස්වර**, ත්‍රි. නපුරුස්වර ඇත්තා.

**අස්වාධ්‍යාය**, පු. වෙදාධ්‍යයන රහිත වූයේ.

**අහංයු**, ත්‍රි. අහඞ්කාර ඇත්තා.

**අහංකාර**, පු. අභිමානය.

**අහංකාරවත්**, ත්‍රි. අහංකාර ඇත්තා.

**අහන්**, පු. න. දවස.

**අහමහමිකා**, ස්ත්‍රී. මමශක්ති ඇත්තෙම් මමශක්ති ඇත්තෙමියි යුද්ධයෙහි ඔවුනොවුන්ට කරණ අහංකාරය.

**අහංපූර්විකා**, ස්ත්‍රී. මමපෙරටුවයෙම් මමපෙරටුවයෙමියි යුද්ධයෙහියොධයන්ගේ ඔවුනොවුන් ඉක්මවායාමෙහි උත්සාහය.

**අහංමති**, ස්ත්‍රී. නුනුවන.

**අහපති**, පු. හිරු.

**අහර්මුඛ**, න. උදය.

**අහස්කර**, පු. හිරු.

**අහහ**, අව්‍ය. ආශ්චර්‍ය්‍යි ඛෙදයනමෙහිවේ. "අහහබුද්ධිප්‍රකාශොරාඥඃ" ආශ්චර්‍ය්‍යයෙක රජුගේ නුවනඅධිකබවෙක් යනාදියෙහි ආශ්චර්‍ය්‍යයි, "අහහමහාපඞ්කෙපතිතඃ" ඛෙදයෙක මහමඩෙහි හුනුයෙහි යනාදියෙහි ඛෙදයි.



**අහාර්‍ය්‍ය**, පු. පර්වතය.

**අහි**, පු. වෘත්‍රනම් අසුරයා, සර්පයා.

**අහිත**, පු. සතුරා.

**අහිතුණ්ඩික**, පු. අහිතුණ්ඩිකයා, (පාම්බට්ටියා)

**අහිභය**, න. රජුන්ට ස්වපක්ෂයෙන් වනභය.

**අහිභුජ්**, පු. මොනරා, ගුරුළා.

**අහෙරු**, ස්ත්‍රී. ශතාවරිය.

**අහො**, අව්‍ය. විශ්මයෙහි.

**අහොරාත්‍ර**, පු. රෑදවල් දෙකින් යුත්දින.

**අහ්නාය**, අව්‍ය. වහායනාර්ථයි.

## ආ

**ආ**, අව්‍ය. කොපයෙහිද පීඩායෙහිද වේ. "ආඃපාපවිකත්ථසෙ, ආඃපාපයකුමක් ප්‍රශංසාකෙරෙහිද" යනාදියෙහි කෝපයෙහිවේ. "ආඃශීතම්, ඊෂ්ශීතල" යනාදියෙහි පීඩායෙහිවේ.

**ආම්**, අව්‍ය. පිළිගැන්මෙහි "ආංකුර්මඃ" ඌව්කරමු යනාදියෙහි දතයුතු.

**ආකම්පිත**, ත්‍රි. මදක්සැලෙනදෑ.

**ආකර**, පු. රත්නාදි ආකරය.

**ආකර්ෂ**, පු. දූකෙළිය, පසඇට, දූපෝරුව.

**ආකල්ප**, පු. පහසින හෙවත් ස්වර්ණාභරණාදියෙන් කරණලද ශොභාව.

**ආකාර**, පු. ඉඟිකිරීමහෝ අවයවවිකාර, අවයවසංස්ථානය හෙවත් සටහන, අභිප්‍රායානුරූප ශාරීරික ක්‍රියා.

**ආකාරගුප්ති**, ස්ත්‍රී. ශොකාදියෙන් වූ මුවමැලවීම් ආදී ආකාරවැසීම.

**ආකාරණා**, ස්ත්‍රී. කැඳවීම.

**ආකාශ**, පු. න. අහස.

**ආකීර්ණ**, ත්‍රි. ගැවසිගත්දෑ.

**ආකුල**, ත්‍රි. ආකුලදෑ.

**ආක්‍රන්ද**, පු. බිහිසුනු යුද්ධය, බැගෑහඬ, හැඬීම, ආරක්ෂක.

**ආක්‍රීඩ**, ප. උයන.

**ආක්‍රොශන**, න. සාපකිරීම.

**ආක්ෂාරණා**, ස්ත්‍රී. පර ස්ත්‍රී පරපුරුෂයන්හා එක්වීම් කාරණයෙන් ස්ත්‍රී පුරුෂදෙදෙනා මෙවුන්දම්න් බැණීම. මෙහිනපුංසක ලිඞ්ග "ආක්ෂාරණ" ශබ්දයෙක්දවේ.

**ආක්ෂාරිත**, ත්‍රි. ලොකාපවාදයෙන් දූෂිතවූයේ.

**ආක්ෂෙප**, පු. නුගුණකීම.

**ආඛණ්ඩල**, පු. ශක්‍රයා.

**ආඛු**, පු. මීයා.

**ආඛුභුජ්**, පු. බළලා.

**ආඛෙට**, පු. මුවදඩයම.

**ආඛ්‍යා**, ස්ත්‍රී. නම.

**ආඛ්‍යාත**, ත්‍රි. කියනලද්දෑ.

**ආඛ්‍යායිකා**, ස්ත්‍රී. පවත්දත්කථාව එනම් ගද්‍යභෙදයෙකි.

**ධාෂ්ණජ්**, ත්‍රි. නොහික්මුනු හෝ විලි නැති අය.

**ධාෂ්ණි**, පු. හිරුරැස්.

**ධෙනු**, ස්ත්‍රී. අලුතවැදූ දෙන.

**ධෙනුකා**, ස්ත්‍රී. ඇතිනී, අලුතවැදූ දෙන.

**ධෙනුෂ්‍යා**, ස්ත්‍රී. ණයටපිණිස බැම්මේ සිටින එළදෙන.

**ධෛනුක**, න. දෙනුන් සමූහය.

**ධෛවත**, පු. තැතින් හෝ බොටුවෙන් හෝ නැගාවූ එනම් ස්වරවිශෙෂය. මෙය බොටුවෙන්වූකලී "අශ්වසතු ධෛවතංරෞති" යනු වචන හෙයින් අශ්වයෝ නගත්.

**ධෞරණ**, න. ඇත් අස් රිය ආදි යානාව, අශ්වයන්ගේ ගමන් විශෙෂයෙක්.

**ධෞරිතක**, න. යම්බඳු ගමන් වේගයකින් පීඩිතවූ අශ්වයෙක් ශබ්දය නොඅසාද නොපෙණේද අසුන්ගේ එබඳුවූ සුහුඬගමනට ආස්කන්දිතයයි කියත්. ඒ ආසකන්දිතනම් ගමන් වේගයට අධිකවූ ගමන්වේගය.

**ධෞරෙය**, පු. වියඋසුලනගොණා.

**ධ්‍යාම**, න. සුවඳ තණ.

**ධ්‍රැව**, පු. උත්තානපාද රජුගේ පුත්‍රවූ නිශ්චලභාවයෙන් තාරකා ස්වරූපවූ එනම් රජ. අශ්වත්තරුවයයිද කියත්. න. නිශ්චිතය. ත්‍රි. නිත්‍යය, සදාකාලිකදෑ, කණුව.

**ධ්‍රැවා**, ස්ත්‍රී. අස්වැන්න, හස්තප්‍රමාණවූ යාගභාජන විශෙෂයෙක්.

**ධ්වජ**, පු. න. ධවජය.

**ධ්වජිනී**, ස්ත්‍රී. චතුරඞ්ගිනීසෙනාව.

**ධ්වනි**, පු. හඬ.

**ධ්වනිත**, ත්‍රි. ශබ්දකළදෑ, න. මෙඝනාදය.

**ධ්වස්ත**, ත්‍රි. ගිලිහුනුදෑ.

**ධ්වාඞ්ක්ෂ**, පු. කවුඩා, දියකාවා, ගෘහය, හිඟන්නා, කපුඇට ගරණ යන්ත්‍රය.

**ධ්වාන**, පු. හඬ.

**ධ්වාන්ත**, න. අන්ධකාරය.

## න

**න**, අව්‍ය. අභාවයෙහි.

**නකුලෙෂ්ටා**, ස්ත්‍රී. රුත්ත.

**නක්තක**, පු. මාලුකඩරෙද්ද.

**නක්තම්**, අව්‍ය. රෑ.

**නක්තමාල**, පු. කරඳගස.

**නක්‍ර**, පු. කිඹුලා.

**නක්ෂත්‍ර**, න. තාරකාව.

**නක්ෂත්‍රමාලා**, ස්ත්‍රී. සත්විසිඇටක් ඇති මුතුහර.

**නක්ෂත්‍රෙශ**, පු. සඳ.

**නඛ**, න. එනම් ගන්ධද්‍රව්‍යය, ස්ත්‍රීලිඞ්ගයෙහි නඛී. පු. න. නිය පොත්ත.

**නග**, පු. ශෛලය, වෘක්ෂය.

**නගරී**, ස්ත්‍රී නුවර.

**නගෞකස්**, පු. පක්ෂියා.

**නග්න**, ත්‍රි. නග්නයා.

**නග්නහු**, පු. සහල් ආදියෙන් කළ රුබිජු,

**නග්නිකා**, ස්ත්‍රී. අටහැවිරිදි කන්‍යාව.



**නට**, පු. නටන්නා, තොටිලගස.

**නටන**, න. නැටුම්.

**නටී**, ස්ත්‍රී. නලීනම් ගන්ධද්‍රව්‍ය (පබළු පැල).

**නඩ**, පු බටදඹුව, නලකියාද වේ

**නඩ්‍යා**, ස්ත්‍රී. බටසමූහය.

**නඩ්වත්**, ත්‍රි. බට බොහෝවූ දෙශය.

**නඩ්වල**, ත්‍රි. බට බොහෝවූ දෙශය.

**නත**, ත්‍රි. වක්වූදෑ.

**නතනාසික** ත්‍රි. තැපලි නාසා ඇත්තා.

**නදී**, ස්ත්‍රී. නදිය.

**නදීමාතෘක**, පු. ගඟදියෙන් සම්පන්නවූ වීයෙන්පාලිත දෙශය. (ගඟ දියෙන් පැසෙන දෙශය).

**නදීෂ්ණ**, පු. කුඹුක්.

**නද්ධ්‍රී**, ස්ත්‍රී. වරමඳු හෙවත් සමින් කළ රැහැණ.

**ननान्द**, ස්ත්‍රී. පුරුෂයාගේ සහොදරී.

**නනු**. අව්‍ය. ප්‍රශ්න, අවධාරණ, අනුඥා, අනුනය, ආමන්ත්‍රණ, විරුද්ධකථා, යනමේ අර්ථයන්හි වේ. "නනු ඉයං සන්නිහිත චෙත්‍රාසනා" මෝතොමෝ වේවැලින්කළ ආසනඇත්තී නොවේද? යනාදියෙහි ප්‍රශ්නාර්ථයි "නනු අයං යොගී" මේ තෙම තාපසමැයි යනාදියෙහි අවධාරණයි "නනුගච්ඡ" එසේ නම් යව. යනාදියෙහි අනුඥයි හෙවත් අනුදැනීමයි. "නනු කොපං මුඤ්චදයාංකුරු" කොපය මුඳුවා, කරුණාකෙරේවා යනාදියෙහි අනුනයයි. හෙවත් නැලවිල්ලයි "නනුරාජන්" භවත් රජ්ජුරුවෙනි. යනාදියෙහි ආමන්ත්‍රණයි. "නනු එවං මන්‍යසෙ නර්හිකිමපිනස්‍යාත්" මෙසේ සිතන්නෙහි නොවේද. එසේකල කිසිවක්නැත්තේය. යනාදියෙහි විරුද්ධ කථාවෙහි වේ.

**නන්දක**, පු. විෂ්ණුගේ කඩුව.

**නන්දන**, න. ශක්‍රයාගේ උයන.

**නන්දිවෘක්ෂ**, පු. කිරි ඇත්තාවූ බෝගස්හා සමානවූ එනම් රුක. (මහරියයි කියත්)

**නන්ද්‍යාවර්ත**, පු. වටආකාර ඇති රජගෘහ භෙදයක්.

**නපුංසක**, පු. න. ගැහැණියාද පිරිමියාද නොවූයේ "ස්තනකෙශවතීනාරී ලොමශඃපුරුෂඃ ස්මෘතඃ. උභයොරන්තරං යච්ච තදභාවෙ නපුංසකම්" යනුකී හෙයින් පියයුරුහා කෙශඇත්තී ස්ත්‍රීයයි රැවුලඇත්තේ පිරිමියායි ඒ දෙකම නැත්තේ නපුංසකයි.

**නප්ත්‍රී**, ස්ත්‍රී. පුතාගේහෝ දුවගේ හෝ දූවූ මිනිබිරී.

**නභස්**, පු. නිකිණිමස. න. අහස.

**නභඃසංගම**, පු. පක්ෂියා.

**නභස්‍ය**, පු. බිනරමස.

**නභස්වත්**, පු. සුලඟ.

**නමස්**, අව්‍ය වැඳීමෙහි.

**නමසිත**, ත්‍රි. පුදනලද්දේ.

**නමස්කාරී**, ස්ත්‍රී. නිදිකුඹ, දඬිඹුදින්නරුවයයි මීට සිංහල නමකි.

**නමස්‍යා**, සත්‍රී. පිදීම.
**නමස්සිත**, ත්‍රි. පුදනලද්දේ.
**නමුචිසූදන**, පු. ශක්‍රයා.
**නය**, පු. නීතිය.
**නයන**, න. ඇස.
**නර**, පු. මිනිසා.
**නරක**, පු. නිරය.
**නරවාහන**, පු. වෙසමුණු.
**නර්තකී**, සත්‍රී. නටන්නිය.
**නර්තන**, න. නැටුම්.
**නර්මදා**, සත්‍රී. එනම් නදිය.
**නර්මන්**, න. වලලහාදීන්ගේ පරිහාසය, (සෙල්ලම).
**නලකූබර**, පු. වෙසමුණුගේපුතු.
**නලද**, න. සුදුමල්ඇති සැවැන්න මුල්.
**නල (ඩ) මීන**, පු. ඉස්සා.
**නලින**, න. පියුම්.
**නලිනී**, සත්‍රී. නෙලුම්විල, නඩිනී නමුදුවේ.
**නලී**, සත්‍රී. එනම් ගන්ධද්‍රව්‍යය, (පබලු පැල).
**නල්ව**, පු. රියන් හාරසියය.
**නව**, ත්‍රි. අලුත්දෑ.
**නවදල**, න. අලුත් පියුම්පෙති.
**නවනීත**. න. එදවස් මිදුදීයෙන් හෝ කිරෙන් හෝ අලුත නගාගත් නොදැවූ වෙඬරු.
**නවමාලිකා**, සත්‍රී. සිනිද්ද, (ලතා ජතියක්).
**නවසූතිකා**,සත්‍රී. අලුතවැදූදෙන.
**නවාම්බර**, න. නොසේදූපිළි.
**නවීන**, ත්‍රි. අලුත්දෑ.
**නවෝද්ධෘත**, න. එදවස් මිදු දීයෙන් හෝ කිරෙන් හෝ අලුත නගාගත් නොදැවූ වෙඬරු "ලොණී" යනු ප්‍රාකෘත භාෂායි
**නව්‍ය**, ත්‍රි. අලුත්දෑ.
**නෂ්ට**,ත්‍රි (යුද්ධයෙන්)සැඟවීගියේ.
**නෂ්ටචෙෂ්ටතා**,සත්‍රී. සිහිමූලාබව.
**නෂ්ටාග්නි**, පු. ප්‍රමාදදීයෙන් නටුවාවූ වෛතානිකාග්නිය හෙවත් යාගගිනි ඇත්තේ.
**නසතින**, පු. නැහැලනුලූගොණා
**නස්‍යොත**,පු නැහැලනුලූ ගොණා
**නහි**, අව්‍ය අභාවය හෙවත් නොවීම.
**නාක**, පු. දෙව්ලොව, අහස.
**නාකු**, පු. තුඹස.
**නාකුලී**, සත්‍රී. රුත්ත, අරත්ත.
**නාග**, පු, ඇතා, නාගයා,නාරන්, නාකෙසරු,තපුර, නාගවල්ලී, මෙසමුසනක, කළුතුඹ, (කළුඊයම්) උත්තර පදයෙහි සිටිමේ නාගශබ්දය ශ්‍රෙෂ්ඨාර්‍ථවාචකයි.
**නාගකෙසර**,පු. නාකෙසුරු. මින් හස්තිපර්‍ය්‍යාය පූර්‍වවූ කෙසර ශබ්ද නාකෙසුරෙහි වැටෙතියි දතයුතු.
**නාගජිහ්විකා**, සත්‍රී. රක්(මනොසිල).
**නාගබලා**, සත්‍රී. කැලියගස.
**නාගර**, න. කෙසාටිය, සිද්දිහුරු, ත්‍රි. විදග්ධ, නුවර උපන්.
**නාගරඞ්ග**, පු. සීන්නාරන්ගස.
**නාගලොක**, පු. නාලොව.
**නාගවල්ලි**, සත්‍රී. බුලත්වැල.
**නාගසම්භව**, න. සිඳුරම්.
**නාගාන්තක**, පු. විෂ්ණුගේ වාහනය. (ගුරුළා)



**නාට්‍ය**, න. නාට්‍යය (නැටුම්, ගී, වැයුම්, තුන.)
**නාඩින්ධම**, පු. රන්කරු.
**නාඩී**, සත්‍රී. වායුවහවූ සුසිරවත්වූ නහර, තෘණාදීන්ගේ දඬ, නළය, ෂට්ක්ෂණය හෙවත් ඝටිකා කාලය.
**නාඩීව්‍රණ**; පු. නිතර වැගිරෙන වණය.
**නාථවත්**, ත්‍රි. අනුන් අයත්වූයේ.
**නාද**, පු. හඬ.
**නාදෙයී**, සත්‍රී. තිටිහිග; බලූදඹ, සීන්නාරන් ගස, (දියදඹයයි කියත්) දියහොමුගස.
**නානා**, අව්‍ය. අනෙකාර්‍ථ උභයාර්‍ථ වර්ජනාර්‍ථයන්හි වේ. "නානාවිධාජනාඃ" නොයෙක් ආකාර ජනයෝ යනාදි තන්හි අනෙකාර්‍ථයි "නානාවිධං න සජ්ජෙත" උභය විධියෙන් නොසැරසෙන්නේය යනාදි තන්හි උභයාර්‍ථයි."නානාසම්භූනා" ඊශ්වරයාගෙන් තොරයි
**නානාරූප**,ත්‍රි. ජන්වැදෑරුම්වූවා
**නාන්දිකර**, ත්‍රි. සතුතිවිශෙෂවාදී වූයේ
**නාන්දිවාදීන්**, ත්‍රි. සතුතිවිශෙෂවාදියා.
**නාපිත**, පු. කරනවැමියා.
**නාභි**, සත්‍රී රියනැබ. පු. ක්ෂත්‍රියයා, ප්‍රධානරජ.
**නාම**, අව්‍ය. ප්‍රාකාශ්‍ය හෙවත් ප්‍රසිඩිය, සම්භාවතාය, ක්‍රොධය, සංචෙශාභිකාරයයි කියනලද උපගමය, නින්‍දාය යනමෙහිවේ, "හිමාලයොනාම නගාධිරාජඃ" හිමාලයයි ප්‍රසිඩ පර්‍වතරාජයෙක්ය. යනාදියෙහි ප්‍රාකාශ්‍යයි. "භවිෂ්‍යති යුද්ධංනාම" කිසිසේත් යුද්ධයෙක් වන්නේය යනාදියෙහි සම්භාවතායි. "මම වෛරී රාවණොනාම පාපඃ" මාගේ වෛරීතෙමේ රාවණා නම් පාපතෙමේයි, යනාදියෙහි ක්‍රොධය "ශත්‍රොසකාශාත්ගෘහ්ණාති නාම" සතුරාවෙතින් ගන්නේමද යනාදීයෙහි වෙෂාභිකාරයයි කියනලද උපගමයයි.
**නාමධෙය**, න. නම.
**නාමන්**, න. නම.
**නායක**, ත්‍රි. සවාමියා
**නාරක**, පු. නිරය.
**නාරාච**, පු. ලොහමය ඊය.
**නාරාචි**, සත්‍රී. රන්කරුවන්ගේ තරාදිය"තරාජු"යනු මරාටියි.
**නාරායන**; පු. විෂ්ණු.
**නාරායණී**, සත්‍රී. ශතාවාරිය.
**නාරිකෙර**, පු. පොල්,නාරිකෙල නමුදු වේ.
**නාරී**, සත්‍රී. ගැහැණි.
**නාල**, න. තණ ආදියෙහි දඬ, ත්‍රි. පිදුරු ආදියේ දඬු. සත්‍රීලිඟයෙහි නාලා නාලී යන නාමයවේ..
**නාලා**: සත්‍රී. පියුම් ආදියේ දඬු.
**නාවික**, පු. නැවියා.
**නාව්‍ය**, ත්‍රි. නැවෙන් එතරවිය යුතු තැන.
**නාශ**, පු. මරණය.

**නාසත්‍ය**, පු. දෙව්වෙද්දු, විවුව නයි.

**නාසා**, ස්ත්‍රී උඩුකුඹුව. "වාරසන මෙහා පරිසපීතස්‍ය දාරුණඃ" යනු වචන බැවින් දොරේ ඉහල පිහිටි ලීකැබැල්ලට නමි. නාසය.

**නාසිකා**, ස්ත්‍රී නාසය.

**නාස්තිකතා**, ස්ත්‍රී. මිථ්‍යාදෘෂ්ටිය.

**නිඃකාන්ත**, ත්‍රි. නික්මවූයේ.

**නිඃශලාක**, පු. විජනස්ථානය.

**නිඃශේෂ**, ත්‍රි. නොඅඩුද.

**නිඃශෝධ්‍ය**, ත්‍රි. කිළිටිහළද.

**නිඃශ්‍රේණි (ණී)**, ස්ත්‍රී. දඬුහිණ.

**නිඃශ්‍රේයස**, න. නිර්වාණය.

**නිඃසම්ම්**, අව්‍ය. ගැරහිය යුතු දෙයෙහි "නිඃසමං වකතිමෙ මූර්ඛඃ" මොඩයා මට නොසමවූ පරිද්දෙන් හෝ නින්දිත දෙයක් හෝ කියයි යනාදි උදාහරණයි.

**නිඃසරණ**, න. ගෘහාදීන් ඉදිරිය.

**නිඃස්ව**, ත්‍රි. දිළිඳුවූයේ.

**නිකට**, ත්‍රි සමීපය.

**නිකර**; පු. සමූහය.

**නිකෂීණ**, න. නුවරාදියෙන් පිට ත ප්‍රදෙශය "සාමීචීන වාසස්ථානස්‍ය" යනු දක්නාලදහෙයින් මනා අය වසනතැනටනමි.

**නිකෂ**, පු. උරගල.

**නිකෂා**, අව්‍ය. සමීපය, මධ්‍යය යන අර්ථයි "නිකෂාගිරිසංගෙව ව" උමානොමෝ ඉසුරුවෙත යි යනාදි උදාහරණයි.

**නිකෂාත්මජ**, පු. රාක්ෂසයා.

**නිකාම**, න. කැමතිසේ යන අර්ථයි, ක්‍රියාවිශෙෂණයි.

**නිකාය**, පු. සධර්මීන්ගේ සමූහය.

**නිකාය්‍ය**, පු ගෙය.

**නිකාර**, පු අපකාරය, ධාන්‍යෝත්ක්ෂෙපය හෙවත් වී ආදිය හුලංකිරීම.

**නිකාරණ**, න. මැරවීම.

**නිකුඤ්චක**, පු කුඩබය හෙවත් පතෙන් සතරෙන්කොටස.

**නිකුඤ්ජ**, පු. න. ලතාදීන් හාත්පස වැසුනු ලෙන, පර්වතාදීන්ගේ ගැඹර.

**නිකුම්භ**, පු දත්තගස.

**නිකුරම්බ**, න. සමූහය.

**නිකෘත**, ත්‍රි. පරිභවකලේ, උපද්‍රවකොළේ, දුරුකොළේ, වචාකොළේ, නීචයා, කපටියා, වංක අදහස් ඇත්තා.

**නිකෘති**, ස්ත්‍රී. සටබව.

**නිකෘෂ්ට**, ත්‍රි. නින්දිතයා.

**නිකෙතන**, න. ගෙය.

**නිකොචක**, පු. රුකගුනුගස.

**නික්වණ**. පු. වීණා කින්නාරම් ආදියේ හඬ.

**නික්වාණ**, පු වීණා කින්නාරම් ආදියේ හඬ.

**නිඛර්ව**, පු. කෙළලක්ෂය.

**නිඛිල**, ත්‍රි. නොඅඩුද.

**නිගඩ**, පු. න. ඇතුන් බඳිනදම.

**නිගද**, පු. කීම.

**නිගම**, පු. වෙළඳම, නුවර, වෙදය.

**නිගාද**, පු. කීම.

**නිගාර**, පු. ගරණය එනම් අභ්‍යවහාරයයි (කෑමගිලීම).

**නිගාල**, පු. අසුන්ගේ ගෙල සමීපය.



**නිග්‍රහ**, පු. අනුග්‍රහකිරීම හෙවත් අහිතවැළකීම පෙරදැරිකොට ඇති හිතසැපසීම් සවරූපවූ යම් භාරගැණීමක්වේද එය නොකිරීමයි.

**නිඝ**, පු. උසහා විසාලත්වය සමව පවත්නා වෘක්ෂාදිය.

**නිඝස**, පු. අනුභවය.

**නිඝන**, ත්‍රි. අයත්මාත්‍රය හෙවත් අඝිතිකම.

**නිචුල**, පු. දියම්දෙල්ල ගස.

**නිචොල**, පු. වහන්තරුව හෙවත් වීණා ඒලාදිය වසන වස්ත්‍රය.

**නිජ**, ත්‍රි. ස්වකීය, නිත්‍යය.

**නිතම්බ**, පු. ස්ත්‍රීන්ගේ උකුල, පිට පස.

**නිතම්බිනී**, ස්ත්‍රී. මහත්වූ නිතම්බ ප්‍රදෙශය ඇති ස්ත්‍රී.

**නිතාන්ත**, න. අතිශයාර්ථයි, ද්‍රව්‍යවාචිවූයේ තුන්ලිඟුයි.

**නිත්‍ය**, ත්‍රි. සදාකාලිකද, න. නිරන්තරය.

**නිදාඝ**, පු. ග්‍රීෂ්මකාලය, ධාදිය.

**නිදාන**, න. මුල්කාරණය, රෙග හෙතුව.

**නිදිග්ධ**, ත්‍රි. රැස්කළද.

**නිදිග්ධිකා**, ස්ත්‍රී. කටුවැල්බටු.

**නිදෙශ**, පු. ආඥව.

**නිද්‍රා**, ස්ත්‍රී. නින්ද.

**නිද්‍රාණ**, ත්‍රි. නිදිගත්තේ.

**නිද්‍රාලු**, ත්‍රි. නිදනසුලුවූයේ.

**නිධන**, පු. න. වංශය, මරණය;

**නිධි**, පු. "පද්මොස්ත්‍රියාං මහාපද්මඃ ශඞ්ඛොමකර කච්ඡපෞ මුකුන්ද කුන්ද නීලාශ්ච ඛර්වශ්ච නිධයොනව"යි කියනලද පද්මය, මහාපද්මය, ශංඛය, මකරය, කච්ඡපය, මුකුන්දය, කුන්දය, නීලය, ඛර්වයයි නවවිධවූ නිදන්.

**නිධුවන**, න. මෛථුනය.

**නිධ්‍යා**, න. බැලීම.

**නිනද**, පු. හඬ.

**නිනාද**, පු. හඬ.

**නින්දා**, ස්ත්‍රී. නුගුණකීම.

**නිවාප**, පු. න. මළපියන් උදෙසා දෙන දානය

**නිපඨ**, පු. හැදෑරීම.

**නිපාඨ**, හැදෑරීම.

**නිපාතන**, න. පාතවැටීම.

**නිපාන**; න. "කූපසමීපෙ යොජලාශයඃ කූපොඩෘතාම්බුස්ථාපනීය ශිලාදිරචිතො ගර්තඃ යත්‍රත්‍යං ජලං සුඛෙන ගොමහිෂාදයඃ පිබන්ති" යනු වචන හෙයින් අනායාසයෙන් ගවාදීන් පැන් බොනසේ ළිඳෙන් නැගූ දිය රඳාසිටීමට ළිඳ සමීපයේ ගල් ආදියෙන්කළවළ, ළිඳ.

**නිපුණ**, ත්‍රි. ක්‍රියායෙහි දක්ෂයා .

**නිබන්ධ**, පු. මලමූත්‍රබඩය.

**නිබන්ධන**,න. තැනබඳින ඇණය

**නිබර්හණ**, න. මැරවීම.

**නිභ**, ත්‍රි. උත්තරපදයෙහිවූ මේ පදය සමානතා කියයි (ත් මෙසේයි. "පද්මනිභම්" යන මෙහි පද්ම යනු පූර්වපදයි, නිභ යනු උත්තරපදයි එහෙයින් පද්මයක් සමානයයනු කියයි.

**නිභෘත**, ත්‍රි. නික්මුනු අය.

**නිමිත්ත**, න. හෙතුව, ලකුණ.

**නිම්න**, ත්‍රි. ගැඹුරුද්ද.
**නිම්නගා**, ත්‍රි. නදිය.
**නිම්බ**, පු. කොසඹගස.
**නිම්බතරු**, පු. එරබදුගස.
**නියති**, ස්ත්‍රී. පුරාකෘත කුශලය.
**නියන්තෘ**, පු. රියැදුරා, හික්මවන්නා.
**නියම**, පු. නිත්‍යයෙන් නොකොට ආගන්තුකවශයෙන් හෙවත් පැමිණිකල් වශයෙන් කරණ උපවාසාදි ව්‍රතය, පොරොන්දුව, ගිවිසුම.
**නියාමක**, පු. නියමුවා. (ඔරුපදින්නා) "නියාමකඃ පොතවාහෙකර්ණධාරෙ නියන්තරි" යනු කොශාන්තර හෙයින්, නැව් වෙළඳය, කැවිය, රියැදුරුයයන මොවුන් කෙරෙහිද වේ.
**නියුත**, න. දශලක්ෂ සංඛ්‍යාව
**නියුධ**, න. මල්ලයුධය.
**නියොජ්‍ය**, පු. ගැත්තා (දාසයා).
**නිර්**, අව්‍ය. නිශ්චය, නිෂේධය, යනමෙහි වේ. "නිරුක්තම්" නිශ්චයෙන් කියනලද යනාදියෙහි නිශ්චයයි "නිර්ධනො රාජා" රජතෙමේ දිළිඳුයි යනාදියෙහි නිෂේධයි.
**නිරන්තර**, ත්‍රි. ඝනද්ද.
**නිරය**, පු. නරකය.
**නිරර්ගල** ත්‍රි. අනිවාරිතද්ද.
**නිරර්ථක**, ත්‍රි. ව්‍යර්ථද්ද.
**නිරවග්‍රහ**, ස්ත්‍රී. ස්වප්‍රධානවූයේ හෙවත් අනුන් අයත්නුවූයේ.
**නිරසන**, න. බැහැරලිම.
**නිරස්ත**, ත්‍රි. සුහුව බණන තෙපුල්, නිරාකෘතවූයේ හෙවත් බැහැරකළේ.

**නිරාකරිෂ්ණු**, ත්‍රි දුරුකරනසුලුවූයේ.
**නිරාකෘත**, ත්‍රි. බැහැරකළේ.
**නිරාකෘති**, ස්ත්‍රී. බැහැරලීම. පු. වෙදාධ්‍යයන රහිතවූයේ.
**නිරාමය**, ත්‍රි. නිරොගියා.
**නිරීෂ** (ශ), න. නඟුල්පෝරුව හෝ, හීව ල.
**නිර්ඍති**, ස්ත්‍රී කාලකන්නිය, "නිශීතාඃ සෘතිශ්‍රීණාය ස්‍යාඃ" යනු නිඝවචන හෙයින් ඉක්මගියාවූ කරුණාතොමෝ යමක්හටද ඕතොමෝ නිර්ඍතිනම්.
**නිර්ගුණ්ඩී**, ස්ත්‍රී. කලුමල්ශෙඵාලිකා(කළුතලායයිදකියත්) නිකගස, මෙහි නිර්ගුණ්ඩීයිකියාදවේ.
**නිර්ග්‍රන්ථන**, න. මැරවීම.
**නිර්ඝොෂ**, පු. හඬ.
**නිර්ජර**, පු. දෙවියෝ.
**නිර්ඣර**, පු ඇල්ල.
**නිර්ණය**, පු නිශ්චය.
**නිර්ණේජක**, ත්‍රි. කිළිටිහළද්ද, පු. රදවා.
**නිර්දෙශ**, පු. ආඥාව, පු.
**නිර්භර**, න අතිශය(ද්‍රව්‍යවාචිකල තුන්ලිඟුයි).
**නිර්මද**, පු. නිගීලිත මදඇතිඇතා.
**නිර්මුක්ත**, පු. අලුත සැවගැලෙව් සර්පයා.
**නිර්මොක**, පු. සර්පසැවය.
**නිර්යාණ**, න ඇතුන්ගේ නෙත්‍රාන්තය.
**නිර්යාතන**, න. පළිගැන්ම, දීම, තුබූද්ද පෙරළාදීම.



**නිර්යූහ**, පු. දොර, ශෙඛරය, කෂාය, නාගදන්තකය හෙවත් ආලම්බනය පිණිස ගෙහාදිභිත්තියෙන් නික්මුනු දඬු.
**නිර්වපණ**, න. දානය.
**නිර්වර්ණ**, න. බැලීම.
**නිර්වහණ**, න. මුඛ, ප්‍රතිමුඛ, ගර්භ, අවමර්ශ, නිර්වහණ, යනමේ නාටක සන්ධි අතුරෙන් නිර්වහණනම් පස්වන සන්ධිය නාට්‍යාකෘතියෙහි පටන්ගත් කථාවේ නිමාවයයිද කියත්.
**නිර්වාණ**, න. නිර්වාණය, මුනි, ගිනි, හස්ති ආදියෙහිද වැටේ. ඒ මෙසේයි. "නිර්වාණො මුනිඃ" කීකල මුනිතෙම ජන්මච්ඡේදකරණයෙන් මිදුනේය යන අර්ථයි, "නිර්වාණොවහ්නිඃ" කීකල ගින්න තෙමේ නිවුනේය යන අර්ථයි, "නිර්වාණො හස්තිඃ" කීකල, ඇත්තෙම ගැලීන යන අර්ථයි. එහෙයින් කීහ. "නිර්වාණමස්තංගමනෙ නිර්වෘතොන ගජගමනෙ"යි.
**නිර්වාත**, ත්‍රි. හැමූපවන්.
**නිර්වාද**, පු. නුගුණකීම; ලොකාපවාද, පරිනිශ්චිත වාද.
**නිර්වාපණ**: න. මැරවීම,
**නිර්වෘඩී**, ත්‍රි. සත්වගුණ සම්පත් ඇත්තා.
**නිර්වාසන**, න. මැරවීම.
**නිර්වෘත්ත**, ත්‍රි. නිෂ්පත්තියට ගියද්ද.
**නිර්වේශ**, පු. වැටුප්, උපභොග, එනම් අන්නපානාදි අනුභව කරණද්ද, භුක්ත.
**නිර්ව්‍යථන**, න. බිලය (සිදුර).

**නිර්ව්‍යූඪ**, ත්‍රි. දුරුකළද්ද, නොළත්ද්ද.
**නිර්හාර**, පු. ශල්‍යාදිය ඉදිරීම.
**නිර්හාරින්**, පු. දුර විහිදෙනසුවඳ.
**නිර්හ්‍රාද**, පු. හඬ.
**නිලය**, පු. ගෙය.
**නිවහ**, පු. සමූහය.
**නිවර්හණ**, න. මැරවීම.
**නිවාත**, පු. නිවාසස්ථානය, ශස්ත්‍රයෙන් නොබිඳියහැකි කවචය, ත්‍රි. වාරහිත තැන.
**නිවාප**, පු. මළපියන් පිණිස, ජලාඤ්ජලි සවර්ණාදි දානය.
**නිවීත**, න. ගෙලෙහිලූ යාගනූලය, ත්‍රි. පෙරවාගත් පිළී.
**නිවෘත**, ත්‍රි. අගල් ආදියෙන් වටකළද්ද.
**නිවෙශ**, පු. ශෙනාවවසනතැන.
**නිවාස**, පු. ගෘහය.
**නිශා**, ස්ත්‍රී. රාත්‍රිය, කහ.
**නිශාන්ත**, න. ගෙය.
**නිශාපති**, පු. චන්ද්‍රයා.
**නිශාඛ්‍යා**, ස්ත්‍රී. කහ.
**නිශාරණ**, න. මැරවීම.
**නිශිත**, ත්‍රි. සණගල් ආදියේ ගාමුවහත්තැබූ සැත්ආදිය.
**නිශීථ**, පු. මධ්‍යමරාත්‍රිය.
**නිශීථිනී**, ස්ත්‍රී. රාත්‍රිය.
**නිශ්චය**, පු. නිශ්චය.
**නිශ්‍රේණි**, ස්ත්‍රී. දඬුහිණ.
**නිෂඞ්ග**, පු. හියවුර.
**නිෂඞ්ගින්**, ත්‍රි. දුනුවායා.
**නිෂද්‍යා**, ස්ත්‍රී. සල්පිල.
**නිෂද්වර**, පු. මඩ.
**නිෂධ**, පු. හරිවර්ෂයට ඉම්වූ එනම් පර්වතභෙදය, දඹදිව නවවර්ෂයන් අතුරෙන් භාරතවර්ෂයයිද කියත්.

**නිෂාද**, පු. තැතින් හෝ බොටු වෙන්හෝ නැඟාවූ එනම්සවර විශෙෂය, බොටුවෙන්වූකලී "නිෂාදං රෞති කුඤ්ජරඃ" යනු කියෙන් නිෂාදය හස්තිතෙම ශබ්දකෙරෙයි, පු. චඬාලයා.

**නිෂාදින්**, පු. ඇත්ගොව්වා.

**නිෂූදන**, න. මැරවීම.

**නිෂ්ක**, පු. න. මාෂක සොළස කින් ප්‍රමාණකරණලද අටතු රාසියක් රන්, උරොභූෂණය, (ළෙහි පළඳනා ආභරණය) රන්පලම, දෙතිස්හුතිඳක් බර දිනාරය (රන්පවුම).

**නිෂ්කලා**, ස්ත්‍රී. පස්පණස් හැවිරිද්දෙන් මත්තෙහි සිටි ඔසප් කල්ගතවූ ස්ත්‍රී.

**නිෂ්කාසිත**, ත්‍රි. දුරුකරනලද්දේ.

**නිෂ්කුට**, පු. ගෘහ සමීපයෙහි කොට ගත් වනය.

**නිෂ්කුටි (ටී)**, ස්ත්‍රී. එල්(න්)සාල්.

**නිෂ්කුහ**, පු. රුක් සිදුර.

**නිෂ්ක්‍රම**, පු. බුද්ධිබලය.

**නිෂ්ඨා**, ස්ත්‍රී. නිෂ්පත්තිය, අදර්ශනය, අනතය, මුඛ, ප්‍රතිමුඛ, ගර්භ, අවර්ශ, නිර්වහණයයි නාටකයෙහි සන්ධිපස අතුරෙන් පස්වන සන්ධිය, නාට්‍යොක්තියෙහි පටන්ගත් කථාවේ නිමාව යයිද කියත්.

**නිෂ්ඨාන**, න. දි ආදි ව්‍යඤ්ජන, ප්‍රාකෘත භාෂාවෙන් මිට කටි යයි ව්‍යවහාරයි.

**නිෂ්ඨීවන**, පු. න. කාරාදමීම.

**නිෂ්ඨුර**, ත්‍රි. සැඩබස්, රළුද.

**නිෂ්ඨ්‍යූත**, ත්‍රි. කාරාදමීම.

**නිෂ්ඨේව**, පු. න. කාරාදමීම.

**නිෂ්ඨ්‍යූත**, ත්‍රි. ප්‍රෙරිතද (මෙහෙයුද) බැහැරලූද.

**නිෂ්ණාත** ත්‍රි. ක්‍රියායෙහි දක්ෂයා

**නිෂ්පක්ව**, ත්‍රි. කකාරණලදද.

**නිෂ්පන්න**, ත්‍රි නිපන්ද.

**නිෂ්පාව**, පු. වීආදිය සුඹකෙරීම.

**නිෂ්ප්‍රභ**, ත්‍රි. කැලුම්රහිතය.

**නිෂ්ප්‍රවාණි**, ත්‍රි. අලුත්පිළි.

**නිසර්ග**, පු. සවභාවය, හළද.

**නිසෘෂ්ට**, ත්‍රි. නික්ෂිප්තද.

**නිස්තල**, ත්‍රි වටද

**නිස්තර්හණ**, න. මැරවීම.

**නිස්ත්‍රිංශ**, පු. කඩුව.

**නිස්‍රාව**, පු. බතින්කරණලද මඩය, (බතින්පෙරූ කැඳ).

**නිස්වන**, පු. හඬ.

**නිස්වාන**, පු. හඬ.

**නිහනන**, න. මැරවීම.

**නිහීන**, පු. නීචයා.

**නිහ්නව**, පු. අවිසවාසය, වළහා බිණීම, සටබව.

**නීකාශ**, ත්‍රි. උත්තරපදයෙහි සිටි මේ පදය සමානතා කියයි.

**නීච**, ත්‍රි. කුරු හෝ මිටිද, පු. නීචයා.

**නීචෛස්**, අව්‍ය. අල්පාර්ථයි, "නීචාරා ඉව දෘශ්‍යන්තෙ නීචෛඃ ප්‍රත්‍යර්පිනස්තව" ඔබගේ සතුරෝ මෘදු තෘණසෙයින් මිටිව පෙණෙත්. යනාදි උදාහරණයි.

**නීඩ**, පු. න. පක්ෂීන්ගේ කැදැල්ල.

**නීඩොද්භව**, පු. පක්ෂියා.



**නීධ්‍ර**, න. පියසිකෙළ.

**නීප**, පු. බක්මිගස.

**නීර**, න. ජලය.

**නීල**, පු. එනම් නිධි විශෙෂය, කළුපැහැ, ඉන්යුත්දෙයෙහි, ත්‍රි

**නීලකණ්ඨ**, පු. ඊශ්වරයා, මොනරා.

**නීල(ලා)ඞ්ගු**, පු. ඉතාකුඩා ප්‍රාණි

**නීලලොහිත**, පු. ඊශ්වරයා.

**නීලාම්බර**. පු. බලභද්‍රයා.

**නීලාම්බුජන්මන්**, න. නිලුපුල්.

**නීලිකා**, ස්ත්‍රී. කළුමල් ශෙඵාලිකා, (කළු තලායයි කියත්).

**නීලිනී**, ස්ත්‍රී. කළු තිරස්සවාලු.

**නීලී**, ස්ත්‍රී. බේරුගස, (අවරිය.)

**නීවාක**, පු. ධනධාන්‍යාදියෙහි මනුෂ්‍යයන්ගේ ආදරාතිශය.

**නීවාර**, පු. ශ්‍යාමාකාදිවූ තෘණධාන්‍ය, (ශ්‍යාමාකනම් බොඩහමුයි).

**නීවී (වි)**, ස්ත්‍රී. ගැහැණුන් ඉඟ බැඳි වස්ත්‍රය, වෙළඳුන්ගේ මුල් මුදල.

**නීවෘත්**, ස්ත්‍රී. ජනපදය, දෙශය.

**නීශාර**, පු. හිමවාවළකන වස්ත්‍රාදි පොරෝණය, මතුඅඳනාවස්ත්‍රය.

**නීහාර**, පු. පිනි.

**නු**, අව්‍ය. පෘච්ඡා, විකල්ප යන මෙහි වේ. "කොනුධාවති" කවරෙක් දිවේද? යනාදියෙහි පෘච්ඡාර්ථයි "අයං හිමොනු ධූමෝනු" මේතෙමේ හිමයාද්‍යෝ ධූමයාද්‍යෝ යනාදියෙහිවිකල්පාර්ථයි.

**නුති**, ස්ත්‍රී. ස්තුතිය.

**නුන්න**, ත්‍රි. ප්‍රෙරිත (මෙහෙයූද).

**නුත්ත**, ත්‍රි. ප්‍රෙරිත (මෙහෙයූ)ද.

**නූතන**, ත්‍රි. අලුත්ද.

**නූ(නු)ද**, පු. අශ්වත්ථාකාරවූ බ්‍රහ්ම දරු වෘක්ෂය.

**නූනම්**, අව්‍ය. තර්කය, නිශ්චය යනමෙහි වේ. "නූනං අයං අතියජ්වානාං ප්‍රියඃ" මේතෙමේ අතියාගකරන්නවුන්ගේ ප්‍රියයෙක් නොවේද්‍යෝ යනාදියෙහි තර්කයි "නූනං අයං අහිමාංශුඃ අසෞකිල උෂ්ණකිරණඃ" නිශ්චයෙන් මේතෙමේ චන්ද්‍රයා නොවේ, උෂ්ණකිරණයාල හෙවත් සූර්යයාල. යනාදියෙහි නිශ්චයයි.

**නූපුර**, පු. ගැහැණුන් පාසලඹ.

**නෘ**, පු. පිරිමියා.

**නෘත්‍ය**, න. නැටුම්.

**නෘප**, පු ජනපද පුරපාලනාධිකෘතවූ රජදරුවන්ටද, තත් කාර්‍ය්‍යකාරීවූ රජදරුවන්ගෙන් පිටත් සෙස්සන්ටද නමි.

**නෘපලක්ෂ්මන්**. න. රාජඡත්‍රය.

**නෘපසංඝ**, න. රාජසමූහය.

**නෘපාසන**, න. රජුන් අස්න.

**නෘයඥ**, පු. "අධ්‍යයනං බ්‍රහ්මයඥඃ පිතෘයඥස්තු තර්පණම් හොමොදෛවො බලිර්භෞතො නෘයඥොතිථිපූජනම්" යිකියනලද මේ පස්මහා යාගඅතුරෙන් ආගන්තුකයන්ට කරණපිදීම.

**නෘශංස**, ත්‍රි අනුන් කෙරෙහි ද්‍රොහකරන්නා.

**නෙතෘ**, ත්‍රි. සවාමියා

**නෙත්‍ර**, න. ඇස, රුක්මුල, දුහුල් පටවස්ත්‍ර.

**නෙත්‍රාම්බු**, න. කඳුළු.

**නෙදිෂ්ඨ**, ත්‍රි. ඉතා සමීපද.
**නෙපථ්‍ය**, න. පහයනටතම් හෙවත් සවර්ණාභරණාදියෙන් කරණලද ශොභාව හෝ සැරසීම.

**නෙමි (මී)**, පු. කොඹුගස.
**නෙමි**, ස්ත්‍රී. නිම්වලල්ල.
**නෛකභෙද**, ත්‍රි. බහුප්‍රකාරද.
**නෛගම**, පු. වෙළෙන්ද, වෙළඳුම, නුවරවැස්සා.

**නෛචිකී**, ස්ත්‍රී. උතුම්දෙන,(ශුභලක්ෂණ සම්පන්නවූ බොහෝ කිරි ඇති දෙනයි) නිචකී කියාදවේ.

**නෛස්ත්‍රිංශක**, ත්‍රි. කඩුව ආයුධකොට ඇත්තා.
**නෛපාලී**, ස්ත්‍රී. නෙපාලදෙශයෙහි උපන් රක් (මනෝසිල)
**නෛමෙය**, පු. ද්‍රව්‍යාදියෙන් ද්‍රව්‍යාදිය පෙරළාගැන්ම හෙවත් මාරුකිරීම.

**නෛයග්‍රොධ**, න. නුගඵල.
**නෛර්ඍත**, පු. නිරිතකොණට අධිපතියා, රාක්ෂසයා.
**නෛෂ්කික**, පු. කොෂාධ්‍යක්ෂකයා, හෙවත් මුදල්නායකයා.

**නො**, අව්‍ය. අභාවයෙහි.
**නෞ**, ස්ත්‍රී. නැව.
**නෞකාදණ්ඩ**, පු. නැව් සුභාඩම.
**න්‍යක්ෂ**, ත්‍රි. සියල්ල, දිළිඳු හෝ අධම.

**න්‍යග්‍රොධ**, ත්‍රි. බඹය, නුගරුක.
**න්‍යග්‍රොධී**, ස්ත්‍රී මීනුග.
**න්‍යච**, ත්‍රි. කුරු හෝ කොටද.
**න්‍යඞ්කු**, පු. එනම් මෘගයා.
**න්‍යශන**, ත්‍රි. නික්ෂිප්තද.

**න්‍යාද**, පු. අනුභවය.
**න්‍යාය**, පු. සුදුසුදෙය.
**න්‍යාය්‍ය**, ත්‍රි. සුදුස්සෙන් තොර නොවූ දේ.
**න්‍යාස**, පු. අනුන් කෙරෙහි රක්ෂා කරණු පිණිස තගානැබූ වස්තුව හෙවත් උකස.
**න්‍යුඩබ**, ත්‍රි. මනොහරද, ඉතා ප්‍රියද.
**න්‍යුබ්ජ**, ත්‍රි. ලෙඩින් කුදුගැසුනු අය.
**න්‍යූන**, ත්‍රි. අඩු, නින්දිත.

## ප.

**පකණ**, පු. වැදිගම.
**පක්ව**, ත්‍රි. විනාශය බලාගියද, මුකළද.

**පක්ෂ**, පු. අධමයා, ශරපක්ෂය, එනම් ඊයේ මුලබැඳි පත්‍රයයි, යහලු, පාර්ශ්වය, ගෘහය, කෙශාදි ශබ්දයන්කෙරෙන් පරවූයේ සමූහාර්ථයි, කොශපක්ෂ යනාදියෙහි මෙනි, බල, පක්ෂි, වලය, සමූහය, දෙහාර්ධය, ලිපේ සිදුර, පක්ෂි පත්‍රය.

**පක්ෂක**, පු. පගාදෙර, එනම් පාර්ශ්වද්වාරයයි.

**පක්ෂති**, ස්ත්‍රී. පක්ෂීන්ගේ පියාමුල, පැලවිය

**පක්ෂද්වාර**, න. පාර්ශ්වද්වාරය,(පගාදෙර).

**පක්ෂභාග**, පු. ඇතුන්ගේ ඇලය.
**පක්ෂාන්ත**, පු පුර අව දෙපස ලොස්වක.



**පක්ෂින්**, පු. පක්ෂියා.
**පක්ෂිණී**, ස්ත්‍රී. පූර්වාපර දිනවයෙන් යුත්දේ.

**පක්ෂ්මන්**, න. ඇසලොම්, මල් රේණු, හූ ආදී කුඩා අවයව හෙවත් හූ ආදියෙහි කෙඳි.

**පග්‍රහ**, පු. දගගෙඹිලු අය, (හිරගෙඹිලු අය).

**පඞ්ක**, පු. න. මඩ, පාපය.
**පඞ්කිල**, ත්‍රි. මඩසහිත දෙශය.
**පඞ්කෙරුහ**, පු. න. පියුම්.
**පඞ්ක්ති**, ස්ත්‍රී. දසකුරකින් යුත් පාද ඇති ඡන්දස, පෙළ, තුරු පෙළ.

**පඞ්ගු**, ත්‍රි. පිළා.
**පචම්පචා**, ස්ත්‍රී. වණුවැල්.
**පචා**, ස්ත්‍රී. පිසීම.
**පඤ්චජන**, පු. පිරිමියා.
**පඤ්චතා**, ස්ත්‍රී. මරණය.
**පඤ්චදශී**, ස්ත්‍රී. දෙපසලොස්වක්
**පඤ්චනඛ**, පු. සිංහයා.
**පඤ්චම**, පු. නැතින් හෝ බොටුවෙන්හෝ නැගාවූ එනම් සවරවිශෙෂය, මෙය බොටුවෙන්වූකලි "පුෂ්පසාධාරණෙ කාලෙ කොකිලො රෞති පඤ්චමම්" යනුවචන හෙයින් වසන්තකාලයෙහි කොවුල්තෙම හඬයි.

**පඤ්චශර**, පු. අනඞ්ගයා.
**පඤ්චශාඛ**, පු. අත්ල.
**පඤ්චාඞ්ගුල**, පු. එරඬුගස.
**පඤ්චාස්‍ය**, පු සිංහයා.
**පට**, පු. පියල් (කිරිපලු) රුක. පු. න. හොබනා පිළි.
**පටච්චර**, න. මාලුපිළි.

**පටල**, න. පියස්ස, ඇස්රෝග, ස්ත්‍රී. සමූහය.
**පටවාසක**, පු. වසත්‍ර සුවඳකැවීමට කළ සුවඳ සුණු.
**පටහ**, පු. සංග්‍රාමයෙහි පටධවනිය, එනම් ඩැක්කිහඬ.

**පට්ටිකාඛ්‍ය**, පු. රත්ලොත්.
**පට්ටින්**, පු. රත්ලොත්.
**පටු**, පු. දක්ෂයා, දුම්මැල්ල, ත්‍රි. අනලසයා,නිරෝගියා,දක්ෂයා.
**පටුපර්ණී**, ස්ත්‍රී. සවර්ණයටබඳු ඡවිඇති රන්වන්වූ කිරි ඇති නාගජිව්හයටබඳු ආකාරඇති සවර්ණක්ෂීරිනම් ගස (ගොනටු).
**පටොල**, පු දුම්මැල්ල.
**පටොලිකා**, ස්ත්‍රී. පතෝල.
**පට්ට**, න. නුවර, සතරමන් සන්ධිය.

**පට්ටිකා**, ස්ත්‍රී. ලොත්.
**පණ**, පු. වැටුප්, (කුලිය) තඹෙන් කළ මස්ස, මුදල්,විකිණියයුතු ද්‍රව්‍යය,ධනය,තුව්වූසතර,දූකෙළිය, පරදුනැඹූද,(දූකෙළියෙහි පැරදගියකල දෙනදෙය).

**පණව**, පු. පණාබෙරය.
**පණායිත**,ත්‍රි.සතුතිකරණලද්දේ.
**පණිත**, ත්‍රි. සතුතිකරණලද්දේ.
**පණිතව්‍ය**, ත්‍රි විකිණියයුතුද.
**පණ්ඩ**, පු. නපුංසකයා.
**පණ්ඩිත**, පු. පණ්ඩිතයා.
**පණ්‍ය**, ත්‍රි. විකිණියයුතු බඩු.
**පණ්‍යවීථිකා**, ස්ත්‍රී සල්පිල්පෙළ.
**පණ්‍යා**, ස්ත්‍රී. දුදුගස.
**පණ්‍යාජීව**, පු. වෙළෙන්ද.
**පතඞ්ග**, පු. පක්ෂියා.

**පතඞ්ග**, පු. පලගැටියා, පක්ෂියා, සූර්යයා.

**පතඞ්ගිකා**, ස්ත්‍රී. කණවේ මීමැස්සා.

**පතන්**, පු. පක්ෂියා.

**පතත්‍ර**, න. පක්ෂීන්ගේ පියාපත්.

**පතත්‍රි**, පු. පක්ෂියා.

**පතත්‍රින්**, න. පක්ෂියා.

**පතද්ග්‍රහ**, පු. එටලතු ගොටුව හෝ කෙලගොටුව(පඩික්කම)

**පතයාලු**, ත්‍රි. වැටෙනසුලුවූයේ.

**පතාකා**, ස්ත්‍රී. පතාකය, එනම් ත්‍රිකෝණාකාරවූවස්ත්‍රඛණ්ඩය.

**පතාකින්**, ත්‍රි. කොඩිගත්තේ,

**පති**, පු. ස්වාමියා.

**පතිවත්නී**, ස්ත්‍රී. සැමිපුත් ඇත්තී.

**පතිංවරා**, ස්ත්‍රී. සෙවච්ඡාවෙන් පත්‍යන්වේෂණය කරන්නාවූ කන්‍යා ස්ත්‍රී.

**පතිව්‍රතා**, ස්ත්‍රී. පතිව්‍රතා ස්ත්‍රී.

**පත්තන (ටට)**, න. පුරය.

**පත්ති**, ස්ත්‍රී. ගමන, පාබලසෙන් එනම් එක් ඇතෙකුහා එක් රථයක්ද අසුන් තුන්දෙනෙකු හා පදිකයන් පස්දෙනෙකු ඇති සෙනාව.

**පත්තිසංහති**, ස්ත්‍රී. පාබලසෙන් සමූහය.

**පත්නී**, ස්ත්‍රී. භාර්යාව.

**පත්‍ර**, න. ඇත අස් ආදි සියලු වාහන, පක්ෂීන්ගේ පියාපත්, පත්‍රය.

**පත්‍රරථ**, පු. පක්ෂියා.

**පත්‍රපරශු**, පු. ලොහෝ කපන කටුව.

**පත්‍රපාශ්‍යා**, ස්ත්‍රී. නලල්පට.

**පත්‍රරථ**, පු. පක්ෂියා.

**පත්‍රලේඛා**, ස්ත්‍රී ගැහැණුන්තන කොපුල් ආදියෙහි කස්තුරීආදි යෙන්කළ තිලක විශෙෂයෙක්

**පත්‍රාඞ්ග**, න. රත්සඳුන් ,පතඟි.

**පත්‍රාඞ්ගුලි**, ස්ත්‍රී. ගැහැණුන් තන කොපුල් ආදියෙහි කස්තුරි ආදියෙන්කළ ඉරිගැසීම හෙවත් තිලක විශෙෂයෙක්.

**පත්‍රින්**, පු. ඊතලය, පක්ෂියා, ඊදඬු.

**පත්‍රෝර්ණ**, පු. තොටිලගස, න. සේදු කෞශෙයවස්ත්‍ර.

**පථික**, පු. මගියා.

**පථින්**, පු. මග.

**පථ්‍යා**, ස්ත්‍රී. අරලු.

**පද්**, පු. රශ්මිය.

**පද**, න. උත්සාහය, රැකීම, ස්ථාන, ව්‍යජන, පියවර, වස්තු.

**පදග**, පු. පාබලසෙනාව.

**පදවි (වී)**, ස්ත්‍රී. මග.

**පදාජි**, පු. පාබල සෙන්.

**පදාති**, පු පාබල සෙනාව.

**පදාතික**, පු. පාබල සෙනාව.

**පදික**, පු. පාබල සෙනාව.

**පද්ගි**, පු. පාබල සෙනාව.

**පද්ධති (තී)**, ස්ත්‍රී. ගම.

**පද්ම**, පු.න. එනම් නිධිවිශෙෂය.

**පද්මක**, න. ඇතුන්ගේ මූබාදී යෙහිවූ බින්දුසමූහය.

**පද්මචාරිණී**, ස්ත්‍රී. උත්තරදෙශයෙහිවන්නාවූ එනම්ගස, "ස්ථල පද්මිනී ඉතිඛ්‍යාතායාඃ" ය නුක්යෙන් ගොඩපියුමැයි ප්‍රසිඩ ද්‍රව්‍යය,(මැනික්වැන්නයයිද කියත්).



**පද්මනාභ**, පු. විෂ්ණු.

**පද්මපත්‍ර**, න. පොකුරු මූල "පුෂ්කර ඖෂධී විශෙෂස්‍යමූලෙ" පුෂ්කරනම් ඖෂධවිශෙෂයකී එහි මූලටනම්.

**පද්මා**, ස්ත්‍රී. උත්තරදෙශයෙහි වන්නාවූ පද්මචාරිණීනම් ගස, "ස්ථලපද්මිනී ඉතිඛ්‍යාතායාඃ යනුකියෙන් ගොඩපියුමැයි ප්‍රසිඞවූ ද්‍රව්‍යය (මැණික්වැන්න යයිද කියත්) දුමුඩු (දත් දෙවි සුදු) ශ්‍රීකාන්තාව.

**පද්මාකර**, පු. ගැඹුරුවූ පියුම්විල.

**පද්මාට**, පු. තුවරගස (පෙති තෝර).

**පද්මාලයා**, ශ්‍රීකාන්තා.

**පද්මින්**, පු. ඇතා.

**පද්මිනී**, ස්ත්‍රී. නෙලුම්විල.

**පද්‍ය**, න. "පද්‍යං චතුෂ්පදී තච්ච වෘත්තං ජාතිරිතිද්විධා" යිකියනලද කාව්‍යභෙදය, පු. ශුද්‍රයා.

**පද්‍යා**, ස්ත්‍රී. මග.

**පනස**, පු. කොස්ගස.

**පනායිකා**, ත්‍රි. සතුතිකෙළේ,

**පනිත**, ත්‍රි. සතුතිකෙළේ.

**පන්න**, ත්‍රි. ගිලිහුනුදෑ.

**පන්නග**, පු. සර්පයා.

**පන්නගාශන**, පු. ගුරුළා.

**පයස්**, න. කිරි, ජලය.

**පයස්‍ය**, න. ක්ෂීරවිකාරය, එනම් ගිතෙල් දී ආදියයි.

**පයෝධර**, පු. තනය, වලාකුල්.

**පර**, පු. සතුරා

**පරජන**, පු. අනුන් විසින් රක්නා ලද අය.

**පරතන්ත්‍ර**, ත්‍රි. අනුන් අයත්වූයේ.

**පරපිණ්ඩාද**, ත්‍රි. අනුන් බත්කා වැඩුනේ.

**පරභෘත්**, පු. කවුඩා.

**පරභෘත**, පු. කොවුලා.

**පරමම්**, අව්‍ය. පිළිගැන්මෙහි "පරමමිත්‍යුක්තවා" මැනවැයි කියා යනාදි උදාහරණයි.

**පරමාන්න**, න. කිරිබත්.

**පරමෙෂ්ඨින්**, පු. බ්‍රහ්මයා.

**පරම්පරාක**, න. යාග පිණිස පසු ඝාතනය.

**පරවත්**, ත්‍රි. අනුන්අයත්වූයේ.

**පරශු**, පු. පොරොව.

**පරශ්වධ**, පු. පොරොව.

**පරශ්වස්**, අව්‍ය. අනිද්දා.

**පරශශක**, ත්‍රි. සියයකින් වැඩිදෑ, පරඃ සහශ්‍රයනාදියද මෙසේයි.

**පරාක්‍රම**, පු. සූරබව, වැයම, ශක්තිය.

**පරාග**, පු. මල්රේණු, නාන සුව ඳසුණු, ධූලි, රතික්‍රීඩාවෙන්වූ විඩාසංසිඳීමපිණිස කාමශාස්ත්‍රයෙහි කියනලද කපුරු ආදි චූර්ණය.

**පරාඞ්මුඛ**, ත්‍රි. පරාම්මුඛවූයේ හෙමත් මූණ ඉවත්කරන්නා.

**පරාචිත**, ත්‍රි. අනුන්විසින් මඩනා ලද අය.

**පරාචීන**, ත්‍රි පරාම්මුඛවූයේ හෙවත් මූන ඉවත්කරන්නා.

**පරාජය**, පු. පැරදීම.

**පරාජිත**, ත්‍රි. පරදනාලද්දේ.

**පරාධීන**, ත්‍රි. අනුන් අයත්වූයේ.

**පරත්ත**, ත්‍රි. අනුන්බත්කා ජීවත් වූයේ:

**පරභූත**, ත්‍රි. පරදනාලද්දේ.

**පරාරි**, අව්‍ය. ගියහවුරුද්දෙන් පළමුහවුරුද්දෙහි "පරාරිගතඃ කාන්තඃ" වල්ලභතෙමේ ගියහවුරුද්දෙන් පළමු හවුරුද්දෙහි ගියේය. යනාදියි.

**පරාර්ධී**, ත්‍රි. ප්‍රධානද.

**පරායණ**, ත්‍රි. ආසඞ්ගවචනය, ඒ මෙසේයි, ධර්මපරායණය ඊකීකල ධර්මයෙහි ආසක්තය හෙවත් ඇලුනේය යන අර්ථයි.

**පරාසන**, න. මැරවීම.

**පරාසු**, ත්‍රි. මළඅය.

**පරාස්කන්දින්**, පු. සොරා.

**පරිකර**, පු. පර්‍ය්‍යඞ්කය, පිරිවර.

**පරිකර්මන්**, න. සිරුරපහ යන ක්‍රියා, කොකුම් ආදි ඇඟ උළනද.

**පරික්‍රම**, පු. පයින්යාම.

**පරික්‍රියා**, ස්ත්‍රී. පරිජනාදීන් විසින් පිරිවැරීම.

**පරික්ෂිප්ත**, ත්‍රි. අගල් ආදියෙන් වටකළද.

**පරිඛා**, ස්ත්‍රී. පිරිය (අගල).

**පරිග්‍රහ**, පු. න. අඹුව, පරිජනයා හෙවත් සේවක ජනයා, ආදානයහෙවත් ගැනුම, මූල්, ශාපය.

**පරිඝ**, පු. යකඩබැඳි මුගුර, දඬු ආදීන් පැහැරීම.

**පරිඝාත**, පු. යකඩබැඳි මුගුර.

**පරිචය**, පු. පුරුද්ද.

**පරිචර**, පු. යුද්ධසමයෙහි පරප්‍රහාරාදියෙන් රක්නා පිණිස හාත්පස සිටින පිරිස, රජුගේ සේනායෙහි දණ්ඩනායකයයිද කියත්.

**පරිචර්‍ය්‍යා**, ස්ත්‍රී. ආරාධ්‍යයන්ගේ හෙවත් ගුරුවරාදීන්ගේ චිත්තානුකූලව පැවැත්ම හෝ සේවය.

**පාරිවාශ්‍ය**, පු. යාගාන්තයෙහි යාගකරන්නා.

**පරිචාරක**, පු. ගැත්තා (දාසයා)

**පරිණත**, ත්‍රි. මුහුකළද.

**පරිණය**, පු. විවාහය.

**පරිණාම**, පු. ප්‍රකෘතිහුගේ අන්‍යථත්වය "මෘත්කාරොඝටඃ" මැටි ප්‍රකෘතියයි එහි විකාරය කළයයි යනුමෙනි.

**පරිණාය**, පු. න. දූඉත්තන් මෙහෙයීම, හෙවත් ඇතමැත යැවීම.

**පරිණාහ**, පු. පළල්බව.

**පරිතස්**, අව්‍ය. හාත්පස්හී.

**පරිත්‍රාණ**, න. මරණාදිවධයෙන් සවහසනයෙන් රැක්ම

**පරිදාන**, න. ද්‍රව්‍යාදියෙන් ද්‍රව්‍යාදිය පෙරළාගැන්ම හෙවත් මාරුකිරීම.

**පරිදේවන**, න. වැළපීම්.

**පරිධාන**, න, යටහඳනා පිළි.

**පරිධි**, පු. රැස්මඬල "චන්ද්‍රසූර්‍ය්‍ය සමීපසෙථ මෙදිසනාති කම්‍යත් ජයමානෙ වෙෂ්ඨනා කාරෙ මඩලෙ" චන්ද්‍ර සූර්‍ය්‍යයන්ගේ සමීපයෙහි මෙඝාදිය එක්වීමෙන් හටගන්නාවූ වෙළුවාක් වැනිවූ මඬල, යාගස්ථම්භ ශාඛාව.



**පරිධිස්ථ**, පු යුද්ධසමයෙහි පරප්‍රහාරාදියෙන් රක්නා පිණිස හාත්පස සිටින පිරිස, රජුගේ සෙනායෙහි දණ්ඩනායකයයිද කියත්.

**පරිපණ**, න. වෙළඳමෙහි මූල් මුදල.

**පරිපන්ථින්**, පු, සතුරා.

**පරිපාටි**, ස්ත්‍රී. අනුක්‍රමය හෙවත් පිළිවෙළ.

**පරිපූර්ණිත**, ත්‍රි. පිරවූද.

**පරිපෙලව**, න. සෙවෙල් අතුරෙහි වන්නාවූ කොටවියාමුරුයයි ඛ්‍යාතවූ කෛවර්තීමුස්තාකා නම් ද්‍රව්‍යය, ජලමුස්තා-

**පරිප්ලව**, ත්‍රි. සෙලවීම.

**පරිබර්හ**, පු. පිරිවර, රජුන්ට හොබනා සේසත් ආදිය.

**පරිභව**, පු. අනාදරය, නිඥුව.

**පරිභාව**, පු. අනාදර, නිඥු.

**පරිභාෂණ**, න. "වඩ්ඪකී සුතස්‍ය තවොචිත මිදම්ති" වඩියගේ පුත්‍රවූ තට මෙය සුදුසුවෙයි" මෙසේ පිරිහෙලා බැණීම.

**පරිභූත**, ත්‍රි. අවඥකරනලද්ද.

**පරිමල**, පු. විලෙපනයෙන් උපන් පෙම්කරු සුවඳ, කොකුම් ආදි සුවඳ ඇඹරීම.

**පරිරම්භ**, පු. වැළඳගැන්ම.

**පරිවර්ජන**; න. මැරවීම.

**පරිවර්ත**, පු. ද්‍රව්‍යාදියෙන් ද්‍රව්‍යාදිය පෙරළාගැන්ම හෙවත් මාරුකිරීම.

**පරිවාදිනී**, සත් තතක් ඇති වීණාව.

**පරිවාපිත**, ත්‍රි. හිස මුඩුකෙළේ.

**පරිවාර**, පු. පිරිවර, කඩුකොපුව, උපකරණ.

**පරිවිත්ති**, පු. විවාහවූ බෑයාට වැඩිමල් විවාහනුවූ බෑයා.

**පරිවෘඪ**, ත්‍රි. ස්වාමියා.

**පරිවෙත්තෘ**, පු. දෙටුහට පළමුව විවාහකළ බෑයා.

**පරිවෙෂ (ශ)**: පු. මඬල "මෙඝාදි සම්පර්කාජ්ජායමානෙ චන්ද්‍රාර්කෞ වෙෂ්ටනාකාරෙ" මෙඝාදීන්ගේ එක්වීමෙන් හටගන්නා චන්ද්‍රසූර්‍ය්‍ය මඬලය වෙළුවාක් වැනිවූ රශ්මිය.

**පරිව්‍යාධ**, පු. කිණිහිරිගස, දිය හොමුගස.

**පරිව්‍රාජ්**, පු. චතුර්ථාශ්‍රමයෙහි ස්ථිතවූ පරිබ්‍රාජකයා.

**පරිෂද්**, ස්ත්‍රී. සභාව.

**පරිෂ්කාර**, පු. අබරණ.

**පරිෂ්කෘත**, ත්‍රි. පහසින්ගන්වන ලද්දේ හෙවත් සරසනලද්දේ.

**පරිෂ්වඞ්ග**, පු. වැළඳගැන්ම.

**පරිසර**, පු. නදීපර්වතාදීන් වෙත බිම.

**පරිසර්ප**, පු. පරිජනාදීන් විසින් පිරිවැරීම.

**පරිසර්‍ය්‍යා**, ස්ත්‍රී. සර්වප්‍රකාරයෙන් යාම.

**පරිස්කන්ද**, පු. අන්‍යයන් විසින් මඬනාලද්දේ.

**පරිස්තෝම**, පු ඇතුන්පිට ලන විචිත්‍ර කම්බලය.

**පරිස්පන්ද**, පු. මල්දම්ආදීන්ගේ රචනාව.

**පරිස්‍රුත්**, ස්ත්‍රී. සුරා.

**පරිසුතා**, ස්ත්‍රී. සුරා.

**පරිවත්**, පු. ගනුදෙනුකිරීම, යුගාන්තකාලය.

**පරීක්‍ෂක**, ත්‍රි. ප්‍රමාණයෙන් කරුණු නිශ්චයකරන්නා, පමණ බලන්නා.

**පරී (රි) වාද**, පු. නුගුණකීම.

**පරිවාප**, පු. වස්ත්‍රකුට්ටි ආදිය, මුලුල්ල වැපිරීම, ජලාධාරය.

**පරී (රි) වාහ**, පු. නදී ආදීන්ගේ වැඩිදිය ඉතිරීම.

**පරිෂවි**, ස්ත්‍රී. සෙවීම.

**පරීසාර**, පු. ප්‍රාන්තයෙහි හැසිරීම, හෙවත් සිසාරා ඇවිදීම.

**පරිහාස**, පු. වල්ලභාදීන්ගේ පරිහාසය (සෙල්ලම).

**පරුත්**, අව්‍ය. ගියහවුරුද්දෙහි යන අර්‍ථයි "පරුත්නාගතඃ" ගිය හවුරුද්දෙහි නායේය යනාදියෙහි වේ.

**පරුෂ**, ත්‍රි. සැඩබස්.

**පරුස්**, න. (උණආදියේ)පුරුක.

**පරෙත**, ත්‍රි. මළඅය.

**පරෙතරාජ්**, (ජ) පු. යමයා.

**පරෙද්‍යවි**, අව්‍ය. අනිද්දා.

**පරෙෂ්ටුකා**, ස්ත්‍රී. බොහෝ දරුවන් ලද දෙන.

**පරෛධිත**, පු. අනුන් විසින් වඩනාලද අය.

**පරොෂ්ණී**, ස්ත්‍රී. කැරපොත්තා.

**පර්කටී**, ස්ත්‍රී. පුලිලගස, පර්කටින් කියා පුංලිඟිකදවේ.

**පර්ජනී**, ස්ත්‍රී. වණුවැල්.

**පර්ජන්‍ය**, න. හඬ, වැසිවලාව, ශක්‍රයා.

**පර්ණ**, පු. පත්කැලගස,න. පත්‍රය.

**පර්ණශාලා**, ස්ත්‍රී. පන්සල.

**පර්ණාස**, පු. පර්ණාසවෘක්‍ෂය.

**පර්‍ය්‍යඞ්ක**, පු. ඇඳ.

**පර්‍ය්‍යටන**, න. භික්‍ෂාදිය පිණිස නැවත නැවත ඇත මෑත භ්‍රමණය හෙවත් ඇවිදීම.

**පර්‍ය්‍යන්තභූ**, ස්ත්‍රී. නදී පර්වතාදීන් වෙත බිම

**පර්‍ය්‍යය**, පු. ව්‍යතික්‍රමය හෙවත් පිළිවෙළ ඉක්මවීම, අතික්‍රමය හෙවත් ඉක්මයාම.

**පර්‍ය්‍යවස්ථා**, ස්ත්‍රී. විරොධය.

**පර්‍ය්‍යාප්ත**, න. කැමතිසේ යන අර්‍ථයි, ක්‍රියාවිශෙෂණයි.

**පර්‍ය්‍යාප්ති**, ත්‍රි. මරණාදි වධයට උත්සාහකරන්නහු සවහස්තයෙන් වළකාලීම හෙවත් මරණයෙන් රැකීම.

**පර්‍ය්‍යාය**, පු. පිළිවෙළ.

**පර්‍ය්‍යුදඤ්චන**, න. ණය.

**පර්‍ය්‍යෙෂණා**, ස්ත්‍රී. සෙවීම.

**පර්වත**, පු. පර්වතය.

**පර්වන්**, න. "චතුර්දශ්‍යෂ්ටමී චෛව අමාවස්‍යාච පූර්ණිමා පර්වන්‍යෙතානි රාජෙන්ද්‍ර රවිසංක්‍රාන්තිරෙවච" යනුකියෙන් තුදුස්වක අට්වක, අමාවක, පසළොස්වක රවිසංක්‍රමය යන දවස්හුයි, නැකැත්කෙළිය.

**පර්ව**, න. (උණ ආදියේ) පුරුක.

**පර්වසන්ධි**, පු. පෑළවිය පසළොස්වක් අතර.

**පර්ශුකා**, ස්ත්‍රී. ඉලඇට.

**පල**, න. ආමිසය හෙවත් මාංසය, පලම්, එනම් මාංසකසිව්සැටෙකි හේ කර්‍ෂසතරෙකි



**පලගණ්ඩ**, පු. සුධාශිල්පියා(සුණුවඩුවා).

**පලංකෂා**, ස්ත්‍රී. ගොකටු.

**පලල**, න. මස්.

**පලාණ්ඩු**, පු. රතුලූණු.

**පලාල**, පු. න. පිදුරු.

**පලාශ**, පු. සිඟුරුපියලිගස, පලාපැහැ, ඉන් යුත් දෙයෙහි. ත්‍රි.

**පලාශින්**, පු. වෘක්‍ෂය.

**පලික්නී**, ස්ත්‍රී. මැහැලි.

**පලිත**, න. කෙශාදිය පැසීම.

**පල්‍යඞ්ක**, පු. ඇඳ.

**පල්ලව**, පු. න. ශාඛායෙහි අභිනව පත්‍රාදියෙන් යුත් පුරුක.

**පල්වල**, පු. න. කුඩාවිල.

**පව**, පු. වී ආදිය ශුඩකිරීම.

**පවන**, පු. වාතය, න. වී ආදිය ශුඩකිරීම.

**පවනාශන**, පු. සර්පයා.

**පවමාන**, පු. සුළඟ.

**පවා**, ස්ත්‍රී. බිලය (සිදුර).

**පවි**, පු. විදුරවිය.

**පවිත්‍ර**, ත්‍රි. පිරිසිදුදෑ, න. කුසතණ (ඉලුප්)වුතාදියෙන් පවිත්‍රවූයේ.

**පවිත්‍රක**, න. බිලිලනුව, "ශණශුත්‍රජලස්‍ය" යනු දක්නාලද බැවින් හණහුදැලටද නම්.

**පශුපති**, පු. ඊශ්වරයා.

**පශුරජ්ජු**,පු. ගෙරින්බඳිනා බාන.

**පශ්චාත්**, අව්‍ය. පසුයන අර්‍ථයි.

**පශ්චාත්තාප**, පු පසුතැවිල්ල.

**පශ්චිම**, ත්‍රි. අන්තිම, එනම් දිශාව. ස්ත්‍රී.

**පාංශු**, පු. ධූලි.

**පාංශුලා**, ස්ත්‍රී. පතිව්‍රතානැත්තී.

**පාක**, පු. පිසීම, පක්‍ෂිපැටවා.

**පාකල**, න. උපුල්කොල.

**පාකශාසන**, පු. ශක්‍රයා.

**පාකශාසනි**, පු. ශක්‍රයාගේ පුතු.

**පාකස්ථාන**, න. මුළුතැන්ගේ.

**පාක්‍ය**, පු. යවකරලුණු, බළල්ලුණු.

**පාඤ්චජන්‍ය**, පු. විෂ්ණුහුගේ සඞ්ඛය.

**පාඤ්චාලිකා**, ස්ත්‍රී. පෙතැල්ල, (රූකඩ) වස්ත්‍රදන්ත පාෂාණාදියෙන් කළ රුවටදනම්.

**පාට්**, අව්‍ය. සම්බොධනාර්‍ථයි.

**පාටච්චර** පු. සොරා.

**පාටල**, පු. සුදුරතු මුසු පළොල් පැහැ, ඉන්යුත් දෙයෙහි, ත්‍රි. පු. වී.

**පාටලා**, ස්ත්‍රී. පළොල්.

**පාටලි**, පු. පළොල්රුක. ස්ත්‍රී. පාටලී.

**පාඨ**, පු. " අධ්‍යයනං බ්‍රහමයඥඃ පිතෘයඥස්තු තර්පණම්, හොමො දෛවොබලිර්භෞතොනෘයඥොතිථිපූජනම්"යයි පස්මහායාගයන් අතුරෙන් මේ වෙදාධ්‍යයනය බ්‍රහමනම් මහායාගයයි, හැදෑරීම.

**පාඨා**, ස්ත්‍රී. දියමිත්ත.

**පාඨීන්**, පු. රත්නිටොල්.

**පාඨීන**, පු. වළයා.

**පාණි**, පු. අත්ල.

**පාණිගෘහිති**, ස්ත්‍රී. භාය්‍යාව.

**පාණිඝ**, පු. අත්ලෙහි නානාශබ්දනගා වාදනයකරන්නා.

**පාණිපීඩන**, න. විවාහය.

**පාෂණ්වාද**, පු. අත්තලෙහි නානා ශබ්දනගා වාදනයකරන්නා.

**පාණ්ඩර**, පු. සුදු, ඉන්පුත් දෙයෙහි. ත්‍රි.

**පාණ්ඩු**, පු. පඬුපැහැ, ඉන්පුත් දෙයෙහි තුන්ලිඟු.

**පාණ්ඩුකම්බලින්**, පු. සුදුකම්බල යෙන් වසනලද රථය.

**පාණ්ඩුර**, පු. සුදුපැහැ, ඉන්පුත් දෙයෙහි තුන්ලිඟුයි.

**පාතක**, න. පාපය, පව් උපදනා ප්‍රාණවධාදිය.

**පාතාල**, න. වඩබාග්නිය, නාග ලෝකය, බිලය.

**පාතුක**, ත්‍රි. වැටෙනසුලුවූයේ.

**පාත්‍ර**, න. සැලිවලන් ආදි සියලු බඳුන් (නදීආදීන්ගේ) දෙතෙර මැද, සුදුස්ස.

**පාත්‍රී**, න. ස්ත්‍රී. දිය ආදි බඳුන්, අනුභවයට සුදුසුවූ අමත්‍රනම් බඳුන, දීමටසුදුසුවූ බමුණු, දෙතෙරමැද.

**පාත්‍රීය**, ත්‍රි. යාගකටයුතු ද්‍රව්‍යය, සුදුස්සා.

**පාථස්**, න. ජලය.

**පාද**, පු. පාදය, සතරෙන් කොටස, පිරිවර, කුඩාකඳු, රශ්මිය.

**පාදකටක**, පු. ගැහැණුන්පාසලඹ

**පාදග්‍රහණ**, න. වැඳීම.

**පාදප**, පු. වෘක්ෂය.

**පාදබන්ධන**, න. ගොම්හිසාදි ධනය, පාදවයන නාමයදවේ.

**පාදස්ඵොට**, පු. පාපොළු.

**පාදාග්‍ර**, න. අග්පතුල.

**පාදාඞ්ගද**, න. ගැහැණුන්පාසලඹ,

**පාදාත**, න. පාබල සෙන් සමූහය.

**පාදාතික**, න. පාබල සෙන් සමූහය.

**පාදුකා**, ස්ත්‍රී: පයලන වහණ.

**පාදූ**, ස්ත්‍රී. පයලන වහණ.

**පාදුකාකෘත්**, පු. සොම්මරු හෙවත් සම්මහන්නා.

**පාද්‍ය**, ත්‍රි. පාඅේනා ජලය.

**පානගොෂ්ඨිකා**, ස්ත්‍රී. සුරාපාන මඩලය හෙවත් පානසභාව.

**පානපාත්‍ර**, න. ඔඩම, (රාබොන බඳුන).

**පානභාජන**, න. රාබොන බඳුන (ඔඩම).

**පානීය**, න. ජලය.

**පානීයශාලිකා**, ස්ත්‍රී. පැන්හල.

**පාන්ථ**, පු. මගියා.

**පාප**, ත්‍රි අනුන්කෙරෙහි ද්‍රොහ කරන්නා, න. පාපය,

**පාපචෙලි**, ස්ත්‍රී. දියමිත්ත.

**පාප්මන්**, පු. පාපය.

**පාමන්**, පු. විචර්චිකා කුෂ්ඨය, ඒ කුෂ්ඨ ඇත්තා. ත්‍රි.

**පාමන**, පු. විචර්චිකා කුෂ්ඨය, ඒ කුෂ්ඨ ඇත්තා ත්‍රි.

**පාමර**, පු. නීචයා.

**පාමා**, ස්ත්‍රී. විචර්චිකා නම් කුෂ්ඨය.

**පායස**, පු. සිරිවටු හෙවත් හල් දුම්මල.

**පායාස**, පු. කිරිබත්.

**පායු**, පු. ගුදය.

**පාය්‍ය**, න. පරිමාණ, (කුරිණිආදි යෙන් මිනීම).

**පාර**, න. පරතෙර.



**පාරද**, පු. රසදිය. "රසෙන්ද්‍රඃ පාරදඃ ප්‍රොක්තඃ පාරතොපි නිගද්‍යතෙ" යනු වචනහෙයින් පාරත නමුදුවේ.

**පාරශව**, පු. පොරොව, ගොවි කුල බිරිඳට බමුණකු නිසා උපන් පුත්‍රයා.

**පාරශවධික**, ත්‍රි. පොරෝ ආයුධ කොට ඇත්තා.

**පාරසික**, පු. පාරසිකදෙශයෙහි උපන් අශ්වවිශෙෂයක් (පර්සියාවේ අශ්වයෝ).

**පාරස්ත්‍රෛණෙය**, පු. පරස්ත්‍රිය ගේ පුතා.

**පාරායණ**, ත්‍රි. සාකල්‍ය වචන යෙහි වැටේ, එහෙයින් රතන පාරයණයයි කීකල සකල රත්නයනු අර්ථයි.

**පාරාවත**, පු. පරවියා.

**පාරාවතාඞ්ඝ්‍රි(ඝ්‍රී)**, ස්ත්‍රී. දුදුගස.

**පාරාවාර**, පු. මුහුද, පාරාපර නමුදුවේ.

**පාරාශරින්**, පු. චතුර්ථාශ්‍රමස්ථිත වූ පරිබ්‍රාජකයා.

**පාරිකාඞ්ක්ෂින්**, පු. මාංසොපවාස බ්‍රහ්මචර්‍ය්‍යාදියෙන් යුක්තවූයේ (තාපසයා).

**පාරිජාත**, පු. එරබදුගස, දිව්‍ය වෘක්ෂය.

**පාරිනාය්‍යා**, ස්ත්‍රී. බාලස්ත්‍රීන් හිසපලඳනා ශිරොජාලනම්වූ ආභරණය.

**පාරිප්ලව**, ත්‍රි. සෙලවීම.

**පාරිභද්‍ර**, පු. එරබදු.

**පාරිභද්‍රක**, පු. දෙව්දුරු (දෙවදුරු).

**පාරිභාව්‍ය**, න. උපුල්කොල (කොට්ටම්).

**පාරියාත්‍රක**, පු. මලයදෙශයට ඉම්වූ එනම් පර්වතභෙදය.

**පාරිහාර්‍ය්‍ය**, පු. අත්වලල්ල.

**පාර්ෂද**, පු. සභායෙහිවූයේ, සභිකයා.

**පාරුෂ්‍ය**, පු. න. පරුෂතෙපුල.

**පාර්ථිව**, පු. ජනපද පුරපාලනාධිකෘතවූ රජදරුවන්ටද තත් කාර්‍ය්‍යකාරීවූ රජදරුවන් කෙරෙන් පිටත් සෙස්සවුන්ටද නම්.

**පාර්වතී**, ස්ත්‍රී. උමාදෙවී.

**පාර්වතීනන්දන**, පු. කඳකුමරු.

**පාර්ශුකා**, ස්ත්‍රී. ඉලඇට.

**පාර්ශ්ව**, න. ඉලඇට සමූහය. පු. න. ඇලය.

**පාර්ශ්වභාග**, පු. ඇතුන්ගේ ඇලය.

**පාර්ෂ්ණි**, පු. විළුඹ.

**පාර්ෂ්ණිග්‍රාහ**, පු. සතුරු රජුට හිතපිණිස පිටින්අවුත් විජිගීෂු හුගේ හෙවත් දිනනු කැමති රජහුගේ රාජ්‍යග්‍රහණයකරණ රජ.

**පාලඝ්න**, පු. වදකාසාවැනි පත් හා ඡත්‍රාකාරවූ මුල්ඇති තෘණ විශෙෂයෙක්. (තාලමාඛනා) යනු හිඳුභාෂායි.

**පාලඞ්කී**, ස්ත්‍රී. ගන්ධද්‍රව්‍ය හෙද යක්වූ කුන්දුරුක්කම්.

**පාලාශ**, න. පත්‍රය, පත්කැල. පු·

නැලලියෙන්කළ තවුස් සැරයටිය.

**පාලි**, ස්ත්‍රී. කඩු ආදියේ කොණ හෝ මුවඅත, කන්පෙත්තහෝ කන්වැල, ඇකය හෝ ළකුණ, උකුණා, නලලඅග. පෙළ

**පාලින්ද (ඩි)**, ස්ත්‍රී. කෘෂණතෙවඩිකායෙහි(කළු තිරසතවාළු).

**පාවක**, පු. ගිනි.

**පාශ**,පු.මේ ශබ්දය කෙශපර්‍යාය ශබ්දයක්හු කෙරෙන් පරවූකල කලාපයෙහිවැටේ. "කෙශපාශ යනාදිතන්හි වේ."

**පාසක**, පු. පසඇට.

**පාසින්**, පු. වරුණයා.

**පාශුපත**, පු. වකපුෂ්පවෘක්ෂය.

**පාශුපාල්‍ය**, න. වෛශ්‍යයන්ගේ සීසෑමය, ගවපාලනය, වෙළඳාමය. යන ත්‍රිවිධ වෘත්තීන් හෙවත් ජීවිකාවන් අතුරෙන් එකක්වූ ගවපාලනය.

**පාශ්‍යා**, ස්ත්‍රී. පාශයන්ගේ සමූහය (රැහැන්සමූහය).

**පාශ්චාත්‍ය**, ත්‍රි. පශ්චිමදෙශයෙහි උන්.

**පාෂාඛණ්ඩ**, පු. සයානුපාෂාණ්ඩයෝ "පාලනාච්චත්‍රයො ධර්මඃ, පාශබෙදන තිගද්‍යතෙ; ඛණ්ඩයන්තිතු තං යස්මාත් පාඛණ්ඩ ඍෙතන කීර්ත්තිතාඃ" යනු දක්වනලද හෙයින් පාශබ්දයෙන් කියනලද වෙදධර්ම කඩකරණ හෙයින් පාඛණ්ඩයයිද එමධර්මයන් නිස්ඵලකරණ හෙයින් පාෂණ්ඩයයිද දතයුතු.

**පාෂාණ**, පු. පහණ (ගල).

**පාෂාණදාරණ**, (ක), පු. ගල්පළන පෙනුම.

**පික**, පු. කොවුලා.

**පිඞ්ග**, පු. පිඟුවන්, ඉන්යුත් දෙයෙහි ත්‍රි.

**පිඞ්ගල**, පු. හිරුගේ දකුණුපස සිටි වහ්නිදෙවතා. පිඟුවන්, ඉන්යුත්දෙයෙහි. ත්‍රි.

**පිඞ්ගලා**,ස්ත්‍රී වාමනනම් දක්ෂිණ දිග්ගජයාගේ ඇතිනී.

**පිච (චි) ණ්ඩ**, පු. බඩ, සිවුපාවුන්ගේ ශරීර අවයව.

**පිච (චි) ණ්ඩිල**, ත්‍රි. සැලක්සේ මහත් බඩ ඇත්තා.

**පිචු**, පු. ඉඹුල්පුළුන්.

**පිචුමන්ද**, පු. කොසඹ.

**පිචුල**, පු. පිචුලගස.

**පිච්චට**, න. සුදුතුඹ (සුදුඊයම්).

**පිච්ඡ**, න. මොනරපිල.

**පිච්ඡා**, ස්ත්‍රී. ඉඹුල්මැලියම්.

**පිච්ඡිල**, ත්‍රි. මණ්ඩයෙන් යුත් දී ආදිය.

**පිච්ඡිලා**,ස්ත්‍රී. ඉඹුල්රුක, ඇට්ටරගස.

**පිඤ්ජ**, පු. මැරවීම.

**පිඤ්ජර**, න. සිරියල්.

**පිඤ්ජල**, පු. අත්‍යන්තාකුලවූ සේනාදිය.

**පිට**, පු. පැස.

**පිටක**, ත්‍රි. පොළ. පු. කඩොල, (එනම් කඳකොණ එලෙන පැසයි) වස්ත්‍රාභරණ බහානබන පෙට්ටියටද නම්.

**පිඨර**, පු. තාලිය හෙවත් සැලිය, න. කලාඳුරු අල,උණ්දඩ.



**පිණ්ඩ**, න. යකඩ.

**පිණ්ඩක**, පු. තුරුක්තෙල්, එනම් ගන්ධද්‍රව්‍යයකි.

**පිණ්ඩිකා**, ස්ත්‍රී. රියනැබ.

**පිණ්ඩීතක**, පු. කුකුරුමුවන්.

**පිණ්‍යාක**, පු. ඉන්සලුරුක, තලමුරුවට.

**පිතාමහ**, පු. බ්‍රහමයා, මුත්තා හෙවත් පියාගේ පියා.

**පිතෘ**, පු. විවචනාන්තවූයේ මව්පියන්ටනම්, ඒකවචන වූයේ පියාටනම්.

**පිතෘදාන**, න. මළපියන්තිසාදීම.

**පිතෘපති**, දක්ෂිණදිශාපතිවූ යම රජ.

**පිතෘපිතා**, පු. මුත්තා හෙවත් පියාගේපියා.

**පිතෘප්‍රසූ**, ස්ත්‍රී. සවස.

**පිතෘයඥ**, පු. "අධ්‍යයනං බ්‍රහම යඥඃ පිතෘයඥස්තු තර්පණම්, හොමො දෛවො බලිර්භෞතො නෘයඥො තිථිපූජනම්" යි කියනලද පස්මහායාගයන් අතුරෙන් පිතෘදෙවතාතර්පණ නම් යාගය.

**පිතෘවන**, න. සොහොන.

**පිතෘව්‍ය**, පු. සුළුපිය මහපියෝ.

**පිතෘසන්නිභ**, පු. පියාවැන්නා.

**පිත්ත**, න. පිත.

**පිත්සත්**, පු. පක්ෂියා.

**පිධාන**, න. පියන.

**පිනද්ධ**, පු. (චොලකාදිය) හැන්දේ.

**පිනාක**, පු. න. ඊශ්වරයාගේ දුන්න.

**පිනාකින්**, පු. ඊශ්වරයා.

**පිපාසා**, ස්ත්‍රී. පිපාසය.

**පිපීලිකා**, ස්ත්‍රී. කුහුඹුවා.

**පිප්පල**, පු ඇසතුරුක, බැඳුමක් නැති පක්ෂියා.

**පිප්පලී**, ස්ත්‍රී. වගපුල්.

**පිප්පලීමූල**, න. දළුවමුල් (තිප්පිලිමුල්).

**පිප්ලු**, පු. ලපය.

**පියාල**, පු. පියල්(කිරිපළු) රුක.

**පිල්ල**, ත්‍රි. කබ ඇත්තා.

**පිශඞ්ග**, පු. පිඟුවන්, ඉන්යුත්දෙයෙහි. ත්‍රි.

**පිශාච**, පු. එනම් දෙවයොනිය.

**පිශිත**, න. මස්.

**පිශුන**, න. කොකුම්,ත්‍රි. කේලාම් කියන්නා හෙවත් උනුන් බිඳුවන්නා, දුර්ජනයා.

**පිශුනා**, ස්ත්‍රී. පිඩකායයි ඛ්‍යාතවූ සුගන්ධිකුසුමයට (පික්මල්).

**පිෂ්ටක**, පු. පූ.

**පිෂ්ටපචන**, න. පූකිරිය (පිටිපිසන බඳුන).

**පිෂ්ටාත**, පු. වස්ත්‍ර සුවඳකවනු පිණිස කළ සුවඳසුණු.

**පීඨ**, න. ආසනය.

**පීඩන**, න. ශස්‍යසම්පන්න දෙශයට සතුරු සෙනග කරණ පීඩාව,

**පීඩා**, ස්ත්‍රී. සිත්පීඩාව, දුක.

**පීත**, පු. කසාපැහැ ඉන්යුත්දෙයෙහි. ත්‍රි.

**පීතදාරු**, පු. න. දෙව්දුරු (දෙවදාරු).

**පීතද්‍රු**, පු. වණුවැල්, සරල (හොරගස).

**පීතන**, න. කොකුම්, සිරියල්, පු. ඇඹැල්ලගස.

**පීතසාරක**, පු. පියාගස.
**පීතා**, ස්ත්‍රී. කසා.
**පීතාම්බර**, පු. විෂ්ණු.
**පීන**, ත්‍රි. සවුලද.
**පීනස(ශ)**, පීනස.
**පීනෝධනී**, ස්ත්‍රී. මහත් බුරුළු ඇති දෙන.
**පීයූෂ**, පු. වැදූසත්දිනකින් අේනා කිරි. න. අමෘතය.
**පීලු**, පු. මොරගස, ඇතා, ඊය, මල්.
**පීලුපර්ණී**, ස්ත්‍රී. කෙම්වැල, මුරුවා.
**පීවන්**, ත්‍රි. සවුලද.
**පීවර**, ත්‍රි. සවුලද.
**පීවරස්තනී**, ස්ත්‍රී. මහත් බුරුළු ඇති දෙන.
**පුංශ්චලී**, ස්ත්‍රී. පතිව්‍රතා නැත්තී.
**පුංස්**, පු. පිරිමියා.
**පුක්කස**,(ශ) පු. චණ්ඩාලයා.
**පුඩ්ඛ**, පු. කටුපිල, දුනුමුඩාව හෙවත් ඊයමුල.
**පුඞ්ගව**, පු. උත්තරපදයෙහි සිටි පුංලිංගිකවූ මේශබ්දය ශ්‍රෙෂ්ඨාර්ථවාචකයි. මුනිපුංගවඃ යනාදිය නිදර්ශනයි.
**පුච්ඡ**, පු. න. අශ්වාදීන්ගේ වාලධිය.
**පුඤ්ජ**, පු. ධාන්‍යාදීන්ගේ රැස.
**පුටභෙද**, පු. නදීවංකය, "චක්‍රාකාරෙණ ජලානාම ඬොයානස්‍ය" ජලය වක් ආකාරයෙන් පහතට බැසීම.
**පුටභෙදන**, පු. පුරය. "යත්‍ර රජ්ජ තදනුචරා ශෙසනති තත්පුරං පත්තනාදිසඥම්" යනු වචන බැවින් පත්තන නමුදුවේ.
**පුණ්ඩරීක**, පු. සිංහයා, ව්‍යාඝ්‍රයා, අග්නිකොණයෙහිවූදිග්ගජයා, ඇටඹ, හස්තිජ්වරය, කොඩිය, ශ්වෙතවර්ණය,කුෂ්ඨභෙදයෙක්, න. හෙළපියුම්, ශ්වෙතඡත්‍රය, බෙහෙත්.
**පුණ්ඩරීකාක්ෂ**, පු. විෂ්ණු.
**පුණ්ඩ්‍ර**, හෙළඋක්.
**පුණ්ඩ්‍රක**, පු. යොහොඹුගස.
**පුණ්‍ය**, න. පින්, ත්‍රි මනොඥ.
**පුණ්‍යජන**, පු. රාක්ෂසයා.
**පුණ්‍යජනෙශ්වර**, පු. වෙසමුණු.
**පුණ්‍යභූමි**, ස්ත්‍රී. ආර්‍ය්‍යාවර්තය, "ආසමුද්‍රාච්චවෛ පූර්වසමුද්‍රාච්ච පශ්චිමාත්, තයොරෙවාන්තරං ගිය්‍යොඃ ආර්‍ය්‍යාවර්තංවිදුඃ බුධාඃ" පූර්වසාගරයහා පශ්චිමසාගරය හාද ඒ වින්ධ්‍යහිම පර්වතර ආර්‍ය්‍යාවර්තයයි පණ්ඩිතයෝ දනිත්.
**පුත්තිකා**, ස්ත්‍රී. කණවේ මීමැස්සා.
**පුත්‍ර**, පු. පුත්‍රයා, මෙයම ඊකාරාන්ත ස්ත්‍රීලිඟවූකල දූවටනමි.
**පුත්‍රිකා**, ස්ත්‍රී. පෙතැල්ල, (රූකඩය), වස්ත්‍ර දන්තපාෂාණාදියෙන් කළ රුවටද නමි.
**පුත්‍රෞ**, පු. පුත්‍ර පුත්‍රී ශබ්දදෙදෙනාගේ එකශෙෂයෙන් විචචනයි. දූ පුත්.
**පුනඃපුනර්**, අව්‍ය. නොයෙක්වර, නැවත නැවත.
**පුනර්**, අව්‍ය. අප්‍රථමය, හෙදය. අවධාරණය යනමෙහි වේ, "පුනරුක්තම්" පෑසුව කියන ලදී යනාදියෙහි අප්‍රථමාර්ථයි "කිං පුනර්බ්‍රාහ්මණාඃ පුණ්‍යාඃ" යනාදියෙහි භෙදය යනාර්ථයි.
**පුනර්නවා**, ස්ත්‍රී. සුළු බුරුද.
**පුනර්භව**, පු. නියපොතු.
**පුනර්භූ**,ස්ත්‍රී. දෙවරක් සරණගිය ස්ත්‍රී.
**පුන්නාග**, පු. දොඹ.
**පුර්**, ස්ත්‍රී. පුරය.
**පුර**, පු. ගුගුල්ගස.
**පුරඃසර**, ත්‍රි. පෙරටුවයන්නා.
**පුරතස්**, අව්‍ය. සම්මුඛාර්ථයෙහි "පුරතඃ සංප්‍රාප්‍ය සන්දේශම්" හමුවෙහි සන්දේශයා හෙවත් ඊශ්වරයා ???බා යනාදි උදාහරණයි.
**පුරද්වාර**, න. නුවරදොර(වාසල).
**පුරන්දර**, පු. ශක්‍රයා.
**පුරන්ධ්‍රී**, ස්ත්‍රී. දූපුතුන් ඇති ගේ සැමියාසහ දරුවන්ඇති අඹුව.
**පුරස්**, අව්‍ය. සම්මුඛාර්ථයෙහි "පුරඃ පස්‍යසි කිංබාලෙ! දැරිය ඉදිරියෙහි කුමක්දකීද යනාදි උදාහරණයි.
**පුරස්කෘත**, ත්‍රි පූජිත, සතුරා විසින් මඩනාලද්ද, පෙරටුකරනලද්ද.
**පුරස්තාත්**, අව්‍ය. ප්‍රාචිය හෙවත් නැගෙනහිරදිගය, ප්‍රථමය,පෙරය, ඉදිරිය, යනමෙහිවේ, "පුරස්තාත් සවිතරී උදයති" පෙරදිගින් හිරු උදාවෙයි යනාදියෙහි ප්‍රාචී අර්ථයි, "පුරස්තාත් භූඛෙත" පළමුකොට බුදියි යනාදියෙහි ප්‍රථමාර්ථයි "පුරස්තාත් වාසොභූත්" පෙරවිසිමෙක්වී යනාදියෙහි පෙරය යන අයිර්.
**පුරා**, අව්‍ය. අබන්ධය හෙවත් නිරන්තරය, චිරාතීතය, සමීපය, ආගාමීය හෙවත් මතුඑනකාලයයනමෙහිවේ. "පුරාධීතම්" නිතොර හදාළේය යනාදියෙහි අබන්ධයි හෙවත් නිරන්තරයි, "පුරාතනම්" අතීතවීය යනාදියෙහි චිරාතීතයි "පුරාභවත්" සමීපවීය යනාදියෙහි සමීපයි, "පුරාවශ්‍යොභවිෂ්‍යත්"මතු එනකාලයෙහි වැසිවස්නේය යනාදියෙහි ආගාමීයි.
**පුරාණ**, පු. කාර්ෂාපණය (රිදීකහවණුව), න. පුරාණය, "සර්ගශ්ච ප්‍රතිසර්ගශ්ච වංශො මන්වන්තරානිච, වංශානුචරිතංචෛව පුරාණං පඤ්චලක්ෂණම්"යි දක්වනලද පඤ්චලක්ෂණයන්ගෙන් යුත් ව්‍යාසාදීන් විසින් කළ ශාස්ත්‍ර භෙදයෙකි.
**පුරාතන**, ත්‍රි. පුරාණද.
**පුරාවෘත්ත**, න. පූර්වපරම්පරා කථාව.
**පුරී**, ස්ත්‍රී. න. පුරය, නපුංසකලිංගයෙහි පුරකියාවේ, "යත්‍රානෙක ශිල්පිනො නෙකවර්ණාදි ව්‍යවහාරස්ථාන් පුරාදිසංඥම්" යම්තැනක නොයෙක් ශිල්පීහුද නොයෙක් වෙළඳුම්ද ඇත්තාහුනම් ඒ පුරනම්, මෙහි පුර්ශබ්දයෙක්දවේ.
**පුරීතත්**, ස්ත්‍රී. අතුනුබහන.
**පුරීෂ**, පු. න. මල.
**පුරු**, ත්‍රි. බොහෝද.
**පුරුෂ**, පු. පිරිමියා, ආත්මය, දොඹගස.

**පුරුෂොත්තම**, පු. විෂ්ණු, උත්තමපුරුෂයා.
**පුරූභූ (ශ)**, ත්‍රි. බොහෝද්ද.
**පුරූහූත**, පු. ශක්‍රයා.
**පුරොග**, ත්‍රි. පෙරටුව යන්නා.
**පුරොගම**, ත්‍රි. පෙරටුව යන්නා.
**පුරොගාමින්**, ත්‍රි. පෙරටුවයන්නා,
**පුරොඩාශ් (ශ)**, පු. ගිතෙලෙහි යාගකටයුතුද්ද.
**පුරොධස්**, පු. අථර්වනවෙදවිධිඥවූ රාජචාර්‍ය්‍යයාහෙවත් පෙරවිබමුණා.
**පුරොභාගින්**, ත්‍රි. වරදපමණක් දක්නෝ.
**පුරොහිත**, පු. පෙරවිබමුණා හෙවත් අථර්වවෙදවිධිඥවූ රාජචාර්‍ය්‍යයා.
**පුලාක**, පු. බොල්හෝ ඇගිටි, බත්හුළු, සංක්ෂෙපය.
**පුලින**, න. දියෙන්නැගි වැල්ල.
**පුලින්ද**, පු. "ගොමාංස භක්ෂකො යස්තු ලොකවාහ්‍යච භාෂතෙ, සර්‍වාචාරවිහීනොසෞ ම්ලෙච්ඡ ඉත්‍යභිධියතෙ" යමෙක් ගෙරිමස්කාද ලොකව්‍යවහාර භාෂාවහැර අන්භාෂාවක් බෙණේද සකලාචාරයන්ගෙන් පිරිහුණෙද මේතෙම ම්ලෙච්ඡජාතිකවෙයි දක්වන ලද්දවූ ම්ලෙච්ඡ ජාතියෙහිවූ වනයෙහි වසන චණ්ඩාලභෙදය.
**පුලොමජා**, ස්ත්‍රී. ශක්‍රයාගේ භාර්‍ය්‍යාව.
**පුෂිත**, ත්‍රි. පොෂණය කරන ලද්දේ.
**පුෂ්කර**, පු. න. පියුම්, න. ඇතුන්ගේ සොඬඅග, බෙරඇස් ආදි වාද්‍යමුඛය, ජලය, අහස, ඛඩ්ග ඵලය (කඩුමැද) තොට, පොකුරුමුල්.
**පුෂ්කරාහ්ව**, පු. විල්ලිහිණියා.
**පුෂ්කරිණී**, ස්ත්‍රී. පොකුණ.
**පුෂ්කල**, ත්‍රි. ඉතා ශොභාද්ද.
**පුෂ්ට**, ත්‍රි. පොෂණයකරනලද්දේ.
**පුෂ්ප**, න. පුෂ්පය.
**පුෂ්පක**, න. වෙසමුණුගේ විමානය.
**පුෂ්පාඤ්ජන**, න. පුෂ්පාජන.
**පුෂ්පදන්ත**, පු. වායව්‍යකොණයෙහිවූ දිග්ගජයා.
**පුෂ්පධන්වන්**, පු. අනඟයා.
**පුෂ්පඵල**, පු. ගිවුලු.
**පුෂ්පරස**, පු. මල්පැණි.
**පුෂ්පලිහ්**, පු බඹරා.
**පුෂ්පවතී**. ස්ත්‍රී. ඔසප්ඇත්තී.
**පුෂ්පවන්ත්**, පු. පුෂ්පවන්තෞයි. විවචනවූයේ ඉරසඳ දෙකයි.
**පුෂ්පසමය**, පු. වසන්තකාලය.
**පුෂ්‍ය**, පු පුසෙනැකත.
**පුෂ්‍යරථ**, පු. යුද්ධපිණිස නොවූ ක්‍රීඩාභ්‍රමණයපිණිසවූරථය.
**පුස්ත**, න ලෙපන්‍යාදී ක්‍රියා "මෘද්දාරුණාචාථ වස්ත්‍රණාපත්‍යථ චර්මණා, ලොහරත්නෛඃ කෘතංවාපි පුස්තමිත්‍යභිධීයතෙ" යනු කියනලද මැටියෙන්හෝ දැවයෙන් හෝ වස්ත්‍රයෙන්හෝ සමින්හෝ ලොහයෙන් හෝ රත්නයෙන් හෝ රූතැනීම.
**පූග**, පු පුවක්ගස, සමූහය.
**පූජා**, ස්ත්‍රී. පිදීම.
**පූජිත**, ත්‍රි පුදනලද්දේ.
**පූජ්‍ය**, ත්‍රි. පිදියයුත්තා, ගරුකටයුත්තා, පු. අඹුසැමියන් පිය ඒරූ.



**පූත**, ත්‍රි පවිත්‍රද්ද, බොල්පහකලධාන්‍ය,ව්‍රතාදියෙන්පවිත්‍රවූයේ.
**පූතනා**, ස්ත්‍රී. අරලු.
**පූතික**, පු. සිරිලගස.(කුණුකරඳ)
**පූතිකරජ**, පු. සිරිලගස.
**පූතිකාෂ්ඨ**, න. සරල(හොරගස), දෙව්දුරු (දෙවදාරු)
**පූතිගන්ධි** පු. දුගඳ.
**පූතිඵලී**, ස්ත්‍රී. බෝදිගස්.
**පූතීක**, න. මල, පු. සිරිල (කුණුකරඳ).
**පූප**, පු. පූ.
**පූර**, පු. ජලසමූහය, ඛාද්‍යභෙදය, ව්‍රණශුද්ධිය.
**පූරණී**. ස්ත්‍රී. ඉඹුල්රුක.
**පූරිත**, ත්‍රි. පුරණලදුයේ.
**පූරුෂ**, පු. පිරිමියා.
**පූර්ණ**, ත්‍රි. නොඅඩුද්ද, පුරණලදුයේ.
**පූර්ණකුම්භ**, පු. පුන්කලස.
**පූර්ණිමා**, ස්ත්‍රී පුණුපෝය.
**පූර්ත**, න. "පුෂ්කරණ්‍යඃ සභාවාපි දෙවතායතනානිච ආරාමශ්ච විශෙෂෙණ පූර්තකර්ම විනිර්දිශෙත්" යනමෙහි කියනලද පොකුණුය, සභාය, වැව්ය, දෙවායතනය, ආරාමය යනමොවුන්ගේ තැනීම.
**පූර්ව**, ත්‍රි. පළමු නෑ ආදිය, පූර්වදික් දෙශාදිය.
**පූර්වජ**, ත්‍රි වැඩිමහලුබෑයා.
**පූර්වදෙව**, පු. අසුරයෝ.
**පූර්වපර්වත**, පු. උදගිර.
**පූර්වෙද්‍යුස්**, අව්‍ය. පෙරදවස්හි.
**පූෂන්**, පු. හිරු, ප්‍රථමාවිභක්ති ආදියෙහි පූෂා, පූෂණෞ,පූෂණඃ.
**පෘක්ති**, ස්ත්‍රී. සම්පර්කීය, ස්පර්ශය.
**පෘච්ඡා**, ස්ත්‍රී. ප්‍රශ්නය.
**පෘතනා**, ස්ත්‍රී. චතුරඞ්ගිනීසෙනාව් වාහිනීනම් සෙනාන්තර තුනකින්යුත් සේනාභෙදය.
**පෘථක්**, අව්‍ය. වර්ජනය හෙවත් වෙන්කිරීමයි.
**පෘථක්පර්ණී**. ස්ත්‍රී. අස්වැන්න.
**පෘථගාත්මිකා**, ස්ත්‍රී. මේ පුරුෂතෙම මෙබඳු ස්වරූපඇත්තේය මොහුකෙරෙන්භින්නවූ මේ ප්‍රකෘතිය මෙබඳු ස්වරූපඇත්තීයයි මෙසේ ප්‍රකෘති පුරුෂ දෙදෙනාගේ භෙදඥාන ව්‍යක්තිය.
**පෘථග්ජන**, පු. මූඪයා, නීචයා.
**පෘථග්විධ**, ත්‍රි. නන්වැදෑරුම්වූවා.
**පෘථිවී**, ස්ත්‍රී. භූමිය, පෘථවී, පෘථ්වී, පෘථිවීකියාද පාඨයි.
**පෘථු**, ත්‍රි. පුළුල්ද්ද, ස්ත්‍රී. සුදුගස පත් (පෙරුම්කායම් කොළ) කළුදුරු.
**පෘථුක**, පු. පුළු (හබලපෙති). පක්ෂිපැටවා.
**පෘථුරොමන්**, පු. මත්ස්‍යයා (මුඛදෙශයෙහි මහත්වූ රොමඇති පාඨීනාදි මත්ස්‍යයන් කෙරෙහි වැටෙන මේශබ්දයාගේ අලොමක මත්ස්‍යයන් කෙරෙහි වැටීම අවිශෙෂවශයෙනි).
**පෘථුල**, ත්‍රි. පුළුල්ද්ද.
**පෘථ්වී**, ස්ත්‍රී. එල්සාල්, පොළොව.
**පෘථ්වීකා**, ස්ත්‍රී. එල්සාල්, (එන්සාල්).
**පෘදාකු**. පු. සර්පයා.
**පෘශ්නි**, ත්‍රි. කුරුඅය.
**පෘශ්නිපර්ණී**, ස්ත්‍රී. පුස්වැන්න.
**පෘෂත්**, න. දියබිඳුව.
**පෘෂත**, පු බිඳුවෙන් චිත්‍රවූ එනම් මෘගයා, දියබිඳුව.

**පාෂත්ඛ**, පු. ඊතලය.
**පෘෂදශ්ව**, පු. සුළඟ.
**පෘෂදාජ්‍ය**, න. දීසහිත ගිතෙල්.
**පෘෂ්ඨ්‍ය**, න. ස්තොත්‍රසමූහය, ඉන් යුත් යාගභෙදය. ත්‍රි.
**පෘෂ්ඨ**, න. පිට.
**පෘෂ්ඨ්‍ය**, න, පිටේ ඇටසමූහය, පු. දිය ආදී බරඅදින අශ්වයා
**පෙචක**, පු. බකමූනා ඇතුන්ගේ වාලධිය මූල ගුදයවසාසිටි මාංස පිඩය.
**පෙටක**, පු. වස්ත්‍රාභරණ බහාත බන පෙට්ටිය, කදළුලෙන පෙට්ටිය.
**පෙටා**, ස්ත්‍රී. වස්ත්‍රාභරණ බහාත බන පෙට්ටිය, කදළුලෙන පෙට්ටිය.
**පෙටී**, ස්ත්‍රී. වස්ත්‍රාදිය බහන කුඩා පැස.
**පෙලව**, ත්‍රි. තුනීදෑ.
**පෙශල**, ත්‍රි. මනොහරදෑ, දක්ෂයා.
**පෙශී**, ස්ත්‍රී. පක්ෂීන්ගේ බිජුවට.
**පෛඨර**, ත්‍රි. බඳුනෙහි පිසූ ආහාරාදිය.
**පෛතෘෂ්වසෙය**, පු. පියහු සහෝදරියගේ පුතා.
**පෛතෘෂ්වස්‍රීය**, පු. පියහු සහෝදරියගේ පුතා.
**පෛත්‍ර**, න. පිතෘතීර්ථයයි කියන ලද මහපට ඇඟිල්ලහා ඊට දෙවන ඇඟිලි අතර.
**පොගණ්ඩ**, ත්‍රි. ස්වභාවයෙන් හීන අවයව ඇත්තා.
**පොටගල**, පු. බටදඬුව, වැළුක්.
**පොටා**, ස්ත්‍රී. ස්ත්‍රීලක්ෂණවූතත් ද පුරුෂලක්ෂණවූ රවුල්ද ඇති ස්ත්‍රී.
**පොත**, පු. ඔරුව, පැටවා.
**පොතවණික්**, පු. නැව්වෙළඳා.
**පොතවාහ**, පු. නැවියා, (නැව් පදින්නා).
**පොතාධාන**, න. බිජුවටින් උපදනා මත්ස්‍යපොතක සමූහය (පිලාව).
**පොත්‍ර**, න. ඌරන්, නගුල් යන මොවුන්ගේ තුඩුඅග.
**පොත්‍රින්**, පු. ඌරා.
**පෞණ්ඩ්‍රක**, න. පොඹුරු, "ඉදං ශාලපර්ණී තුල්‍යපත්‍රං ඥෙයං සඵලපද්මමිතිගෞඩාඃ" මේඅස් වැන්න පත්වැති පත් ඇතැයි දනයුතු ගෞඩයෝ ගොඩමහනෙල්යයි කියත්.
**පෞත්‍රී**, ස්ත්‍රී. පුතාගේ හෝ දූගේ හෝ දූවූ මිනිබිරිය.
**පෞර**, න. සුවඳතණ.
**පෞරස්ත්‍ය**, ත්‍රි. පූර්ව හෙවත් ආදිය.
**පෞරුෂ**, ත්‍රි පුරුෂප්‍රමාණය. න. පුරුෂයන්ගේ ක්‍රියාව, පිරිමිබව.
**පෞනශ්ච**, ත්‍රි මුළුදෙට.
**පෞර්ණමාස**, ස්ත්‍රී. පුණුපෝය.
**පෞලස්ත්‍ය**, පු. වෙසමුණු.
**පෞලි**, පු. අඩක්කැඩූ යවාදිය, මිට ප්‍රාකෘතයෙන් පොළීයයි ව්‍යවහාරයි.
**පෞෂ**, පු. දුරුතුමාස.
**පෞෂ්පක**, න පුෂ්පාජන.
**ප්‍රකාණ්ඩ**, පු න. වෘක්ෂයාගේ මූලපටන් අතුදක්වාඇත්තාවූ කඳ, ප්‍රශස්තය, "ලිඟාන්තරෙණ සමානාධිකරණෙපිසවලිංගං නත්‍යජන්ති"යි විශෙෂ්‍යබඳුලිඟු නැත්තේයයිද "අස්ත්‍රියාං ප්‍රකාණ්ඩො විටපෙතරුස්කන්ධප්‍රශස්තයොඃ"යි වෛලෙප්භාකදෙහි වැටෙතකල පුං නපුංසක ලිඟුයයිද කියනලදී.



**ප්‍රකාම**, න. කැමතිසේ යනඅර්ථයි.
**ප්‍රකාර**, පු. න. නානාවිධ, සදෘශ.
**ප්‍රකාශ**, පු අව්ව, ආලොකයෙහිද වැටේ, ව්‍යක්තසිනාව.
**ප්‍රකීර්ණක**, න. චාමරය.
**ප්‍රකීර්‍ය**, පු. සිරිල. (කුණුකරඳ)
**ප්‍රකෘති**, ස්ත්‍රී. ස්වාමියා, අමාත්‍යයා, සුහෘත්‍ය, කොශය, හෙවත් භාණ්ඩාගාරය, රටය, පර්වතොදක වෘක්ෂාදීන් දුර්ගමවූ පුරය, පුරවැසියන්ගේ සෙනාය යන මේ රාජ්‍යාංග අට, ස්වභාවස්ථිතිය, (සත්ව රජස් තමස් යන මොවුන්ගේ සාම්‍යාවස්ථාව, ස්වභාවය, වැලමිටින්යට මණික්කටුව දක්වා දෙමැද අතර, ස්ත්‍රීනිමිත්ත, පුරුෂනිමිත්ත, අමාත්‍යාදීන්ගේ ස්වභාවය.
**ප්‍රක්‍රම**, පු. මූලාරම්භය.
**ප්‍රක්‍රියා**, ස්ත්‍රී. ව්‍යවස්ථාතැබීම,
**ප්‍රක්වණ**, පු. වීණාහඬ, ප්‍රාදි උපසර්ගයන් කෙරෙන් පරවූ ශබ්දයෝද මෙහිවේත්,
**ප්‍රක්වාණ**, න. වීණාහඬ.
**ප්‍රචක්‍ර**, න. පිටත්වූ සෙනාව.
**ප්‍රක්ෂ්වෙඩන**. පු. නාරාචය, එනම් ලොහමය ඊයයි.
**ප්‍රගණ්ඩ**, පු. වැලමිටින් උඩ කිසිල්ලදක්වා දෙමැද අතර.
**ප්‍රගතජානුක**, ත්‍රි. බකලඇත්තා.
**ප්‍රගල්භ**, ත්‍රි. එළඹසිටි සිහිඇත්තා.
**ප්‍රගාඪ**, න. දැඩිබව, කෘච්ඡ්‍රය හෙවත් දුක.
**ප්‍රගුණ**, ත්‍රි. ඇදනැතිදෑ.
**ප්‍රගෙ**, අව්‍ය. රාත්‍රි අනන්තයෙහි "ප්‍රගෙප්‍රගායන්ති ච වන්දිනස්තථා" එසේම අරුණුනැගුනුකල වන්දිභට්ටයෝ හෙවත් ස්තුති පාඨකයෝ ගායනා කෙරෙත් යනු උදාහරණයි.
**ප්‍රග්‍රහ**, පු. දහගෙයි ලූ අය (හිරකාරයා).
**ප්‍රග්‍රාහ (ග්‍ර)**, පු. තරාදි බැඳ එල්ලන ලනුව, රථ රැහැණ.
**ප්‍රඝණ**, පු. ගෙපිල.
**ප්‍රඝාණ**, පු. ගෙපිල.
**ප්‍රචක්‍ර**, න. ස්වචක්‍රයෙන් හෙවත් තමන් අණ පවත්නා තැනින් පරචක්‍රයට හෙවත් අනුන් අණ පවත්නා තැනට යාම.
**ප්‍රචලායිත**, න. නිදිමතින් බැමීම හෙවත් භ්‍රමණය.
**ප්‍රචුර**, ත්‍රි. බොහෝදෑ.
**ප්‍රචෙතස්**, පු. වරුණයා.
**ප්‍රචොදනී**, ස්ත්‍රී. කටුවැල්බටු.
**ප්‍රච්ඡදපට**, පු. වහන්තරාපිළි හෙවත් වීණා ඡෙලාදියවසනවස්ත්‍ර
**ප්‍රඝනන**, න. ගෙය ඇතුළේදෙර (කුරුඹළුව).
**ප්‍රච්ඡර්දිකා**, ස්ත්‍රී. වමනය.
**ප්‍රජන**, න. ගැබ්ගැන්ම.
**ප්‍රජවින්**, ත්‍රි. වෙගවත් මාත්‍රය.
**ප්‍රජා**, ස්ත්‍රී දරු මුනුබුරු පරම්පරාව, ජනයා.
**ප්‍රජාතා**, ස්ත්‍රී. වැදූ නැනැත්ති.
**ප්‍රජාපති**, පු. බ්‍රහ්මයා.
**ප්‍රජාවතී**, ස්ත්‍රී. සහෝදරයාගේ භාර්‍යාව.
**ප්‍රඥා**, ස්ත්‍රී. බුද්ධිය.
**ප්‍රඥාන**, න. නුවණ, ලකුණ.

**ප්‍රගඳු**, ත්‍රි. බහල ඇත්තා.

**ප්‍රඩීන**, න. පක්ෂීන්ගේපියාඹ හැඹීම.

**ප්‍රණය**, පු. ප්‍රේමය. ත්‍රි. වසඟවූයේ, ඉල්වීම, විශ්වාසය.

**ප්‍රණව**, පු. වේදාරම්භයෙහි තියයුතු ඕංයන ශබ්දවිශේෂය.

**ප්‍රණාද**, පු. ශීත්කාරනාදි අනුරාග ශබ්දය.

**ප්‍රණාල්**, ස්ත්‍රී. පීල්ල, මෙහිම "ප්‍රණාලි" පු.

**ප්‍රණිධි**, පු. චරපුරුෂයා, පැතීම.

**ප්‍රණිහිත**, ත්‍රි ලදදෑ.

**ප්‍රණීත**, පු. මන්ත්‍රාදියෙන් පිළියෙළකළ ගින්න, ත්‍රි. පාකරූපරසාදියෙන් යුත් ව්‍යඤ්ජනාදිය.

**ප්‍රණුත**, ත්‍රි ස්තුතිකරණලද යන අර්ථවාචකයි.

**ප්‍රණෙය**, ත්‍රි. කීකරුවූ, අයත්වූ.

**ප්‍රතන**, ත්‍රි. පරණදෑ.

**ප්‍රතල**, පු. විදහූ අතුල්.

**ප්‍රතාප**, පු. කෝෂයෙන් හා දණ්ඩයෙන් හෙවත් ධනයෙන් හා දඬුවමින් හටගත්තෙජස.

**ප්‍රතාපස**, පු. හෙලවරාගස.

**ප්‍රති**, අව්‍ය. ප්‍රතිනිධි, වීප්සාලක්ෂණ, ඉත්ථම්භූතභාග, ප්‍රතිදාන යනාදි අර්ථයන්හිවේ. උදාහරණ මෙසේයි "අභිමන්‍යු ප්‍රතිපරීක්ෂිත්" අභිමන්‍යුහුසෙයින් විවාලේය. "ප්‍රද්‍යුම්නඃ කෘෂ්ණං ප්‍රති" ප්‍රද්‍යුම්න තෙමේ විෂ්ණුහු සදෘශයි. යනාදිතන්හි ප්‍රතිනිධි හෙවත් මුඛ්‍යසදෘශයෙහිද "තිථිං තිථිං ප්‍රතිගච්ඡති" පවිත්‍රස්ථානයක් පාසායෙයි. යනාදිතන්හි වීප්සායෙහිද "වෘක්ෂං ප්‍රතිවිද්‍යෝතතෙ විද්‍යුත්" ගස අත්තකෙළින් විදුලිය බබලයි" යනාදිතන්හි ලක්ෂණාර්ථයෙහිද "භක්තො විෂ්ණුම්ප්‍රති" ස්වාමියාකෙරෙහි හෝ මහදෙවියා කෙරෙහි භක්ති ඇත්තේය. යනාදිතන්හි ඉත්ථම්භූතාර්ථයෙහිද "හරිම්ප්‍රත්‍ය භවල්ලක්ෂ්මීඃ" ශ්‍රී තොමෝ විෂ්ණුහුගේ භාගයෙහිවී. යනාදිතන්හි භාගාර්ථයෙහිද "ශමෙහාභීතොඃ ප්‍රත්‍යමෘතම්. ඊශ්වරතෙම තම හට භක්ති ඇත්තාහට මොක්ෂය දෙයි යනාදිතන්හි ප්‍රතිදානයෙහිද වේ.

**ප්‍රතිකර්මන්**, න. පහ්‍රිත හෙවත් ස්වර්ණාභරණාදියෙන් කරනල ද ශොභාව.

**ප්‍රතිකූල**, ත්‍රි. විපරීතදෑ.

**ප්‍රතිකෘති**, ස්ත්‍රී. පිළිරුව.

**ප්‍රතිකෘෂ්ට**, ත්‍රි. නින්දිතයා.

**ප්‍රතික්ෂිප්ත**, ත්‍රි. සපඬාසරන්නවුන් විසින් නිරසනයා හෙවත් බැහැරකෙළේ.

**ප්‍රතිබාංති**, පු දුනු දෙසියයකින් ඔබ්බෙහි සිට ඉන්පසුව සිටි සෙනාව එක්කොටගන්නා යුද්ධසෙනාව. ස්ත්‍රී. ඉතා ප්‍රසිද්ධිය.

**ප්‍රතිග්‍රහ**, පු. එටලතු ගොටුව එනම් කෙලගොටුව (පඩික්කම).

**ප්‍රතිඝ**, පු. කොපය.

**ප්‍රතිඝාතන**, න. මැරවීම.

**ප්‍රතිච්ඡායා**, ස්ත්‍රී. පිළිරුව.

**ප්‍රතිජාගර**, පු. ප්‍රත්‍යවෙක්ෂාව.

**ප්‍රතිඥාත**, ත්‍රි. ස්වීකරණලද හෙවත් ගිවිස්නාලද යන අර්ථයි.



**ප්‍රතිඥාන**, න. පොරොන්දුව, ගිවිසුම.

**ප්‍රතිදාන**, න. අනුන්කෙරෙහි රක්ෂාකරණු පිණිස තගා තැබූ වස්තුව නැවත දීම හෙවත් උකස්ගැලවීම.

**ප්‍රතිධ්වාන**, පු පිළිරැව්.

**ප්‍රතිනිධි**, පු. පිළිරුව.

**ප්‍රතිපද්**, ස්ත්‍රී. බුද්ධිය, පැළවිය.

**ප්‍රතිපන්න**, ත්‍රි. අවබොධකළදෑ.

**ප්‍රතිපාදන**, න. දානය.

**ප්‍රතිබද්ධ**, ත්‍රි. සිත්බිඳිනාලදුයේ.

**ප්‍රතිබන්ධ**, පු. කාර්‍ය්‍යප්‍රතිඝාතයා.

**ප්‍රතිබිම්බ**, න පිළිරුව.

**ප්‍රතිභය**, න. මහත්භය ත්‍රි. ඉන් යුත්දෙයෙහි. පු. නාට්‍යොක්ති යෙහි භයානක රසය.

**ප්‍රතිභාන්විත**, ත්‍රි. එලඹසිටි සිහි ඇත්තා.

**ප්‍රතිභූ**, පු. ණය ආදියෙහි ඇපකාරයා.

**ප්‍රතිමා**, ස්ත්‍රී. පිළිරුව.

**ප්‍රතිමාන**, න. පිළිරුව, ඇතුන්ගේ යටිකුඹයෙන් යට දළඅතර.

**ප්‍රතිමුක්ත**, පු. (චොලකාදිය) හැන්දේ.

**ප්‍රතියත්න**, පු. ආශා අනුකූල හෙවත් වශීකරණාදිය.

**ප්‍රතියාතනා**, ස්ත්‍රී පිළිරුව.

**ප්‍රතිරොධින්**, පු. සොරා.

**ප්‍රතිවාක්‍ය**, න. උත්තරය.

**ප්‍රතිවිෂා**, ස්ත්‍රී. ඉවද.

**ප්‍රතිශාසන**, න. අමාත්‍යාදීන් කැඳවා මෙහෙයීම.

**ප්‍රතිශ්‍යාය**, පු. පීනස.

**ප්‍රතිශ්‍රය**, පු. සභාව, ආශ්‍රය, වෙතට එලඹීම.

**ප්‍රතිශ්‍රව**, පු. පොරොන්දුව (ගිවිසුම).

**ප්‍රතිශ්‍රුත්**, ස්ත්‍රී. පිළිරැව්.

**ප්‍රතිෂ්ටම්භ**, පු. කාර්‍ය්‍යප්‍රතිඝාතය.

**ප්‍රතිසර**, පු. සෙනාවගේ පසුභාගය. පු. න, අතනූල.

**ප්‍රතිසීරා**, ස්ත්‍රී. තිරය.

**ප්‍රතිහත**, ත්‍රි සිත්බිඳුනාලදුයේ.

**ප්‍රතිහාරක**, පු. දොරටුපාලයා ප්‍රතිහාරයයිදවේ

**ප්‍රති(තී)හාස**, පු අලරියගස, (කණෙරු ගස).

**ප්‍රතීක**, පු. ශරීරාවයව එකදෙශය. ත්‍රි. විලොම.

**ප්‍රතීකාර**, පු. රොගාදියට කරන ක්‍රියම, වෛර නියර්‍යාතනය.

**ප්‍රතීකාශ**, ත්‍රි. උත්තරපදයෙහිවූ මේපදයෙන් සමානතා කියයි.

**ප්‍රතීක්‍ෂ්‍ය**, ත්‍රි. පිදියයුතා හෙවත් ගරුකටයුත්තා.

**ප්‍රතීචී** ස්ත්‍රී. පශ්චිමදිශාව.

**ප්‍රතීත**, ත්‍රි. ප්‍රසිද්ධවූයේ, සතුටුවූයේ.

**ප්‍රතීපදර්ශිනී**, ස්ත්‍රී. ගැහැණී.

**ප්‍රතීර**. න. ඉවුර.

**ප්‍රතීහාර**, පු. දොරකඩ, දොරටුපාලයා.

**ප්‍රතොලී** ස්ත්‍රී. මහවේ(මහාවීථිය).

**ප්‍රත්න**, ත්‍රි. පුරාණදෑ.

**ප්‍රත්‍යක්පර්ණී**, ස්ත්‍රී. සැබෝගස.

**ප්‍රත්‍යක්ශ්‍රේණී**, ස්ත්‍රී. දත්ත, මීනුග.

**ප්‍රත්‍යක්ෂ**, ත්‍රි. ප්‍රත්‍යක්ෂදෑ.

**ප්‍රත්‍යග්‍රහ**, ත්‍රි. අලුත්දෑ.

**ප්‍රත්‍යන්ත**, පු. පිටිසර "ශිෂ්ටාචාර විරහිතස්‍ය කාමරූපාදෙඃ" යනු වචන බැවින් භාරතවර්‍ෂයාගේ හෙවත් සින්ධුරට ශිෂ්ටාචාර විරහිතවූ කාමරූපාදිවූ ප්‍රත්‍යන්තයයි.

**ප්‍රත්‍යන්තපර්වත**, පු. පිරිවරකුඩා කඳු.

**ප්‍රත්‍යය**, පු. අයන්, ගිවිසීම, ප්‍රඥාව, විශ්වාසය, කාරණය, ශබ්දය.

**ප්‍රත්‍යයිත**, ත්‍රි "යථාර්ථඥයෙහි" විශ්වාසයට ආධාරවූයේ.

**ප්‍රත්‍යර්ථින්**, පු. සතුරා.

**ප්‍රත්‍යවසිත**, ත්‍රි. කතලද යනමේ අර්ථවාචකයි.

**ප්‍රත්‍යාඛ්‍යාත**, ත්‍රි නිරාකෘතවූයේ හෙවත් බැහැරකෙළේ.

**ප්‍රත්‍යාඛ්‍යාන**, න. බැහැරලීම.

**ප්‍රත්‍යාදිෂ්ට**, ත්‍රි. නිරාකෘතයා හෙවත් බැහැරකෙළේ.

**ප්‍රත්‍යාදෙශ**, පු. බැහැරලීම.

**ප්‍රත්‍යාලීඪ**, න. දුනුවායන්ගේ ප්‍රත්‍යාලීඪය, සම්පදය, වෛශාඛය, මණ්ඩලයයි කියනලද පස්වැදෑරුම් සිටීම් අතුරෙන් වාමජංඝා ප්‍රසාරණයකොට දක්ෂිණජංඝාව හකුළුවා සිටීමයි.

**ප්‍රත්‍යාසාර**, පු. ව්‍යූහයාගේ හෙවත් සේනා වින්‍යාසයාගේ පශ්චාද්භාගය.

**ප්‍රත්‍යාහාර**, පු ඉන්ද්‍රියාකර්‍ෂණය.

**ප්‍රත්‍යුත්ක්‍රම**, පු. යුඩයට අතිශය උත්සාහය.

**ප්‍රත්‍යූෂස්**, න. උදය.

**ප්‍රත්‍යූෂ**, පු. උදය.

**ප්‍රත්‍යූහ**, පු. අන්තරාය.

**ප්‍රථම**, ත්‍රි. ආදිය, ප්‍රධාන, පළමු.

**ප්‍රථා**, ස්ත්‍රී. ප්‍රසිඩිය.

**ප්‍රථිත**, ත්‍රි. ප්‍රසිඩවූයේ.

**ප්‍රදර**, පු.පැ ල්ම, ස්ත්‍රීරොගයක්, (කිලිමාලේ) හීදඬු.

**ප්‍රදීප**, පු. පහන.

**ප්‍රදීපන**, පු. එනම් ස්ථාවර විෂභෙදය (දවන්නාවූ රක්තවර්‍ණවූ අජනපර්‍වතයෙහි වන්නාවූ විෂයෙකි.

**ප්‍රදෙශන**, න. දෙවියන්ට හෝ මිතුරන්ට දෙනදෑ.

**ප්‍රදෙහිනී**, ස්ත්‍රී. දබරඟිල්ල.

**ප්‍රදොෂ**, පු. රාත්‍රිමුඛය

**ප්‍රද්‍යුම්න**, පු. අනඟයා.

**ප්‍රද්‍රාව**, පු. පලායාම, "ප්‍රද්‍රව" න මුදුවේ.

**ප්‍රධන**, න. යුඩය.

**ප්‍රධාන**, න. ප්‍රධානදෑ, ප්‍රධාන අමාත්‍යයා එනම් අප්‍රකෘෂ්ටද නුවූ උත්කෘෂ්ටද නොවූ මධ්‍යමාධිකරණයෙහි ව්‍යවස්ථිතවූ රාජපුත්‍ර සෙනාපති ආදිහුයි, ස්වභාවස්ථිතිය, සත්‍ව රජස්තමස්යන මොවුන්ගේ සාම්‍යාවස්ථාව, මහබඹු, බුඩිය.

**ප්‍රධි**, පු, නිම්වලල්ල.

**ප්‍රපඤ්ච**, පු. විපර්‍යාස, විස්තර.

**ප්‍රපද**, න. අග්පතුල.

**ප්‍රපදී**, න.ත්‍රි පා අගදක්වා වැටෙන පිළි.

**ප්‍රපා**, ස්ත්‍රී. පැන්හල.

**ප්‍රපාත**, පු. ප්‍රපාතය.



**ප්‍රපිතාමහ**, පු. මුත්තාගේ පියා.

**ප්‍රපුන්නාඩ**, පු. තුවරගස (පෙතිතෝර) ප්‍රපුනාල(ඩ) ප්‍රපුන්නාට යනුද මෙහි වෙත්.

**ප්‍රපෞණ්ඩරීක**, න. පොඩරු, "ඉදං ශාලපර්ණීතුල්‍ය පත්‍රං ඥෙයම් ස්ථලපද්මමිතිගෞඩාඃ" මේ අස්වැන්නපත්‍ර වැනි පත්‍ර ඇතැයි දතයුතු ගෞඩමහනෙල් යයි ගෞඩයෝ කියත් යනු ටීකායි.

**ප්‍රඵුල්ල**, ත්‍රි. මල් ගෙණසිටි රුක් ආදිය.

**ප්‍රබොධන**, න. පළමු ආලේප කළ සඳුන් ආදීන්ගේ ඉක්මුනු සුවඳ නැවත ව්‍යක්තකරණු පිණිස කස්තුරි ආදියෙන් ඉලීම් ආදි ක්‍රියා.

**ප්‍රභඤ්ජන**, පු. සුළඟ.

**ප්‍රභව**, පු. ජන්මහෙතුව හෙවත් උත්පත්ති කාරණය "ගඞ්ගාප්‍රභවො හිමවාන්, කුලාලචක්‍ර ප්‍රභවොඝටඃ" ගඞ්ගානදියගේ හට ගැන්මෙහි මූල හිමවතය කලයෙහි හටගැණිමේ මූල කුඹල් සකයයනාදි තන්හිමෙන් උපලබ්ධිමූල ප්‍රථමඥානය පිණිස මූලස්ථානයයි.

**ප්‍රභා**, ස්ත්‍රී. දීප්තිය.

**ප්‍රභාකර**, පු. හිරු.

**ප්‍රභාව**, පු. රජුන්ගේ කොෂය දණ්ඩය යන දෙකින් හටගත් තෙජස, සම්භාවන, වික්‍රමය, ශාන්තිය, උත්පත්තිය.

**ප්‍රභින්න**, පු. මදගලිත ඇතා.

**ප්‍රභු**, ත්‍රි. ස්වාමියා.

**ප්‍රභූත**, ත්‍රි. බොහෝදෑ.

**ප්‍රභ්‍රෂ්ටක**, න. සිළෙහි එලෙන් මල්දම.

**ප්‍රමථ**, පු. ඊශ්වරයාගේ පිරිස.

**ප්‍රමථන**, න. මැරවීම.

**ප්‍රමථාධිප**, පු ඊශ්වරයා.

**ප්‍රමද**, පු. ප්‍රීතිය.

**ප්‍රමදා**, ස්ත්‍රී. සතුටුසිත්ඇති උතුම් ස්ත්‍රිය.

**ප්‍රමදවන**, න. ඇතොවුරන්ට සුදුසු උයන.

**ප්‍රමනස්**, ත්‍රි. තුටුසිත් ඇත්තා.

**ප්‍රමා**, ස්ත්‍රී. යථාර්ථඥානය හෙවත් තත්වය දැන්ම.

**ප්‍රමාණ**, න. අනුමානයෙන් අවබොධයටහෙතුව, සීමා, ශාස්ත්‍ර, මෙපමණෙක්මයයි පිරිසිඳීම, ත්‍රි. ප්‍රමාණකරන්නා.

**ප්‍රමාතාමහ**, පු. මව්ගේ පියාගේ පියා.

**ප්‍රමාද**. පු. ප්‍රමාදය.

**ප්‍රමාපණ**, න. මැරවීම.

**ප්‍රමීත**, ත්‍රි. යාගයෙහි මරණලද්දේ.

**ප්‍රමිති**, ස්ත්‍රී. යථාර්ථඥානය හෙවත් තත්වය දැන්ම.

**ප්‍රමීන**, ත්‍රි. මළ අය.

**ප්‍රමීලා**, ස්ත්‍රී. අධිකවූ පරිශ්‍රමාදී නිමිත්තෙන්වූ අඟනිමීලනය හෙවත් මැලිබව.

**ප්‍රමුඛ**, ත්‍රි. ප්‍රධානදෑ.

**ප්‍රමුදිත**, ත්‍රි. පිනාගිය තැනැත්තේ.

**ප්‍රමොද**, පු. ප්‍රීතිය.

**ප්‍රයත**, ත්‍රි. ව්‍රතාදියෙන් පවිත්‍ර වූයේ.

**ප්‍රයස්ත**, ත්‍රි. තෛලපරිද්‍රව්‍යාදියෙන් යහපත්කොට සංස්කෘතවූ හෙවත් සරසනලද ව්‍යඤ්ජනාදිය.

**ප්‍රශාම**, පු. ධනධාන්‍යාදියෙහි මනුෂ්‍යයන්ගේ ආදර අතිශය (ඉතා ආදරය.)

**ප්‍රයොගාඪ**, පු. යුද්ධයට අතිශය උත්සාහය.

**ප්‍රලම්බඝ්න**, පු. බලභද්‍රයා.

**ප්‍රලය**, පු. චෙෂ්ට, නාශය හෙවත් ශොකාදියෙන් කායික ක්‍රියා රහිතවීම, ක්‍ෂයකල්පය, (කප්කෙළ) මරණය.

**ප්‍රලාප**, පු. අරුත් නැති තෙපුල.

**ප්‍රවණ**, ත්‍රි. පිළිවෙළින් පාත්වූ හෙවත් නැමුනු බිම, අවනත, පු. සතරමන්සන්ධිය.

**ප්‍රවයස්**, ත්‍රි. මහල්ලා, එනම් සැත්තෑවෙන් ඔබ්බෙහි වයස්වූ අය.

**ප්‍රවහ**, පු. නගරාදියෙන් පිටතට නික්මීම.

**ප්‍රවහණ**, න. කරෙන් උසුලන රථය වැනිවූ යානාවක් (පල්ලක්කිය) ස්ත්‍රීන්ගේ යානාඵවූ මගල්‍යරථයයිද කියත්.

**ප්‍රවඟී**, ත්‍රි. ප්‍රධානදෑ.

**ප්‍රවහ්ලිකා**, ස්ත්‍රී. දුරවබොධාඵයෙන්යුත් ප්‍රශ්නය "තරුණ්‍යා ලිඛිතං කණ්ඨෙ ති තම්බස්ථාන මාශ්‍රිතඃ ගුරූණාංසන්නිධානෙපි කඃ කූජතිමුහුර්මුහුඃ" මෙහි ස්වරූපාඵය මදක් අඩුකලයයි ඒගුප්තකොට අනිකක් ප්‍රකාශ කෙරෙයි. ප්‍රවහලිකා තොමෝ මෙබඳුයි.

**ප්‍රවාරණ**, න. උත්තම වස්තු දීම, හස්ත්‍යශ්වාදි දානය.

**ප්‍රවාල**, පු. වීණාදණ්ඩුව. පු න. පබලු. අංකුරය හෙවත් ලපලු.

**ප්‍රවාහ**, පු. ජලාදීන්ගේ අවිච්ඡින්න සන්තතිය.

**ප්‍රවාසන**, න. මැරවීම.

**ප්‍රවාහිකා**, ස්ත්‍රී. එනම් රොගය.

**ප්‍රවිදාරණ**, න. යුද්ධය.

**ප්‍රවිශ්ලෙෂ**, පු. ඉතා වෙන්වීම.

**ප්‍රවීණ**, ත්‍රි. ක්‍රියාවෙහි දක්‍ෂයා.

**ප්‍රවෘත්ති**, ස්ත්‍රී. ජලාදීන්ගේ අවිච්ඡින්න සන්තතිය.

**ප්‍රවෘත්ති**, ස්ත්‍රී. ප්‍රවෘත්ති කථාව (ස්වරූපවූ පරිද්දෙන් කියන්නාවූ කථාව.)

**ප්‍රවෘද්ධ**, ත්‍රි. ප්‍රසරණ යුක්ත හෙවත් පැතිරීම් ඇතිදෑ, ඉතා වැඩුනුදෑ.

**ප්‍රවෙක**, ත්‍රි. ප්‍රධානදෑ.

**ප්‍රවෙණී**, ස්ත්‍රී. රන් ආදීන් ගොතා හෙලූ හිසකේ, ඇතුන් පිට ලන විචිත්‍ර කම්බලය.

**ප්‍රවෙෂ්ට**, පු. අත.

**ප්‍රව්‍යක්ත**, ත්‍රි. ව්‍යක්තදෑ.

**ප්‍රශ්න**, පු. ප්‍රශ්නය.

**ප්‍රශ්‍රය**, පු. ප්‍රෙමය.

**ප්‍රශ්‍රවණ**, න. දියවැහෙන උල්පත.

**ප්‍රශ්‍රිත**, ත්‍රි. හික්මුනු අය.

**ප්‍රෂ්ඨ**, ත්‍රි. පෙරටුව යන්නා.

**ප්‍රෂ්ඨවාහ්**, පු. පුරුදුකරන කාලයෙහි විය පැත්තක යෙදූ ගොනා.

**ප්‍රෂ්ඨෞහී**, ස්ත්‍රී. පළමු ගැබ ඇත්තී.



**ප්‍රසන්නා**, ස්ත්‍රී. සුරා, ත්‍රි. නිර්මලදෑ.

**ප්‍රසන්නතා**, ස්ත්‍රී. ප්‍රසන්න භාවය.

**ප්‍රසභ**, න. බලාත්කාරය.

**ප්‍රසර**, පු. පිළිකාදීන් පැතිරයාම.

**ප්‍රසර්පණ**, න. හැමතැන්හි පැතිරයන්නාවූ සෙනාව.

**ප්‍රසව**, පු. දරුවන් වැදීම, ගෙඩි මල් ඉපදීම.

**ප්‍රසව්‍ය**, ත්‍රි. විපරීතදෑ.

**ප්‍රසහ්‍ය**, අව්‍ය. බලාත්කාරයෙහි "ප්‍රසහ්‍යසිංහඃ කිලතාංචකර්ෂ" සිංහයෙක් ලාහෙලා ඒ දෙන ඇද්දේලයනාදි උදාහරණයි.

**ප්‍රසාද**, පු. අනුග්‍රහය, එනම් කාව්‍යගුණය, ප්‍රසන්නභාවය.

**ප්‍රසාධන**, න. පහයීම හෙවත් ස්වර්ණාභරණාදියෙන් කරන ලද පහයීම.

**ප්‍රසාධනී**, ස්ත්‍රී. පනාව.

**ප්‍රසාධිත**, ත්‍රි. පහයින් ගන්වනලද්දේ හෙවත් සරසනලද්දේ.

**ප්‍රසාරින්**, ත්‍රි. ඇත මෑත පැතිරෙන සුලුදෑ.

**ප්‍රසාරිණී**, ස්ත්‍රී. ආපසු මදුවැල්.

**ප්‍රසිත**, ත්‍රි. තත්පරයා හෙවත් නියැලියා.

**ප්‍රසිති**, ස්ත්‍රී. බන්ධනය.

**ප්‍රසිද්ධ**, ත්‍රි. ප්‍රකට, සරහනලද

**ප්‍රසූ**, ස්ත්‍රී. මව්, වෙළඹ, විරූඪ හෙවත් පැතිරෙන වැල්.

**ප්‍රසූතා**, ස්ත්‍රී. වැදූ තැනැත්තී.

**ප්‍රසූති**, ස්ත්‍රී. දරුවන් වැදීම.

**ප්‍රසූතිකා**, ස්ත්‍රී වැදූ තැනැත්තී

**ප්‍රසූතිජ**, න. සිත් පීඩාව, ව්‍යාකූලබව, ඉන් යුක්තයෙහි ත්‍රි.

**ප්‍රසූන**, න. පුෂ්පය, ගෙඩි.

**ප්‍රසූජනයිතෘ**, පු. මව්පියෝ, ද්විවචනාන්තයි.

**ප්‍රසෘත**, ත්‍රි. පැතිරීම් ඇතිදෑ, පු. දෝත.

**ප්‍රසෘතා**, ස්ත්‍රී. හින්කකුල හෙවත් කෙණ්ඩ.

**ප්‍රසෙව**, පු. පසුම්බිය, ගොණිය.

**ප්‍රසෙවක**, පු. කරුවිය එනම් වීණාවේ සම්බඳින ලබුගෙඩිය.

**ප්‍රස්තර**, පු. පහණ (ගල)

**ප්‍රස්තාව**, පු. ප්‍රසඞ්ගය, අවසරය.

**ප්‍රස්ථ**, පු. නැළිය, පු. න. පර්වතයාගේ සමභූමිය.

**ප්‍රස්ථමාන**, න. පරිමාණය (කුරුනි ආදියෙන් මිනීම.)

**ප්‍රස්ථපුෂ්ප**, පු. හීන් පණ්ණාස වෘක්ෂය.

**ප්‍රස්ථාන**, න. විජිගීෂුහු හෙවත් ජයගනු කැමැත්තහු යුද්ධ පිණිස යාම.

**ප්‍රස්ඵොටන**, න. කුල්ල.

**ප්‍රස්‍රවණ**, ත්‍රි පිළිවෙළින් නැමුනු හෙවත් පාත්වූ බිම. අවනත.

**ප්‍රස්‍රාව**, පු. මූත්‍ර.

**ප්‍රහර**, පු. යාමය.

**ප්‍රහරණ**, න. ආයුධය.

**ප්‍රහසන**, පු. විදහු අතුල්.

**ප්‍රහි**, පු. ලිඳ.

**ප්‍රහෙලිකා**, ස්ත්‍රී. දුරවබොධ ප්‍රශ්නය "පානීයංපාතු මිච්ඡාමිත්වත්තං කමලලොචනෙ, යදිදාස්‍යසිනෙච්ඡාමි, නොදාස්‍යසිච දෙහිමෙ" මෙසේ අන්කිසි අර්ථයක් ප්‍රකාශකොට ස්වරූපා

එය ගුප්තකිරීමෙන් යමක් දක්වනුලැබේද ඕ තොමෝ ප්‍රහෙලිකා නමි.

**ප්‍රාංශු**, ත්‍රි. උස්දෑ.

**ප්‍රාකාර**, පු. පව්ර.

**ප්‍රාකෘත**, පු. නීචයා.

**ප්‍රාග්**, අව්‍ය, අතීතාර්ථයි. "ප්‍රාක්කර්මය" පූර්වජාතියෙහි උපචිත කර්මය යනාර්ථයෙහිවේ.

**ප්‍රාග්වංශ**, පු. යාග මණ්ඩපය සමීපයේ යාග ද්‍රව්‍ය තබන පිණිස කළහවිර්ගෘහය. පූර්වභාගයෙහිවූ යාගකරනනවුන්ගේ සිටීම පිණිස කළ ගෙය.

**ප්‍රාග්‍රහර**, ත්‍රි. ප්‍රධානදෑ.

**ප්‍රාග්‍ය**. ත්‍රි. ප්‍රධානදෑ.

**ප්‍රාඝාර**, පු. ගිතෙල්ආදිය, දියවීම.

**ප්‍රාච්**, ත්‍රි, පූර්වකාලය, පූර්වදෙශය.

**ප්‍රාචී**, ස්ත්‍රී. පූර්වදිශාව

**ප්‍රාචීන**, ත්‍රි. පූර්වදිශා දෙශයන්හි වූයේ, න. වැට.

**ප්‍රාචීනා**, ස්ත්‍රී. දියමිත්ත.

**ප්‍රාචීනාවීත**, න. වමත යටින්ලූ යාග හුය.

**ප්‍රාචීර**, න. වැට "නගරාදෙඃ ප්‍රාන්තභාගෙයාවෘතිඃ වෙෂ්ටනං වෙණුකණ්ටකාදීනාං තත් ප්‍රාචීර(න) මිත්‍යුච්චතෙ" නගරාදියෙහි සිසාරා උණකටු ආදියෙන් කළ වැටයයි කියනලදී.

**ප්‍රාච්‍ය**, පු සින්ධුරට ශරාවතීනම් නදිය කෙරෙන් ඉම්වූ අග්නිදිග පිහිටි දෙශය.

**ප්‍රාජන**, න. කැවිට.

**ප්‍රාජිතෘ**, පු. රථාචාර්යයා.

**ප්‍රාඥ**, පු. පණ්ඩිතයා. ත්‍රි. බුද්ධිමත්, දක්ෂයා.

**ප්‍රාඥා**, ස්ත්‍රී. නැණැත්තී.

**ප්‍රාඥී**, ස්ත්‍රී. කිසියම් දෙයක් විශෙෂයෙන්ම දන්නා නැනැත්තී.

**ප්‍රාජ්‍ය**, ත්‍රි. බොහෝදෑ.

**ප්‍රාඩ්විවෙක**, පු. ධර්මාධිකරණිකයා.

**ප්‍රාණ**, පු. ප්‍රාණාදි පඤ්චවායු එහෙයින් බහුවචනයි. "වායුභෘදි ප්‍රාණඃ" යනු වචන හෙයින් ප්‍රාණවායු හෘදයෙහියයි දත යුතු. ශක්තිය. ගඳරසකැට "රත්‍යාබොළා"යි මහරට ව්‍යවහාර යොන්රට උපදනා බේත් වර්ගයක්.

**ප්‍රාණින්**, පු. සත්වයා.

**ප්‍රාතඃ**, අව්‍ය. රාත්‍රිඅන්තය (උදය)

**ප්‍රාතිභාසික**, ත්‍රි. ඉඟුජල දන්නේ.

**ප්‍රථම කල්පික**, පු. වෙදුරමහ ඇත්තා.

**ප්‍රාදුස්**, අව්‍ය. ප්‍රකාශයෙහිද නාමයෙහිද වේ. "ප්‍රාදුර්බුද්ධිර්භවිෂ්‍යති" බුද්ධිය ප්‍රකාශවන්නීය. හෙවත් පහළවන්නීය යනාදියෙහි වේ. "ප්‍රාදුරාසීත් චක්‍රපාණිඃ" චක්‍රපාණී නම් තැනැත්තේ වූයේය යනාදියෙහි නාමයෙහි වේ.

**ප්‍රාදෙශ**, පු. මිණීමට විදහූ මහපට ඇඟිලි දබරැඟිලි දෙක පමණ.

**ප්‍රාදෙශන**, න. දානය.

**ප්‍රාධ්වම්**, අව්‍ය. අනුකූල භාවය "ප්‍රාධ්වංරථම්" රථය අනුව යනාදි උදාහරණයි.



**ප්‍රාන්තර**, න. සෙවන දිය දෙකින් හිස්වූ දුරුමග.

**ප්‍රාප්ත**, ත්‍රි. ලදදෑ.

**ප්‍රාප්තපඤ්චත්ව**, ත්‍රි. මළ අය.

**ප්‍රාප්තරූප**, ත්‍රි. පණ්ඩිත, මනොහර.

**ප්‍රාප්ති**, ස්ත්‍රී. උත්පත්තිය, ලාභය.

**ප්‍රාභෘත**, න. පඬුර හෙවත් දෙවියන්ට හෝ මිතුරන්ට දෙනදෑ.

**ප්‍රාප්‍ය**, ත්‍රි. පැමිණියහැකිදෑ.

**ප්‍රාය**, පු. බහුලබව, ප්‍රතිඥා පූර්වක අනශනය හෙවත් පොරොන්දුවකින් නොකාහිඳීම හෝ ඉන්වන මරණය.

**ප්‍රායස්**, අව්‍ය, බහුලාර්ථයි "ප්‍රායඃ නවවධූකාන්තා" නවාංගනා තොමෝ බොහෝසෙයින් සිත් අලවා යනාදි උදාහරණයි.

**ප්‍රාර්ථිත**, ත්‍රි. අර්දිකෙළේ හෙවත් යදනාලද්දේ.

**ප්‍රාලම්බ**, න. ගෙලින් ඉදුරා එලෙන මල්දම.

**ප්‍රාලම්බිකා**, ස්ත්‍රී. නැබ දක්වා එලෙන කරපැළඳි රතින්කළ ඇටවැල් ආදිය.

**ප්‍රාලෙය**, න. පිනි.

**ප්‍රාවාර**, පු. මතුහඳනා පිළී.

**ප්‍රාවෘත**, ත්‍රි. පෙරවාගත් පිළී.

**ප්‍රාවෘෂ්**, ස්ත්‍රී. වර්ෂාකාලය. ශිවභක්ති ආදියෙහි "ප්‍රාවෘට්, ප්‍රාවෘඩ්, ප්‍රාවෘෂෞ, ප්‍රාවෘෂඃ කියාවේ. මෙහි ප්‍රාවෘෂා කියාද රූප ඇත්තේය.

**ප්‍රාවෘෂායණී**, ස්ත්‍රී. වඳුරුමෑ.

**ප්‍රාස**, පු. කොන්තායුධය.

**ප්‍රාසඞ්ග**, පු. ගැල පිළිබඳ වියෙන් විය. එනම් හික්මවියයුතු වත්සන්ගේ කරබැඳීමට යෙදූ අතිත් වියයි.

**ප්‍රාසඞ්ග්‍ය**, පු. මක්කානිය උසුලනා ගොනා "වත්සානාංදම්‍යකාලෙස්කන්ධකාෂ්ඨං මාසජ්‍යතෙසප්‍රාසඞ්ගඃ" යනු වචන බැවින් වත්සන් පුරුදුකරන කල කරතබන දඬු මක්කානිය නම්.

**ප්‍රාසාද**, පු. පහය "දෙවභූභුජාම්" යනු වචන හෙයින් දෙවියන්ගේද රජුන්ගේද වාසස්ථානය පහයයි.

**ප්‍රාසික**, ත්‍රි. කුන්තායුධ ඇත්තා.

**ප්‍රාහණ**, පු. පෙරවරු.

**ප්‍රිය**, පු. සැමියා. ත්‍රි. අභීෂ්ටදෑ. හෙවත් ප්‍රියදෑ.

**ප්‍රියක**, පු. බක්මී ගස, පුවඟුගස, පියාගස, "රත්නභූතවර්ගයම උත්පත්ති කාරණා හෙයින් අජිනයොනියයි කියනලද ෂට් මුව වර්ගයන් අතුරෙන් එක් වර්ගයෙකි. මේ මුව වර්ගය චිත්‍රරොම ඇත්තේය. කාම්බෝජයෙහිද උත්තරපථයෙහිද වසන්නේය.

**ප්‍රියඞ්ගු**, ස්ත්‍රී. පුවඟු ගස, වරානම් ධාන්‍ය.

**ප්‍රියතා**, ස්ත්‍රී. සෙනහය.

**ප්‍රියංවද**, ත්‍රි. ප්‍රිය තෙපුල් බණනේ.

**ප්‍රියාල**, පු. පියල්රුක.

**ප්‍රීණන**, න. පිණවීම.

**ප්‍රීත**, ත්‍රි. ප්‍රමුදිතවූයේ.

**ප්‍රීති**, ස්ත්‍රී. ප්‍රීතිය.
**ප්‍රුෂ්ට**, ත්‍රි. දැයේ.
**ප්‍රෙක්ෂා**, ස්ත්‍රී. බුද්ධිය, නැටුම් බැලීම.
**ප්‍රෙඞ්ඛා**, ස්ත්‍රී. දෝලාව.
**ප්‍රෙඞ්ඛිත**, ත්‍රි. ඊෂත්කම්පිත (මඳක් සැලෙන) දෑ.
**ප්‍රෙත**, පු. නිරිසතා, භූතයා, මළ අය.
**ප්‍රෙත්‍ය**, අව්‍ය. භවාන්තරාර්ථය ප්‍රෙත්‍යසවර්ගේමගීයතෙ" භවාන්තරගතව හෙවත් පරලොව ස්වර්ගයෙහිදී පුදනු ලැබේ යනාදි උදාහරණයි.
**ප්‍රෙමන්**, පු. න. සෙනහය.
**ප්‍රෙෂ්ඨ**, ත්‍රි. ඉතා ප්‍රියදයා.
**ප්‍රෛෂ**, පු. මෙහෙයීම,' මැඩීම, හෙපීම, උන්මාද, මෙහි ප්‍රෙක්ෂ කියාද පාඨයි.
**ප්‍රෛෂ්‍ය**, පු. ගැත්තා. (දාසයා.) ප්‍රෙෂ්‍ය යනුද වේ.
**ප්‍රොක්ෂණ**, න. යාග පිණිස පශු ඝාතනය.
**ප්‍රොක්ෂිත**, ත්‍රි. යාගයෙහි මරණ ලද්දේ.
**ප්‍රොථ**, පු. න. අසුන්ගේ නාසය.
**ප්‍රොෂ්ඨපදා**, ස්ත්‍රී. බහු, පුවපුටු පය.
**ප්‍රොෂ්ඨ**, පු. පෙටියා, ස්ත්‍රී. ප්‍රොෂ්ඨී.
**ප්‍රෞෂ්ඨපද**, පු. බිනර මස.
**ප්‍රෞඪ**, ත්‍රි. ඉතා වැඩුනුදෑ.
**ප්ලක්ෂ**, පු. පුලිල ගස, තෙලසටු රුක.

**ප්ලව**, පු. මැඩියා, මහවෙල්ලූ නම් පක්ෂියා, න. සෙවෙල් අතුරෙහි වන්නාවූ කොටව්යාමූරු යයි ඛ්‍යාතවූ කෛවර්තීමුස්තක නම් ද්‍රව්‍යය, (ජලමුස්තා) පසුර, "ගොඩිපඩාංච ඉතිඛ්‍යාතඃ" මහරට හොඩිපාඩාවයයි ප්‍රසිද්ධයි. පු. චණ්ඩාලයා.
**ප්ලවග**, පු. වඳුරා, මැඩියා, සූර්යසාරථියා.
**ප්ලවඞ්ග**, පු. වඳුරා.
**ප්ලවඞ්ගම**, පු. වඳුරා, මැඩියා.
**ප්ලාක්ෂ**, න. තෙලසටු ඵල හෝ ඒ ගස් සමූහය.
**ප්ලීහන්**, පු. පිලාව හෙවත් වාම කුක්ෂි පාර්ශ්වයෙහි සිටි මස්පිඩු වෙසෙසකි. ප්‍රථමාදියෙහි ප්ලීහා, ප්ලීහානෞ, ප්ලීහානඃ කියා වරනැගියයුතු.
**ප්ලීහශත්‍රු**, පු. වල් එරබදු ගස යොඹු ගස.
**ප්ලුත**, න. අසුන්ගේ සීඝ්‍රවූ රම්‍යවූ ගතිය හෙවත් ගමන.
**ප්ලුෂ්ට**, ත්‍රි. දනලද දෑ.
**ප්ලොෂ**, පු. දානය.
**ප්සාත**, ත්‍රි. කනලද යන අර්ථයි.

## ඵ.

**ඵටා**, ස්ත්‍රී. සර්පයන්ගේ පෙණය.
**ඵණා**, ස්ත්‍රී. සර්පයන්ගේ පෙණය. පුංලිඞ්ගයෙහි ඵණ කියා වේ.
**ඵණිජ්ජ (ජ්ඣ) ක**, පු. හීන් පණීාස වෘක්ෂය.
**ඵණින්**, පු. සර්පයා.
**ඵල**, න. නගුල්පෝරුව හෝ හීවැල, වෘක්ෂාදීන්ගේ ඵල, භාග්‍යයෙන් හටගන්නා විපාක, පෝරුව, ලාභය, සාදික්කා, තිපල්, පලිහ, මූලධනය, විකොට වඩාලද ධනය හෙවත් වෙළඳාමෙන් ලැබුණු ධනය.



**ඵලක**, පු. පුවරුව.
**ඵලපාණී**, ත්‍රි. පලිස් ගත් අත් ඇත්තේ.
**ඵලත්‍රික**, පු. න. තිපල්. (අරලු බුලු, නෙල්ලි යනමේ ඵල තුන)
**ඵලපූර**, පු. ලප්නාරම්.
**ඵලවත්**, ත්‍රි. ඵල සහිත රුක් ආදිය.
**ඵලාධ්‍යක්ෂ**, න. කිරිපලු ගස.
**ඵලින්**, ත්‍රි. ඵලසහිත රුක්ආදිය.
**ඵලින**, ත්‍රි. ඵලසහිත රුක්ආදිය.
**ඵලිනී**, ස්ත්‍රී. පුවඟුගස, තිවුල්ගස.
**ඵලී**, ස්ත්‍රී. පුවඟු ගස.
**ඵලෙග්‍රහි**, ත්‍රි. සෘතුප්‍රාප්තියෙහිලා ඵලදරණ වෘක්ෂාදිය.
**ඵලෙරුහා**, ස්ත්‍රී. පලොල් ගස.
**ඵල්ගු**, ත්‍රි. බෙලහීනදෑ, ස්ත්‍රී කොටදිඹුලා.
**ඵාණිත**, න. මත්ස්‍යඛණ්ඩ යොග්‍යවූ සාරභූතවූ ගුඩිකාකාර වන්නාවූ ඉක්ෂු විශෙෂය, හේ රසපාකයෙහි අර්ධවර්ත්තිතවූ පැණියයි කියනලද ශර්කරා විශෙෂය.
**ඵාණ්ට**, ත්‍රි. එනම් කෂාය "ක්ෂුණ්ණෙ ද්‍රව්‍යපලෙ සම්‍යක් ජලමුෂ්ණෙං විනික්ෂිපෙත් මෘත්පාත්‍රෙ කුඩවොන්මානං තත සතුස්‍රාවයෙත් පටාත් සඃස්‍යා චවූර්ණද්‍රවඃ ඵාණ්ටසන්තමානං විපලොනමිතම්" යනු වෛද්‍යකතිහෙයින් සුණුකල ද්‍රව්‍ය පලමකට ඉතා උණුදිය පතක් බහා පෙරාගන්නාලද කෂාය ඵාණ්ට නම්.
**ඵාල**, පු හීවැල.
**ඵාල්ගුන**, පු. මැදින්මස.
**ඵාල්ගුනික**, පු. මැදින්මස.
**ඵුල්ල**, ත්‍රි. මල් ගෙනසිටි රුක් ආදිය.
**ඵේණ**, (න) න. කිරිදිය ආදියෙහි නැගෙන පෙන.
**ඵෙනිල**, පු. රුක්පෙනෙල ගස, න ඩෙබර ඵලය.
**ඵෙරව**, පු සිවලා.
**ඵෙරු**, පු. සිවලා.
**ඵෙලා**, ස්ත්‍රී. කා ඉතිරි දෙය.

## බ.

**බංහිෂ්ඨ**, ත්‍රි. ඉතා බොහෝ.
**බඩිශ**, න. බිලිකටුව, ස්ත්‍රීලිඞ්ග. යෙහි බඩිශා, බඩිශී.
**බදර**, න. (ඉලන්ද) ඩෙබරඵලය.
**බදරී**, ස්ත්‍රී. ඩෙබරගස (ඉලන්ද)
**බද්ධොදක**, ත්‍රි වධයට සැර සුනේ.
**බද්ධ**, ත්‍රි. රැහැන් ආදියෙන් බඳනාලද්දේ.
**බධිර**, ත්‍රි. බිහිරා.
**බධ්‍රී**, ස්ත්‍රී. වරමදු හෙවත් සමින් කළ රැහැණ.
**බන්ධකී**, ස්ත්‍රී. පතිව්‍රතා නැත්තී.
**බන්ධන**, න. බැඳීම.
**බන්ධු**, පු. එක් ගෝත්‍රයෙහි නෑයෝ.

**බන්ධුජීවක**, පු. බදු වදගස.
**බන්ධුතා**, ස්ත්‍රී. නෑ සමූහයා.
**බන්ධුර**, ත්‍රි. මදක් නැමී උස්ද.
**බන්ධුල**, පු. පතිව්‍රතානොවූ ස්ත්‍රිය ගේ පුතා.

**බන්ධුක**, පු. බදුවදගස.
**බන්ධුකපුෂ්ප**, පු. පියාගස.
**බභ්‍රු**. පු. තඹරිලූ ( හෝතඹුවා ) විෂ්ණු, ත්‍රි. පිගුවන්.

**බබ්බර**, පු. දුමුඩු (දන්දෙව්සුදු.)
**බ (ව) හී**, පු. න. සඳැස්පිල්, පිරි වර.

**බ (ව) ර්හිණ**, පු. මොනරා.
**බ (ව) ර්හින්**, පු. මොනරා.
**බ (ව) ර්හිස්**, පු. ගිනි, මෙහි කොශඅම්බුපයසීංය ශබ්දයෝද වෙති.
**බර්හිෂ්ඨ**, න. ඉරිවේරිය.
**බල**, න. ස්ථූල භාවය, ශක්තිය, හැකිබව, චතුරඟිනී සෙනාව, පු. කවුඩා, බලභද්‍රයා, අසුර විශෙෂයෙක්.

**බ (ව) ක්ෂ**, පු. සුදුපැහැ, ඉන් යුත් දෙයෙහි. ත්‍රි.

**බලදෙව**, පු. බලභද්‍රයා.
**බලභද්‍ර**, පු. බලභද්‍රයා.
**බලභද්‍රිකා**, ස්ත්‍රී. තෙමෙතල.
**බලවත්**, අව්‍ය. අතිශය. ත්‍රි. බල ඇත්තා.

**බලවින්‍යාස**, පු. යුධ පිණිස සෙනාවගේ ශාසෙත්‍රාක්ත පරිද්දෙන් සිටුවීම.

**බලා**, ස්ත්‍රී බැලිල.
**බලාකා**, ස්ත්‍රී. කනකොකී
**බලාත්කාර**, පු බලාත්කාරය.

**බලාරාති**, පු ශක්‍රයා.
**බලාහක**, පු. මෙඝය.
**බලි**, පු. සුංකම, උපහාර හෙවත් පූජාව. ස්ත්‍රී, ජරායෙන්හටගත් ඇඟරැලි, ගුදවලි. "අධ්‍යයනං බ්‍රහ්මයඥඃ පිතෘයඥස්තුතර්පණම්, හොමොදෛවො බලි භෞතො, නෘයඥොතිථි පූජනම්" යනුවෙන් බ්‍රහ්මයාට කරණ යාගය අධ්‍යයන නම. මළපියන්ට කරන යාගය තර්පණනම. දෙවියන්ට කරන යාගය හොම නම. භූතයන්ට කරණ යාගය බලි නම. මනුෂ්‍යයන්ට කරන යාගය පූජන නමැයි දක්වනලද පස්මහා යාගයන් අතුරෙන් භූතබලිය බලි නම.

**බලිධ්වංසින්**, පු විෂ්ණු.
**බලින**, ත්‍රි. ජරාවෙන් ලිහිල්ව ගිය ඇඟ රැලි ඇත්තේ.

**බලිපුෂ්ට**, පු. කවුඩා.
**බලිභුජ්**, පු. කවුඩා.
**බලිසද්මන්**, න. නාලොව.
**බලිවර්ද**, පු. ගොනා. (භාරොද් වහනක්ෂමවූ වෘෂභයා.)
**බල්ලව**, පු. අරක්කැමියා.
**බ (ව) ෂ්කයණී**, ස්ත්‍රී. කලකින් වදන දෙන.

**බ (ව) ස්න**, පු. එළුවා.
**බහිර්ද්වාර**, න. තොරණ.
**බහු**, ත්‍රි. තුනකින් වැඩිදෑ, මහත්දෑ.

**බහුකර**, ත්‍රි. හැමදීම් ආදිය කරන්නා.



**බහුගර්හ්‍යවා,ච**, ත්‍රි. වාචාලයා.
**බහුපාද්**, පු. නුග ගස.
**බහුප්‍රද**, ත්‍රි. බොහෝදෑ දෙන්නා.
**බහුරූප**, පු. සදෙලමල (දුම්මල)
**බහුල**, පු. ගිනි, කෘෂ්ණ පක්ෂය, න. අහස, ත්‍රි. කළු පැහැ, බොහෝදෑ

**බහුලා**, ස්ත්‍රී. එල්සාල්, කැති නැකත, දෙන.

**බහුලීකෘත**, ත්‍රි. බොල් පහකළ ධාන්‍ය.

**බහුවාරක**, පු. ලෝලු ගස.
**බහුවිධ**, ත්‍රි. නන්වැදෑරුම්වූවා.
**බහුසූතා**, ස්ත්‍රී. සතාවරි.
**බහුසූතී**, ස්ත්‍රී. බොහෝ දරුවන් ලද දෙන.

**බා (වා) කුචි (ජී)**, ස්ත්‍රී. බෝදි ගස්.

**බා (වා) ණ**, පු. ස්ත්‍රී. නිල් ගිරි නිල්ල, පු. බලි නම් අසුරයාගේ පුත්‍රයා. ඊ.

**බාධා**, ස්ත්‍රී. සිත්පීඩාව (දුක.)

**බාන්ධකිනෙය**, පු. පතිව්‍රතානොවූ ස්ත්‍රියගේ පුතා.

**බාන්ධව**, පු. එක් ගොත්‍රයෙහි නෑයා.

**බා (වා) ර්හත**, න. ඛටුගෙඩිය.
**බා (වා) ල**, ත්‍රි මොඩයා, ළදරුවා, හිසකේ, වාලධිය, පු. න. ඉරිවේරිය.

**බාලතනය**, පු. කිහිරි ගස.
**බාලතෘණ**, න. ළතණ.
**බා (වා) ලමූෂිකා**, ස්ත්‍රී. වල්මීයා.
**බා (වා) ලා**, ස්ත්‍රී. පොල්, කාසා.

**බා (වා) ලිශ**, ත්‍රි. මෝඩයා, ළදරුවා.
**බා (වා) ලෙය**, පු. කොටළුවා.
**බා (වා) ලෙයශාක**, පු. දුමුඩු, (දම්දෙව්සුදු.)
**බා (වා) ල්‍ය**, න. බාල බව.
**බා (වා) ෂ්ප**, පු. උණුසුම, කඳුලු.
**බා හු**, පු. ස්ත්‍රී. අත.
**බාහුජ**, පු. ක්ෂත්‍රියයා, බ්‍රහ්මයාගේ බාහුවෙන් උපන් රජුගේ වංශයෙහිවූවෝද බාහුජ නම් වෙත්.
**බා (වා) හුදා**, ස්ත්‍රී බහුදා නම් කාතීවීර්‍ය්‍යාර්ජුනයා විසින් බස්නාලද නදී විශෙෂය. "කාතීවීර්‍ය්‍යාර්ජුනෙනයා වතාරිතා" යනු කීහ ටීකාකාරයෝ.
**බා (වා) හු මූල**, න කිසිල්ල.
**බා (වා) හු යුධ**, න. මල්ල යුධය.
**බා (වා) හුල**, පු. ඉල් මස
**බා (වා) හුලෙය**, පු. කඳකුමරු.
**බා (වා) හ්ලික**, පු. සුගු, එනම් දෙශය.

**බි (වි) ඩ**, න. බළල් ලුණු.
**බි (වි) ඩාල**, පු. බළලා.
**බි (වි) න්දු**, පු. දියබින්දුව.
**බි (වි) න්දුජාලක**, න. ඇතුන්ගේ මුඛාදිගතවූ බින්දු සමූහය.
**බි (වි) ම්බ**, පු. න. සඳමඩල.
**බි (වි) ම්බිකා**, ස්ත්‍රී. කොම්වැල.
**බි (වි) ල**, න. බිළය (සිදුර)
**බි (වි) ලෙශය**, පු. සර්පයා.
**බි (වි) ල්ව**, පු. බෙලිගස.
**බි (වි) සප්‍රසූන**, න. නෙලුම් මල්.
**බි (වි) සිනී**, ස්ත්‍රී. නෙලුම් විල.
**බි (වි) ස**, න. නෙලුඹුදලි.

**බි (බී) සකණ්ටිකා**, ස්ත්‍රී. කෙහි ඟිත්ත.

**බි (බී) සක**, පු. රන්කමියෙක්, එනම් රන්මිණීමෙහි මාෂක සොළසකට ව්‍යවහාර නාම යෙකි. මාෂකයෙක්නම් හුනිඳ පසෙකි.

**බි (බී) ජ**, න. රෙතස් (ශුකල ධාතු) කාරණය.

**බි (බී) ජකොශ**, පු. පියුම්කෙමි.

**බි (බී) ජපූර**, පු. ලප්නාරම්.

**බි (බී) ඡකාන**, න. වපුට සෑ කෙත.

**බි (බී) ජ්‍ය**, ත්‍රි. කුලීනයා.

**බි (බී) භත්ස**, ත්‍රි. පිළිකුල, ක්‍රෑර, එනම් නාට්‍ය රසය.

**බු (බු) ක්කා**, ස්ත්‍රී. වකුගඩුව හෝ හදවත, මෙහි බුක්කයයි නපුං සක ලිඟුද වේ.

**බුධ**, පු. බුදුන්, ත්‍රි. අවබොධ කළදෑ.

**බුධි**, ස්ත්‍රී. බුඞිය.

**බුද්බුද**, න. දියබුබුල.

**බුධ**, පු. බුදහු, පඬිතයා.

**බුධිත** ත්‍රි. අවබොධකළදෑ.

**බුධ්න**, පු. වෘක්ෂමූලය, මෙහි පාද පයයීාය නාමයෝද වෙත්.

**බුභුක්ෂා**, ස්ත්‍රී. ක්ෂුධාව (බඩගි න්න.)

**බුභුක්ෂිත**, ත්‍රි. බඩසා ඇත්තා.

**බුස**, න. බොල්.

**බුසන**, න. කොස්ආදි එලයන්ගේ බැහැර කටයුතු වහලු ආදිය

**බෘ (වෘ) හත්**, ත්‍රි. මහත්.

**බෘහත්කුක්ෂි**, පු. සැලැක්සේ මහත් බඩ ඇත්තා.

**බෘහතිකා**, ස්ත්‍රී, මතුහඳනා වස්ත්‍රය.

**බෘ (වෘ) හතී**, ස්ත්‍රී. මහත් ගැහැණි, නවකුරකින් යුත් එනම් ඡන්දස, කටුවැල්බටු.

**බෘහද්භානු**, පු. සූයයීයා.

**බෘහස්පති**, පු. සුරගුරු.

**බෘංහිත**, න. ඇතුන්ගේ ගජී නාව.

**බොධකර**, පු. වන්දිභට්ටයා, එනම් අලුයම රජුන් ආදීන් ස්තුති පාඨයෙන් පුබුදුකරව න්නා.

**බොධිද්‍රුම**, පු. බෝගස.

**බොල**, පු. ගඳරසකැට (රත්‍යා බොලයයි මහරට ව්‍යවහාර යොන් රට උපදනා බෙහෙත් වර්ගයක්.

**බ්‍රධ්න**, පු. හිරු.

**බ්‍රහ්මචාරින්**, පු. බ්‍රහම පිණිස ව්‍රතචරණ ශීලිවූ ප්‍රථමාශ්‍රම ස්ථයා හෙවත් බ්‍රහමචාරියා.

**බ්‍රහ්මණ්‍ය**, පු. අශ්වත්ථාකාරවූ බ්‍රහමදුරු වෘක්ෂය.

**බ්‍රහ්මත්ව**, න, බ්‍රහම ධර්මය.

**බ්‍රහ්මදණ්ඩී**, ස්ත්‍රී අදිමොදගම්, කොරුසානී.

**බ්‍රහ්මදාරු**, න. බ්‍රහමදුරු වෘක්ෂය.

**බ්‍රහ්මන්**, පු. බ්‍රහමයා, බමුණා, න. වෙදය, තත්ව, තපස්.

**බ්‍රහ්මපුත්‍ර**, පු කපිලවණ්වූ මලය පර්වතයෙහි වන්නාවූ ක්ෂාර ගුණ ඇත්තාවූ විෂභෙදය.



**බ්‍රහ්මබන්ධු**, ත්‍රි නින්දාකටයුතු හැසි රීම්ඇති ජාතියෙන් බමුණුවූ වෙක්.

**බ්‍රහ්මබින්දු**, පු. වෙද හදාරණකල ඉසෙන කෙල බින්දු.

**බ්‍රහ්මභූය**, න. බ්‍රහමත්වය.

**බ්‍රහ්මවර්චස**, න. වෙදාධ්‍යයන යෙන් හටගත් තෙජස, හෙවත් ගුණොත්කර්ෂය.

**බ්‍රහ්මසායුජ්‍ය**, න. බ්‍රහමත්වය.

**බ්‍රහ්මසූ**, පු. අනඟයාගේ පුතා.

**බ්‍රහ්මාඤ්ජලි**, පු. වෙදහදාරණකල කරන ඇඳිලි.

**බ්‍රහ්මාසන**, න. ස්වස්තිකසිඩ පද් මාදි ධ්‍යාන යොගාසනය.

**බ්‍රාහ්ම**, පු බඹදින, මේ දෙවියන් ගේ ගණනින් යුග දෙදහසෙක් වෙ මිනිස් පමණින් කල්ප වයෙක් වෙයි.

**බ්‍රාහ්ම්‍ය** න. බ්‍රහම ප්‍රතිබඩ තීර්ථ යයි කියනලද මහපට ඇඟිලි මුල.

**බ්‍රාහ්මණ**, පු බමුණා.

**බ්‍රාහ්මණයෂ්ටිකා**, ස්ත්‍රී. දුමුඩු හෙවත් දන්දෙව්සුදු.

**බ්‍රාහ්මණී** ස්ත්‍රී දුමුඩු, (දන්දෙව් සුදු.)

**බ්‍රාහ්මණ්‍ය**, න. බමුණන්ගේ සමූ හය

**බ්‍රාහ්මී**, ස්ත්‍රී. සරස්වතී හෝ වච නය, සොමලතා. "යස්‍යශුකල පක්ෂෙ පර්ණා න්‍යූ ඥාන ච නති කෘෂ්ණෙ පතනතිසා සොම වල්ලී" යනු වචන හෙයින් යම් වැලක පත්‍ර ශුකලපක්ෂයෙහි හටගනිද්ද කෘෂ්ණපක්ෂයෙහි වැටෙද්ද ඕ සොමවල්ලී නම්. මාතෘ දෙවතා, මෙහි බ්‍රහමාණී කියාද පාඨයි.

## භ.

**භ**, න. තාරකා.

**භක්ත**, න. බත්

**භක්ෂක**, ත්‍රි. කැයහෙන්නා, (බො. හෝ බුදිනු හැක්කා.)

**භක්ෂිත**, ත්‍රි කනලද යනමේ අර්ථ වාචකයි.

**භක්ෂ්‍යකාර**, ත්‍රි. කදුකයා (කැවි ලි තනන්නා.)

**භග**, න. මාගමුන්රහසඟ, ශොභා, කැමැත්ත, ඓශ්වයර්, වෑයම්, හිරු, යසස්.

**භගන්දර**, පු. එනම් රෝගය.

**භගවත්**, පු. බුදුන්.

**භගිනී**, ස්ත්‍රී. සහෝදරී.

**භඞ්ග**, පු. රළ.

**භඞ්ගා**, ස්ත්‍රී. කාශ්මීර දෙශයෙහි මේ නමින් ප්‍රසිඩවූ(මෑ පමණ) මහත්එල ඇතිව්‍රීහි භෙදය.

**භඞ්ගි**, (ඞ්ගී) ස්ත්‍රී. විච්ඡෙදය, කුටි ලත්වය, රළ.

**භඞ්ග්‍ය**, ත්‍රි. කාශ්මීර දෙශයෙහි භඞ්ගා යන නමින් ප්‍රසිඩ වී වපුළ කෙත.

**භජමාන**, ත්‍රි. සුදුස්සෙන් තොර නොවූ දේ.

**භට**, පු. යෝධයා.

**භට්ත්‍ර**, ත්‍රි. උලින් පැළහූ මස් ආදිය.

**භට්ටාරක**, පු. නාට්‍යයෙහි රජ, සූර්‍ය්‍යයා.

**භට්ටිනී**, නාට්‍යොක්තියෙහි අබිසෙස් නොලත් සෙසු රජගන.

**භණ්ඩාකී**, ස්ත්‍රී. හෙළබටු.

**භණ්ඩිල (ර)** පු. මහරිගස.

**භණ්ඩී**, ස්ත්‍රී. වැල්මදට.

**භණ්ඩීරී**, ස්ත්‍රී. වැල්මදට.

**භද්‍ර**, න. ශුභය (ද්‍රව්‍යයෙහි වැටෙනකල කුන්ලිගුයි. පු. ගොනා.

**භද්‍රකුම්භ**, පු. පුන්කලස.

**භද්‍රදාරු**, පු. න. දෙවුදුරු (දෙවදර)

**භද්‍රපර්ණී**, ස්ත්‍රී. ඇත්දෙමටගස.

**භද්‍රබලා**, ස්ත්‍රී. ආපසුමදු.

**භද්‍රමුස්තක**, පු. න. මහවම්මුතු.

**භද්‍රයව**, න. කෙළිඳඇට.

**භද්‍රශ්‍රී**, පු. සඳුන්.

**භද්‍රාසන**, න. රජුන්ගේ ආසනය.

**භය**, න. බිය.

**භයඞ්කර**, න. මහත් බිය, ඉන් යුක්තයෙහි. ත්‍රි. නාට්‍යොක්තියෙහි, භයානක රසය. පු.

**භයද්‍රුත**, ත්‍රි. බියෙන් පලාගියේ.

**භයානක**, න. මහත් භය, ඉන් යුක්තයෙහි ත්‍රි. නාට්‍යොක්තියෙහි පු. එනම් රසය.

**භර**, පු. අතිශය.

**භරණි**, න. වැටුප් (කුලිය.)

**භරණ්‍ය**, න. වැටුප් (කුලිය.)

**භරණ්‍යභුජ්**, ත්‍රි. වැටුප් අනුභව කරන්නා, හෙවත් බැළමෙහෙ කරන්නා.

**භරත**, පු. නටන්නා.

**භ[illegible]ලාජ**, පු. රාජඅලියා.

**භර්ග**, පු. ඊශ්වරයා.

**භර්තෘ**, පු. උසුලන්නා, පොෂණය කරන්නා, සැමියා.

**භර්තෘදාරක**, පු. නාට්‍යොක්තියෙහි යුවරජ.

**භර්තෘදාරිකා**, ස්ත්‍රී. නාට්‍යොක්තියෙහි කුමාරි.

**භර්ත්සන**, න. "රෙචොරොසි ත්වං ඝාතයිෂ්‍යාමීත්‍යාදි" කොලසොරවුයෙහිද නානසන්නෙමි යනාදි භය උපදවන තර්ජන වචනය.

**භර්මන්**, න. වැටුප් (කුලිය) රන්, මෙහි භර්ම කියාද වේ.

**භල්ල**, පු. වලසා.

**භල්ලාතකී**, ස්ත්‍රී. බදුලු.

**භල්ලූ**, පු. වලසා.

**භල්ලූ (ල්ලු) ක**, (භාල්ලුක) පු. වලසා.

**භව**, පු. උත්පත්තිය, ඊශ්වරයා.

**භවන**, න ගෘහය, උත්පත්තිය.

**භවානී**, ස්ත්‍රී. උමාදේවී.

**භවික**, න. කුසල්.

**භවිතෘ**, ත්‍රි. වනසුළුවූයේ.

**භව්‍ය**, න. සුභය, ද්‍රව්‍යයෙහි. ත්‍රි.

**භෂක**, පු. බල්ලා.

**භස්ත්‍රා**, ස්ත්‍රී. කඹුරුසම.

**භස්මගන්ධිනී**, ස්ත්‍රී. මරිචාකෘතිවූ ඵල ඇති හරේණුකායයි ප්‍රසිද්ධ ගන්ධ ද්‍රව්‍යයෙහි (රූහැණිය.)

**භස්මගර්භා** , ස්ත්‍රී. ඇට්ටර ගස.

**භා**, ස්ත්‍රී. දීප්තිය, භා ශබ්දය විශ්වපා ශබ්දයමෙන් සිව්භක්ති ආදියෙහි. භාඃභෞ, භාඃ, කියාවේ.

**භාග**, පු. භාගය.



**භාගධෙය**, න. පුරාකෘත කුශලය, පු. බලිය හෙවත් ගොයිතැන් ආදියෙන් රජුන් විසින් ගතයුතු කොටස.

**භාගිනෙය**, පු. සහෝදරියගේ පුතා.

**භාගීරථී**, ස්ත්‍රී. ගඟානම් නදිය.

**භාඩ්ගීන** ත්‍රි කාශ්මීරදෙශයෙහි භගා යනනමින් ප්‍රසිද්ධ වී වපුල කෙත් ආදිය.

**භාග්‍ය**, න. පුරාකෘත කුශලය, ශුභවූ හෝ අශුභවූ හෝ පූර්ව කර්මය.

**භාජන**, න. සැලමලාදි බඳුන්.

**භාණ්ඩ**, න. අශ්වාභරණ, බඳුන, වෙළඳ බඩු.

**භාද්‍ර**, පු. බිනර මස.

**භාද්‍රපද**, පු. බිනර මස.

**භාද්‍රපදා**, ස්ත්‍රී. බනු, පුවපුටුපය.

**භානු**, පු රශ්මිය, සූර්‍ය්‍යයා.

**භාමිනී**, ස්ත්‍රී. කොපපරවූ ස්ත්‍රී.

**භාර**, පු. තුලා විස්සෙක්.

**භාරත**, න. සිඹුරට. "උත්තරංයත් සමුද්‍රස්‍ය හිමාද්‍රෙශ්චෛව දක්ෂිණම්, වර්ෂංතද්භාරතං නාම භාරතීයත්‍ර සන්තතිඃ" දඹදිව යම් භාගයක භාරත පරම්පරාව පවතීද මුහුදට උතුරෙන් හිම පව්වට දකුණෙන් පිහිටි ඒ භාගය භාරත නම්

**භාරතී**, ස්ත්‍රී. සරසවතී හෝ වචනය.

**භාරද්වාජී**, ස්ත්‍රී. වනකපු.

**භාරයෂ්ටි**, ස්ත්‍රී කත්ලිය.

**භාරවාහ**, පු. බර උසුලන්නා.

**භාරික**, පු. බර උසුලන්නා.

**භාර්ගව**, පු. සිකුරා.

**භාර්ගවී**, ස්ත්‍රී. ඊතන.

**භාර්ගී**, ස්ත්‍රී. දුමුඹු, (දම්දෙවී සුදු.)

**භාර්‍ය්‍යා**, ස්ත්‍රී. භාර්‍ය්‍යාව.

**භාර්‍ය්‍යාපති**, පු. ද්වි. අඹු සැමි දෙදෙන.

**භාව**, පු. නාට්‍යොක්තිවිෂයෙහි පණ්ඩිතයා, කාමක්‍රොධ හර්ෂාදීන්වූ චිත්තවිකෘතිය, වීම, ස්වභාව, අභිප්‍රාය, ශාරීරික උත්සාහය, ආත්මය, ජන්මය.

**භාවිත**, ත්‍රි, සුවඳකැවූද. ලදද.

**භාවුක**, න. ශුභය, ද්‍රව්‍යයෙහි වැටෙනකල කුන්ලිගුයි.

**භාෂා**, ත්‍රි. සරසවතී හෝ වචනය.

**භාෂිත**, ත්‍රි කියනලද යන අර්ථ වාචකයි. න. වචනය.

**භාෂ්‍ය**, ත්‍රි. කියයුත්ත, සූත්‍රව්‍යාඛ්‍යාග්‍රන්ථභෙදය.

**භාස්**, ස්ත්‍රී. දීප්තිය.

**භාස්කර**, පු. හිරු.

**භාස්වත්**, පු. හිරු.

**භික්ෂා**, ස්ත්‍රී. සේවා, ප්‍රාර්ථනා, හෙවත් ඉල්ලීම, බැළමෙහෙ, සිඟුදෑ.

**භික්ෂු**, පු. චතුරශ්‍රමයෙහි ස්ථිතවූ පරිබ්‍රාජකයා.

**භින්න**, න. නොසම අඩ.

**භිත්ති**, ස්ත්‍රී. භිත්තිය.

**භිදා**, ස්ත්‍රී. වස්ත්‍රාදිය පැළීම.

**භිදුර**, න. විදුරවිය.

**භින්දිපාල**, පු හස්ත කාණ්ඩය. එනම් "භිදිර්වාදශතාලනතු

දශකුනෙතාභිධීයතෙ" යනු භරතපුරාණහෙයින්. වාදශතාල ප්‍රමාණ තැන්හස්තක්ෂෙපය්‍යවූ ඊයකි, නාලිකා ශස්ත්‍රය හෙවත් ගල්දුන්නයයිද කියත්.

**භින්න**, ත්‍රි. දෙකක් අතුරෙන් වෙන්කරණලද අතික්ද, හෙවත් පළනලදද.

**භිෂජ්**, පු. වෙද.

**භිෂමසූ**, ස්ත්‍රී. ගඟා නම් නදිය.

**භිස්සටා**, ස්ත්‍රී. දඹුකුඩ (දඹුකුබත්.)

**භිස්සා**, ස්ත්‍රී. ආහාර (බත්.)

**භී**, ස්ත්‍රී. භය.

**භීති**, ස්ත්‍රී. භය.

**භීම**, පු. ඊශ්වරයා, න. මහත්භය, ඉන් යුත්තෙහි, ත්‍රි. නාට්‍යොක්තියෙහි භයානක රසය.

**භීරුක්**, අව්‍ය. වර්ජිතාර්ථයි.

**භීරු**, ස්ත්‍රී. භයප්‍රකෘතිවූ ස්ත්‍රී. ත්‍රි. බියවන සුල්ලා.

**භීරුක**, ත්‍රි. බියවන සුල්ලා.

**භීරුකා**, ස්ත්‍රී. සීරුගා (රුහියා.)

**භීලුක**, ත්‍රි. බියවන සුල්ලා.

**භීෂණ**, න. මහත් භය, ඉන් යුත්තෙහි, ත්‍රි. නාට්‍යොක්තියෙහි භයානක රසය.

**භුක්ත**, ත්‍රි. කනලද යන අර්ථයි.

**භුක්තසමුජ්ඣිත**, න. කා ඉතිරිද.

**භුග්න**, ත්‍රි. වක්වූද, බිඳුනු(එබුණු) හෝ නැමුණුද.

**භුජ**, පු. ස්ත්‍රී. අත.

**භුජග**, පු. සර්පයා.

**භුජඞ්ගභුජ්**, පු. මොනරු

**භුජඞ්ගම**, පු. සර්පයා,

**භුජඞ්ගාක්ෂී**, ස්ත්‍රී. රුත්ත.

**භුජශිරස්**, න. උරහිස.

**භුජාන්තර**, න. ලය.

**භුජිෂ්‍ය**, පු. දාසයා, ස්වප්‍රධාන, හස්තසූත්‍රය (අතේ බැඳි හුය.)

**භුවන**, න. ලොකය, ජලය.

**භූ**, ස්ත්‍රී. භූමිය.

**භූත**, ත්‍රි. ලදද, යුක්තිය, පෘථිව්‍යාදි භූත පස, සම, සත්‍යය, අතීතකාලයෙහිවූද, සදෘශ, පු. එනම් දෙවයොනිය.

**භූතකෙශ**, න. එනම් තෘණ.

**භූතවෙශී**, ස්ත්‍රී. හෙළශෙඵාලිකා (සුදුතලා.)

**භූතාත්මන්**, පු. බ්‍රහ්මයා, දෙහය.

**භූතාවාස**, පු. බුලු ගස.

**භූති**, ස්ත්‍රී. භස්ම, හෙවත් අළු, සම්පත්, "අණිමාලඝිමාප්‍රාප්ති ප්‍රාකාම්‍යං මහිමා තථා ඊශිතා වශිතාචෙව තථාකාමාවශායිතා" යනු කියනලද බැවින් අණිමන්‍ය, ලඝිමන්‍ය, ප්‍රාප්තිය, ප්‍රාකාම්‍යය, මහිමන්‍ය, ඊශිතාය, වශිතායකාමාවශායිතය යි අට වැදෑරුම්වූ ඊශ්වර ගුණ.

**භූනික**, න. කතෘණ නම් සුවඳ තණ, බබුස්තණ, බිම්කොහොඹ.

**භූතෙශ**, පු. ඊශ්වරයා.

**භූදර**, පු. ඌරා.

**භූදෙව**, පු. බමුණා.

**භූනිම්බ**, පු. බිම්කොසඹ.

**භූප**, පු. ජනපදපුරපාලක රජද රුවන්ටද තත්කාර්‍යකාරිවූ රජදරුවන්ගෙන් පිටත් සෙස්සන්ටද නම්.



**භූපදී**, ස්ත්‍රී. ඉද්ද ගස.

**භූභෘත්**, පු. පර්වතය, රජු.

**භූමි**, (මී) ස්ත්‍රී. භූමිය.

**භූමිජම්බුකා**, ස්ත්‍රී. සීන්නාරන් ගස, (දියදඹයයිද කියත්) බලු දඹ.

**භූමිස්පෘශ්**, පු. වෛශ්‍යයා, ප්‍රථමා එකවචනයෙහි, භූමිස්පෘක්, භූමිස්පෘග්, කියාවේ.

**භූයස්**, ත්‍රි. බොහෝද.

**භූයිෂ්ඨ**, ත්‍රි. බොහෝද.

**භූරි**, ත්‍රි. බොහෝද. පු. ස්වර්ණය.

**භූරිඵේණා**, ස්ත්‍රී. සප්තලා නම් ගන්ධද්‍රව්‍යය, "ශිකෙකාර්" මරුවි (බැම්තිරිය.)

**භූරිමාය**, පු. සිවලා.

**භූරුණ්ඩී**, ස්ත්‍රී. මුහුලුමල් වැනි රත්වූ මල්ඇති ශාක ජාතියෙහි (දිත්තිඩිය ගස)

**භූර්ජ**, පු. භූජ පත්‍රයයි ප්‍රසිද්ධ වෘක්ෂය.

**භූෂණ**, න. ආභරණ.

**භූෂා**, ස්ත්‍රී. අලඞ්කරණය.

**භූෂිත**, ත්‍රි. පහයින් ගන්වනලද් දේ හෙවත් සරසනලද්දේ.

**භූෂ්ණු**, ත්‍රි වනසුලුවූයේ.

**භූස්තෘණ**, න. ශතපුෂ්පයට බඳු පත් ඇති භූලශනවූ තෘණ විශෙෂයෙක්, බැලතණයයිද කියත් (ගන්ධබබ) යනු භින්නු භාෂායි.

**භෘගු**, පු. ප්‍රපාතය.

**භෘඞ්ග**, පු. ෂට්පදයයි ඛ්‍යාතවූ නීල පක්ෂි වර්ගය (බඹරු) න. කුරුඳුපොතු.

**භෘඞ්ගරජ**, පු. කීකිරිඳිය.

**භෘඞ්ගාර**, පු. රන්කෙණ්ඩිය.

**භෘඞ්ගාරී**, ස්ත්‍රී. සීරුවා (රුහැයියා.)

**භෘතක**, පු. බැළමෙහෙකොට ජීවත්වන සේවායා.

**භෘත්‍ය**, පු. ගැත්තා, (දාසයා)

**භෘශ**, න. අතිශය, ද්‍රව්‍යවාචීවූයේ. ත්‍රි

**භෙක**, පු. මැඩියා.

**භෙකී**, ස්ත්‍රී. මණ්ඩූකධෙනුව.

**භෙද**, පු. චතුරොපායයන් අතුරෙන් එනම් උපාය.

**භෙදිත**, ත්‍රි. පළනලදද,

**භෙරී**, ස්ත්‍රී. බෙරය.

**භෙෂජ**, න. බෙහෙත.

**භෛක්ෂ**, න. භික්ෂා සමූහය.

**භෛරව**, න. මහත් භය ඉන් යුක්තයෙහි. ත්‍රි. පු. නාට්‍යොක්තියෙහි භයානක රසය.

**භෛෂජ්‍ය**, න. බෙහෙත.

**භොග**, පු. "තිර්‍යග්වෘත්තිසන්දණ්ඩඃ ස්‍යාද්භොගො න්‍යාවෘත්තිරෙවච මණ්ඩලඃසර්වතොවෘත්තිඃ පෘථග්වෘත්තිඃ රසංහතඃ"යි දක්වනලද සිව්වැදෑරුම් සෙනා වින්‍යාසයන් අතුරෙන් සාමන්‍ත සෙනාවගේ අන්‍යොන්‍යහතවෘත්තියයි හෙදගොමූත්‍රිකාය, සචාරීය, සකටය, තරකාය, පතනාතිනයයි පචවිධවේ. පූර්වවූ ඉෂ්ටාර්ථ සම්පත්තිය, දරුදින් පාලනය, සජීවන්ගේ පෙණය, දරණවැළ, හස්ති අශ්වාදී කම්කරුවන් පොෂණය, වෙසගනන් රැකීම්ආදියෙහි වැටුප්, ධනය, පාලනය.

**භෝගවතී**, ස්ත්‍රී. නාගයන්ගේ නදිය, නාගයන්ගේ නුවර.

**භෝගින්**, පු. සර්පයා

**භෝගිනී**, ස්ත්‍රී. රාජ ස්ත්‍රී.

**භෝජන**, න. අනුභවය.

**භෝස්**, අව්‍ය. සම්බෝධනාර්ථයි.

**භෞරික**, පු. රජුගේ ස්වර්ණයෙහි අධිකෘත තැනැත්තේ.

**භ්‍රකුංස**, පු. ගැණු වෙසින් නට න්නා.

**භ්‍රකුටි**, ස්ත්‍රී. බැමබිදීම, ( රැවීම ) "පෘෂොදරාදිත්වාද් කාරොභෘකුටි"යනු කීයෙන් භෘකුටිකියා දවේ.

**භ්‍රම**, පු. වාරිමාර්ගය. (දිය අගල) "නද්‍යුදෙශස්ථ ජලස්‍යොර්ධ්වතිඃ සරණස්‍යෙති වාමනම්" නදී ආදියේ යටසිටි ජලය උඩට නගන මගටයයි හෝ දන්නා ලදී, බැමීම, පෙරළා සිතීම.

**භ්‍රමර**, පු. බමරා.

**භ්‍රමරක**, පු තලළ බමරකුසේ එලෙන ක්‍යඹුව (ඉසකේ රොද)

**භ්‍රෂ්ට**, ත්‍රි. ගිලිහුනුදෑ.

**භ්‍රාජිෂ්ණු**,ත්‍රි. හොබනේ.

**භ්‍රාතෘ**, පු. සහෝදර සහෝදර යෝ.

**භ්‍රාතෘජ**,පු. සහෝදරයාගේපුතා

**භ්‍රාතෘජායා**,ස්ත්‍රී. සහොදරයාගේ භාර්‍යාව.

**භ්‍රාතෘව්‍ය**, පු. බෑයා පිත්, සතුරු

**භ්‍රාත්‍රීය**, පු. සහොදරයාගේපුතා,

**භ්‍රාන්ති**, ස්ත්‍රී. පෙරලා සිතීම.

**භ්‍රාෂ්ට්‍ර**, පු. ඇතිළිය.

**භෲකුංස**, පු. ගැණුවෙසින් නට න්නා.

**භෲකුටි**, ස්ත්‍රී. බැමබිඳිම(රැවීම)

**භෲ**, ස්ත්‍රී. බැම.

**භෲකුටි**, ස්ත්‍රී. බැමබිදීම (රැවීම) "පෘෂොද රාදිත්වාදකාරෙ භෘකුටි" යනුද මෙහිවේ.

**භෲකුංස**, පු. ගැණුවෙසින් නට න්නා.

**භෲණ**, පු. බාලයා. දරුගැබ.

## ම.

**මකර**, පු. එනම් නිධි විශෙෂය. දසවන රාශිය. එනම් මත්ස්‍ය භෙදය (මෝරා)

**මකරධ්වජ**, පු. අනඟයා.

**මකරන්ද**, පු. පුෂ්පමධු.

**මකුට**, න. කිරීටය.

**මකුර**, පු. කැඩපත. මුහුලුරුක කුඹලුන්ගේදළ.

**මකුෂ්ඨක**, පු. වනමුං

**ම(මු)කූලක**, පු. දත්තගස.

**මක්ෂිකා**, ස්ත්‍රී. මැස්සා

**මඛ**, පු. යාගය.

**මගධ**, පු. වංශක්‍රම දනසතුති කරනවන්දි විශෙෂය. එනම් දෙශය.

**මඝවත්**, පු. ශක්‍රයා.

**මඞ්ක්ෂු**, අව්‍ය. වහා.

**මඞ්ගල**, පු. න ශුභය, ද්‍රව්‍යයෙහි ත්‍රී.

**මඞ්ගල්‍යක**, පු. වටමුං.

**මඞ්ගල්‍යා**, ස්ත්‍රී. සමන් පුප්ඵසේ සුවඳ කළුවැල හෙවත් අගිල්



**මචර්චිකා**, ස්ත්‍රී. ප්‍රශස්තය.

**මඤ්ච**. පු. ඇඳ.

**මජ්ජනා**, ස්ත්‍රී. පොරොද්ද. ඇතුන් සැරසීම.

**මජ්ජන්**, පු. වෘක්ෂාදීන්ගේ හර, ඇටමිදුලු, මෙහි මජ්ජාකියා ස්ත්‍රීලිඟුද වේ.

**මඤ්ජරි (රී)**, ස්ත්‍රී. (නවොද්ගත පල්ලවාඞ්කුර රූප ඇත්තාවූ) කැන.

**මඤ්ජිෂ්ඨා**, ස්ත්‍රී. වැල්මදට.

**මඤ්ජීර**, පු. න. ගැහැණුන් පාසලඹ.

**මඤ්ජු**, ත්‍රි. ශොභනදෑ.

**මඤ්ජුල**, ත්‍රි. ශොභනදෑ.

**මඤ්ජූෂා**, ස්ත්‍රී. වස්ත්‍රාභරණ බහා තබන පෙට්ටිය. කදඑලෙන පැස.

**මඨ**, පු. අකුරුහල, පරිබ්‍රාජක ක්ෂපණක ආදීන්ගේ ගෙහිද වැටේ.

**මඩ්ඩු**, පු. කබලින් රුකොණ යෝගීන්ගේ ඩමරුනම් වාද්‍ය භෙදය මහත්වූයේ මඩ්ඩුනම.

**මණි**, පු. රුවන්, මුතු මැණික් දෙවගයට සාධාරණ නමෙකි.

**මණික**, න. මහත්වූ කුක්ෂි ඇති දියබහා තබන ලොකු සැල,

**මණිබන්ධ**, පු. මැණික්කටුව.

**මණිමන්ථ**, පු. සහිඳලුණු.

**මණ්ඩ**. පු. න. සියලු රසයන්ගේ අග්‍රභාගය. පු. එරඬුගස. මෙහි ආමණ්ඩ කියාද පාඨයි.

**මණ්ඩන**, න. අබරණ.

**මණ්ඩප**, පු. න මඩුව.

**මණ්ඩල**, න. සක්වළ. රැස්මඩල. "චන්ද්‍ර සූර්‍ය්‍යයො [රුතපාතාදිජනමණ්ඩලස්‍ය" චන්ද්‍රසූර්‍ය්‍ය දෙ දෙනා ගේ සමීපයෙහි මෙඝාදියෙන් හටගත්තාවූ මඩලයෙහි. පු. ත්‍රයර්ග්වෘත්ති සතුදණ්ඩඃ ස්‍යාද් භොගොත්‍ය වෘත්තිරෙවච මණ්ඩලඃ සම් තොවෘත්ති: පෘථග්වෘත්තිරසංහතඃ, යී දක්වනලද සිව්වැදෑරුම් සෙනාවින්‍යාසයන් අතුරෙන් මඩල රචනායෙන් සජී ශරීරයක්සේ සේනාවගේ සම්තොවෘත්තියයි හෙද සම් තොහද්‍රය ද්‍රජ්යයී දෙවැදෑරුම්වේ.

**මණ්ඩලක**, න. මණ්ඩලා කාර කුෂ්ටය.

**මණ්ඩලාග්‍ර**, පු. කඩුව.

**මණ්ඩලෙශ්වර**, පු. මණ්ඩලීක රජ එනම් සක්විති රජුන්හැර අන්‍යයෝයි.

**මණ්ඩිත**, ත්‍රි. පහයින් ගන්වන ලද්දේ හෙවත් සරසනලද්දේ.

**මණ්ඩූක**, පු. මැඩියා.

**මණ්ඩූකපර්ණ**, පු. තොටිලගස.

**මණ්ඩූකපර්ණී**, ස්ත්‍රී. වැල්මදට.

**මණ්ඩූර**, න. යකඩමල

**මතඞ්ගජ**, පු. ඇතා.

**මතල්ලිකා**, ස්ත්‍රී. ප්‍රශස්තය.

**මත්ත**, පු. මදගලිත ඇතා. ත්‍රි. ප්‍රමුදිතවූයේ.

**මත්තකාශිනී**, ස්ත්‍රී. උත්තම ස්ත්‍රී.

**මත්සර**, පු. අනුන්ටවන යහපත නොකමැතිබව. ත්‍රි. ඉන්‍යුකත යා. මසුරා.

**මත්ස්‍ය**, පු. මත්ස්‍යයා.

**මත්ස්‍යාණ්ඩී**, ස්ත්‍රී. මත්ස්‍යබණ්ඩ යොග්‍යවූ ඉක්ෂු විශෙෂයාගේ

රසපාකයයි කියනලද ශකීර විශෙෂය.
**මත්ස්‍ය පිත්තා**, ස්ත්‍රී. කුළුරු හැණ.
**මත්ස්‍යවෙධන**, න. බිලීකටුව
**මත්ස්‍යාක්ෂී**, ස්ත්‍රී. "යස්‍යාඃ ශුකල පක්ෂෙ පර්ණානුද් භවන්ති. කෘෂ්ණපක්ෂෙ පතන්තී සාසොම වල්ලී" කියනලද. සොමලතා.
**මත්ස්‍යාධානී**, ස්ත්‍රී. කෙමණ.
**මථිත**, ත්‍රි. ඇලළුද්‍ද.
**මථින්**, න. මෝරු අලළන දඬ.
**මද**, පු. හස්ති මදය. සතුට. රෙතස්. කස්තුරි. ඇතුන්ගේ කපෝලයෙන් වැහෙන මද ජලය. ගර්වය.
**මදකල**, පු. අභිනවොද් ගතමද ඇති ඇතා.
**මදන**, පු. කුකුරු මුවන්ගස හත්ත නගස, අනඟයා.
**මදස්ථාන**, න. රාබොනගේ.
**මදිරා**, ස්ත්‍රී. සුරා.
**මදිරාගෘහ**, න. රාහල.
**මදොත්කට**. පු. අභිනවොද්ගත මද ඇත්තාවූ ඇතා.
**මද්ගු**, පු. දියකාවා.
**මද්ගුර**, පු. එනම් මත්ස්‍ය විශෙෂය (සුංගා)
**මද්‍ය**, න. සුරා.
**මධු**, න. මී, සුරා, මල්පැණි, මීපැණි, මීමලින්කළ සුරා, පු. බක්මස, ස්ත්‍රී. සවර්ණියටබඳුජීව් ඇති ජීව න්තිකානම් සූක්ෂම ලතා, [( හරණවෙල, හරණ ඇසි යනු මරාටිසි.)

**මධු ( ධූ ) ක**, මීගස. වැල්මී.
**මධුකර**, පු. බඹරා.
**මධුක්‍රම**, පු. නිතර සුරාපානය කරණ පිළිවෙළ.
**මධුද්‍රැම**, පු. මීගස.
**මධුප**, පු .බඹරා.
**ධූපර්ණිකා**, ස්ත්‍රී. බෙරු ගස ඇද්දෙමට ගස.
**මධුපර්ණී**, ස්ත්‍රී. කිදිවැල්
**මධුමක්ෂිකා**, ස්ත්‍රී. මීමැස්සා.
**මධුයෂ්ටිකා**, ස්ත්‍රී. වැල්මී.
**මධුර**, පු. මිහිරි රස, ඉන්සුත් දෙයෙහිද ප්‍රිය යෙහිද ත්‍රි.
**මධුරක**, පු. ජීවක, (දිවි නම් බෙහෙත,)
**මධුරසා**, ස්ත්‍රී. මීදිවැල්, මූර්වා,
**මධුරා**, ස්ත්‍රී. ශත පුෂ්පනම්ද්‍රව්‍යය.
**මධුරිකා**, ස්ත්‍රී, මධුරිකාවට ( පැපිළිය)
**මධුරිපු**, පු. විෂ්ණු.
**මධුලිහ්**, පු. බඹරා.
**මධුවාර**, පු, අනවරතයෙන් මධුපානයාගේ අනුක්‍රමය හෙවත් නැවත නැවත සුරාපානය කරණ පිළිවෙළ.
**මධුව්‍රත**, පු.බඹරු.
**මධුශිග්‍රු**, පු. රතුමල්ඇති මුරුගා (වැල්මුරුගා)
**මධුශ්‍රෙණී**, ස්ත්‍රී. මූර්වායෙහි,
**මධුෂ්ඨිල**, පු. මීගස,
**මධුස්‍රවස්**,පු, මීගස.
**මධූක**, න. වැල්මී.
**මධූච්ඡිෂ්ට**, න මීඉටි.
**මධූලක**, පු. ඔම්ගස.
**මධූලිකා**, ස්ත්‍රී. මූර්වා.
**මධ්‍ය**, පු. න. ශරීරමධ්‍යය, ත්‍රි. න්‍යාය හෙවත් උචිතය. සිරුර මැද හෙවත් ඉඟටිය. අතර



**මධ්‍යදෙශ**, පු. මධ්‍යදෙශය,
**මධ්‍යම**, පු. මධ්‍යදෙශය, ශරීර මධ්‍යය, තැතින් හෝ බොටුවෙන් නැගාවූ එනම් ස්වර විශෙෂය මෙය බොටුවෙන්වූ කලී "ක්‍රෞඤ්චඃක්වණති මධ්‍යමම්" යනු වචන හෙයින් සක්වා ලිහිණිතෙම නගයි
**මධ්‍යමා**, ස්ත්‍රී. මැද්‍ද ඇඟිල්ල,පළමු දුටු ඔසප්ඇති ස්ත්‍රී.
**මධ්‍යාහ්න**, පු. මධ්‍යාහ්නය.
**මධ්වාසව**, පු, මීමලින් කළ සුරා,
**මනඃශිලා**, ස්ත්‍රී රක්(මනොශීල.)
**මනස්**, න. සිත.
**මනසිජ**, පු. අනඟයා.
**මනස්කාර**, පු. මෙනෙහිකිරීම.
**මනාක්**, අව්‍ය, අල්පාර්ථයි "මනාක් විහස්‍ය. සන්තුෂ්ටඃ" මදක් සිනාසී සතුටුවී යනාදි උදාහරණයි.
**මනිත**, ත්‍රි. අවබොධකළද්‍ද.
**මනීෂා**, ස්ත්‍රී බුද්ධිය.
**මනීෂින්**, පු. පණ්ඩිතයා.
**මනුජ**, පු. මිනිසා.
**මනුෂ්‍යධර්මින්**, පු. වෙසමුණු.
**මනොගුප්තා**. ස්ත්‍රී. රක් (මනොශීල)
**මනොජව**, ත්‍රි. පියාවැතිවූයේ
**මනොඥ**, ත්‍රි. ශොභනද්‍ද.
**මනොහත**,පු. සිත්බිඳුනාලදූයේ.
**මනොහවා**, ස්ත්‍රී. රක් (මනොශීල)
**මන්තු**, පු. අපරාධය.
**මන්ත්‍ර**, පු. වෙදමන්ත්‍රය, රහස් කථාව.
**මන්ත්‍රින්**, පු. මන්ත්‍රියා.

**මන්ථ**, පු. මත්දණ්ඩ (මෝරු අලළන දඬ)
**මන්ථදණ්ඩක**, පු. මත්දඬ. (මෝරු අලළනදඬ)
**මන්ථනී**, ස්ත්‍රී. මොරු අලළන කලය.
**මන්ථර**, ත්‍රි. සෙමෙන් යන්නා.
**මන්ථාන**, පු. මත් දඬ (මෝරු අලළන දඬ)
**මන්ද**, ත්‍රි, මූඪ. අව්‍යක්ත, අල්ප, පින්නැති, පුඃ අලසයා.
**මන්දගාමින්**, ත්‍රි. සෙමෙන් යන්නා.
**මන්දාකිනී**, ස්ත්‍රී. අහස්ගඟ,
**මන්දාක්ෂ**, න. ලජ්ජාව.
**මන්දර**, පු. දිව්‍ය වෘක්ෂය. වරු ගස, එරබදු ගස.
**මන්දිර**, න. ගෙය, නුවර.
**මන්දුරා**, ස්ත්‍රී. අස්හල.
**මන්දොෂ්ණ**, න, මදහුණු, ඉන්යුත් දෙයෙහි, ත්‍රි.
**මන්ද්‍ර**, ත්‍රි. ගැඹුරුහඬ.
**මන්මථ**, පු. අනඟයා.
**මන්‍යා**, ස්ත්‍රී. පිටිකර මහනහර.
**මන්‍යු**, පු. බැගෑබව. කොපය. යාගය.
**මන්වන්තර**, න මන්වන්තරය, (මේ දෙවියන්ගේ ගණනින් යුග එක් සැත්තෑවකි)
**මශ**, පු. ඔටුවා.
**මයු**, පු. කිඳුරා.
**මයුෂ්ඨක**, පු වනමුං.
**මයූඛ**, පු, හිරුරැස්, දීප්තිය, ගිනිසිළු.
**මයූර**, පු. මොනරා, පවුතල (මෙ, තරකුඹිඹියා.

**මයූරක**, න. රිදී තුත්තම් 'මොරචුත යනු මහරට ව්‍යවහාරයි, පු, සැ බෝගස

**මරකත**, න, මරාමිණි.

**මරණ**, න. මරණය.

**මරිච**, න. මිරිස්.

**මරීචි**, ස්ත්‍රී. මිරිඟු, පු, හිරුරැස්.

**මරීචිකා**, ස්ත්‍රී. මිරිඟු.

**මරු**, පු, පැන්නැති හෝ පැන් දුරු පෙදෙස, පර්වත,

**මරුත**, පු. පවන්, දෙවි.

**මරුත්**, පු, සුළඟ "මාරුතශබ්දෙපි බොධ්‍යඃ" මාරුතශබ්දය කුදු දතයුතු යනු දක්වනලදී,

**මරුත්වත්**, පු. ශක්‍රයා.

**මරුන්මාලා**, ස්ත්‍රී. පිඩකායයි ඛ්‍යාතවූ සුගන්ධි කුසුමය (පික් මල්) මරුත් මාලායයි සංඥාත විගෘහිතකොට නාම වයක්ද පැණේ.

**මරුවක**, පු. තීන්පණීස වෘක්ෂය. කුකුරුමූවන් ගස.

**මර්කට**, පු වඳුරා.

**මර්කටක**, පු. මකුළුවා.

**මර්කටී**, ස්ත්‍රී. වඳුරු මෑ.

**මර්ත්‍ය**, පු මිනිසා.

**මර්දන**, න. අත්පාදිය මැඩීම.

**මර්දල**, පු. මිහිඟු බෙරයක් බඳු එනම් වාද්‍යභෙදය,

**මර්මන්**, මර්මස්ථානය.

**මර්මර**,පු, රෙදි කොලහඬ

**මර්මස්පෘශ්**,ත්‍රි. මර්මපීඩාකරන්නේ

**මර්යාදා**, ස්ත්‍රී. න්‍යාය පථයෙහි හෙවත් සුදුස්සෙහි පැවැත්ම.

**මල**, පු. න. "වසාශුක්‍රමසෘක් මජ්ජාකර්ණවිත් මූත්‍රවිත්නඛාඃ" ශ්ලෙෂ්මා ශ්‍රැදූෂිකා ස්වෙදෙ ද්වාදශෛතෙ නෘණාංමලාඃ, යනු කියනලද බැවින් වුරුණු තෙල්, ශුක්‍ර, ලේ. මිදුළු, කන්මල, මූත්‍ර, මළ, නියමල, සෙම්, කඳුලු, කබ, ඩහ, යන මේ මනුෂ්‍යයන්ගේ දොළොස් වැදෑරුම් මල.

**මලදූෂිත**, ත්‍රි. මලයෙන් කිලිටිවූ අනුජාවල දෑ.

**මලිනී**, ස්ත්‍රී. ඔසප් ඇත්තී.

**මලිම්ලච**, පු. සොරා.

**මලීමස**, ත්‍රි. මලයෙන් කිලිටිවූ අනුජාවලදෑ

**මල්ල**, පු, මල්ලව යුධකරන්නා.

**මල්ලක**, පු. පහන්තටු.

**මල්ලිකා**, ස්ත්‍රී. ඉද්දගස.

**මල්ලිකාක්ෂ**, (බ්‍ය) කිලිටිපා තුඩු ඇති ශෙවතවර්ණවූ හංසවිශෙෂයෙක්.

**මෂි**, පු. දුලි (තීන්ත)

**මසූර**, පු. වටමුං,

**මසූරවිදලා**, ස්ත්‍රී, කෘෂ්ණ තෙවඩි ( කළු ත්‍රස්තවාලූ,)

**මසෘණ**, ත්‍රි. සිනිඳු ආහාරාදිය.

**මස්කර**, පු. හුණගස

**මස්කරින්**, පු. භික්ෂුව, පරිව්‍රාජකයා.

**මස්තක**, පු. න. හිස.

**මස්තිෂ්ක**, න. හිස්මුල්.

**මස්තු**, න. දී පෙරළිදිය.

**මහ**, පු. උත්සවය, මහස් යනුද වේ,

**මහත්**, න. රාජ්‍ය, විසල්, ඉන් යුත්දෙ යෙ, ත්‍රි.

**මහතී**, ස්ත්‍රී. නාරදර්ෂින්ගේ වීණාව මහත්වයෙන් යුත් අඹු ආදීහු



**මහාකන්ද**, පු. හෙළ ලූනු.

**මහාකුල**, න. මහකුලය, "දෙශපුරුෂාවධිවෙදාධ්‍යාය නවංශඃ" යනු වචනහෙයින් දෙශ සීමාවෙන්හෝ පුරුෂ සීමාවෙන් හෝ වෙදාධ්‍ය යන වංශය,

**මහාඩග**, පු. ඔටුවා.

**මහාජාලී**, ස්ත්‍රී. රන්වන් වැටකොළු.

**මහාදෙව**, පු. ඊශ්වරයා.

**මහාධන**, න. බොහෝ මිළ වටනා වස්ත්‍ර.

**මහානස**, න. මුළු තැන්ගේ.

**මහාපද්ම**, පු. එනම් නිධි විශෙෂය, නිඛර්දශයෙක් (දසකොළ ලක්ෂයක්)

**මහාමාත්‍ර**, පු. ප්‍රධානාමාත්‍යයා එනම් අප්‍ර කෘෂ්ටද නොවූ උත්කෘෂ්ටද නොවූ මධ්‍ය මාධිකරණයෙහි ව්‍යවස්ථිතවූ රාජපුත්‍ර සෙනාපති ආදීහුයි.

**මහාරජත**, න. රන්.

**මහාරජන**, න. වනුක් මල්.

**මහාරණ්‍ය**, න. මහාවනය.

**මහාරාජික**,පු. දෙසිය විස්සකැයි කියනලද ගණදෙව භෙදය.

**මහාරෞරව**, එනම් නිරයභෙද.

**මහාශය**, ත්‍රි. උදාර අදහස් ඇත්තා.

**මහාශුද්‍රී**, ස්ත්‍රී. ගොපාල ස්ත්‍රී.

**මහාශ්වේතා**, ස්ත්‍රී,කළු කිරිබදු.

**මහාසහා**, ස්ත්‍රී. කටුකරඹු, උඳු පියලි.

**මහාසෙන**, පු. කඳකුමරු.

**මහිලා**, ස්ත්‍රී. ගැහැණී. පුවඟු ගස.

**මහිෂ**, පු. මීමා.

**මහිෂී**, ස්ත්‍රී. මෙහෙසිය.

**මහී**, ස්ත්‍රී. භූමිය.

**මහීක්ෂිත්**, පු. ජනපද පුරපාලනාධි කෘතවූ රජදරුවන්වද තත්කාර්‍ය කාරීවූ රජදරුවන් කෙරෙන් පිටත් සෙස්සවුන්ටදනම්.

**මහීධ්‍ර**, පු. පර්වතය.

**මහීරුහ**, පු. වෘක්ෂය.

**මහීලතා**, ස්ත්‍රී. ගැඩවිලා.

**මහීසුත**, පු. අඟහරු.

**මහෙච්ඡ**, ත්‍රි. උදාර අදහස් ඇත්තා

**මහෙරණා**, ස්ත්‍රී. ඉන් සලුරුක.

**මහෙශ්වර**, පු. ඊශ්වරයා

**මහොක්ෂ**, පු. මහගොණා.

**මහොත්පල**, පු. න පියුම්

**මහොත්සාහ**, ත්‍රි. මහොත්සාහ ඇත්තා.

**මහොද්‍යම**, ත්‍රි. මහොත් සාහ ඇත්තා.

**මහෞෂධ**, න. ඉවද, හෙළලූනු නු, සිද්දිගුරු.

**මා**, ස්ත්‍රී. ශ්‍රීකාන්තාව, අව්‍ය. ප්‍රතික්ෂෙපයෙහි.

**මාංස**, න. මස්.

**මාංසල**, ත්‍රි. බලඇත්තා.

**මාංසික**, න. මස්විකුණන්නා

**මාක්ෂික**, න. මී.

**මාගධ**, පු. වංශක්‍රමදැන ස්තුතිකරන වන්දිහු, ක්ෂත්‍රිය ස්ත්‍රියකා වෛශ්‍යපුරුෂයා නිමිත්තකොට උපන් අය, හේ ආයුධ වෘත්තියි.

**මාගධී**, ස්ත්‍රී. යූථිකානම් ද්‍රව්‍යයෙහි, වගපුල්.

**විදර.** පු. වස්ත්‍රාදිය පැළීම.

**විදල,** පු. කලමාදිය,මුංආදිබිසලි.

**විදුරක** පු. වියලිතදී ආදියෙහි ජලය පිණිස සෑරුවල "ශුෂ්කා නද්‍යාදෞහි ජලාර්ථංගතීඃ ක්‍රිය න්තෙ තෙෂාම්" යනු එහෙයින් කියනලදී, ජලස්‍රොතස දෙකක් කිරීම පිණිස මැද බඳිලන දැවගල් ආදි වැටිය "ස්‍රොතොවිධාකාරිණීඃ ශිලාදයඃ" යනු එහෙයින් කියනලදී.

**විදූරී.** ස්ත්‍රී; හෙලකිරිබඳු.

**විදූරිගඞ්ගා.** ස්ත්‍රී. අඃවැන්න.

**විදිත.** ත්‍රි. අවබොධකළදෑ.

**විදිශ්.** ස්ත්‍රී. අනුදිග.

**විදු.** පු. ඇතුන්ගේ කුඹදෙක අතර;

**විදුර.** ත්‍ර්. දන්නාඅය.

**විදුල.** පු. දියහොමුගස.

**විද්ධ.** ත්‍රි. විදිනලද හෙවත් සිදුරුකරණලදදෑ.

**විද්ධකර්ණී.** ස්ත්‍රී; දියමිත්ත, මෙහි අවිද්ධකර්ණී, යනුදවේ;

**විද්‍යාධර.** පු; එනම් දෙවයොනිය;

**විද්‍යුත්.** ස්ත්‍රී. විදුලිය,

**විද්‍රධි.** ස්ත්‍රී. එනම් ගඩය;

**විද්‍ර(ද්‍රා)ව.** පු. යුද්ධයෙහිපලායාම;

**විද්‍රැත.** ත්‍රි. දියවූඉටි ගිතෙල් ආදිය.

**විද්‍රැමලතා.** ස්ත්‍රී; නලීනම් ගන්ධද්‍රව්‍යය (පබලුපැල;)

**විධස්.** ත්‍රි. ප්‍රඥාවන්තයා.

**විශබෂ.** පු; වෛරය;

**විධවා** ස්ත්‍රී; කනවැඳුම් ස්ත්‍රී;

**විධා.** ත්‍රි; වැටුප්, (කුලිය) විධානය; ප්‍රකාරය;

**විධාතෘ.** පු; බ්‍රහ්මයා;

**විධි.** පු; බ්‍රහ්මයා; පුරාකෘත කුශලය (පෙරකළපින්) වෛදික විධානය හෙවත් නියොගශාස්ත්‍රය, දෛවය (පෙරකළපින් පව්දෙක) කතීව්‍යය;

**විධු.** පු; චන්ද්‍රයා; විෂ්ණු;

**විධිදර්ශින්.** පු; යාගවිධාන දන්නාවූ න්‍යූනාතිරික්ත ප්‍රෙක්ෂණයෙහි තත්පරවූ බ්‍රාහමණයා;

**විධුත.** ත්‍රි; හරණලදදෑ;

**විධුංතුද,** පු; රාහු;

**විධුර,** න; අත්‍යන්ත වියොගය හෙවත් ඉතාවෙන්වීම;

**විධුවන,** න; කම්පනය;

**විධුනන,** න; කම්පනය හෙවත් සැලීම;

**විධෙය,** ත්‍රි; අවවාද ගිවිස්සේ;

**විනයග්‍රාහින්,** ත්‍රි. අවවාදගිවිස්නාඅය;

**විනා,** අව්‍ය, වර්ජිත හෙවත්වෙන්කිරීම.

**විනායක,** පු;බුදුන්; ගණදෙවි;

**විනාශ,** පු; අදශීනය;

**විනාශොන්මුඛ,** ත්‍රි; විනාශය බලාගියදෑ,

**විනීත,** පු; මනාකොට බරලුසුලන අශ්වයා; ත්‍රි; හික්මුනුඅය;

**විප්‍රුඩ්;** පු; දියආදි බින්දුව, අනුස්වාරය.

**විඣ්‍ය,** පු. ආයර්‍යාවතීයට හිම්වූ එනම් පර්වත හෙදයෙක්;

**විතර්කා,**ත්‍රි.විචාරණලදදෑ;ලදදෑ.

**විපක්ෂ;** පු. සතුරා:

**විපඤ්චි,** ස්ත්‍රී; වීණාව;

**විපණ,** පු; විකිණීම.

**විපණී,** පු. ස්ත්‍රී; සල්පිල, සල්පිල් පෙළ, විකිණීයයුතු බඩු.



**විපත්ති,** ස්ත්‍රී. විපත්තිය.

**විපථ,** පු. නොමනාමග.

**විපද්,** ස්ත්‍රී. විපත.

**විපර්‍යය,** පු. ව්‍යතික්‍රමය හෙවත් විපර්‍යාසය.

**විපර්‍යාස,** පු. ව්‍යතික්‍රමය.

**විපශ්චිත්,** පු. පණ්ඩිතයා.

**විපාදිකා,** ස්ත්‍රී. පාපොළ (පාදයේ සෑදෙන රොගයක්)

**විපාශා,** ස්ත්‍රී. එනම් නදී විශෙෂය (පාශාමොචිනී) යයි මගරට ප්‍රසිද්ධයි.

**විපින,** න. වනය.

**විපුල,** ත්‍රි. විසල්දෑ.

**විප්‍ර,** පු. බමුණා.

**විප්‍රකාර,** පු. අපකාරය.

**විප්‍රකෘත,** ත්‍රි. විවර්ණකෙළේ.

**විප්‍රකෘෂ්ටක,** ත්‍රි. දුර. (ඈත.)

**විප්‍රතිසාර,** පු. පසුතැවිල්ල.

**විප්‍රයොග,** පු. සානුරාගිවූ ස්ත්‍රීපුරුෂ දෙදෙනාගේ වියොගය හෙවත් වෙන්වීම.

**විප්‍රලබ්ධ,** ත්‍රි. වචාකරණලද්දේ.

**විප්‍රලම්භ,** පු. වචනයෙන් හෝ පොරොන්දුව සිදු නොකිරීමෙන් හෝ රැවටීම. සානුරාගීවූ ස්ත්‍රීපුරුෂ දෙදෙනාගේ වියෝගය.

**විප්‍රලාප,** පු. උනුන්ට විරුදු තෙපුල්.

**විප්‍රශ්නිකා,** ස්ත්‍රී. ශුභාශුභ පරීක්ෂා කරන්නී.

**විප්‍ර(ප්ලු)ෂ්,** ස්ත්‍රී. දියබිඳුව.

**විප්ලව,** පු. ශස්ත්‍රරහිත යුද්ධය, කියගඩ, සැඩොල්, පිලාව හෙවත් චර්මකූපසස සිටි මස්කඩ (බඩදිව) රටට පැමිණි උවදුර.

**විබුධ,** පු. දෙවියෝ.

**විභව,** පු. ධනය.

**විභාකර,** පු. හිරු.

**විභාවරී,** ස්ත්‍රී. රාත්‍රිය.

**විභාවසු,** පු. හිරු, ගිනි. මුතුවැල් වෙසෙසෙක්.

**විභීතක,** ත්‍රි. බුලුගස, ස්ත්‍රී. විභීතකී.

**විභූති,** ස්ත්‍රී.

"අණිමාලඝිමාප්‍රාප්තිඃ
ප්‍රාකම්‍යං මහිමාතථා
ඊශිතා වශිතා චෛව
තථාකාමා වශායිතා"

යනු කීයෙන් අනිමන්ය, ලඝිමන්ය, ප්‍රාප්තිය, ප්‍රකාමය, මහිමන්ය, ඊශිතාය, වශිතාය, කාමාවශායිතායයි අටවැදෑරුම් ඊශ්වර ගුණ.

**විභූෂණ,** න. ආභරණය.

**විභ්‍රම,** පු.

"චිත්තවෘත්ත්‍යනවස්ථානං
ශෘඞ්ගාරාදි විභ්‍රමොමතඃ"

යනු කියනලද ස්ත්‍රීන්ගේ ශෘඞ්ගාරයෙන් එකඟනොවූ සිතින් උපන් ක්‍රියා භෙදයෙක්.

**විභ්‍රාජ්,** ත්‍රි. හොබනේ.

**විමනස්,**ත්‍රි.ව්‍යාකුලසිත්ඇත්තා.

**විමර්දන,** න. කොකුම් ආදී සුවඳ ඇඹරීම.

**විමල,** ත්‍රි. ස්වභාවයෙන් නිර්මලදෑ.

**විමලා,** ස්ත්‍රී. සප්තලානම් ගන්ධද්‍රව්‍යය (බැමිතිරිය)ශිකෙකාර්. මරාටි.

**විමාන,** පු. න, දෙව්විමන.

**වියත්,** න. අහස.

**වියද්ගඞ්ගා,** ස්ත්‍රී. අහස්ගඟ.

**වියම**, පු. සංයමය.

**වියාන**, ත්‍රි. නොහික්මුනු හෝ විලිනැති අය.

**වියාම**, පු. සංයමය.

**විරජස්තමස්**, ත්‍රි. පහවූ රජස් තමස් ගුණඇත්තේ හෙවත් සත්ව ගුණ ප්‍රධානවූයේ.

**විරතය**, පු. වැළැක්ම, පස්කම් සැපෙහි නිරුත්සාහය.

**විරති**, ස්ත්‍රී. වැළැක්ම, පස්කම් රසයෙහි නිරුත්සාහය.

**විරල**, ත්‍රි තුනීදෑ.

**විරාජ්**, පු. ක්ෂත්‍රියයා, විරාට් විරාඩ් යනු ප්‍රථමා එකවචනරූපයි.

**විරාව**, පු. හඬ.

**විරිඤ්චි**, පු. බ්‍රහ්මයා.

**විරූපාක්ෂ**, පු. ඊශ්වරයා.

**විරොචන**, පු. හිරු, ගිනි, සඳ.

**විරොධ**, පු. වෛරය.

**විරොධන**, න විරොධය.

**විරොධොක්ති**, ස්ත්‍රී. උත්තරට විරුඬ බස්.

**විලක්ෂ**, ත්‍රි, විස්මය ඇත්තා.

**විලක්ෂණ**, න. හෙතුරහිතවූ විසීම.

**විලම්බ**, පු. පමාවීම, ආගිස්ත්වය.

**විලාප**, පු. වැලපීම.

**විලාස**, පු. "රමාංගයන වදන ප්‍රභූතීනාංයඃ කශ්චි ද්‍රුතපඤ්ඤතෙ විශෙෂඃ සවිලාසඃ" ස්ත්‍රීන්ගේ ඇස මුව බැම ආදියෙහි යම් කිසි වෙනසෙක් හටගණීද ඒ විලාසනම් කියනලද ස්ත්‍රීන්ගේ ශෘඞ්ගාරභාවයෙන් උපන් ක්‍රියා භෙදයෙක්.

**විලීන**, ත්‍රි. දියවූ ඉටි ගිතෙල් ආදිය.

**විලෙපන**, න. කොකුම් ආදියෙන් විලෙපනය. (විලවුන්)

**විලෙපී**, ස්ත්‍රී. හුළුකැන් (කැඳ)

**වි (වී) වධ**, ත්‍රි. තන්වැදෑරුම්වූවා, පු. වී සහල් ගෙණ බරඉසිලීම' කද හෝ කත්ලීය, මාගීය.

**විවර**, න. බිලය (සිදුර.)

**විවර්ණ**, පු. නීචයා.

**විවශ**, ත්‍රි. ආසන්න මරණින් දූෂිතවූ බුඬි ඇත්තා.

**විවස්වත්**, පු. හිරු, දෙවි.

**විවාද**, න. නයදීම් ආදි අෂ්ටාදශ කාරණයෙන් වන්නාවූ නානා විධ විවාද.

**විවාහ**, පු. විවාහය.

**විවික්තා**, ස්ත්‍රී. පවිත්‍රය, විවෙකය.

**විවිධ**, ත්‍රි, නානාප්‍රකාර.

**විවෙක**, පු. මේ පුරුෂතෙම මෙ බඳුවූ ස්වරූප ඇත්තේය. මොහු කෙරෙන් භින්නවූ මේ ප්‍රකෘති තොමෝ මෙබඳු ස්වරූප ඇත්තී යයි මෙසේ ප්‍රකෘති පුරුෂ දෙදෙනාගේ හෙදඥනය, විජනස්ථානය හෙවත් ජනරහිත ස්ථානය.

**විබ්බොක**, පු. "අභිමතප්‍රාප්තාව පිගර්භාදනාදරඃ" ආසාව සිදුවූ කල්හිද අහංකාරයෙන් අනාදරයයි කියනලද ස්ත්‍රීන්ගේ ශෘඞ්ගාරභාවයෙන් උපන් ක්‍රියා හෙදයෙක්.

**විශ්**, පු. වෛශ්‍යයා මෙහි ප්‍රථමා එකවචනයෙහි රූප, විට්, විඩ්, කියාවෙත්.

**විශඞ්කට**, ත්‍රි. විසතීර්ණ හෙවත් පුළුල්දෑ.



**විශද**, පු. සුදුපැහැ, ඉන් යුත් දෙයෙහි, ත්‍රි.

**විශර**, පු. මැරවීම.

**විශල්‍යා**, ස්ත්‍රී. තිවොල්ගස, දැන්ත, තියඹරා, රසකිඳ.

**විශසන**, න. මැරවීම.

**විශාඛ**, පු. කඳකුමරු.

**විශාඛා**, ස්ත්‍රී. විසානැකත.

**විශාය**, පු. යාමිකභටාදීන්ගේ යමින් යම හුවමාරු නින්ද.

**විශාරණ**, න. මැරවීම.

**විශාරද**, ත්‍රි. පණ්ඩිත, ප්‍රගල්භ.

**විශාල**, ත්‍රි. පුළුල්දෑ.

**විශාලතා**, ස්ත්‍රී. පළල්බව.

**විශාලත්වච්**, පු. රුක්අත්තන.

**විශාලා**, ස්ත්‍රී. ගොන්කැකිරි.

**විශිඛ**, පු. ඊතලය.

**විශිඛා**, ස්ත්‍රී. ග්‍රාමාභ්‍යන්තරයෙහි වූ මාගීය, විසානැකත.

**විශෙෂක**, පු. න. නළල තිලකාව.

**විශ්‍රම්භ**, පු. විශ්වාසය.

**විශ්‍රාණන**, න. දානය.

**විශ්‍රාව**, පු. ඉතා ප්‍රසිඬිය.

**විශ්‍රැත**, ත්‍රි ප්‍රසිඬවූයේ.

**විශ්ව**, ස්ත්‍රී. න. සිද්දිගුරු (වියලි ඉඟුරු.) ස්ත්‍රීලිඟුවෙහි විශ්වා කියාවේ. පු. එනම් දෙවවර්ගීය. "විශ්වෙදෙවාද ශස්මෘතාඃ" යනු කියෙන් මේ වර්ගයෙහි දශ දෙවතා කෙණෙකැයි දතයුතුයි. ත්‍රි. නොඅඩුදෑ.

**විශ්වක්**, අව්‍ය, හාත්පස්හි යන අර්ථයි. විශ්වක් පතනති කිරණාඃ" හාත්පස කිරුරැස් වැටෙත්.

**විශ්වකද්‍රු**, පු. දඩයම් බලු.

**විශ්වකෙතු**, පු. අනඟයාගේ පුතු.

**විශ්වකර්මන්**, පු, හිරු, දෙව්සිපි. (විශ්වකර්මීදිව්‍යපුත්‍රයා)

**විශ්වභෙෂජ**, න. සිද්දිගුරු.

**විශ්වම්භර**, පු. විෂ්ණු.

**විශ්වම්භරා**, ස්ත්‍රී. භූමිය.

**විශ්වසෘජ්**, පු. බ්‍රහ්මයා.

**විශ්වස්තා**, ස්ත්‍රී. කනවැන්දුඹු ස්ත්‍රී.

**විශ්වා**, ස්ත්‍රී. ඉවද.

**විශ්වාස**, පු. විශ්වාසය.

**විෂ්**, ස්ත්‍රී. වර්චස්, (මල)

**විෂ**, න. ජලය, විෂය (සර්පවිසාදියයි.)

**විෂධර**, පු. සර්පයා.

**විෂමච්ඡද**, පු. රුක්අත්තනගස.

**විෂය**, පු. ඉන්ද්‍රිය ගොචරවූ රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ යන පස (මත්ස්‍යාදීන් සෙවිනා ජලය ඔවුන්ට විෂයවේද එමෙනි) දෙශය, ආශ්‍රය.

**විෂයින්**, න. ඉන්ද්‍රියයෝ.

**විෂවෛද්‍ය**, පු. විසවෙදා

**විෂා**, ස්ත්‍රී. ඉවද.

**විෂාණ**, ත්‍රි. අඟ, ඇත්දත.

**විෂාණී**, ස්ත්‍රී. මැඩහගු.

**විෂුව**, ප. (තුලා මේෂරාශි සංක්‍රාන්තියෙහිවූ) රෑදවල සමකල.

**විෂුවත්**, පු. (තුලා මෙෂරාශි සංක්‍රාන්තියෙහිවූ) රෑදවල සම කල.

**විෂ්කිර**, පු. පක්ෂියා.

**විෂ්කම්භ**, පු. සඳ හිරු දෙදෙනාගේ යොගයෙන් හටගත් යොගයන් අතුරෙන් ප්‍රථම යොගය, වැළැක්වීම.

**විෂ්ටප**, න. ලෝකය.
**විෂ්ටර**, පු. රුක,ඉළුප් හෝ කුස තණම්ට,පුටු ආදිවූ හෝ තෙලි සම් ආදි අස්න.
**විෂ්ටශ්‍රවස්**, පු. විෂ්ණු.
**විෂ්ටි**, ස්ත්‍රී. අනුන්ගෙන් බැල නොගෙන ආත්මරක්ෂාව පිණිස කරන්නාවූ භාරොත්වහාදි කම් කටුලු "නරකෙභයාත් ප්‍රක්ෂෙපස්‍ය" යනුවෙන් නරකයෙහි බලයෙන් හෙලීමටද නමැයි දතයුතුයි.
**විෂ්ඨා**, ස්ත්‍රී. වර්චස්. (මල)
**විෂ්ණු**, පු. විෂ්ණු.
**විෂ්ණුක්‍රාන්තා**, ස්ත්‍රී. කටරොළු.
**විෂ්ණුපද**, න. අහස.
**විෂ්ණුපදී**, ස්ත්‍රී. ගඟානම්නදිය.
**විෂ්ණුරථ**, පු. විෂ්ණුගේ වාහනය (ගුරුළු:)
**විෂ්‍ය**, ත්‍රි. විෂයෙන් නැසිය යුත්තා.
**විෂ්වක්සේන**, පු. විෂ්ණු.
**විෂ්වක්සෙන ප්‍රියා**, ස්ත්‍රී. ඌරල
**විෂ්වක්සෙනා**, ස්ත්‍රී. පුවගුගස.
**විෂ්වද්‍රීච්**, ත්‍රි. සියල්ල කරා යන්නේ.
**විසකණ්ඨිකා**, ස්ත්‍රී කනකෙකි.
**විසර**, පු. සමූහය.
**විසර්ජන**, න. දනය.
**විසර්පණ**, න. පිළිකාදීන් පැතිර යාම.
**විසංවාද**, පු. "වචනයුක්තභාෂනස්‍ය අභිකෘතා සම්පාදනස්‍යෙ තිචා" යනුකීයෙන් වචනයෙන් ශෝපොරොන්දුව සිදුනොකිරීමෙන් හෝ රැවටීම.
**විසර**, පු. මත්ස්‍යයා.
**විසාරින්**, පු. මත්ස්‍යයා, ත්‍රි. ඈත මෑත පැතිරෙන සුලුදෑ.
**විසාලත්වච්**,පු.රුක්අත්තනගස.
**විසෘත**, ත්‍රි. විසිරිදෑ.
**විසෘත්වර**, ත්‍රි. පැතිරෙනසුලුදෑ.
**විසෘමර**, ත්‍රි. ඈතමෑත පැතිරෙන සුලුදෑ.
**විස්තර**, පු. ශබ්දසමූහය, ආධාරය, පුටුව.
**විස්තාර**, පු වෙලෙප්,විස්තීර්ණය, සමාසවාක්‍යයෙහිවූ පදසමූහය
**විස්තෘත**, ත්‍රි. විසිරිදෑ.
**විස්ඵාර**, පු. දුනු පෙළුම්හඬ.
**විස්ඵොට**, පු. පොළු.
**විස්මය**, පු. විසමය, නාට්‍යොක්තියෙහි අද්භුතරසය.
**විස්මයාන්විත**, ත්‍රි. විශ්මය ඇත්තේ.
**විස්මෘත**, ත්‍රි. සිහිකලදෑ.
**විස්‍ර**, න. අමුගඳ "ආමොපක්වමලස්‍යෙව ගන්ධො යස්‍යතත්" යනු වචන බැවින් නොපැසුණු මලයට හෝ මාංසයට හෝ සමගඳයි.
**විස්‍රම්භ**, පු. ශෘංගාර, ප්‍රාර්ථනාව, විශ්වාසාදිය.
**විස්‍රසා**, ස්ත්‍රී. ජරාව.
**විහග**, පු. පක්ෂියා.
**විහඞ්ග**, පු. පක්ෂියා.
**විහඞ්ගම**, පු. පක්ෂියා.
**විහංගිකා**, ස්ත්‍රී. කත්ලිය.
**විහසිත**, න. මැදිසිනාව.
**විහස්ත**, ත්‍රි. සොකාදිය හෙතු කොටගෙන මේකටයුතුය මේ



නොකටයුතුයයි. නිශ්චයකොට ගතනොහැක්කේ හෙවත් ව්‍යාකුලවූයේ.
**විහායිත**, න. දනය.
**විහායස්**, පු. පක්ෂියා,පු.න.අහස
**විහාර**, පු. පසින්යාම.
**විහ්වල**, පු. ශොකාදියෙන් බුන් සිරුරු ඇත්තා.
**වී (වි) කාශ**, පු. විජනස්ථානය හෙවත් ජනයා නැතිතැන, ස්ඵුට හෙවත් මල් ආදිය පිපීම, යමක් ප්‍රකටවීම
**වීචි**, පු. ස්ත්‍රී,රල "නිත්‍යස්ත්‍රීතෙය්‍යකො" නිත්‍යස්ත්‍රීලිඞ්ගයයි සමහරු කියත්.
**වීජාකෘත**, ත්‍රි. වපුට සැකෙත් ආදීය.
**වීණා**, ස්ත්‍රී වීණාව.
**වීණාදණ්ඩ**, පු. වීණාදඬුව.
**වීණාවාද**, පු වෙණවයන්නා,
**වීත**, න. යුඬසමර්ථවූ හස්ති අශ්වාදි සෙනාව.
**විතංස**, පු. මුව පක්ෂීන් මරණ උපකරණ.
**වීති**, පු අශ්වයා.
**වීතිහොත්‍ර**, පු. ගිනි.
**වීථි**, ස්ත්‍රී. මාගීය පඞ්ක්තිය(තුරුපෙළ)
**වීධ්‍ර**, ත්‍රි. සවභාවයෙන් නිර්මලදෑ.
**වීනාහ**, පු. ළින්වැස්ම.
**වීර**, පු. එනම් නාට්‍යරසය, දනධර්ම යුඬ යනමෙහි උත්සාහකාරි ගුණය, ත්‍රි. ශූරයා.
**වීරණ**, න. සුවඳහොට (සැවැන්න.)
**වීරතර**,න.සුවඳහොට(සැවැන්න)
**වීරතරු**, පු. කුඹුක්.
**වීරපත්නී**, ස්ත්‍රී. වීරයාගේ භාර්යාව.
**වීරපාන(ණ)**, න යුඬවූකල ජයශ්‍රමාපනය නය(ජයගැනීමෙහි වෙහෙසදුරුවීම)පිණිස යෝධයන්ගේ පාණයටද යුඬයට පළමු සාහසොත්සාදනය පිණිස යොධයන්ගේ (සුරා) පාණයටද නම්.
**වීරභාර්‍යා**, ස්ත්‍රී. වීරයාගේ භාර්‍යාව.
**වීරමාතෘ**, ස්ත්‍රී. වීරයන්ගේ මව.
**වීරවෘක්ෂ**, පු. බදුලුගස.
**වීරාශංසන**, න. කඩුබැදි සෙනාදියෙන් ඉතා බිහිසුනු යුඬභූමිය.
**වීරසූ**, ස්ත්‍රී වීරයන්ගේ මව්.
**වීරහන්**, පු. නැසුනු යාග ගිනි ඇත්තේ.
**වීරුධ්(ධා)**, ස්ත්‍රී. අතුපතරින් විස්තීර්ණවූ(මිදිබුලත්)ආදිවැල.
**වීර්‍ය**, න. ශක්තිය, තෙජස්, ශුක්‍ර ධාතුව.
**වීවධ**, පු. මාගීය, බර, සහල් ආදිය එකතු කිරීම.
**වෘංහිත**, න. හස්තිගර්ජනාව.
**වෘක**, පු. වෘකයා හෙවත් කොක්නාවා.
**වෘකධූප**, පු. කල්පිතවූ ධූපය හෙවත් නොයෙක් දුයින්කල ධූපය, සිරිවටු (හල්දුම්මල)
**වෘක්ණ**, ත්‍රි. කපනලදදෑ.
**වෘක්ෂ**, පු රුක.
**වෘක්ෂභෙදින්**, ස්ත්‍රී. ගස්පලන සැත්වෙසෙසෙක්.
**වෘක්ෂරුහා**, ස්ත්‍රී. පුවටා.

**වෘක්ෂවාටිකා**, ස්ත්‍රී. අමාත්‍යයන්ගේ හෝ ගණිකාවන්ගේ හෝ ගෘහ සමීපයෙහි කොටගත් වනය.

**වෘක්ෂාදන**, පු. පුවටා.

**වෘක්ෂාදනී**, ස්ත්‍රී. ගස්පලතු සැත් වෙසෙසෙක්, පුවටා.

**වෘක්ෂාම්ල**, න. සිනිඹලා ඇඹුල්

**වෘජින**, න. හිසකේ, න. නැම්ම, පව, තෙළිසම, ත්‍රි, වක්‍ද.

**වෘත**, ත්‍රි වැළකුද.

**වෘති**, ස්ත්‍රී. වෙළීම. සම්භක්තිය:

**වෘත්ත**, න. ශ්ලෝකය, චරිතය, අතීතද, දැඩිද, වටද, පූර්වචරිතය, එනම් අද්භූතරූපවූ විගුඩවූ අභිප්‍රෙතවූ යම් ශීලයෙක් දූෂණය නොකරේද හේවෙයි. ත්‍රි. කෘතාවෘතද. හෙවත් වැළකුද.

**වෘත්තාන්ත**, පු. ප්‍රවෘත්ති කථාව (ස්වරූපවූපරිද්දෙන් කියන්නාවූ කථාව) ප්‍රස්ථාව, භාවය, සියල්ල, ආරම්භය.

**වෘත්ති**, ස්ත්‍රී. කෛශිකී, ආරභටී සාත්වතී යනාදි නාට්‍ය ජීවිකාව, සූත්‍රව්‍යාඛ්‍යා.

**වෘත්‍ර**, පු. අඳුර, සතුරා, අසුරයා.

**වෘත්‍රහන්**, පු. ශක්‍රයා.

**වෘථා**, අව්‍ය, නිරර්ථක, අවධි, යන මේ අර්ථයන්හි "වෘථාදුග්ධඃ අනඩ්වාන්" නිෂ්ඵලේ දෙන දෙනා ලද්දීය යනාදි තන්හී නිරර්ථකයි. "වෘථාදෘනම්" විධිර හිතදෘනය යනාදියෙහිඅවධියි.

**වෘද්ධ**, පු. පණ්ඩිතයා, සැත්තෑවෙන් ඔබ්බෙහි වයස්ගිය මහල්ලා, න. සුගන්ධි රසද්‍රව්‍ය යයි කියනලද ගල්සෙවෙල් "ප්‍රූලා" ශිලාජිත, යනු මරාඨි නාමයෝයි (කප්පරවල්ලියයිද කියත්,)

**වෘද්ධත්ව**, න. මහලු බව.

**වෘද්ධදාරක**, පු. එනම් ගස (ගෝණ කොලයයිද කියත්) වරධාරා, ජීර්ණාංජි යනු මරාඨි නාමයෝයි.

**වෘද්ධනාභි**, ත්‍රි. මහත්නැබ ඇත්තා.

**වෘද්ධශ්‍රවස්**, පු. ශක්‍රයා;

**වෘද්ධා**, ස්ත්‍රී. මැහැල්ලී;

**වෘද්ධි**, ස්ත්‍රී. සමෘද්ධිය, සම්පත්තිය, සමූහය, එනම් ඔසුවෙසෙස.

**වෘද්ධිජීවිකා**, ස්ත්‍රී. පොලියෙන් ජිවත්වීම;

**වෘද්ධෝක්ෂ**, පු. මහලුගොනා;

**වෘද්ධ්‍යාජීව**, ත්‍රි. පොලියෙන් ජීවත් වන්නේ;

**වෘන්ත**, න. පුෂ්පාදියෙහි නටුව.

**වෘන්ද**, න. සමූහය.

**වෘන්දාරක**, පු. දෙවියෝ. ත්‍රි. මනොඥ හෙවත් රූවත්, නායක.

**වෘන්දිෂ්ඨ**, ත්‍රි. ඉතා මනොඥ ශ්‍රෙෂ්ඨ යනමේ අර්ථවාචකයි.

**වෘශ්චික**, පු. ගෝණුසු, රුක්බුරුද, එනම් අටවන රාස, දල ඹුවා.

**වෘෂ**, පු. ශුක්ලධාතු අධිකයා, මීයා, සුකෘතහෙවත් යහපත් ක්‍රියා, වෘෂභයා, උත්තරපදයෙහි සිටියේ ශ්‍රෙෂ්ඨාර්ථයි. දෙවන රාශිය, ඔසබිය, වංඇපල, පූෂණය.



**වෘෂණ**, පු. අණ්ඩකොෂය.

**වෘෂදංශක**, පු. බළලා.

**වෘෂධ්වජ**, පු. ඊශ්වරයා.

**වෘෂන්**, පු ශක්‍රයා.

**වෘෂභ**, පු. ගොනා. (භාරොම ගනක්ෂමවූ ගොනා)

**වෘෂල**, පු. ශූද්‍රයා.

**වෘෂස්‍යන්ති**, ස්ත්‍රී. මෛථුනයෙහි ආසා ඇත්තී.

**වෘෂා**, ස්ත්‍රී. මීතුග.

**වෘෂාකපායී**, ස්ත්‍රී. ශ්‍රීකාන්තාව. උමයගන.

**වෘෂාකපි**, ඊශ්වරයා, විෂ්ණු.

**වෘෂී**, (සී) වෘතීන්ගේ හෙවත් වෘත ඇත්තන්ගේ ආසනය.

**වෘෂ්ටි**, ස්ත්‍රී. වැස්ස

**වෘෂ්ණි**, පු. පොරගසන එළුවා. තිරෙළුවා. (බැටළුවා)

**වෘහත්**, ත්‍රි. පුලුල්ද.

**වෘහත්කුක්ෂි**, ත්‍රි සැලැක්සේ මහත් බඩ ඇත්තා.

**වෘහති**, ස්ත්‍රි, හෙළබටු, කටුවැල් බටු, නවාක්ෂරයකින් යුත් එනම් ඡන්දස. මහත්බව.

**වෘහතිකා**, ස්ත්‍රි. මතුහඳනාපිළි.

**වෘහද්භානු**, පු. ගිනි.

**වෘහස්පති**, පු. සුරගුරු.

**වෙග**, පු. නදී ආදියෙහි ජල ප්‍රවාහය, දිවීම. මලමූත්‍රාදිය පහ කිරීමෙහි උත්සාහය.

**වෙගින්**, ත්‍රි. වෙගවත් තැනැත්තේ.

**වෙණි**, ස්ත්‍රි. රන්ආදීන් ගොතා හෙලූ හිසකේ.

**වෙණී**, ස්ත්‍රි. දෙවදැලිගස.

**වෙණු**, පු. හුණගස.

**වෙණුක**, න. කෙවිට.

**වෙණුධම**, පු. වස් කුලල් පිඹින්නා.

**වෙතන**, න. වැටුප් කුලිය.

**වෙතස**, පු. හොමූගස.

**වෙතස්වත්**, ත්‍රි. වේ බොහෝවූ දෙශය.

**වෙතාල**, පු. වාරපාලයා, මලල විශෙෂයෙක්.

**වෙත්‍රවතී**, ස්ත්‍රි. එනම් නදී විශෙෂය.

**වෙද**, පු. වෙදය.

**වෙදනා**, ස්ත්‍රි. අනුභවය. (විඳීම්)

**වෙදි**, ස්ත්‍රී. යාගයට සාදුබිම එනම් යාගකාරණු පිණිස මන්ත්‍රාදියෙන් සැරසුබිම, මධ්‍යයෙන් හීන්කොට දෙදිසාවෙන් පලල්කොට ඉදිකළ පියිකාභූමිය.

**වෙදිකා**, ස්ත්‍රී මංගලකම් පිණිස ගෙදෙර ආදියෙහි මැටිගොඩ නගා කළ පිල්කඩ.

**වෙධ**, පු. බිඳීම.

**වෙධනිකා**, ස්ත්‍රී. මුතු මැණික් ආදිය බිඳින විදුර. (කටුව)

**වෙධමුඛ්‍යක**, පු. වොලාහලිද්දියයි ඛ්‍යාතවූ හරිද්‍රාභවූ ගවජ යෙහි(සුවඳ කසායයිද කියත්.

**වෙධස්**, පු. බ්‍රහමයා, පණ්ඩිතයා.

**වෙධිත**, ත්‍රි. බිඳිනාලද හෙවත් සිදුරුකළද.

**වෙපථු**, පු. වෙවුලුම.

**වෙමන්**, පු. නඩාව (එනම් පිළි වියන දඬයි)

**වෙලා**, ස්ත්‍රී චන්ද්‍රොදයාදියෙන් මුහුද දියවැඩීම. වෙරල. සපිකාදි කාලය, සීමා.

**වෙල්ල**, න. වළහසාල්.

**වෛලලඤ්**, න. සිනිඹලා ඇඹුල්.
**වෛල්ලිත**, ත්‍රි. වක්වූදෑ. ඊෂත් කම්පිත (මදක් සැලෙනදෑ.)
**වෛශ**, පු. වෛශාගෙය, පහයින හෙවත් ස්වර්ණාභරණාදියෙන් කරණලද ශොභාව.
**වෛශන්ත**, පු. න. කුඩාවිල.
**වෛශ්මන්**, න. ගෙය.
**වෛශ්මභූ**, ස්ත්‍රී. ගෙබිම.
**වෛශ්‍යා**, ස්ත්‍රී. වෛශ්‍යා ස්ත්‍රී.
**වෛශ්‍යාජනසමාශ්‍රය**, පු. වේසා ගේ.
**වෛෂ**, පු. ආභරණාදියෙන් සැරසීම.
**වෛෂ්ටිත**, ත්‍රි. නදීප්‍රාකාරාදීන් වටකළදෑ.
**වෛසවාර**, පු. කසා අබ මිරිස් දුරු ආදී සුණු.
**වෛහත්**, ස්ත්‍රී. වෘෂොපගමයෙන් (ගවයන් හා එක්වීමෙන්) ගැප් හෙලනදෙන.
**වෛ**, අව්‍ය. පදපූරණයෙහි හෝ ඡන්දස් පූරණයෙහි අවධාරණාර්ථයෙහි වේ.
**වෛකක්ෂික**, න. උරෙහි සරස බැඳි මල්දම.
**වෛකුණ්ඨ**, පු. විෂ්ණු
**වෛජනන**, පු. වදන මස.
**වෛජයන්ත**, පු. ශක්‍රයාගේ ප්‍රාසාදය.
**වෛජයන්තික**, ත්‍රි. කොඩි ගත්තෝ.
**වෛජයන්තිකා**, ස්ත්‍රී. තිට්භ.
**වෛජයන්ති**, ස්ත්‍රී. පතාකය එනම් ත්‍රිකොණාකාරවූ වස්ත්‍ර ඛණ්ඩයයි.

**වෛශුණික**, ත්‍රි. ක්‍රියායෙහි දක්ෂයා.
**වෛණවික**, පු. වස්කුලල් පිඹින්නා.
**වෛණික**, පු. වෙණවයන්නා.
**වෛණුක**, න. කොහොල එනම් ඇතුන්ගේ කණමුල විදින දඬකි.
**වෛතංසික**, පු. මස්විකුණන්නා.
**වෛතනික**, පු. බැළමෙහෙ කොට ජීවත්වනසේ වායා.
**වෛතරණී**, ස්ත්‍රී. නරකයෙහි එනම් නදිය.
**වෛතාලික**. පු. වන්දිභට්ටයා එනම් රජු ආදීන් අලුයම ස්තුති පාඨයෙන් පුබුදුවන්නා.
**වෛදෙහක**, පු. ක්ෂත්‍රියකුනිසා බැමිණියට උපන් පුත්‍රයා සිව් සැටකලා හික්මවීම ඔහු ජීවිකායි "වෛදෙවහකො වාණිජකො. ශුද්‍රා වෛශ්‍ය සුතෙපිච" යනු විශවයන් කී හෙයින් වෙළඳ කෙරෙහිද ශුද්‍ර ස්ත්‍රීය කෙරෙහි වෛශ්‍යයාට උපන් පුත්‍රයා කෙරෙහිද වැටේ.
**වෛදෙහී**, ස්ත්‍රී. වගපූල්. (තිප්පිලි)
**වෛද්‍ය**, පු. වෙද.
**වෛද්‍යමාතෘ**, ස්ත්‍රී. වංඇපල.
**වෛධාත්‍ර**, පු බඹපුත්.
**වෛධෙය**, ත්‍රි. මූඪයා.
**වෛනතෙය**, පු. ගුරුළා (විෂ්ණුහුගේ වාහනය )
**වෛනීතක**, පු. න. යාන පරම්පරායෙන් ඉසිලිය යුතු ශිවිකා ආදිය.



**වෛමාත්‍රෙය**, පු. අන් මව්කුස උපන්නේ.
**වෛයාත්‍ය**, න. ලජ්ජානැතිබව.
**වෛයාඝ්‍ර**, ත්‍රි. දිවිසමින් වළඳනාලද රථය.
**වෛර**, න. වෛරය.
**වෛරනිර්‍ය්‍යාතන**, න. වෛරයට කරණ ප්‍රතිකාරය එනම් වෛරයෙන් කළ අපකාරයට සමාන අපකාර කිරීමෙන් ඒ වෛරය දුරුකිරීමයි.
**වෛරශුද්ධි**, පු. වෛරයටකරණ ප්‍රතිකාර එනම් වෛරයෙන් කළ අපකාරයට සමානවූ අපකාර කිරීමෙන් වෛරය දුරුකිරීමයි.
**වෛරින්**, පු. සතුරා.
**වෛවධික**, පු. වාහී ගෙනයන්නා "වාවඩී"යයි මරාටිසී.
**වෛවස්වත**, පු. යමරජ.
**වෛශාඛ**, පු. මත්දඬ. (මොරු අලළන දඬයි) න. දුනුවායන්ගේ ප්‍රත්‍යාලීඪය-ආලීඪය, සම පාදය, වෛශාඛය, මණ්ඩලයයි කියනලද පස්වැදෑරුම් සිටීම් අතුරෙන් එක පාදයකට වියතක් ඇත්කොට අනික් පාදය තබා සිටීමයි. වෙසක්මස.
**වෛශ්‍ය**, පු. වෛශ්‍යයා.
**වෛශ්‍රවණ**, පු. වෙසමුණු
**වෛශ්වානර**, පු. ගිනි.
**වෛෂ්ණවී**, ස්ත්‍රී. එනම් මාතෘ දෙවතා.
**වෛසාරිණ**, පු. මත්ස්‍යයා.
**වෞෂට්**, අව්‍ය. දෙවියන්ට යාග ද්‍රව්‍ය පිදීමෙහිවේ. "ඉන්ද්‍රාය වෞෂට්" ඉඳුරු දෙවියාට මේ පුදයි යනු උදාහරණයි.
**ව්‍යක්ත**, ත්‍රි. ප්‍රඥාවන්තයා, ස්ඵුට දෙය.
**ව්‍යක්ති**, ස්ත්‍රී. ව්‍යක්තිය.
**ව්‍යග්‍ර**, ත්‍රි. ව්‍යාවෘත, ආකුල හෙවත් නොයෙක් කටයුත්තෙහි යෙදූ සිත.
**ව්‍යජන**, න. තල්වැට.
**ව්‍යඤ්ජක**, පු. හැඟවීම.
**ව්‍යඤ්ජන**, න. ලකුණ, රැවුල, තෙමීම, අවයව.
**ව්‍යඩම්බක**, පු. එරඬුගස.
**ව්‍යත්‍යය**, පු. ව්‍යතික්‍රමය හෙවත් විපර්‍යාසය.
**ව්‍යත්‍යාස**, පු. ව්‍යතික්‍රමය හෙවත් විපර්‍යාසය
**ව්‍යථා**, ස්ත්‍රී. සිත් පීඩාව (දුක.)
**ව්‍යධ**, පු. බිඳීම.
**ව්‍යධ්ව**, පු. නොමනාමග.
**ව්‍යය**, පු. වියදම.
**ව්‍යලීක**, න. පීඩා, අප්‍රිය, නොකටයුතු..
**ව්‍යවධා**, ස්ත්‍රී. පියන.
**ව්‍යවහාර**, පු.
"විනානාර්ථෙවසංදෙහෙ
හරණංහර උච්‍යතෙ,
නානා සන්දෙශ හරණාත්
ව්‍යවහාර ඉතිස්මෘතඃ"

නානාර්ථයෙහි වි යනුද, සන්දෙ සාර්ථයෙහි අව යනුද, දුරුකිරීම් අර්ථයෙහි හර යනුද කියනු ලැබෙසි. මෙසේ නයදීම් ආදි නොයෙක් සැකදුරුකිරීම් අර්ථයෙන් ව්‍යවහාරයයි දන්නාලදූයි දක්වනලද ලක්ෂණ ඇති විවාදය.

**ව්‍යවාය,** පු. මෛථුනය.
**ව්‍යසන,** න. විපත්, පාතවැටීම කාමයෙන් හෝ ක්‍රොධයෙන් හෝ හටගත් දොෂය මෙහි කාමයෙන් හටගත් දොෂය නම් දූකෙළියෙහිද, ස්ත්‍රීන්කෙරෙහිද, මද්‍යයෙහිද, ඇලීමයි, කෝපයෙන් හටගත් දොෂය නම් රළුබස් ආදියයි.
**ව්‍යසනාතී,** ත්‍රි. දෙව ප්‍රතිබඩවූ හෝ මනුෂ්‍ය ප්‍රතිබඩවූ හෝ ව්‍යසනයෙන් පෙළුනේ.
**ව්‍යස්ත,** ත්‍රි. ආකුලදූ.
**ව්‍යාකුල,** ත්‍රි. ශොකාදි හෙතුවෙන් මේ කටයුත්තේය මේ නොකටයුත්තේයයි ප්‍රතිපත්තිශූන්‍යවූයේ.
**ව්‍යාකොශ (ෂ),** ත්‍රි. මල්ගෙන සිටි රුක් ආදිය.
**ව්‍යාඝ්‍ර,** පු. දිවියා, උත්තරපදයෙහි සිටි පුංලිංගිකවූ මේ ශබ්දය ශ්‍රෙෂ්ඨාර්ථ වාචකයි "පුරුෂ ව්‍යාඝ්‍රඃ" යනාදිය නිදර්ශනයි.
**ව්‍යාඝ්‍රනඛ,** න. වගනිය නම් සුගන්ධ ද්‍රව්‍යය (දිවිපසුරු)
**ව්‍යාඝ්‍රපාද්,** පු. උගුරැස්ස.
**ව්‍යාඝ්‍රපුච්ඡ,** පු එරඬුගස.
**ව්‍යාඝ්‍රාට,** පු. රාජාලියා.
**ව්‍යාඝ්‍රී,** ස්ත්‍රී. කටුවැල්බටු.
**ව්‍යාජ,** පු. කපටකම (වචාව) ස්වරූපාච්ඡාදනය එනම් ස්වභාවය සැගවීමයි (වෙස්පෙරලීම)
**ව්‍යාඩ,** පු. නාගයා, ව්‍යාඝ්‍රයා.
**ව්‍යාඩා (ලා)යුධ,** න. වගනියනම් සුගන්ධ ද්‍රව්‍යය (දිවිපසුරු)
**ව්‍යාධ,** පු. වැද්දා.
**ව්‍යාධි,** පු. උපුල්කොල, (කොට්ටන්) රෝගය.

**ව්‍යාධිඝාත,** පු. හැසලගස.
**ව්‍යාධිත,** ත්‍රි. රෝගඇත්තා.
**ව්‍යාන,** පු. ශරීරවායු "ව්‍යානඃ සර්වශරීරගඃ" සියලු ඇඟ පැතිරෙන වායුව ව්‍යාන නමැයි කියනලදී.
**ව්‍යාපාද,** පු. ද්‍රෝහසිතීම.
**ව්‍යා (ව) ප්‍ය,** න. උපුල්කොල. මෙහි ආප්‍ය" යනුද වේ.
**ව්‍යාම,** පු. බඹය
**ව්‍යාල,** පු. දුර්ජනයා, සර්පයා, ව්‍යාඝ්‍රාදි චණ්ඩ සිව්පා.
**ව්‍යාලග්‍රාහින්,** පු. අහිතුණ්ඩිකයා. (නයිනටවන්නා.)
**ව්‍යාවෘත්ත,** කෘතාවෘතදෑ හෙවත් වැළකුදෑ.
**ව්‍යාස,** පු. විස්තීර්ණය, එනම් සමාසාදීන් සංක්ෂිප්ත අර්ථයක්හුගේ විස්තරකිරීම.
**ව්‍යාහාර,** පු. වචනය.
**ව්‍යුත්ථාන,** න. වැළැක්ම, විරුඬ හැසිරීම.
**ව්‍යුෂ්ටි,** ස්ත්‍රී. සම්පත්, සිදු කට යුත්ත, ඵලය.
**ව්‍යූඪ,** ත්‍රි. හැසුනුබව හෙවත් එක්වීම.
**ව්‍යූඪකඞ්කට,** පු. සන්නාහසන්නඬයා.
**ව්‍යුති,** ස්ත්‍රී. වියමන.
**ව්‍යූහ,** පු. සමූහය, සෙනාවින්‍යාසය හෙවත් යුඬපිණිස සෙනාවගේ ශාස්ත්‍රොක්ත පරිද්දෙන් සිටවීම, නිර්මාණය, තැනීම.
**ව්‍යූහපාර්ෂ්ණි,** පු. ව්‍යූහයාගේ හෙවත් සෙනාවින්‍යාසයාගේ පශ්චාත්භාගය.



**ව්‍යොකාර,** පු. කඹුරා හෙවත් ලොහොකරුවා.
**ව්‍යොමකෙශ,** පු. ඊශ්වරයා.
**ව්‍යොමන්,** න. අහස.
**ව්‍යොමයාන,** න. දෙව්විමන.
**ව්‍යොෂ,** න. තිකුළු.
**ව්‍රජ,** පු සමූහය, ගොවුද (ගාල) මග.
**ව්‍රජ්‍යා,** ස්ත්‍රී. භික්ෂාදිය පිණිස නැවත නැවත ඇතමැත භ්‍රමණය, විජිගීෂුහු, (දිනනුකැමැත්තහු.) යුඬපිණිස යාම.
**ව්‍රණ,** පු. න. වණය.
**ව්‍රත,** පු. න. ශාස්ත්‍රවිහිත උපවාසාදි නියමය හෙවත් ධර්මශාස්ත්‍රයෙහි නියමකරණලද නිරාහාරව හිඳීම් ආදී ව්‍රත.
**ව්‍රතති (තී),** ස්ත්‍රී. විසල්බව, වැල.
**ව්‍රතින්,** පු. ව්‍රතධරන්නා, (තාපසයා) යාගකරන්නා.
**ව්‍රශ්චන,** පු. ලොහෝකපනකටුව.
**ව්‍රාත,** පු. සමූහය.
**ව්‍රාත්‍ය,** පු අෂ්ටාදශ සංස්කාරයෙන් පිරිහුනේ.
**ව්‍රීඩා,** ස්ත්‍රී පු. ලජ්ජාව.
**ව්‍රීහි,** පු. වී.
**ව්‍රෛහෙය,** ත්‍රි. වී වැපිරීමට සුදුසු කෙත

## ශ.

**ශංඬී,** ස්ත්‍රී. මීනුග.
**ශකට,** පු. න. මීනුග.
**ශකල,** පු. න. නොසම අඩ
**ශක(කු)ලින්,** පු. මත්ස්‍යයා.
**ශකුන,** පු. පක්ෂියා.
**ශකුන්ත,** පු. පක්ෂියා, සොෂ්ඨකු කකුට පක්ෂියා.

**ශකුන්ති,** පු. පක්ෂියා.
**ශකුල,** පු. එනම් මත්ස්‍ය විශෙෂයෙක්.
**ශකුලාක්ෂකා,** ස්ත්‍රී. එලර්තණ.
**ශකුලාදනී,** ස්ත්‍රී. කුළුඇරුහැණ, කාවණ්ඩනක වෘක්ෂය, මොගුඩ, ජලපිප්ලී, යනු මරාටි නාමයෝවෙත්.
**ශකුලාර්භක,** පු. ගඩයානම් මත්ස්‍යයා (ගඩයා)
**ශකෘත්,** න. මල.
**ශකෘත්කරි,** පු. වස්සා.
**ශක්ති,** ස්ත්‍රී. අඩයටිය, ප්‍රභුශක්තිය, උත්සාහශක්තිය, මන්ත්‍රශක්තිය යන තුනයි. මෙහි ස්වසම්පත්තියෙන් යුක්තවූ කොශදණ්ඩ දෙදෙන ප්‍රභු ශක්තිනම, බලවත්වූ වික්‍රමචෙෂ්ටා උත්සාහ ශක්තිනම, සන්ධ්‍යාදීන්ගේද සාමදානාදීන්ගේද යම් ව්‍යවස්ථාපනයෙක් ඇද්ද ඒ ඥානබලය මන්ත්‍ර ශක්තිනම් වන්නේය.
**ශක්තිධර,** පු. කඳකුමරු.
**ශක්තිහෙතික,** පු. අඩයටියෙන් යුඬකරන්නා.
**ශක්තුඵලා,** ස්ත්‍රී. සැමගස.
**ශක්‍ර,** පු. ශක්‍රයා, කෙළිඳගස.
**ශක්‍රධනුස්,** න. දෙව්දුන්න.
**ශක්‍රපාදප,** පු. දෙව්දුරු, (දේවදාර.)
**ශක්‍රපුෂ්පී,** ස්ත්‍රී. නිවොල්ගස.
**ශඛාල,** ත්‍රි. ප්‍රියවාදියා. ශක්ත, ශක්නුයනද මෙහිවෙත්.
**ශඞ්කර,** පු. ඊශ්වරයා.

**ශඞ්කු**, පු. සෙල්ල,(හෙල්ල)සියක් කොළලක්ෂය, කණුව, එනම් මත්ස්‍ය විශේෂය, ඉදිබුවන්ට බඳුවූ සටහන් ඇති වල්ගයක් නැති මත්ස්‍යයෙක්.

**ශඞ්ඛ**, පු. සක්නමබනම් ගඳ ද්‍රව්‍යය,එනම් නිධි විශේෂයෙක් (කුවෙර නිධානය) නලල්ඇට.

**ශඞ්ඛනඛ**, පු. කුඩාසක්බෙල්ලා.

'**ශංඛිකා**,පු. සැට්ටරා හෙවත් සක් වළලු ආදිය තනන්නා.

**ශංඛිනී**, ස්ත්‍රී. විටපාකාරවූ මොරහුල්ලියයි ඛ්‍යාතවූ ගඳ ද්‍රව්‍යය (වැල්දෙහියයි කියත්)

**ශචී**, ස්ත්‍රී. ශක්‍රයාගේ භාර්‍ය්‍යාව.

**ශචීපති**, පු. ශක්‍රයා.

**ශටී**, ස්ත්‍රී. සිහුරු පියලි.

**ශඨ**, ත්‍රි. වඤ්චක අදහස් ඇත්තා.

**ශණපර්ණී**, ස්ත්‍රී. එනම් ඖෂධය (ගොකණියයිද ප්‍රසිද්ධයි) අසනපර්ණී, ආ ස න ප ර් ණී යනුද මෙහිවෙත්.

**ශණපුෂ්පිකා**, ස්ත්‍රී. සණටාරව යයි ප්‍රසිද්ධගස (අඬනිරිය)

**ශණ්ඪ**, පු. නපුංසකයා මේ ශබ්දයාගේ ආදියෙහි මූර්ධන්‍ය හෝ දන්ත්‍ය හෝ තාලුජ හෝ ශකාරය යෙදේ.

**ශණසූත්‍ර**, න. බිලිලනුව, හණහුදූල.

**ශත**, න. සියය.

**ශතකොටි**, පු. විදුරවිය.

**ශතද්‍රු**, පු. එනම් නදීවිශේෂය.

**ශතපත්‍ර**, න. පියුම්.

**ශතපත්‍රක**, පු. විල්ලිහිනියන් හා සමානවූ ආකාරඇති සුදුවූ මුදුන් ඇති විල් ආදි කච්ඡයෙහි දුගීඉදිකොට උපදනා පක්ෂි විශේෂයෙකි.

**ශතපදී**, ස්ත්‍රී. කන්වැයා.

**ශතපර්වන්**, පු. හුණගස;

**ශතපර්විකා**, ස්ත්‍රී. එලර්තණ, වදකසා.

**ශතපුෂ්පා**, ස්ත්‍රී. ශතපුෂ්පනම් ද්‍රව්‍යය.

**ශතප්‍රාස**, පු. අලරිය (කණේරු)

**ශතමන්‍යු**, පු. ශක්‍රයා.

**ශතමාන**, පු. න. පලම, සියය කින්ප්‍රමාණකරන ලද්ද.

**ශතමූලී**, ස්ත්‍රී. ශතාවරී.

**ශතයෂ්ටික**, පු. සියක්පටින්කළ මුතුහර;

**ශතවීර්‍ය්‍යා**, ස්ත්‍රී. එලර්තණ.

**ශතවේධින්**, පු. ඇඹුල්වේගස.

**ශතහ්‍රද**, ස්ත්‍රී. විදුලිය.

**ශතාඞ්ග**, පු. යුඩපිණිසවූ යාන හෙවත් රථය.

**ශතාවරී**, ස්ත්‍රී. හාතාවාරිය.

**ශත්‍රු**, පු. සතුරා, විජිගීෂුහුගේ හෙවත් දිනනු කැමැත්තහුගේ රටට අනතුරු රට වළදන රජ.

**ශනෛශ්චර**, පු. සෙනසුරා.

**ශනෛස්**, අව්‍ය. අසීඝ්‍රාර්ථයි "ශනෛයර්‍ය්‍යාතිපිපීලිකා"කුහුඹුවා සෙමෙන් යයි යනාදි උදාහරණයි

**ශපථ**, පු. දිවිරීම.

**ශපන**, න. දිවිරීම.

**ශඵ**, න. අස්කුරය.

**ශඵරී**, ස්ත්‍රී. පෙටියා, මෙහි "සඵර" කියා පුංලිඟුදවේ.



**ශබර**, පු. "ගොමාංසභක්ෂකො යස්තු ලොකවාහ්‍යංච භාෂතෙ සර්වාචාර විහීනො සෞ මෙලච්ඡඉත්‍යභි ධීයතෙ"

යමෙක් ගෙරිමස් කාද, ලොක ව්‍යවහර භාෂාවන් හැර අන්‍ය භාෂාවක් බෙණේද සකලාචාරයන් ගෙන් පිරිහුනේද, මේ තෙම මෙලච්ඡයයි කියනු ලැබේයයි දක්වනලද මෙලච්ඡ ජාතියෙහිවූ කොලපත් හැඳ වනයෙහි වසන චණ්ඩාල ජාතිය.(වැදි)

**ශබරාලය**, පු. වැදිගම.

**ශබල**, පු. කබුරුවන් පැහැ,ඉන් යුත් දෙයෙහි ත්‍රි.

**ශබලී**, ස්ත්‍රී. කබරදෙන.

**ශබ්ද**, පු. ශබ්දය ව්‍යාකරණාදි ශාස්ත්‍රයෙහි ප්‍රකෘති ප්‍රත්‍යචාරයෙන් අර්ථවාචකව නිෂ්පන්න වචනය, හඬ.

**ශබ්දග්‍රහ**, පු. කණ.

**ශබ්දන**, පු.ශබ්දකරණ සුලුවූයේ

**ශම**,පු.ක්‍රොධරාගාදියෙන් චිත්තයාගේ සංසිඳීම.

**ශමථ**, පු. ක්‍රොධ රාගාදියෙන් චිත්තයාගේ සංසිඳීම

**ශමන**, න. යාග පිණිස පසුඝාතනය (සිව්පාවුන් මැරීම) පු. යම රජ

**ශමනස්වසෘ**, ස්ත්‍රී. යමුනානදිය.

**ශමල**, න. මනුෂ්‍යාදීන්ගේ මල.

**ශමිත**, ත්‍රි. සංසිඳුවන ලද්ද.

**ශමී**, ස්ත්‍රී. සැමගස, උඳු මුං ආදී කරල්.

**ශමීධාන්‍ය**, න. "මුද්ගො මාෂො රාජමාෂඃ කුලත්ථශ්චණකඃ තිලඃ කලායස්තු වර ශ්චෙති ශමී ධාන්‍ය ගණඃ සමෘතඃ" යන්නෙන් දක්වන ලද මුං උඳු ආදීනඹුවනැති ධාන්‍යයි,

**ශමීර**, පු. සිහින් සැමගස්.

**ශම්පා**, ස්ත්‍රී විදුලිය.

**ශම්පාක**, පු. ඇසල.

**ශම්බ**, න. මොපිල්ල, විදුරවිය.

**ශ(ස)ම්බර**, පු. කකුද ප්‍රදෙශයෙහි (මොල්ලියෙහි) ලම්බමානවූ හෙවත් එල්බෙන්නාවූ රොමකලාප ඇති සුරාෂ්ට්‍රාදි දෙශයෙහි ඛ්‍යාතවූ එනම් මෘගයා.

**ශම්බරාරි**, පු. අනඟයා.

**ශම්බරී**, ස්ත්‍රී. මීනුග.

**ශම්බල**,පු මාගෝපකරණ,මසුරා, ඉවුර.

**ශම්බාකෘත**, න. දෙවරක් සෑකෙත් ආදිය.

**ශම්බුක**, පු.ස්ත්‍රී.බෙල්ලා, ශම්බුක ශාම්බුක, ශම්බු, යනුද මෙහිවෙත්. "ශාම්බුකඃ ශම්බුකඃ සම්බුඃ පුම්ංඃකාන්තාස්තු සර්වදා කකාරෙණ විනාශෙෂො දෘශ්‍යතෙ ග්‍රන්ථවිස්තරඃ" යනු එහෙයින් කියන ලදී;

**ශම්භලී**, ස්ත්‍රී. කුට්ටනිය.

**ශම්භු**, පු. බ්‍රහමයා, ඊශ්වරයා.

**ශම්‍යා**, ස්ත්‍රී. විය මැය එනම් විය දඬුවෙහි ගසන උල.

**ශය**, පු. අත්තල. සර්පයා නිදීම.

**ශංසන,** න. හෝනැදෙය හෙවත් සහන, නින්ද.

**ශංසනීය,** න හෝනාදෙය හෙවත් යහන.

**ශයාලු,** ත්‍රි. නිදනසුලුවූයේ

**ශයිත,** ත්‍රි. නිදිගත්තේ.

**ශයු,** පු. පිඹුරා.

**ශය්‍යා,** සත්‍රී. හොනාදය හෙවත් යහන.

**ශර,** පු. බට. ඊතලය.

**ශරජන්මන්,** පු. කඳකුමරු.

**ශරණ,** න. ගේ. රක්‍ෂාකරණ බුඩාදී අය.

**ශරද්,** සත්‍රී. ශරද්. ඍතුව, අවුරුද්ද

**ශරභ,** පු. ඌර්ධවගතවූ පාද සත රක්හා යට සතරපයක් හා මෙසේ අටපයක් ඇති සිංහ යන් නසන්නාවූ ශරභ නම් පශු වර්ගය.

**ශරව්‍ය,** න. ලක හෙවත් ඉලක්කය.

**ශරභ්‍යාස,** න. නිත්‍ය යෙන් අභ්‍යාසපිණිස කරණ දුනුකම්.

**ශරාරි,** සත්‍රී. කොක්නා ලිහිණියා

**ශරාරු,** ත්‍රි. හිංසාශිලිවූයේ.

**ශරාව,** පු. මලාව. (නැබිලිය)

**ශරාවති,** සත්‍රී. එනම් නදීවිශෙෂයෙක්.

**ශරාසන,** න. දුන්න.

**ශරීර,** න. ශරීරය,

**ශරීරින්,** පු. සත්‍වයා.

**ශර්කරා,** සත්‍රී. හකුරු (බොරලු) බොහෝවූ දෙශය, බිදීගිය කබල්කඩ (නැබිලිති) උග්සකුරු "ශර්කරා සිකාතාශබෙදෟ මාවපි බහුවචනානතා විනී කෙචිත්" ශර්කරා සිකාතා ශබ්දමය බහුවචනානකයෝ යයි සමහරු කියත්.

**ශර්කරාවත්,** ත්‍රි. හකුරු (බොරලු) ඇති දෙශය.

**ශර්කිල,** ත්‍රි. හකුරු (බොරලු) ඇති දෙශය.

**ශර්මන්,** න. සැපය.

**ශර්ව,** පු. ඊශ්වරයා.

**ශර්වරී,** සත්‍රී. රාත්‍රිය මෙහි ශාර්වරී කියාදවේ.

**ශර්වාණී,** සත්‍රී. උමයහන.

**ශලභ,** න. ඉත්තෑකුරු.

**ශල,** පු. පළගැටියා.

**ශලල,** න. ඉත්තෑකුරු.

**ශලලී,** සත්‍රී. ඉත්තෑකුර.

**ශලාටු,** ත්‍රි. අමුඵල.

**ශල්ක,** න. කැබලි, මත්ස්‍යයන්ගේ පිළිපොතු, සුඹුලු.

**ශල්‍ය,** පු. න. හෙල්ල. පු. ඉත්තෑවා, කුකුරුමුවන්ගස,

**ශ(ස)ල්ලකී,** සත්‍රී. ඉන්සඑරුක

**ශව,** පු. න. මළසිරුර.

**ශශ,** පු. සාවා.

**ශශධර,** පු. සඳ.

**ශශලොමන්,** න. සාවුන්ගේ ලොමයෙන් කළ කම්බිලිය.

**ශශාදන,** පු. උකුස්සා.

**ශශොර්ණ,** න. සාවුන්ගේ රොමයෙන්කළ කම්බිලි.



**ශශ්වත්,** අව්‍ය. නිතර, නොයෙක් වර, නැවත, නැවත. සමග. යන මේ අර්ථයන්හි වේ. "ශශ්වත් විෂ්ණුංසමරෙත්" නැවත නැවත විෂ්ණු සිහිකරන්නේය යනාදීයෙහි පෞනඃ පුන්‍යාර්ථයෙහි හෙවත් නැවත නැවත යනඅර්ථයෙහි වේ. "ශිෂ්‍යෛඃ ශශ්වත් ගතොගුරුඃ" ශිෂ්‍යයන් සමග ගුරුවතෙම ගියේයයනාදියෙහි සහාර්ථයි.

**ශෂ්ප,** න. ලාතණ.

**ශස්ත,** පු. න. ශුභය, සතුතකරණ ලද්ද.

**ශස්ත්‍ර,** න. ආයුධය, ලොහ.

**ශස්ත්‍රක,** න. යකඩ.

**ශස්ත්‍රමාර්ජ,** පු. සිරියෙරුහෙවත් අවිසන ගාන්නෝ.

**ශස්‍යමඤ්ජරී,** සත්‍රී. වීකරල්.

**ශ(ස)ස්‍යසංවර,** පු. සල්ගස.

**ශස්‍යශුක.** පු. වීනඬුව.

**ශාක,** පු. න. වාස්තුකාදිපලා "මූලං පත්‍රං කරීරාග්‍ර, ඵලකාණ්ඩාදිරූඪකම් ත්වක් පුෂ්පං කවචං චෛව ශාකං දශවිධංසමෘතම්, මුල්, පත්‍ර, උණකිළිල්, කරටි, ගෙඩි දඬු, බීජාංකුර, සිවි මල් හතු හෝ මල්කොපුදැයි දස වැදෑරුම් පලා.

**ශාකට,** පු. ගැල උසුලන ගොනා

**ශාකුනික,** ජීවිකාව පිණිස පක්ෂීන් මරා විකුණන ගැහැවියා.

**ශාක්ටීක,** ත්‍රි. අඩයටියෙන් යුධකරන්නා.

**ශාක්‍යමුනි,** පු. ගෞතම බුදුන්.

**ශාක්‍යසිංහ,** පු. ගෞතම බුදුන්.

**ශාඛා,** සත්‍රී. ශාඛාව.

**ශාඛානගර,** න. අතුනුවර.

**ශාඛාමෘග,** පු. වඳුරා.

**ශාඛින්,** පු. වෘක්ෂය.

**ශාංඛික,** පු. සක්වලලු තනන්නා

**ශාටක,** න වස්ත්‍රය.

**ශාටී,** සත්‍රී. වස්ත්‍රය.

**ශාඨ්‍ය,** න. සටබව.

**ශාණ,** පු. උරගල.

**ශා(ණී)ණී;** සත්‍රී. තිරය.

**ශාණ්ඩිල්‍ය,** පු, බෙලි.

**ශාත,** ත්‍රි. සණ ආදියේ ගා මුවහත්කළ දෑ, න. සැපය, ඉන් යුත් දෙයෙහි ත්‍රි.

**ශාතකුම්භ,** න. රන්.

**ශා(සා)තලා,** සත්‍රී. සප්තලානම් ගඬද්‍රව්‍යය (ශිකෙකාර් යනු මාරටිසි) බැමිතිරිය.

**ශාත්‍රව,** පු. සතුරා.

**ශාද,** පු. මඩ. ළතණ.

**ශාද්වල,** ත්‍රි. ළතණින් නිල්වූහෙවත් තණ බොහෝවූදෙශය.

**ශාන්ත,** ත්‍රි. සංසිඳුවන ලද්දෑ.

**ශාන්ති,** පු. ක්‍රොධාදීන් චිත්තයාගේ සංසිඳීම.

**ශා(සා)ම්බර,** පු. ලොත්ගස

**ශාම්බරී,** සත්‍රී. ඉඳුරු දළ (ඉන්ද්‍රජාල)

**ශාර,** පු. වාතය, ත්‍රි, චිත්‍රවර්ණය.

**ශාරද,** පු. රුක්අත්තන ගස, ත්‍රි. අලුත්, අප්‍රගල්භ හෙවත් අදක්‍ෂ

**ශාරදී**, ස්ත්‍රී. සාමණ්ඩතක වෘක්ෂය "ජලපිප්පලී" යනු මරාටිසි.

**ශාරිඵල**, න. දූපෝරුව.

**ශා(සා)රිවා**, ස්ත්‍රී. හිරමූසු.

**ශාකීර**, ත්‍රි හකුරු (බොරලු) ඇති දේශාදිය.

**ශාර්ඞ්ගින්**, පු. විෂ්ණු.

**ශාර්දූල**, පු. දිවියා, උත්තර පද යෙහි සිටිපුංලිඟිකවූ මේශබ්දය තෙම ශ්‍රෙෂ්ඨාර්ථවාචකයි "රාජ ශාර්දූලඃ යනාදි උදාහරණයි.

**ශාඨීර**, ත්‍රි. දැඩි අඳුරු, භයානක.

**ශා(සා)ල**, පු. වෘක්ෂය. එනම් මත්ස්‍යවිශෙෂය, පර්වර.

**ශාලා**, ස්ත්‍රී. කඳ පිළිබඳ අත්ත.

**ශාලාවෘක**, පු. වඳුරු, කැනහිල්, බලු.

**ශාලි**, පු. කුඩා පඳුරු ඇති මද දියෙහි හටගත්තාවූ හැල්කල ම නම්වේ. සැටරැයකින් පැසෙන්නේ ෂෂ්ටිකනම් බොහෝ පඳුරු ඇති බහුල ජලයෙහි උපන්නේ ශාලීනම්. ඉන්කලා දීහුද, ෂෂ්ටිකාදීහුද ශාලිනම්.

**ශාලීන**, ත්‍රි. විලිඇත්තා.

**ශාලූක**, න. කුමුදු ආදියේ අල.

**ශා(සා)ලූර**, පු. මැඩියා.

**ශාලෙය**, පු. මධුරිකා, (පැපිළිය,) ත්‍රි. හැල්වැපිරීමට සුදුසුකෙත.

**ශාල්මලි**, පු. ඉඹුල්රුක, "ශාල්මලී" කියා ස්ත්‍රීලිඟුද වේ.

**ශාවක**, පු. පක්ෂිපැටවා.

**ශාශවත**, ත්‍රි. සදාකාලිකද.

**ශාෂ්කුලික**, න ශාෂ්කුලික නම් අපූපයන්ගේ සමූහය, අපූප නම් කබල්කැවුමැයි දතයුතු.

**ශාසන**, න. ආඥව.

**ශාස්තෘ**, පු. බුදුන්.

**ශාස්ත්‍ර**, ආඥව, ව්‍යාකරණාදි ශාස්ත්‍ර.

**ශාස්ත්‍රවිද්**, ත්‍රි. ශාස්ත්‍රඥයා.

**ශිංසපා**, ස්ත්‍රී. ඇට්ටරගස.

**ශික්‍ය**, න. සහල්ල, කත්ලියේ එලෙන කත් මැඩිල්ල, (කත් කෙලවර එලෙනපැස)

**ශික්‍ෂිත**, ත්‍රි. සාල්ලෙහි (කදේ) තැබූද

**ශික්ෂා**, ස්ත්‍රී. අභ්‍යාසය, අක්ෂර ශික්ෂාව. ශික්ෂාකල්පව්‍යාකරණ යන ග්‍රන්ථයන් අතුරෙන් එනම් ග්‍රන්ථය.

**ශික්ෂිත**, ත්‍රි. ක්‍රියායෙහි දක්ෂයා.

**ශිඛණ්ඩ**, පු. මොනරපිල.

**ශිඛණ්ඩක**, පු. කුමරුවන් කුඩුම්බිය.

**ශිඛර**, පු. න. රුක්මුදුන, පර්වත මුදුන.

**ශිඛරින්**, පු. පර්වතය.

**ශිඛා**, ස්ත්‍රී. රශ්මිය, ගිනිසිළු, මොනරුන්ගේ හිස, කුඩුම්බිය, පාදාග්‍රය, හිස්මුදුනේ බැඳි කොණ්ඩය.



**ශිඛාවත්**, පු. ගිනි.

**ශිඛාවල**, පු. මොනරා.

**ශිඛිග්‍රීව**, න. රිදී තුත්තම්"මොර චූත" යනුමරාටිසි.

**ශිඛින්**, පු. මොනරා, රුක, ගලා ගිනි.

**ශිඛිවාහන**, පු. කඳකුමරු.

**ශිග්‍රු**, න. වාස්තුකාදිපලා.

**ශිග්‍රුජ**, න. මුරුඟා ඇට.

**ශිඞ්ඝාණ**, න. කඳුබඳුන. ලොහොමල, සොටු, සෙම.

**ශිඤ්ජිත**, න. පාසලඹ ආදී අබරණහඬ.

**ශිඤ්ජිනී**, ස්ත්‍රී. දුනුදිය.

**ශි(ශ)තද්‍රු**, පු. එනම්නදි විශෙෂය.

**ශිතශූක**, පු. යව.

**ශිති**, ත්‍රි. සුදුනිල්.

**ශිතිකණ්ඨ**, පු. ඊශ්වරයා.

**ශිතිසාරක**, පු. තිඹිරිගස.

**ශිපිවිෂ්ට**, පු. ඔළුස්සා ( කෙස් නැති හිස් ඇත්තා) පහවූ සම ඇති ලිඟුඇත්තා, ඊශ්වරයා.

**ශිඵා**, ස්ත්‍රී වෘක්ෂයන්ගේ ජටාකාර මුල්.

**ශිඵාකන්ද**, පු. පියුම් ආදියේ අල.

**ශිබිර**, න. සෙනාව වසනතැන.

**ශිම්බා**, ස්ත්‍රී. උඳුමුංආදි කරල්.

**ශිරස්**, න. හිස, රුක්මුදුන.

**ශිරස්ත්‍ර**, න. යුඩයෙහි ඉසලන තොප්පිය.

**ශිරස්‍ය**, පු. පිරිසිදුකළ හෙවත් පීරා අවුල්හළ කෙහේ.

**ශිරීෂ**, පු. මහරිගස,

**ශිරොධි**, ස්ත්‍රී. ග්‍රීවය හෙවත් කර.

**ශිරොරත්න**, න, සිළුමිණ.

**ශිරොරුහ**, පු. ඉසකෙස්.

**ශිලාජතු**, න ගල්සෙවෙල්.

**ශිලී**, ස්ත්‍රී. ගැඩවිලී.

**ශිලීමුඛ**, පු. භෘඞ්ගයා, ඊගස.

**ශිලොච්චය**, පු. පර්වතය.

ශිල්ප, න. ගීතනෘත්‍යාදිය හා රථකර්මාදිය.

**ශිල්පින්**, පු. ශිප්දන්නා අය.

"තක්ෂාවතනතු වායශ්ච
නාපිතො රජකස්තථා,
පඤ්චමශ්චර්මී කාරශ්ච
කාරවඃ ශිල්පිනොමතාඃ."

වඩුය, පේසකාරය, කරනැවෑමිය, රදවිය, සොම්මරුය යන මොහුයි.

ශිල්ප(ල්පි)**ශාලා**, ස්ත්‍රී. රන්කරු ආදීන්ගේ සිප්හල.

ශිව, පු. ඊශ්වරයා; න, ශුභය, ද්‍රව්‍යයෙහි ත්‍රි.

**ශිවක**, පු. ගෙරිඇඟ කසනු පිණිස ගාලමැද සිටුවනලද කනුව,

**ශිවමල්ලී**, ස්ත්‍රී. වකපුෂ්ප.

ශිවා, ස්ත්‍රී. උමයගන, සිවලා, අ.., ඇඹුලු, (නෙලලි) බිම්නෙලලි, සැමගස්,

**ශිවිකා**, ස්ත්‍රී, සෙවිගෙය,

**ශිශිර**, පු. න. ශිශිරකාලය, ත්‍රි. ශීතලවූ,

ශිශු, පු. පක්ෂිපැටවා.

**ශිශුක**, පු. ශිශුමාරාකෘතිවූ මත්ස්‍ය විශෙෂය, (මුඳුළුරා)

**ශිශ්න**, පු. පිරිමින්රහසඟ.
**ශිශ්විදාන**, ත්‍රි පව්නොකරන්නා.
**ශිෂ්ටි**, ස්ත්‍රී. ආඥාව.
**ශිෂ්‍ය**, පු. ශිෂ්‍යයා.
**ශීකර**, පු. වැසිපොදහෝ දියබිඳ.
**ශිග්‍රු**, පු. මුරුඟා.
**ශීඝ්‍ර**, න. ඉක්මන්, ද්‍රව්‍යයෙහි ත්‍රි.
**ශීත**, ත්‍රි. ශීතලවූ, පු. ශීතල, ලෝලු ගස.
**ශීතක**, පු. අලසයා.
**ශීතභීරු**, ස්ත්‍රී. ඉද්දගස
**ශීතල**, ත්‍රි. ශීතලවූ, පු. අසණ පර්ණිනම් ඖෂධය. ගොකණ් යයිද ප්‍රසිද්ධයි.
**ශීතශිව**, පු. මධුරිකානම් ද්‍රව්‍යය (පැපිළි යයිද කියත්.) හොමු ගස. න. සිඳිලුණු, සුගන්ධරසද්‍රව්‍ය යයි කියනලද ගල් සෙවෙල් "චූලශිලාජිත" යනු මරාටියි (කප්පරවල්ලියයි සමහරු කියත්.)
**ශීධු**, පු. උක්, පලාආදියෙන්කළ මෙරය.
"ශීධුරික්ඛුරසෛඃ පක්කෛ
රපක්කෛරාසවො භවෙත්;
මෛරෙය ධාතකී පුෂ්ප
ගුඩධාන්‍යාම්බු සංහිතම්"
යනු මාධවයන් කිබැවින් පිසූ උක්රසයෙන් කළමෙරය ශීධු නමැයි දතයුතු.
**ශීර්ෂ**, න. හිස.
**ශීර්ෂක**, න. යුද්ධයෙහි ඉසලන තොප්පිය.
**ශීර්ෂච්ඡේද්‍ය**, ත්‍රි. හිසසිඳීමට සුදුස්සා.

**ශීර්ෂණ්‍ය**, න. යුද්ධයෙහි ඉසලන තොප්පිය, පු පිරිසිදු කළහෙවත් පීරූ අවුල්හල හිසකේ.
**ශීල**, න. ප්‍රකෘතිය, මනාහැසිරීම, ශීලය.
**ශුක**, න. ගණ්ඨව නම් සුගන්ධ ද්‍රව්‍යය"කණ්ටවණ්ටියයිදකියත් මෙහි ශුකවහී" කියාත් පාඨ ඇත, පුඃ ගිරවා.
**ශුකනාස**, පු. තොටිලගස.
**ශුක්ත**, න. එනම් කාඩි, ත්‍රි රලු බස්.
**ශුක්ති**, ස්ත්‍රී. මුතුබෙල්ලා, නඛනම් ගන්ධ ද්‍රව්‍යය.
**ශුක්‍ර**, පු. ගිනි, සිකුරා, පොසොන් මස, න. රෙතස් හෙවත් බීජ ධාතු.
**ශුක්‍රශිෂ්‍ය**, පු. අසුරයා.
**ශුක්ල**, පු. ශුක්ලපක්ෂය, සුදුපැහැ, ද්‍රව්‍යයෙහි ත්‍රි.
**ශුච්(ච)ස්ත්‍රී**. සෝකය මෙහි ප්‍රථමායෙහි රූපයෝ ශුක්, ශුචෞ, ශුචඃ, කියා වෙත්.
**ශුචි**, පු. ගිනි, පොසොන් මස, ඇසළමස, පිරිසිදුසිත් ඇති ඇමති, සිරිගර, එනම් ස්ත්‍රී පුරුෂයන්ගේ උකුන්කෙරෙහි ඇලියටි ගුණය, සුදුපැහැ, ඉන් යුත් තෙහි, ත්‍රි.
**ශුණ්ඨි**, සත්‍රි. සිද්දිඟුරු, (වියලි ඉඟුරු)
**ශුණ්ඩා**, ස්ත්‍රී. රාහල.
**ශුණ්ඩාපාන**, න: රාබොනගේ.
**ශුතද්‍රි**, ස්ත්‍රී. එනම් නදිය.



**ශුද්ධාන්ත** පු. සියල්ලවුන් වැදෑ නොදෙන රජුගේ කක්ෂාන්තරය හෙවත් පවුරුපදනම, ඇතොර හෙවත් අන්තඃපුර ස්ත්‍රීන් වසන ගේ.
**ශුධාංශු**, පු. සඳ.
**ශුනක**, පු. බල්ලා.
**ශුනී**, සත්‍රි. බැල්ලී.
**ශුභ**, න, ශුභය, ද්‍රව්‍යයෙහි ත්‍රි.
**ශුභංයු**, ත්‍රි, ශුභයෙන් යුක්තයා,
**ශුභාන්විත**, ත්‍රි. ශුභයෙන් යුක්තයා,
**ශුභ්‍ර**; පු. ඉතා බැබළීම, සුදු පැහැ ඉන් යුත් දෙයෙහි ත්‍රි,
**ශුභ්‍රදන්ති**, සත්‍රි. පුෂ්පදන්ත නම් වාය ව්‍යකොණයෙහිවූ දිග්ගජයාගේ ඇතිනිය,
**ශුභ්‍රාංශු** පු. සඳ.
**ශුල්ක**. පු. න. සුංකම හෙවත් තොටුපල් ආදියෙන් රජුන්ට දියයුතු කොටස.
**ශුල්බ**, න. තඹ, මළබාන(රුහැණ)
**ශුශ්‍රෑෂා**, සත්‍රි ආරාධ්‍යයන්ගේ හෙවත් ගුරුවරාදින්ගේ චිත්තානුකූලවැ පවැත්ම හෝ සේවය.
**ශු(සු)ෂි**, ස්ත්‍රී. බිලය, (සිදුර)
**ශු(සු)ෂිර**, ත්‍රි. සිදුරු සහිතය, න. බිලය, වස්කුලල් ආදි වාද්‍ය.
**ශුෂිරා**, සත්‍රි. නලීනම්ගන්ධ ද්‍රව්‍යය (පබලුපැල)
**ශුෂ්කමාංස**, පු. වියලිමස්.
**ශුෂ්ම**, න. ශක්තිය.
**ශුෂ්මන්**. පු. ගිනි.
**ශූක**; පු. න. වීමූව (වීතඹුව)

**ශූකධාන්‍ය**, න. යව ගොදුමු ආදි තඩුව ඇති ධාන්‍ය.
**ශූකකීට**, පු. දලඹුවා.
**ශූකශිම්බි(ම්බා)** ස්ත්‍රී. වඳුරුමෑ.
**ශූද්‍ර**, පු. ශුද්‍රයා.
**ශූද්‍රා**, ස්ත්‍රී. ශුද්‍රස්ත්‍රී.
**ශූද්‍රී**, සත්‍රි, ශුද්‍රයාගේ භාය්‍යාව
**ශූන්‍ය**, ත්‍රි. සිස්දෑ.
**ශූර**, ත්‍රි. ශුරයා.
**ශූරණ**, පු. කිඩාරම්.
**ශූර්ප**, පු. න, කුල්ල.
**ශූල** පු, න. රූජා, ආයුධ.
**ශූලාකෘත**, ත්‍රි. උලින් පැලහූ මස්.
**ශූලින්**, පු ඊශ්වරයා.
**ශූල්‍ය**, ත්‍රි; උලින් පැලහූ මස් ආදිය.
**ශෘ(සෘ)ගාල**, පු. සිවලා.
**ශෘඞ්ඛල**, ත්‍රි. පිරිමින් කටියෙහි බඳනා හවඩි ආදි ආභරණ, පු. ඇතුන්බඳනා දම.
**ශෘඞ්ඛලක**, පු පාබැම්මෙන් යුත් ඔටුපැටවා.
**ශෘඞ්ඛලා**, සත්‍රි. මැඩහගු,
**ශෘඞ්ග**, න. ප්‍රභුත්වය, පර්වතකූටය මෙහි පුංලිඟුදවේ, අග, පු; ජීවක (දිව්නම් බෙහෙද)
**ශෘඞ්ගවෙර**, න. අමු ඉඟුරු.
**ශෘඞ්ගාටක**, න සතරමන්සන්ධිය;
**ශෘඞ්ගාර**, පු සිරිගර හෙවත් ස්ත්‍රී පුරුෂයන්ගේ උකුන් කෙරෙහි ඇලියටි ගුණය
**ශෘඞ්ගිණී**, සත්‍රි. දෙන.
**ශෘඞ්ගී**, ස්ත්‍රී. ඉවද, ඔසබිය මෙහි ශෘඞ්ගින් කියා පුංලිඟුදවේ ශෘගීනම් මත්ස්‍යධෙනුව(සුගිය)

**ශාඩ්ගිකනක**, න. කටක කුණ්ඩලාදි ආභරණයටගත් ස්වර්ණය

**ශාන**,ත්‍රි. කිරිගිතෙල් වෙඩරුයන මොවුන්ගේ පාකය (පිසීම)

**ශෙඛර, පු.** හිසතැබූ මල්දම.

**ශෙඵස්**, න. පිරිමින් රහසඟ.

**ශෙ(ශි)ඵාලිකා**, ස්ත්‍රී. කළුමල් ශෙඵාලිකා ( කළුතලාගසයයි කියත්)

**ශෙමුෂී**, ස්ත්‍රී. බුඩිය.

**ශෙලු, පු.** ලෝලුගස.

**ශෙවධි, පු.**

"පද්මො සඞ්ඛයොං මහාපද්මඃ ශඞ්ඛොමකරකච්ඡපෞ;
මුකුන්දකුන්ද නීලාශ්ච
ඛර්ව්ශ්ච නිධයොනව"යි

කියනලද පද්මය මහා පද්මය ශඞ්ඛය, මකරය, කච්ඡපය මුකුන්දය,කුන්දයනීලය,ඛර්වයයි නව විධවූ නිදන්.

**ශෙවාල**, න. සෙවෙල්.

**ශෙෂ, පු.** අනන්තනාරජ.

**ශෛක්ෂ**, පු. වෙදුරම්භ ඇත්තා.

**ශෛබ්‍රීක, පු.** සැබෝගස.

**ශෛල, පු.** පර්වතය.

**ශෛලාලින්, පු.** නටන්නා.

**ශෛලූෂ**,පු. නටන්නා.බෙලිගස.

**ශෛලෙය**, න සුගන්ධිරස ද්‍රව්‍යයයි කියන ලද ගල්සෙවෙල් "ශුල, ශිලාජිතක" යනු මරාටි නාමයෝයි.

**ශෛවාල**, න. දියසෙවෙල්; ශෙවාල යනුදවේ.

**ශෛවලිනී**, ස්ත්‍රී. නදිය

**ශෛශව**, න. බාලබව .

**ශොක**, පු. ශෝකය.

**ශොචිෂ්කෙශ**, පු. ගිනි.

**ශොචිස්**, න, දීප්තිය, මෙහි ප්‍රථමායෙහි රූපශොචි, ශොචිෂී, ශොචීංසි කියාවෙත්.

**ශොණ**, පු. ශොණනදියයි ප්‍රසිඞවූ නදී විශෙෂයෙක්, රතුඋපුලටබඳු පැහැද්‍රව්‍යයෙහි ත්‍රි.

**ශොණක**, පු තොටිලගස.

**ශොණරත්න**, න පියුම් රාම්ණ (පද්මරාග)

**ශොණිත**, න. ලේ.

**ශොථ**, පු ඉදිමුම.

**ශොථඝ්නී**, ස්ත්‍රී. සුළුඹුරුද.

**ශොධනී**, ස්ත්‍රී. මුස්න.

**ශොධිත**, ත්‍රි. කිලිටිහළඳු එනම් හිසකේ පණු ආදීන් පහකිරීමෙන් ශුඩකළ ආහාරාදිය.

**ශොථ**, පු. ඉදිමුම.

**ශොභන**, ත්‍රි. හොබනාදු.

**ශොභනා**,ස්ත්‍රී. කහා,ගොරොචන

**ශොභා, ස්ත්‍රී.** බැබළීම.

**ශොභාජන**, පු. මුරුඟා.

**ශොෂ**, පු. ක්ෂයරොගය.

**ශෞක**, න. ශිරාසමූහය.

**ශෞක්ලිකෙය**,පු. එනම් ස්ථාවර විෂභෙදය, මහා රාෂ්ට්‍රිකයෝ සෝලයයි කියත්.

**ශෞණ්ඩ**, ත්‍රි. මත්වූයේ,දක්ෂයා.

**ශෞණ්ඩික**, පු.රාවිකුණනගැහැවියා.

**ශෞණ්ඩී, ස්ත්‍රී.** වගපුල්.

**ශෞණ්ඩෝත්කට** ත්‍රි. සුරායෙන් මත්වූයේ.



**ශෞඩොදනි,**පු. ගෞතමසර්ඥ.

**ශෞරි**, පු. සෙනසුරු.

**ශෞර්‍ය**, න. ශුරභාවය.

**ශෞල්වික**, පු. තඹකරු.

**ශෞෂ්කල**, ත්‍රි. වියලි මත්ස්‍ය මාංස අනුභවකරන්නා.

**ශ්චොතන**, පු. ගිතෙල් ආදිය දිය වීම.

**ශ්මශාන**, න. සොහොන.

**ශ්මශ්‍රු**,න. දැලිය හෙවත් රැවුල.

**ශ්‍යාම**, ත්‍රි. පලාවන්, කළුවන්, ඉන්යුත් දෙයෙහි. ත්‍රි.

**ශ්‍යාමල්**, පු. කළුපැහැ ඉන්යක්තයෙහි ත්‍රි.

**ශ්‍යාමා**, ස්ත්‍රී. හිරමුසු, රාත්‍රිය, කළු තේව්‍ර ඩිකා. (කළුතිරස් තවාලු) පුවඟුගස.

**ශ්‍යාමාක**, න. බොඩහමු.

**ශ්‍යාල**, පු. සුරුබඩුවා හෙවත් භාර්‍යාවගේ සහෝදරයා.

ශ්‍යාව, ත්‍රි. කළු රන්වන්, ද්‍රව්‍යයෙහි ත්‍රි.

**ශ්‍යෙත**, පු. සුදුපැහැ ඉන්යුත් දෙයෙහි. ත්‍රි.

ශ්‍යෙන, පු. උකුස්සා.

**ශ්‍යෙනංපාතා**, ස්ත්‍රී. මුවදඩයම.

**ශ්‍යෝනා (ණා) ක**, පු. තොටිල ගස.

**ශ්‍රඩා**, ස්ත්‍රී. ආදරය, කැමැත්ත.

**ශ්‍රඩාලු**, ත්‍රි. සැදැහැ ඇත්තා.

**ශ්‍රයණ**, පු. ඇසුරුකිරීම.

**ශ්‍රවණ**, න. කණ.

**ශ්‍රවස්**, පු. කණ.

**ශ්‍රවිෂ්ඨා, ස්ත්‍රී.** දෙනටේ නැකත.

**ශ්‍රාණා**, ස්ත්‍රී. හුළුකැන්, (කැඳ)

**ශ්‍රාඩ**, න. ශාස්ත්‍රයෙහි නියමවූ කාලපාත්‍රාදි නියමයෙන් මළපියන් පිණිස බ්‍රාහමණ භොජනාදිවූ පිතෘදන කර්මය (මළපියන් පිණිස දෙන දනය.)

**ශ්‍රාඩදෙව**, පු. යමරජ.

**ශ්‍රාය**, පු. ඇසුරුකිරීම.

**ශ්‍රාවණ**, පු. නිකිණිමස.

**ශ්‍රී, ස්ත්‍රී.** සමපත්තිය හෙවත් ධනොත්කර්ෂය, ශ්‍රීකාන්තාව.

**ශ්‍රී කණ්ඨ**, පු. ඊශ්වරයා.

**ශ්‍රීඝන**, පු. බුදුන්.

**ශ්‍රීද**, පු. වෙසමුණු.

**ශ්‍රීපති**, පු. විෂ්ණු.

**ශ්‍රීපර්ණී**, න. මිදිගස, පියුම්, ඇත්දෙමට.

**ශ්‍රීපර්ණිකා**, ස්ත්‍රී. කරබෙ ඔිය.

**ශ්‍රීපර්ණී**, ස්ත්‍රී. ඇත්දෙමට.

**ශ්‍රීඵල**, පු. බෙලිගස.

**ශ්‍රීඵලී, ස්ත්‍රී.** බෙරුගස, (අවරිය)

**ශ්‍රීමත්**,ත්‍රි. භොගසමපත් ඇත්තා.
"ශ්‍රීමාන්, ශ්‍රීමන්තෞ, ශ්‍රීමන්තඃ" යනු ප්‍රථමායෙහි රූපයි.පු. පොල් ගස.

**ශ්‍රීල**, ත්‍රි. ශ්‍රී ඇත්තා, හෙවත් භොග සමපත් ඇත්තා.

**ශ්‍රී වත්සලාඤ්ඡන**, පු. විෂ්ණු.

**ශ්‍රීවාස**, පු. සිරිවටු හෙවත් හල් දුම්මල.

**ශ්‍රීවෙෂ්ට**, පු. සිරිවටු හෙවත් දුම් මල.

**ශ්‍රීසංඝ**, න. කරාඹු.

**ශ්‍රීහස්තිනී**, ස්ත්‍රී. මුහුඋෑඹිල් වැනි මල්ඇති දිත්තිඹියගස.

**ශ්‍රුත**, න. ශාස්ත්‍රය, අසනලද්ද.

**ශ්‍රුති**, ස්ත්‍රී. වේදය, කණ.

**ශ්‍රේණි**, පු. ස්ත්‍රී. ශිල්පීන්ගේ සමාන ජාතික සමූහය.

**ශ්‍රේණී**, ස්ත්‍රී, තුරුපෙළ.

**ශ්‍රේයස්**, ත්‍රි. ඉතා ශොභනදෑ,න. පුණ්‍යය, ද්‍රව්‍යයෙහි, ත්‍රි. පු. නිර්වාණය.

**ශ්‍රේයසී**, ස්ත්‍රී. දියමිත්තා, ඇත්වගපුල්, අරලු.

**ශ්‍රේෂ්ඨ**, ත්‍රි. ඉතාශොභනදෑ.

**ශ්‍රෝණ**, ත්‍රි. පිළා

**ශ්‍රෝණි**, (ණී) ස්ත්‍රී. උකුල.

**ශ්‍රෝණිඵලක**, න. උකුල් පුවරුව හෝ ඉඟටිය.

**ශ්‍රෝත්‍ර**, න. කණ.

**ශ්‍රෝත්‍රිය**, පු.වේදහදාරණබමුණා.

**ශ්‍රෞෂට්**, අව්‍ය. දෙවියන්ට යාග ද්‍රව්‍ය පිදීමෙහිවේ. "ඉන්ද්‍රාය ශ්‍රෞෂට්" ඉඳුරුදෙවියාට මේ පුදසි යනාදි උදාහරණයි.

**ශ්ලක්ෂ්ණ**, ත්‍රි. කුඩාදෑ.

**ශ්ලේෂ**, පු. සන්ධානය හෙවත් ගැළපීම, ආලිඞ්ගනය.

**ශ්ලේෂ්මණ**, ත්‍රි. සෙම් ඇත්තා.

**ශ්ලේෂ්මන්**, පු. සෙම.

**ශ්ලේෂ්මල**, ත්‍රි. සෙම් ඇත්තා

**ශ්ලේෂ්මාතක**, පු. ලොලුගස.

**ශ්ලෝක**, පු. පද්‍යරචනාව, කීර්තිය.

**ශ්වඃශ්‍රේයස්**, න. ශුභය, ද්‍රව්‍යයෙහි ත්‍රි.

**ශ්වදංෂ්ට්‍රා**, ස්ත්‍රී. ගොකටු.

**ශ්වන්**, පු. බල්ලා.

**ශ්වනිශ**, න. ස්ත්‍රී. බල්ලන්ගේ රෑ නොහොත් බල්ලන් රමනය කරන රෑ.

**ශ්වපච**, පු. චණ්ඩාලයා.

**ශ්වභ්‍ර**, න. බිලය. (සිදුර)

**ශ්වයථු**, පු ඉදිමුම.

**ශ්වවෘත්ති**, පු. අනුන්අයත් පැවතුම් ඇති.

**ශ්වශුර**, පු. ද්වි. ඇවැස්ස නෑදි මයිල් දෙදෙන.

**ශ්වශුර්‍ය**, ත්‍රි. හිමියා හා කුසහොත්තෝ, බිරින්ද සොහොයුරු.

**ශ්වශ්‍රූ**, ස්ත්‍රී. අඹුසැමියන්ගේමව්.

**ශ්වස්**, අව්‍ය, සෙටදවස.

**ශ්වසන**, පු. සුලඟ, කුකුරුමුවන්ගස.

**ශ්වාවිධ්**, පු. ඉත්තෑවා, ශ්වාවිද්, ශ්වාවිත්, ශ්වාවිධෞ, ශ්වාවිධඃ, යනු ප්‍රථමා එකවචනාදි රූපයෝයි.

**ශ්වත්‍ර**, න. එනම් කුෂ්ටය.

**ශ්වේත** පු. සුදුපැහැ, ද්‍රව්‍යයෙහි ත්‍රි. න. රිදී.

**ශ්වේතගරුත්**, පු. හංසයා.

**ශ්වේතමරිච**, න. මුරුඟා ඇට.

**ශ්වේතරක්ත**, පු. පලොල්පැහැ.

**ශ්වේතසුරසා**, ස්ත්‍රී. හෙලශේඵාලිකා (සුදුතලාගස)

## ෂ.

**ෂට්කර්මන්**, න. ශාන්තිය, වශීකරණය, ස්තම්භනය, විද්වේෂය, උච්චාටනය, මාරණය යනකර්මසය.



**ෂඩ්ගුණ**, පු. සන්ධිය, විග්‍රහය, යානය, ආසනය, ද්වෛධය, ආශ්‍රය යනරජුන්ගේ ගුණසය.

**ෂට්පද**, පු. බඹරා.

**ෂඩ්ග්‍රන්ථ**, පු. මහ කරඳගස.

**ෂඩ්ග්‍රන්ථා**, ස්ත්‍රී. වදකසා.

**ෂඩ්ග්‍රන්ථිකා**, ස්ත්‍රී. සිඟුරුපියලි.

**ෂඩ්ජ**, පු. නැතින් හෝ බොටුවෙන් නැඟාවූ එනම් ස්වර විශෙෂයෙක්. බොටුවෙන්වූ කාලි "ෂඩ්ජඃරෞතිමයූරස්තු" යනු වචන බැවින් මයුරතෙම නගයි.

**ෂඩභිඥ**, පු. බුදුන්.

**ෂඩානන**, පු කඳකුමරු.

**ෂණ්ඩ**, පු. න පද්මාදින්ගේ සමූහය මෙහි "ෂණ්ඩා" කියාද වේ. පු. පුසිතළ ගොනා.

**ෂෂ්ටික්‍ය**, ත්‍රි. සැටදාහැල් වැපිරීමට සුදුසු කෙත.

**ෂාණ්මාතුර**, පු. කඳකුමරු .

## ස.

**සංයත්**, ස්ත්‍රී. යුද්ධය

**සංයත**, ත්‍රි. රැහැන් ආදියෙන් බඳනා ලද්දේ.

**සංයම**, පු. සංයමනම් යොගාඟය

**සංයාම**, පු සංයමය.

**සංයුග**, පු යුද්ධය.

**සංයෝජිත**, ත්‍රි. සංයුක්තකළදෑ හෙවත් පදාර්ථාන්තරයක් හා සංයෝග කරනලද පදාර්ථය.

**සංරාව**, පු. හඬ.

**සංලාප**, පු. සමඟින් බණන තෙපුල්.

**සංවත්සර**, පු. අවුරුද්ද.

**සංවත්**, පු. අවුරුද්ද, ප්‍රභවාබ්‍ය සංවත්, ප්‍රභවනම් අවුරුද්ද යනාදියයි.

**සංවන(ද)න**, න. මන්ත්‍රාදියෙන් වසඟකිරීම.

**සංවර්ත**, පු. ක්ෂය කල්පය, (කප්කෙල)

**සංවර්තිකා**, ස්ත්‍රී. අලුත් පියුම් පෙති.

**සංවසථ**, පු ගම.

**සංවාහන**, න. අත්පා ආදිය මැඬීම.

**සංවිද්**, ස්ත්‍රී.බුද්ධිය, පරස්පරාලාප ගිවිසගැන්ම, යුද්ධය, සංඥ, ඉඟිකිරීම.

**සංවිදිත**, ත්‍රි. ස්වීකරණලද හෙවත් ගිවිස්නාලද යන අර්ථයි.

**සංවීක්ෂණ**, න. අපවත්වූ වස්තුහුගේ තත්පරයෙන් සෙවීම.

**සංවීත**, ත්‍රි. නදීප්‍රාකාරාදියෙන් වටකළදෑ.

**සංවේග**, පු භයහර්ෂාදියෙන් ක්‍රියාවන්හි වේගය.

**සංවේද**, පු අනුභවය, (විඳීම)

**සංවේශ**, පු. නින්ද.

**සංව්‍යාන**, න. යටහඳනා පිළි.

**සංශප්තක**, පු. යුද්ධයෙන් පලා නොයන්නා.

**සංශය**, පු. සැකය.

**සංශ්‍රව**, පු පොරොන්දුව (ගිවිසුම)

**සංශ්‍රුත**, ත්‍රි. ස්වීකාරකරණලද හෙවත්ගිවිස්නාලද යනඅර්ථයි.

**සංශ්ලෙෂ**, පු. වැලඳගැන්ම.
**සංසක්ත**, ත්‍රි. සම්බන්ධද.
**සංසද්**, ස්ත්‍රී. සභාව.
**සංසරණ**, න. ප්‍රාණීන්ගේ ඉපදීම,සෙනාවගේ වැළකියනොහැකි ගමන, සතරමන්සන්ධිය, රාජමාර්ගය.
**සංසිද්ධි**, ස්ත්‍රී. සවභාව.
**සංස්කාරහීන**, ත්‍රි. අෂ්ටාදශ සංස්කාරයෙන් පිරිහුනේ.
**සංස්කෘත**. ත්‍රි. කර්මයෙන් උපදවනලදදෙය, ශාස්ත්‍ර ලක්ෂණ යුක්තදෙය.
**සංස්තර**, පු. කුසතණමිට, කුසතණ යහන, යාගය.
**සංස්තව**, පු. පුරුද්ද.
**සංස්තාව**, පු. යාගයෙහි බමුණන්ගේ සතුතිභූමිය.
**සංස්ත්‍යාය**, පු. සමූහය, නගරාදීන් බැහැර පෙදෙස.
**සංස්ථා**,ස්ත්‍රී. න්‍යාය පථයෙහි හෙවත් සුදුස්සෙහි පැවැත්ම.
**සංස්ථාන**, න. සතරමන්සන්ධිය, අවයවවිභාග,ආකෘතිසමරණය හෙවත් ආකාරය සිහිකිරීම.
**සංස්ථිත**, ත්‍රි. මළඅය.
**සංස්පර්ශා**, ස්ත්‍රී. ජනනීනම් බෙහෙද (වටැස්සදැයි සැකකෙරෙත්) "වාතවනයයි මරාටි"
**සංස්ඵොට**, පු. යුද්ධය.
**සංහත**, ත්‍රි. දැඩියේ ගැළපිදැ.
**සගොත්‍ර**, පු. එක් ගොත්‍රයෙහි නෑයෝ.
**සග්ධි**, ස්ත්‍රී. සහ භොජනය,(අනිකාන් සමගින් යමක් අනුභව කිරීම)

**සඞ්කට**, ත්‍රි. අල්ප අවකාශය.
**සඞ්කාර**, පු. කසලගොඩ.
**සඞ්කර්ෂණ**, පු. බලභද්‍රයා.
**සඞ්කලිත**, ත්‍රි. එක්කළගණන් ආදිය.
**සඞ්කල්ප**, පු. චිත්තක්‍රියාව.
**සඞ්කසුක**, ත්‍රි. චලප්‍රකෘති ඇත්තා හෙවත් අස්ථිර තැනැත්තා
**සඞ්කාශ**, ත්‍රි, උත්තරපදයෙහිවූ මේ පදය සමානතාකියයි;
**සඞ්කීර්ණ**, ත්‍රි. පැතුරුණුදැ,මිශ්‍රදැ, ගැවසුනුදැ, පු; මිශ්‍රජාතිකයා.
**සඞ්කුල**, ත්‍රි; පෙරපසු විරිදු බස්, සංකීර්ණදැ.
**සඞ්කොච**, ත්‍රි. සංක්ෂෙප කිරීම, හැකිලවීම.
**සඞ්කොචන**, න. කොකුම්.
**සංක්‍රන්දන**, පු. ශක්‍රයා.
**සංක්‍රම**, පු. දුර්ගමාර්ගය හෝ දුර්ගප්‍රවෙශය.
**සංක්ෂෙපණ**, න. විස්තීර්ණවූ අර්ථයක්හුගේ සංක්ෂෙපකිරීම.
**සඞ්ඛ්‍ය**, න. යුද්ධය.
**සඞ්ඛ්‍යා**, ස්ත්‍රී. පරීක්ෂාකිරීම.
**සඞ්ඛ්‍යාත**, ත්‍රි. ගිණුදැ.
**සඞ්ඛ්‍යාවත්**, ත්‍රි. පරීක්ෂාකිරීම් ඇත්තා.
**සඞ්ග**, පු. සඞ්ගමය.
**සඞ්ගත**, ත්‍රි. යුක්තියුක්තබස්.
**සඞ්ගම**, පු. එක්වීම.
**සඞ්ගර**, පු. ගිවිසීම, යුද්ධය, ක්‍රියාකාරක, එසේයි කටයුතු ගිවිසීම.
**සඞ්ගීර්ණ**, ත්‍රි ස්වීකාරකරණලද හෙවත් ගිවිස්නාලද යනඅර්ථ වාචකයි.
**සංගුඪ**, ත්‍රි. එක්කළ ගණන් ආදිය.



**සඞ්ග්‍රහ**, පු. "විස්තරෙණොප දිෂ්ටානා
මර්ථානාං සූත්‍ර භාෂ්‍යයොඃ;
නිබන්ධොයඃ සමාසෙන
සංග්‍රහන්තං විදුර් බුධාඃ"

යනු වචන හෙයින් සූත්‍රතද් ව්‍යාඛ්‍යා දෙක්හි විස්තරයෙන් දක්වනලද අර්ථයන්ගේ සංක්ෂෙපකොට බැඳීම සංග්‍රහනම්.

**සඞ්ග්‍රාම**, පු. යුද්ධය.
**සඞ්ග්‍රාහ**, පු. මිටින්පෙළාගැන්ම, පලිස් මිට.
**සඞ්ඝ**, පු. සජාතීයවූද විජාතීයවූද ප්‍රාණීන්ගේ සමූහය.
**සඞ්ඝාත**, පු. සමූහය.
**සචිව**, පු. මන්ත්‍රියා, යහලුවා.
**සජ්ජ**, පු. සන්නාහ සන්නද්ධයා.
**සජ්ජන**, න. සේනාරැක්ම.
**සඤ්චය**, පු. සමූහයා.
**සඤ්චාරිකා**, ස්ත්‍රී. දූතී, එනම් සවස්ත්‍රීන් කරාද පරස්ත්‍රීන් කරාද දූතකම් කරන්නී.
**සඤ්ජවන**, න. සතරැස් ගේ, "අන්‍යොන්‍ය අභිමුඛශාලාචතුෂ්කස්‍ය" උනුන් ඉදිරියෙහිවූ ගෙවල් සතරට නම් කියනලදී
**සඤ්ජ්වර**, පු. ගින්නෙන්වූ තැවීම.
**සංඥපන**, න. මැරවීම, ඥාපනය.
**සංඥා**, ස්ත්‍රී චෙතනාව, බුද්ධිය.
**සංඥ**, ත්‍රි. ගැටෙන දන ඇත්තා.

**සටා**, ස්ත්‍රී. තවුසන්ගේ ජටාව.
**සණ්ඩීන**, න. පක්ෂීන් එකතුව පියාඇඹීම.
**සණසූත්‍ර**, න. බිළිලනුව.
**සත්**, ත්‍රි. සැබවස, සත්පුරුෂ, විද්‍යමානද, පසස්කාද, පුජිතයා.
**සතත**, න. නිරන්තරය, ද්‍රව්‍යයෙහි, ත්‍රි.
**සතී**, ස්ත්‍රී. පතිව්‍රතා ස්ත්‍රී.
**සතීනක**, ත්‍රි. කලත්ම (ලීමෑ)
**සතීර්ථ්‍ය**, පු. එකගුරුඅතවැස්සෝ
**සත්තම**, ත්‍රි. ඉතා ශොභනදැ.
**සත්ව**, න. එනම් සවභාව ගුණය. පු. ද්‍රව්‍ය, ප්‍රාණය, නිශ්චය, න. ප්‍රාණීන්.
**සත්වර**,න.ඉක්මන්.ද්‍රව්‍යයෙහි ත්‍රි
**සත්පථ**, පු. මනාමග.
**සත්‍ය**, න. දිවිරීම, සැබෑ බස් ඉන් යුත්දෙයෙහි, ත්‍රි.
**සත්‍යඞ්කාර**, පු. මම මෙය ගන්නෙමියි පොරොන්දුවීම. (අත්තිකාරම)
**සත්‍යවචස්**, පු. කාශ්‍යපාදී බ්‍රහ්මර්ෂීන්වද, මහාසම්මතාදී රජර්ෂීන්වද සාමාන්‍ය නාමයෙකි.
**සත්‍යාකෘති**, ස්ත්‍රී. මම මෙය ගන්නෙමියි පොරොන්දුව, (අත්තිකාරම)
**සත්‍යානෘත**, න. වෙළඳාම.
**සත්‍යාපන**, න. මම මෙය ගන්නෙමියි පොරොන්දුවීම, (අත්තිකාරම)

**සත්‍ර**, න. වස්ත්‍රය, යාගය, නිත්‍ය දන, වනය.

**සත්‍රා**, අව්‍ය. සහාර්ථයි.

**සත්‍රින්**, පු. දානපතියා.

**සත්වර**, න. ශීඝ්‍රය, ඉන් යුක්ත යෙහි, ත්‍රි.

**සදන**, න. ගෙය.

**සදස්**, ස්ත්‍රී. න. සභාව.

**සදස්‍ය**, පු. යාගවිධාන දන්නාවූ න්‍යූනාතිරික්ත පෙක්ෂණයෙහි තත්පරවූ බ්‍රාහ්මණයෝ.

**සදා**, අව්‍ය. සෑමකල්හි.

**සදාගති**, පු. සුළඟ.

**සදාතන**, ත්‍රි. සදාකාලිකදෑ.

**සදානීරා**, ස්ත්‍රී. "ගෞරී විවාහෙ කන්‍යා දුයොදකාජ්ජාතායාඃ" යනු උක්ත හෙයින් උමාවගේ විවාහයෙහි අතවක්කල පැනින් ඇතිවූ නදී විශෙෂයෙක්.

**සදෘක්ෂ**, ත්‍රි. උත්තරපදයෙහිවූ මේ ශබ්දය සමානාර්ථවාචකයි.

**සදෘශ්**, ත්‍රි. උත්තරපදයෙහිවූ මේ ශබ්දය සමානාර්ථවාචකයි.

**සදෘශ**, ත්‍රි. උත්තරපදයෙහිවූ මේ ශබ්දය සමානාර්ථ ප්‍රකාශකයි.

**සදෙශ**, ත්‍රි. සමීපය.

**සද්**, ස්ත්‍රී. සභාව.

**සද්මන්**, න. ගෙය.

**සද්‍යස්**, අව්‍ය. එකෙණෙහි.

**සධ්‍ර්‍යච්**, ත්‍රි. එක්ව යන්නා.

**සනත්කුමාර**, පු. බඹපුත්.

**සනා**, අව්‍යා. නිත්‍යාර්ථයි.

**සනාතන**, ත්‍රි. සදාකාලික.

**සනාභි**, පු. සත්වන පරම්පරාව දක්වා ආසන්නවූ නෑයෝ.

**සනි**, ස්ත්‍රී. අධ්‍යෙෂණය.

**සනිෂ්‍යි(ෂ්‍යෝ)ව**, ත්‍රි. කෙලතොලු (කෙල ඉස ඉස බණනා) බස්.

**සනීඩ**, ත්‍රි. සමීපයෙහිවූ.

**සන්තාන**, පු. කල්පවෘක්ෂය.

**සන්තත**, න. නිරන්තරය, ද්‍රව්‍ය යෙහි ත්‍රි.

**සන්තති**, ස්ත්‍රී. ගොත්‍රය, පුත්‍ර, කන්‍යා, පඞ්ක්තිය, විස්තාරය.

**සන්තප්ත**, ත්‍රි තවන ලද්ද.

**සන්තමස**, න. සියලු තැන පැතිරි අඳුර.

**සන්තාප**, පු. ගින්නෙන් හට ගත් දැහය.

**සන්තාපිත**, ත්‍රි. තවනලද්දේ.

**සන්දාන**, න. දෙනුන් දොනා කල පා බඳනා බහන.

**සන්දානිත**, ත්‍රි බඳනා ලද්ද.

**සන්දාව**, පු. යුද්ධයෙහි පලායාම

**සන්දිත**, ත්‍රි. බඳනාලද්ද, ගෙතූදෑ.

**සන්දෙශවාච්**, ස්ත්‍රී. පණිවුඩ තෙපුල්.

**සන්දෙශහර**, පු. දූතයා.

**සන්දෙහ**, පු. සැකය.

**සන්දොහ**, පු. සමූහය.

**සන්ද්‍රාව**. පු. යුද්ධයෙහි පලායාම.

**සන්ධා**, ස්ත්‍රී, ප්‍රතිඥාව, සීමාව.

**සන්ධාන**, න. සුරාතැනීම.

**සන්ධි**, පු. සන්ධානය, ආලිඞ්ගනය.

**සන්ධිනී**, ස්ත්‍රී. වෘෂභයා විසින් නිෂ්පාදිතවූ මෛථුනය ඇති දෙන.



**සන්ධ්‍යා**, ස්ත්‍රී. සවස.

**සන්නකද්‍රු**, පු. පියල්, (කිරිපලු) රුක.

**සන්නද්ධ**, පු. සන්නාහ සන්නද්ධ.

**සන්නය**, පු. සෙනාපසුයෙහි සිටි අනුබල සෙනාව, සමූහය.

**සන්නිකර්ෂණ**, න. සමීප බව

**සන්නිකෘෂ්ට**, ත්‍රි. සමීපය.

**සන්නිධි**, පු. සමීප බව.

**සන්නිවෙශ**, පු. නුවරාදියෙන් පිටත ප්‍රදෙශය, "සම්විනවාස ස්ථානය" යනු කී බැවින් මනා අය වසන තැනටද නම්

**සපත්න**, පු. සතුරා.

**සපදි**, අව්‍ය. එකෙණෙහි, වහා.

**සපර්‍යා**, ස්ත්‍රී. පිදීම.

**සපිණ්ඩ**, පු. සත්වන පරම්පරාව දක්වා ආසන්නවූ නෑයෝ.

**සපීති**, ස්ත්‍රී, සහපානය (තවත් අයත් සමග යම් පානවර්ගයක් පානය කිරීමයි.)

**සප්තකී**, ස්ත්‍රී. ගෑගෑණුන් කටි සන්ධියෙහි බඳනා මෙවුල්දම.

**සප්තතන්තු**, පු, යාගය.

**සප්තපර්ණ**, පු. රුක්අත්තනගස

**සප්තලා**, ස්ත්‍රී. එනම් ගන්ධද්‍රව්‍යය "ශිකකාර්" මරාටි (බැම් තිරිය, සිනිද්ද. ලතාජාතියක්.

**සප්තාර්චිස්**, පු. ගිනි.

**සප්තාශ්ව**, පු. හිරු.

**සප්ති**, පු. අශ්වයා.

**සබ්‍රහ්මචාරින්**, පු. එක් ගුරෙකු කෙරෙහි එකම වෙදයක් හදාරණ පිණිස එකම ව්‍රතයෙහි හැසිරෙන්නා.

**සභර්තෘකා**, ස්ත්‍රී, සැමි පුත් ඇත්තී.

**සභා**, ස්ත්‍රී. ගොෂ්ඨිය හෙවත් සභාව, සභාසදයා හෙවත් සභායෙහිවූ ජනසමූහය,

**සභාජන**, න. සංවර්ගීහණය, එනම් සුහෘද්බන්ධු ආදීන්ගේ ගමනා ගමනාදි සමයෙහි ආලිඞ්ගනය, චුම්බනය, හසනය, ප්‍රිය වචනය යනාදියෙන් ආනන්දකරණයයි දතයුතුයි.

**සභාසද්**, පු. යාගසභාවගේද සෙසු සභාවගේද ආරම්භකයෝ.

**සභාස්තාර**, පු. යාගසභාවගේද සෙසු සභාවගේද ආරම්භකයෝ හෙවත් සභිකයෝ.

**සභික**, පු. දූකෙළින්නා.

**සභ්‍ය**, පු. යාගසභාවගේද සෙසු සභාවගේද ආරම්භකයෝ හෙවත් සභිකයෝ.

**සම**, ත්‍රි. උත්තර පදයෙහිවූ මේ ශබ්දය සමානාර්ථ වාචකයි, නොඅඩුදෑ.

**සමග්‍ර**, ත්‍රි. නොඅඩුදෑ.

**සමඞ්ගා**, ස්ත්‍රී. වැල්මදට, නිදිකුම්බ ගස.

**සමජ**, පු. ගවාදිපසු සමූහය.

**සමඥා**, ස්ත්‍රී, කීර්තිය.

**සමජ්‍යා**, ස්ත්‍රී. සභාව.

**සමඤ්ජස**, න සුදුසු දේ.

**සමධික**, ත්‍රි. ඉතා අධික හෝ ඉත්රිදෑ.

**සමනන්තරස්**, අව්‍ය. හාත්පස්හි.

**සමන්තදුග්ධා**, ස්ත්‍රී. සීනුක්ගස.

**සමන්තභද්‍ර**, පු බුදුන්.

**සමම්**, අව්‍ය. සහාර්ථයි.

**සමය**, පු. දිවුරීම, ආචාරය, කාලය, සිද්ධාන්ත, එනම්, "සිද්ධාන්තනිශ්චිතො අනෙනා යස්මාත් ප්‍රමාණාදි උපන්‍යාසෙන පූර්ව පක්ෂ නිරාසංකෙ සිද්ධපක්ෂස්‍ය සමාපන රූපවාක්‍යරාශෞ"

**සමයා**, අව්‍ය සමීපය, මධ්‍යය, යන අර්ථවෙයහි වේ, "සමයා පතනතං නදී" නදී තොමෝ පටුනවෙතයි යනාදියෙහි සමීපයි "සමයා ශෛලයොඃග්‍රාමඃ" පර්වතයත් දෙදෙනාගේ අතතරාලයෙහි ගමයි යනාදියෙහි මධ්‍යාර්ථයි.

**සමර**, පු. න. යුද්ධය.

**සමර්ථ**, ත්‍රි ශක්තිමත්, සම්බන්ධාර්ථ අනුකූල.

**සමර්ථන**, න. යුක්තායුක්ත පරීක්ෂාව.

**සමර්ධක**, ත්‍රි. ඉෂ්ට ඵල දායකයා.

**සමර්‍යාද**, ත්‍රි. සීමව, පු. සමීපය,

**සමවර්තින්**, පු. යමරජ.

**සමවාය**, පු සමූහය.

**සමෂ්ඨිලා**, සත්‍රී. එනම් ආනුපජ ශාක භෙදයෙක් "ගණ්ඩසූරණා" මරාටියි, එහෙයින් කිඩාරම් වෙසෙ සක්යයිහඟිමු, පතුක්යයි සමහරු කියත්.

**සමසන**, න විසතිර්ණවූ අර්ථයක් හුගේ සංක්ෂෙපකිරීම.

**සමසනා**, න. හොඅඩුඩ.

**සමස්‍යා**, සත්‍රී. කවිශක්ති පරීක්ෂාව පිණිස හකුලුවා, (අඩුකොට) කියනලද්ද, ඒ මෙසේයි–"දාමොදරකරාඝාතවිහ්වලීකෘත චෙතසා, දෘෂ්ටං චාණූර මල්ලෙන" යන මේ ශ්ලෝකය අඩුකොට කියටි කල "ශත චන්ද්‍රං නභස්තලම්". යන මේ අගපදය පමණක් කියාහි අනිකෙක් මුලපද තුන සම්පූර්ණකොට කීනම් ඊට සමස්‍යා පූරණයයි කියති.

**සමා**, සත්‍රී, බහු. අවුරුද්ද "සමාං සමාං විජායතෙ" යන පාණිනී සූත්‍රයෙහි එකවචනයයි දක්නා ලැබේ.

**සමාංසමීනා**, සත්‍රී. අවුරුදු පතා වදන දෙන.

**සමාකර්ෂින්**, පු. දුරවිහිදෙන සුවඳ.

**සමාඝාත**, පු. යුද්ධය.

**සමාජ**, පු. මනුෂ්‍යාදි සමූහය,

**සමාධි**, පු. චොද්‍ය පරිහාර වචනා භාවය හෙවත් වචන නැති, අඟීකාරය හෙවත් නියමය, ගිවිසුම.

**සමාන**, පු. ශරීරවායු "සමානො නාභිමණ්ඩලෙ" යනු කියෙන් සමානවායු නැබ මඩලෙහි වේ. පඬිත, උත්තර පද යෙහි සිටි මේ ශබ්දය සමාන තා කියයි.

**සමානොදර්‍ය**, පු. සහෝදරයා



**සමාන්‍යා**, සත්‍රී. කවිශක්ති පරීක්ෂාකරණු පිණිස හකුලුවා (අඩුකොට) කියන ලද්ද, ඒ මෙසේහි, "දාමොදර කරාඝාත විහ්වලීකෘත චෙතසා, දෘෂ්ටං චාණූරමල්ලෙන ශතචන්ද්‍රං න භස්තලම්. යන මේ ශ්ලෝකය අඩුකොට කියටි කල අගපදය පමණක් කීමයි.

**සමාලම්භ**, පු. කොකුම් ආදි විලෙපනය.

**සමාවර්තන**, පු. වේදහදාරා නිම වීමෙන් ගුරුන් වෙතින් ඒමට අනුකූලත් අය.

**සමාසාද්‍ය**, ත්‍රි. පැමිණෙන්ට හෙවත් ලබන්ට පිළිවන් දේ.

**සමාහාර**, පු. කැටිකිරීම.

**සමාහිත**, ත්‍රි. එකඟවූ සිත්ඇත්තා

**සමාහෘති**, සත්‍රී. විස්තරවූ අර්ථයන්ගේ සංක්ෂෙපයෙන් කථන යයි කියනලද සංග්‍රහය.

**සමාහ්වය**, පු. එළු කුකුල් ආදීවූ සූදුව.

**සමිත්**, සත්‍රී. යුද්ධය.

**සමිති**, සත්‍රී. සභාව, යුද්ධය, එක් වීම.

**සමිධ්**, සත්‍රී. දර (බොහෝසේ හොම ප්‍රතිබද්ධ ඉන්ධනයටනම්)

**සමික**, පු. යුද්ධය.

**සමීප**, ත්‍රි. සමීපය.

**සමීර**, පු. සුළඟ.

**සමීරණ**, පු. සුළඟ, ගින්පණීස වෘක්ෂය.

**සමුච්චය**, පු. පිඩුකිරීම.

**සමුච්ඡ්‍රය**, පු. විරුද්ධය, උන්නතිය හෙවත් උසස් බව.

**සමුජ්ඣිත**, ත්‍රි. හරණලද්ද.

**සමුත්පිඤ්ජ**, පු. අත්‍යන්තාකුලවූ සේනාදිය.

**සමුදක්ත**, ත්‍රි. ලිත් ආදියෙන් නැගුද්ද.

**සමුදය**, පු. සමූහය.

**සමුදාය**, පු. යුද්ධය, සමූහය.

**සමුද්ග**, පු. කරඬුව.

**සමුද්ගක**, පු. කරඬුව.

**සමුද්ගිරණ**, න. වමනය, ඉතිරීම, දිය බඳුන් ආදිය උඩට නැගීම.

**සමුද්ධත**, ත්‍රි. උඩඟුවූයේ.

**සමුද්ධරණ**, න. ලිඳ ආදියෙන් ජලය නගාගැනීම, කෑ ආහාර වමන කිරීම, මූලොත්පාටනය

**සමුද්‍ර**, පු. මුහුද.

**සමුද්‍රාන්තා**, සත්‍රී. හැල්කසාඹිලියා, පිඬිකායයි ඛ්‍යාතවූ සුගන්ධි කුසුම (පික්මල්) කපු ගස.

**සමුන්දන**, න. තෙමීම.

**සමුන්න**, ත්‍රි. තෙමුණු හෝ තෙත්ද්ද.

**සමුන්නද්ධ**, ත්‍රි. තමන් පඬිතයයි සිතන්නා, උඩඟු අය.

**සමුපජොෂම්**, අව්‍ය. ආනන්දවීයි, "සමුපජොෂම් භුඤ්ජත්" සතු ටෙක්වේවා යනාදි උදාහරණයි

**සමූරු**, පු. රත්නභූත චර්මයට කාරණ හෙයින් අජිතයොනි යයි කියනලද ෂට් මෘගයන් අතුරෙහි එක් වර්ගයෙකි, මේ වර්ගය චිත්‍රවූ රෝම ඇත්තේය කාම්බෝජයෙහිද උත්තරා පථයෙහිද වසන්නේය.

**සමූහ්‍ය**, පු· යාගාග්නියෙහි යාග කරන්නා·
**සමෘද්ධ**, ත්‍රි· අධික සම්පත් ඇත්තා, ඉතා වැඩුනුදෑ·
**සමෘද්ධි**, ත්‍රි· සමෘද්ධයා, ස්ත්‍රී, උපචය
**සම්පත්ති**, ස්ත්‍රී· ධනොත්කර්ෂය·
**සම්පද්**, ස්ත්‍රී· ධනොත්කර්ෂය·
**සම්පරාය**, පු· විපත්, යුද්ධය, ආගාමිකාලය හෙවත් මතු කාලය·
**සම්පාක**, පු· ඇසල ගස·
**සම්පාරායික**, න· යුද්ධය·
**සම්පුටක**, පු· කරඬුව·
**සම්ප්‍රති**, අව්‍ය· මෙකාලයෙහි යන අර්ථයි·
**සම්ප්‍රදාය**, පු· ගුරුපරම්පරාගත සදුපදේශය·
**සම්ප්‍රධාරණා**, ස්ත්‍රී· යුක්තායුක්ත පරීක්ෂාව·
**සම්ප්‍රහාර**, පු· න· යුද්ධය·
**සම්ඵුල්ල**, ත්‍රි· මල්ගෙන සිටිරුක් ආදිය
**සම්බරාරි**, පු· අනඟයා·
**සම්භලී**, ස්ත්‍රී· පරපුරුෂයන් හා පරස්ත්‍රීන් යොදවන්නී·
**සම්බාකෘත**, ත්‍රි· අනුලොම විලොමයෙන් දෙවරක් සෑකෙත් ආදිය.
**සම්බාධ**, ත්‍රි· අල්පාවකාශය (අවකාශ නොමැති තැන)
**සම්භේද**, පු· නදීමයක් එක්වූ තැන (මෝය)
**සම්භ්‍රම**, පු· භය හර්ෂාදියෙන් ක්‍රියාවන්හි වේගය, හෙවත් ඉක්මන·
**සම්මද**, පු· ප්‍රීතිය, ද්‍රව්‍යයෙහි, ත්‍රි·
**සම්මාර්ජනී**, ස්ත්‍රී· මුස්න·
**සම්මූජ්ජන**, න· සියලු අත පැහිරීම·
**සම්මෘෂ්ට**, ත්‍රි· හිසකේ පණු ආදීන් පහකිරීමෙන් ශුද්ධකළ ආහාරාදිය·
**සම්‍යච්**, අව්‍ය· සොභනාර්ථයි, න, සැබෑ බස්, ඉන්‍යුක්තයෙහි ත්‍රි·
**සම්‍රාජ්**, පු· රාජසූය නම් යාගය කළ රජ·
**සරක**, පු· ඔඩම(රාබොන බඳුන)
**සරඝා**, ස්ත්‍රී· මීමැස්සා·
**සරට**, පු· කටුබෝඩා,(කටුස්සා·)
**සරණා(ණි)**, ස්ත්‍රී· ප්‍රසාරණී, එනම් ආපසු මදු·
**ස(ශ)රණී**, ස්ත්‍රී· මග·
**සරමා**, ස්ත්‍රී· බැල්ලී·
**සරක්නී**, පු· මිටිරියන·
**සරල**, පු· සරලයෙහි (හොර)ත්‍රි· අවිපරීතවූ ස්වභාව ඇත්තා·
**සරලද්‍රව**, පු· සිරිවටු හෙවත් හල්දුම්මල·
**සරලා(ණා)** ස්ත්‍රී· සුදුතෙවතිඩිකා (සුදු ත්‍රස්තවාළු)
**සරස්**, පු· න· විල, "කෘත්තිම පත් මාරකසොත්‍යපිමතම්" යනු කියෙන් රචිත පියුම් විල වද නම්·
**සරසි**, ස්ත්‍රී· විල, කෘත්තිමපද්මාකරසොත්‍යපිමතම්, කරණ ලද පියුම් විලටයයි දන්නාලදි යනු වචනයි·
**සරසිරුහ**, පු· න· පියුම්·
**සරස්වත්**, පු· මුහුද, නද·
**සරස්වතී**, ස්ත්‍රී· සරස්වතිය හෝ වචනය, එනම් නදී විශේෂයෙක්.
**සරාව**, පු· මලාව·



**සරිත්**, ස්ත්‍රී· නදිය
**සරිත්පති**, පු· මුහුද·
**සරීසෘප**, පු· සර්පයා.
**සර්ග**, පු· ස්වභාවය, ත්‍යාගය, නිශ්චය, අධ්‍යාය, නිර්මිතය·
**සර්ජ**, පු· සල්ගස·
**සර්ජක**, පු· පියාගස්.
**සර්ජරස**, පු· සඳලමල, (දුම්මල)
**සර්ජිකාක්ෂාර**, පු· මකුලු (ඕර මත්) මැටි ආදික්ෂාරයෙන් තනාගන්නා ලුණු.
**සර්ප**, පු· සර්පයා.
**සර්පරාජ**, පු· වාසුකී නාරජ.
**සර්පිස්**, න· ගිතෙල්·
**සර්ව**, පු· ඊශ්වරයා, (මෙහි සර්ව ශබ්දය, සංඥයෙහිවූ බැවින් සර්වනාම සංඥ ඇත්තේ නොවෙයි සෙසුරාම ශබ්දාදිය මෙනැයි දතයුතු, ත්‍රි· නොඅඩුදෑ·
**සර්වංසහා**, ස්ත්‍රී· භූමිය.
**සර්වඥ**, පු· ඊශ්වරයා, බුදුන්.
**සර්වතස්**, අව්‍ය· හාත්පස්හි.
**සර්වතොභද්‍ර**, පු· කොසඹගස, "උපයෂ්ටි පරිගෘහම්" යනු කියෙන් මතු මත්තෙහි ගේ ඇත්තාවූ රජුන්ගේ ගෘහ භේදයෙක්.
**සර්වතොභද්‍රා**, ස්ත්‍රී· ඇද්දෙමට.
**සර්වතොමුඛ**, න, ජලය.
**සර්වදා**, අව්‍ය· හැමකල.
**සර්වධුරාවහ**, පු· රථහැල් ආදි සියලු වියඋසුලන ගොනා·
**සර්වධුරීණ**, පු· රථ නගුල් ආදි සියලු වියඋසුලන්නාවූගොනා
**සර්වමංගලා**, ස්ත්‍රී· උමාදෙවී.
**සර්වරස**, පු· සඳලමල, (දුම්මල)
**සර්වලා**, ස්ත්‍රී· තෝමරය.
**සර්වලිංගින්**, පු· සයානුපාෂණ්ඩයෝ, පාෂණ්ඩයෝ නම් වේදයට විරුද්ධව හැසිරෙන්නාහුයි එහෙයින් කියනලදී. "පාලනාච්චාත්‍රයෝ ධර්මං, පාශශ්බද්දන නි ගද්‍යතෙ. ඛණ්ඩයන්තිතු තං යස්මාත්, පා(ෂ)ඛණ්ඩසෙනකීර්තිතා:'යි
**සර්වවේදස්**, පු· විශ්වජිත් ආදි යාගකළ අය.
**සර්වසන්නාහන**, න. සිව්රඟසෙන් සන්නද්ධවීම.
**සර්වාණී**, ස්ත්‍රී. උමාදෙවී.
**සර්වානුභූති**, ස්ත්‍රී. සුදුතෙවඩි කායෙහි (තිරස්තවාළු)
**සර්වාන්නභොජින්**, ත්‍රි. කුල නොතෝරා සිව්කුලයන්ගෙන්ම කන්නා.
**සර්වාන්නීන**, ත්‍රි· කුලනොතෝරා සිව්කුලයන්ගෙන්ම කන්නා·
**සර්වාභිසාර**, පු· සිව්රඟසෙන් සන්නද්ධවීම.
**සර්වාර්ථසිද්ධ**, පු· ගෞතම සර්වඥ.
**සර්වෞඝ**, පු· සිව්රඟසෙන් සන්නද්ධවීම.
**සර්ෂප**, පු, අබ.
**සලි(රි)ල**, න. ජලය, මෙහි සිරිල යනුද වේ.
**සල්ලකී**, ස්ත්‍රී.
**සව**, පු· යාගය.
**සවන**, න. සොමරසපානය.
**සවයස්**, පු, සමවයස්වූ යහළුවා.
**සවිතෘ**, පු, හිරු.
**සවිධ**, ත්‍රි. සමීපය.
**සවේශ**, ත්‍රි. සමීපය.
**සව්‍ය**, ත්‍රි. සිරුර.
**සව්‍යෙෂ්ඨ(ෂ්ඨෘ)**, පු· රථාචාර්‍ය්‍යයා

**සස්‍ය**, න. තුරු ආදීන්ගේ ඵල.

**සස්‍යසංවර**, පු. සල්ගස.

**සහ**, පු. ශක්තිය, අව්‍ය. සහාවියි.

**සහකාර**, පු. මීඅඹගස.

**සහචරී**, ස්ත්‍රී. රන්වන්ගිරිතිල්ල මෙහි සහචරකියා පුංලිඞයි කදවේ;

**සහජ**, පු. සහෝදරයා.

**සහධර්මිණී**, ස්ත්‍රී. භාර්‍යාව.

**සහන**, ක්‍ෂමාවන සුලුවූයේ.

**සහභොජන**, න. එක්ව ඉඳීම් අනුභව ආදියෙහිවේ.

**සහස්**, පු. උඳුවප්මස, න. ශක්තිය.

**සහසා**, අව්‍ය. අත්තර්කිතයෙහි හෙවත් මෙසේ වන්නේයයි බලාපොරොත්තු නැති "සහසාවිදධීතනක්‍රියාම්" ලා හෙලා හෝ නොසලකා කිසි ක්‍රියාවක් නොකරන්නේය" යනුද "දිව්‍යප්‍රසූනඃ සහසා පපාත" බලාපොරොත්තු නැති කල්හී අහසින් මල්වැස්සෙස්යි යනුද උදාහරණයෝයී.

**සහස්‍ය**, ප. දුරුතු මස.

**සහස්‍ර**, න. දහස.

**සහස්‍රදංෂ්ට්‍ර**, පු. වලයා.

**සහස්‍රපත්‍ර**. පු. න. පියුම්.

**සහස්‍රවීර්‍යා**, ස්ත්‍රී ඊතණ.

**සහස්‍රවෙධි**, න. සුඟු (පෙරුම් කායම්)

**සහස්‍රවෙධින්**; පු. ඇඹුල්වේගස.

**සහස්‍රාංශු**, පු. හිරු.

**සහස්‍රාක්‍ෂ**, පු. ශක්‍රයා.

**සහශ්‍රින්**, පු. දහසකට නායකයා

**සහා**; ස්ත්‍රී. කෝමාරිකා, මුංවැන්න

**සහාය**, ත්‍රි. අනුචරයා.

**සහායතා**, ස්ත්‍රී. යහලුවන්ගේ සමූහය.

**සහිෂ්ණු**, ත්‍රි. ක්‍ෂමාශීලීවූයේ හෙවත් කමාවන සුලුවූයේ.

**සාංයාත්‍රික**, පු. නැව් වෙළඳ.

**සාංයුගීන**, ත්‍රි. යුද්ධයෙහි දක්‍ෂයා

**සාංවත්සර**, පු. නැකැත්තා.

**සාංශයික**, ත්‍රි. සංශයාපන්න සිත් ඇත්තා.

**සාකම්**, අව්‍ය. සහාවියි.

**සාක්‍ෂාත්**, අව්‍ය. ප්‍රත්‍යක්‍ෂය, තුල්‍යය, යන අවියන්හිවේ· "සාක්‍ෂාත්දෘෂ්ටො මයාහරිඃ" මා විසින් විෂ්ණුතෙම ඇස් හමුව දක්නාලද්දේය, යනාදියෙහි ප්‍රත්‍යක්‍ෂාවියි.

"සාක්‍ෂාත්ලක්‍ෂ්මීරියං වධූඃ" මේ අලුත විවාහකළ තැනැත්ති ශ්‍රීකාන්තා සදෘශයි" යනාදි තන්හි තුල්‍යාවියි.

**සාගර**, පු. මුහුද.

**සාචි**, අව්‍ය. සරසයන අවියි, "කෘතං සාචිධනුසෙතන" ඔහු විසින් දුන්න සරස්කරණලදී. යනාදි උදාහරණයි.

**සාන**, න. සැපය.

**සානලා**, ස්ත්‍රී. චම්කසා, සප්තලා යනු බලනු.

**සාති**, ස්ත්‍රී. දානය, අවසානය

**සාත්වික**, ත්‍රි. සත්වගුණයෙන් ත්පන් (සිතේ) අදහස හැඟීම් ලකුණු. "ස්තම්භඃ ස්වෙදොථ රොමාඤ්චඃ ස්වර භඞ්ගොථ වෙපථුඃ වෛවර්ණ්‍යම ශ්‍රුප්‍රලය ඉත්‍යෂ්ටෞ සාත්විකාගුණාඃ" නොබිණීමය, ඩහනැගීමය, ලොමොද්ගමය, හිනනාස්වරය, වෙව්ලුමය, වෙනස්වූ පැහැය, කඳුලුය, ක්‍රියාරහිතය, යන මොහු සත්වගුණයෝයි, මින් සත්වයන්ගේ සිතතුළ පැවති අදහස් හැහෙනබැවින් හැඟීම් ලකුණුයි.



**සාදින්**, පු. රියැදුරා, අසුනැගී අය.

**සාධන**, න. රසදිය ආදිය මැරීම, මිනීදැවීම, ඉපදවීම, උපකරණ, අනුව යාම.

**සාධාරණ**, ත්‍රි උත්තරපදයෙහි වූ මේ ශබ්දය සමානතා කියයි, සාමාන්‍යද.

**සාධිත**, ත්‍රි. දෙවනලද්දේ හෝ දෙනලද්දේ.

**සාධිෂ්ඨ**, ත්‍රි. ඉතා දැඩි යන මේ අර්ථවාචකයි.

**සාධීයස්**, ත්‍රි. අතිශයින් මනාවූයේ අතිශයින් දැඩිවූයේ.

**සාධු**, ත්‍රි. මනොඥ, මහලුකමින් ජීවත්වීම, සජ්ජන, ශොභනද.

**සාධ්‍ය**, පු. එනම් දෙවතා වර්‍ගය, "සාධ්‍යාද්වාදශ විඛ්‍යාතාඃ" යනු කීයෙන් මේ වර්‍ගයෙහි දොළොස් දෙවතා කෙනෙකැයි දතයුතු.

**සාධ්වස්**, න. භය.

**සාධ්වී**, ස්ත්‍රී. පතිව්‍රතා ස්ත්‍රී.

**සානු**, පු. න. පර්‍වතයාගේ සම භූමිය, (මුදුන.)

**සාන්ත්ව**, ත්‍රි. අතිමියුරු බස්, න. චතුරොපායයන් අතුරෙන් සාමන් නම් උපායය.

**සාංදෘෂ්ටික**, න. එකලවූ ඵලය.

**සාන්ද්‍ර**, ත්‍රි. ඝනද.

**සාන්නාය්‍ය**, න. හෙමකටයුතු ද්‍රව්‍යය.

**සාම්පරායික**, න. පරලොවට හිතය හෝ පරලෝ විපත්ති, යුද්ධය, පරලෝක සාධනය, ත්‍රි.

**සාප්තපදීන**, න. මිත්‍රභාවය.

**සාමන්**, න. එනම් වෙදභෙදය. "සාමභෙදස්තථාදානං, දණ්ඩශ්චෙති චතුර්විධඃ"යි කියනලද චතුර්විධ උපායයන් අතුරෙන් සතුරන් සංසිඳවීම් උපායය.

**සාමාජික**, පු. යාගසභාවගේද සෙසු සභාවගේද ආරම්භකයා.

**සාමාන්‍ය**, න. ජාතිය, ත්‍රි. සාධාරණද.

**සාමාජික**, ත්‍රි. ස්වීකාරකරණලද හෙවත් ගිව්ස්නාලද යන අර්ථයි.

**සාමි**, අව්‍ය. අර්ධය, ජුගුප්සිතය, යන මේ අවියන්හි වේ "සාමි සම්මිලිතාක්‍ෂි" අඩක්පියූ ඇස් ඇත්තීය යනාදියෙහි අර්ධය යනාවියි. "සාමිකෘතං අකල්‍යාණකාරී" නොමැන වක් කරන්නීය, තී විසින් පිළිකුලක් කරණලදී යනාදියෙහි ජුගුප්සිතය, (පිළිකුල්ය) යන අවියි.

**සාම්බෙණී**, ස්ත්‍රී. ගිනිදල්වනකල කියන වෙදය.

**සාමුද්‍ර**, න. මුහුදු ලුණු.

**සාම්ප්‍රතම්**, අව්‍ය. මේ කාලයෙහි යුදුස්සෙහි "විශ්වාසෝපි සංවාද්‍ය ස්වයං ජෙතතුම සාම්ප්‍රතම්" විශ්වාසයෙක් නමුත් වවා තමන් විසින් කැපීම යුදුසු නොවෙයි යනු උදාහරණයි.

**සාය**, පු. සවස.

**සාසන**, පු. ඊගස, කඩුව.

**සායම්**, අව්‍ය. දිනාන්තයෙහි හෙවත් සවස්කාලයෙහි.

**සාර**, පු. වෘක්ෂාදීන්ගේ හර, සාමර්ථ්‍ය, න. ප්‍රකති ප්‍රකාතය, ත්‍රි. ශ්‍රෙෂ්ඨ.

**සාරඞ්ග**, ත්‍රි. සියොතුවා, (කැ දැත්තා,) මුවා, පු. කබුරු පැහැ.

**සාරථී**, පු. රථාචාර්යයා.

**සාරමෙය**, පු. බල්ලා.

**සාරව**, ත්‍රි. සරයු නම් නදියෙහි වූයේ, ස්ත්‍රීලිඟුයෙහි, සාරවී කියාවේ. (සරයූ නදිය අයොධ්‍යපුරයෙහි වූවකි )

**සාරස**, පු. න. පියුම්, විල් ලිහිණියා.

**සාරසන**, න. චොලකසන්නාහ සන්නාහයන් කටියෙහි බඳනා පටිය, එනම් සැට්ටය මතුයෙහි බඳනා පටියයි. ගැහැණුන් කටියෙහි බඳනා මෙවුල්දම.

**සාරිකා**, ස්ත්‍රී. සැලලිහිණියා.

**සාර්ථ**, පු. සජාතිය වූ හෝ විජාතිය වූ හෝ ප්‍රාණීන්ගේ සමූහය.

**සාර්ථවාහ**, පු. වෙළෙන්දා.

**සාර්ධම්**, අව්‍ය. සහාර්ථයි.

**සාර්ද්‍ර**, ත්‍රි. තෙමුනු හෝ තෙත්දෑ.

**සාර්වභෞම**, පු. සක්විති රජ උත්තර දිග්ගජයා.

**සාශාල**, පු. සල්ගස.

**සාලපර්ණී**, ස්ත්‍රී. අස්වැන්න.

**සාස්නා**, ස්ත්‍රී. ගෙරින්ගේ කර යට එල්ලෙන සම, (තැල්ල.)

**සාහස**, න. චතුරොපායයන් අතුරෙන් දඬනම් උපායය.

**සාහස්‍ර**, න. සහස්‍රයන්ගේ සමූහය, පු. දහසකට නායකයා.

**සිංහ**, පු. සිංහයා, උත්තර පදයෙහි සිටි මේ ශබ්දය ශ්‍රෙෂ්ඨාර්ථ වාචකයි, "පුරුෂසිංහ" යනාදියයි, එනම් පස්වන රාශිය.

**සිංහනාද**, පු. යුද්ධයෙහි ශත්‍රු සේනා භංගය පිණිස පවත්වන යොධයන්ගේ අහංකාර ශබ්දය.

**සිංහපුච්ඡී**, ස්ත්‍රී. පුස්වැන්න.

**සිංහසංහනන**, ත්‍රි. මනා අවයව හා ශරීර ඇත්තා.

**සිංහාන**, න. යකඩ මල.

**සිංහාසන**, න. රනින්කළ රජුන්ගේ ආසනය.

**සිංහාස්‍ය**, පු. වංඇපල.

**සිංහී**, ස්ත්‍රී. වංඇපල, හෙලබටු.

**සිකතා**, ස්ත්‍රී. වැලිඇති දෙශය, "නිත්‍යංස්ත්‍රියාං බහුත්වෙ"යි, නිත්‍ය ස්ත්‍රීලිඟු බහුවචනයි.

**සිකතාමය**, න. වැලිතලාව.

**සිකතාවත්**, ත්‍රි. වැලියුත් දෙශාදිය.

**සිකතිල**, ත්‍රි. වැලි ඇති දෙශය.

**සික්ථක**, න. මී ඉටි.

**සිත**, ත්‍රි. බඳනාලද්ද, නිමවන ලද්ද, පු. සුදුපැහැ, ඉන් යුත් දෙයෙහි, ත්‍රි.

**සිතච්ඡත්‍රා**, ස්ත්‍රී. ශතපුෂ්ප.

**සි(ශි)තශූක**, පු. යව.

**සිතා**, ස්ත්‍රී. උක්සකුරු.

**සිතාභ්‍ර**, පු. කපුරු.

**සිතාම්භොජ**, න. හෙළ නෙළුම්.



**සිද්ධ**, පු. එනම් දෙවයොනිය, ත්‍රි. නිෂ්පත්තියට ගියද්ද.

**සිද්ධාන්ත**, පු. සත්‍යයයි අදහන ලද්ද.

**සිද්ධාර්ථ**, පු. හෙළ අබ.

**සිධ්මි**, ස්ත්‍රී. සුළුදඩකලන්, මහ දඩකලන්.

**සිධ්ම**, න. කිලාසය හෙවත් ශෙවත කුෂ්ඨය, ඉන් යුක්තයා, ත්‍රි.

**සිධ්මල**, ත්‍රි. කිලාසරොග ඇත්තා.

**සිධ්‍ය**, පු. පුසේ නැකත.

**සිධ්‍රකා**, ස්ත්‍රී. එනම් වෘක්ෂභෙදය.

**සිනීවාලී**, ස්ත්‍රී. දක්නාලද සඳ ඇති අව පසළොස්වක.

**සින්දු(න්ධු)ක**, පු. නිකගස.

**සින්දූර**, න. සිඳුරම්.

**සින්ධු**, පු. මුහුද, එනම් දෙශය. සින්ධුගඟාව, ඇතුන්ගේ මද ස්ත්‍රී. නදිය.

**සින්ධුජ**, න. සෛන්ධව ලුණු.

**සින්ධුසඞ්ගම**, පු. නදීවංකයගේ එක්වූ තැන. (මෝය)

**සිරා**, ස්ත්‍රී. වායුවහවූ සුසිර වත්වූ නහර.

**සිහ්ල**, පු. තුරුක්තෙල් එනම් ගඳ ද්‍රව්‍යයෙකි.

**සීතා**, ස්ත්‍රී. සීවිට.

**සීත්‍ය**, ත්‍රි. නගුලෙන් සෑ කෙත් ආදිය.

**සීධු**, පු. ඉක්ෂොඃ පක්වරසෛඃ සිද්ධඃ සීධුරිත්‍යභිධීයතෙ'යි කියනලද මද්‍යවිශෙෂය.

**සීමන්**, ස්ත්‍රී. ඉම.

**සීමන්ත**, පු. ගැහැණුන් ඉසකෙහෙ බෙදාපීරීම.

**සීමන්තිනී**, ස්ත්‍රී. ගැහැණි.

**සීමා**, ස්ත්‍රී. ඉම්.

**සීර**, පු. නගුල.

**සීරපාණි**, පු. බල භද්‍රයා.

**සීවන**, න. මැසීම.

**සීසක**, න. කළුතුඹ, (කළුඊයම්)

**සී(ශී)හුණ්ඩ**, පු. සීහුක්ගස මෙකී.

**සීහුණ්ඩ**, යනුදවේ,

**සු**, අව්‍ය. පිදීමෙහිද, අතිශයෙහිද වේ, "සුසත්‍යතම්" ගරුකොට සතුහිකරණලදි යනාදි උදාහරණයි.

**සුකන්දක**, පු. රතුලූණු.

**සුකරා**, ස්ත්‍රී. සීකරු දෙන.

**සුකල**, ත්‍රි. දායකද භොගීදවූයේ (දීම හා කෑම කරන්නේ.)

**සුකුමාර**, ත්‍රි. සිවුමැලිදෑ.

**සුකෘත**, න. පුණ්‍යය, ද්‍රව්‍යයෙහි, ත්‍රි.

**සුකෘතින්**, ත්‍රි. පිණැත්තා.

**සුඛ**, න. සැපය, ද්‍රව්‍යයෙහි, ත්‍රි.

**සුඛවර්චක**, පු. මකුල එනම් සර්ජිකාක්ෂාරයි.

**සුඛසන්දොහ්‍යා**, ස්ත්‍රී. සුවසේ දෙවියහැකි දෙන.

**සුගත**, පු. බුදුන්.

**සුගන්ධා**, ස්ත්‍රී. රත්තනම් බෙහෙද.

**සුගන්ධි**, පු. සුවඳ, න. සුඹුළු ඖෂධයට ගන්නා සුගන්ධ ද්‍රව්‍යයවූ විල්වළු.

**සුචරිත්‍රා**, ස්ත්‍රී. පතිව්‍රතා ස්ත්‍රී.

**සුචෙලක**, පු. හොබනාපිළි.

**සුත**, පු. පුතා, රජ, "සුත" ශබ්දය ස්ත්‍රී ලිඟුවූකල "සුතී" කියා ඊකාරාන්තද, "සුතු" කියා ඌකාරාන්තද වේ, දූට නම්.

**සුතාශ්‍රෙණී**, ස්ත්‍රී. මී හුග.

**සුතාත්මජා**, ස්ත්‍රී. පුතාගේ හෝ දූගේ හෝ මිනිබිරි.

**සු(ශු)නාමන්**, පු. ශක්‍රයා.
**සුනීත්**, පු. යාගයට සැරහුනු අස.
**සුදර්ශන**, පු. න. විෂ්ණුගේ චක්‍රායුධය.
**සුදාය**, න. ඓවාහකාලයෙහි දිය යුතු ධනය,
**සුදූර**, ත්‍රි. ඉතා දුරැදු.
**සුධර්මා**, ස්ත්‍රී. දෙව්සභාව.
**සුධා**, ස්ත්‍රී. සුණු, අමෘතය, සිනුක් හෙවත් දලුක්.
**සුධාංශු**, පු. චන්ද්‍රයා.
**සු(ශු)නාසීර**, පු. ශක්‍රයා.
**සුනිෂණ්ණක**, න. කිඹුල්වැන්න.
**සුන්දර**, ත්‍රි. ශොභනදු.
**සුන්දරී**, ස්ත්‍රී. රූපලාවන්‍යසම්පන්න ස්ත්‍රී.
**සුපථින්**, පු. මනාමග.
**සුපර්ණ**, පු. (විෂ්ණුගේ වාහනය) ගුරුළා.
**සුපර්වන්**, පු. දෙවි.
**සුපාර්ශ්වක**, පු. පෙලසාවු ගස.
**සුප්ත**, න. නිදීම්, යහන.
**සුප්‍රතීක**, පු. ඊසානකොණයෙහි වූ දිගගජයා.
**සුප්‍රයොගවිශිඛ**, ත්‍රි. ධනුශ්ශිල්පයෙහි දක්ෂයා.
**සුප්‍රලාප**, පු. මනාතෙපුල්.
**සුභගාසුත**, පු. සුභග තැනැත්තියගේ පුතා,
**සුභික්ෂා**, ස්ත්‍රී. මහිල.
**සුමන**, පු. ගොධුම, (ගොදමු) මෙකල තිරිඟුයයි ව්‍යවහාරයි.
**සුමනස්**, පු. දෙවි, ස්ත්‍රී. පුෂ්පය, දසමන්, මෙහි සුමනායනුදවේ.
**සුමනොරජස්**, න. මල්රෙණු.
**සුමෙරු**, පු. මහමෙර.
**සුර**, පු. දෙවි.
**සුරඞ්ග**, න, ගිඟුල්, නාරන්, උමග.
**සුරජ්‍යෙෂ්ඨ**, පු. බ්‍රහ්මයා.

**සුරදීර්ඝිකා**, ස්ත්‍රී. අහස්ගඟ.
**සුරද්විෂ්**, පු. අසුරයා.
**සුරනිම්නගා**, ස්ත්‍රී. ගඟානම් නදිය.
**සුරපති**, පු. ශක්‍රයා.
**සුරභි**, පු. වසන්තකාලය, සුවඳ, . ස්ත්‍රී. දෙන.
**සුරභි(භී)**, පු. ඉන් සළුරුක මෙහි “සුභිරසා”යනුදවේ.
**සුරර්ෂි**, පු. දෙව්රුසි. තුම්බුරුය, භරතය, කොලාහලයයි කියන ලද්දෙයි.
**සුරලොක**, පු. දෙව්ලෝ.
**සුරවර්ත්මන්**, න. අහස.
**සුරසා**, ස්ත්‍රී. රැත්ත.
**සුරා**, ස්ත්‍රී. සුරා.
**සුරාචාර්ය**, පු. වෘහස්පති.
**සුරාමණ්ඩ**, පු සුරාමණ්ඩය.
**සුරාලය**, පු මහමෙර.
**සුරාෂ්ට්‍රජ**, න. තුවරිකා, තුර, ගැනු මරාවිසි..
**සුවචන**, න. මනා තෙපුල්.
**සුවර්ණ**, න. රන්, පු. න. රන් කර්ෂය, එනම් රන් මිනීමේදී මාෂක සොළසකට ව්‍යවහාරනාමයෙකි, මාෂකයෙක් නම් හුනිදපසෙකි.
**සුවර්ණක**, පු. ඇසල ගස.
**සුවල්ලී**, ස්ත්‍රී. බොදිගස්.
**සුවහා**, ස්ත්‍රී. වලාවැන්න, රැත්ත, කුඩා ඇඹුලිඑල ඇති බොහෝ කටුඇති එලාවති නම් වැල්, ඉන් සළුරුක, කළුමල් ශෙඵාලිකා (කළුතලා.)
**සුවාසිනී**, ස්ත්‍රී. තම දෙමව්පියන්ගේ ගෙයි වසන ආසන්නවූ යෞවනය ඇති ස්ත්‍රී.



**සුව්‍රතා**, ස්ත්‍රී. සුවසේ දෙවියහැකි දෙන.
**සුෂම**, ත්‍රි. ශොභනදු.
**සුෂමා**, ස්ත්‍රී. උතුම් ශොභාව.
**සුෂ(ශා)වි**, ස්ත්‍රී. කරිවිල, මෙහි “සුසවි” යනුද වේ. කළුදුරු වෙනි “සුෂවි”කියාවේ.
**සුෂිර**, න. සිදුර.
**සුෂිරා**, ස්ත්‍රී. පබළුපැල.
**සුෂීම**, ත්‍රි සීතලවූ.
**සුෂෙණ**, පු. කරඹ.
**සුෂෙණිකා**, ස්ත්‍රී. කළුතෙවඩිකා, (කළුත්‍රසතාවැළු.)
**සුෂ්ඨු**, අව්‍ය. ප්‍රශස්තයෙහි “එළෙඡ්ජ නාමනොහරි සුෂ්ඨු කාව්‍යං ප්‍රජායතෙ” පණ්ඩිත ජනයා ලගන්නා කාව්‍යය මනොරමයි යනාදී උදාහරණයි. අතිශයාර්ථයෙහිද,. වේ.
**සුසංස්ථාන**, ත්‍රි. උත්සාහයෙන් ගිතෙල් ආදියෙන් පිසූ ව්‍යඤ්ජනාදිය.
**සුහෘද්**, පු. මිත්‍රයා.
**සුහෘදය**,ත්‍රි. ප්‍රශස්තසිත් ඇත්තා.
**සූ(ශූ)කර**, පු. ඌරා.
**සූක්ෂ්ම**, අධ්‍යාත්ම, ගෙතනවය, හෙවත් කපටකම, ත්‍රි. කුඩාදු
**සූචක**, ත්‍රි. අනුන්ගේ දොස් කොඳුරා කියන්නා.
**සූචි(චී)ශිල**, ස්ත්‍රී. ඉදිකටුව.
**සූත**, පු. රසදිය, වන්දිපාඨකයා, ශක්‍රයාගේ රියැදුරා (මාතලියි) වඩුවා, රියැදුරා, ක්ෂත්‍රියයා විසින් බැමිණිය කෙරෙහි උපැවතලද පුත්‍රයා, ඇතුන් බැඳීමය, අශ්වවාහන කර්මය, රථාචාර්ය කර්මය යන මේ ඔහුගේ ජීවිකායි, න. ගෑවීම, ප්‍රසූතිය, (වැදීම.)

**සූතිකාගෘහ**, න. තිඹිරිගෙය, (වදන ගෙය.)
**සූතිමාස**, පු. වදන මස.
**සූත්ථාන**, පු. දක්ෂයා.
**සූත්‍යා**, ස්ත්‍රී. සොමරස පානය.
**සූත්‍ර**, න. හූ, (නූල්)
**සූත්‍රවෙෂ්ටන**, න. නඩාව, එනම් පිළිවියන සරස් දඬ.
**සූද**, ත්‍රි. අරක්කැමියා, ව්‍යජන.
**සූනා**, ස්ත්‍රී. දූ යටදිව, (කුඩාදිව) වධස්ථානය.
**සූනු**, පුත්‍රයා.
**සූනෘත**, ත්‍රි. ප්‍රිය සත්‍යවචන.
**සූපකාර**, ත්‍රි. අරක්කැමියා.
**සූර**, පු. හිරු.
**සූරණ**, පු. කිඩාරම්.
**සූරත**, ත්‍රි. කරුණා ඇත්තා.
**සූරසූත**, පු. සූර්යරථාචාර්යයා, අරුණ.
**සූරි**, පු. සූර්යයා, වරාගස.
**සූර්මි**, ස්ත්‍රී. ලොහො පිළිරුව.
**සූර්ය**, පු. හිරු.
**සූර්යතනයා**, ස්ත්‍රී. යමුනා නදිය
**සූර්යානුසංගම**, පු. අවපසළොස්වක
**සෘක්වන්**, න. මුව දෙකොණ.
**සෘග**, පු. හස්තකාණ්ඩය, එනම් ‘‘භිදිර්වාදශතාලනතු දශතු නොභාභි ධියතෙ’’ යනු භරත පුරාණ හෙයින් භින්දිපාල පයඝියවූ මේ සෘගනාමය දෙලොස්තල තලක් තැන් හස්තක්ෂෙපයවූ ඊයට නම්. නාලිකා ශස්ත්‍රය හෙවත් ගල් දූන් නයසිද කියත්.

**සාණී**, ස්ත්‍රී. අකුස්ස.
**සාණිකා**, ස්ත්‍රී. කෙල.
**සානි**, ස්ත්‍රී. මග.
**සාමර**, පු. එනම් පශුවර්ගයක්.
**සාෂ්ට**, ත්‍රි. නිශ්චය. බොහෝ දෙය.
**සේකපාත්‍ර**, න. නැව දිය ඉස්නා දිය අලුව.
**සේචන**, න. නැවදිය ඉස්නාදිය අලුව.
**සේතු**, පු. හෙය, ලුනුවරණ ගස.
**සේනා**, ස්ත්‍රී. චතුරඟිනීසේනාව.
**සේනාංග**, න. හස්තිය අශ්වය රථය පාබලසේනාවය යන සතර.
**සේනානී**, පු. සේනාපතියා, කඳ කුමරු.
**සේනාමුඛ**, න. පත්තිනම් සේනාන්තර තුනකින් යුත් සේනා භෙදය.
**සේනාරක්ෂ**, පු. යුද්ධ සේනාව රක්නා සේනාව.
**සේවක**, පු. සේවකයා.
**සේවන**, න. මැසීම.
**සේවා**, ස්ත්‍රී. ශුද්‍රයන්ගේ ජීවිකාව වූ සේවාකම, මීට ස්වවෘත්ති යයි දනම් එහි තේරුම බල්ලන්ගේ ජීවිකාවක් වැනිය යනුයි.
**සේව්‍ය**, න. සුදුමල් ඇති සැවැන් නමුල්.
**සෛංහිකෙය**, පු. රාහු.
**සෛකත**, ත්‍රි. වැලිඇති දෙශාදිය, න. වැලිතලාව.

**සෛනවාහිනී**, ස්ත්‍රී. කාර්තවීර්‍ය්‍යාර්ජුනයා විසින් බස්නාලද නදීවිශෙෂයෙක් "කාර්තවීර්‍ය්‍යාර්ජුනෙනයාවතාරිතාතස්‍යාඃ" යනු එහෙයින් කියනලදී.
**සෛනික**, පු. සේනාරක්ෂකයා.
**සෛන්ධව**, පු. න. සිඳුලුණු, පු. අශ්වයා.
**සෛන්‍ය**, න. චතුරඟිනීසේනාව.
**සෛන්‍යපෘෂ්ඨ**, පු. සේනාපිටු පස.
**සෛරන්ධ්‍රී**, ස්ත්‍රී. මෙරමාගෙයි වැස ස්වප්‍රධානව කෙශප්‍රසාධනාදිවූ ශිල්පකරන්නී.
**සෛරික**, පු. සාපා ගොන් ආදිය, "බනති තෙනතනමොසා සෘදංහාලික සෛරිකො" යනු කීහෙයින්, 'සීරෙණ බන තිසීරස්‍යවොඃසීරස්‍ය ඉදම්" කියා වාක්‍ය ගත්කල නගුලි සෙත් සාන්නාවද, නගුල්වය උසුලන්නාවද, නගුලේ අව යවයන්වද සෛරිකයයි නම් වේ.
**සෛසීක**, පු. මීවා.
**සෛරෙයක**, පු. ගිරිතිල්ල.
**සෝඪ**, ත්‍රි. ක්ෂමාකරන්නා.
**සෝත්ප්‍රාස**, පු. "පරයපරාමෂ්ඨී ජනකහාසස්‍ය" උතුන් ඇඟ අල්ලා කරණ මහසිනාවට නමැයි කියනලදී.
**සෝදර්‍ය්‍ය**, පු සහෝදරයා.
**සෝන්මාද**, ත්‍රි. උන්ගත මද හෙවත් සතුටු ඇත්තා.
**සෝපප්ලව**, පු ග්‍රහණ ලද් ඉර සඳ.



**සෝපාන**, න. හිණ.
**සෝම**, පු සඳ.
**සෝමපා**, පු. යාගයෙහි සෝම රස පානයකරන්නා "මුවකී රියවැල් සුණුකොට ඒ රසය මිරිකාගෙණ බොන බමුණා" යනු සන්නයි.
**සෝමරාජී**, ස්ත්‍රී. බෝදිගස.
**සෝමවල්ක**, පු. හෙලකිහිරිය ගස.
**සෝමවල්ලරී**, ස්ත්‍රී. "යස්‍යාඃ ශුක්ලපක්ෂෙ පර්ණානුද්භව න්ති කෘෂ්ණෙ ච පතන්ති සා සෝමවල්ලී"යම් වැලක පත් ශුක්ලපක්ෂයෙහි හටගනිද්ද කෘෂ්ණ පක්ෂයෙහි වැටෙද්ද ඕ සෝමවල්ලී නම්.
**සෝමවල්ලිකා**, ස්ත්‍රී. බෝදිගස්.
**සෝමවල්ලී**, කිදිවැල්.
**සෝමෝද්භවා**, ස්ත්‍රී. නම්දා නදිය.
**සෞගන්ධික**, පු. ගන්ධපාෂාණ හෙවත් ගෙන්දකම්, න. සුවඳ තණ, හෙල්මැලි.
**සෞචික**, පු. සන්නාලියා හෙවත් මහන්නා.
**සෞදාමිනී**, ස්ත්‍රී. විදුලිය.
**සෞධ**, පු. න. රාජගෘහය.
**සෞභාගිනෙය**, පු. යහපත් තැනැත්තියගේ පුතා.
**සෞම්‍ය**, පු. බුදහු, ත්‍රි. සොඳුරුදෑ, චන්ද්‍රයා දෙවතාකොට ඇති යාගය.
**සෞරසෙය**, පු. ගොනා.
**සෞරසෙයී**, ස්ත්‍රී. දෙන.

**සෞරාෂ්ට්‍රික**, පු. සුරාෂ්ට්‍රදෙශයෙහිවූ එනම් ස්ථාවර විෂභෙදයෙක්,
**සෞරි**, පු. සෙනසුරා.
**සෞශී**, න ශක්තිය.
**සෞවර්චල**, පු. සුවස ලුණු.
**සෞවිද**, පු. සැට්ටලන ඇමතියා
**සෞවීර**, න. ඩෙබරඵලය, කාඩි, හොයදුන්, "සුරමා" යනු මරාටිසි.
**සෞහිත්‍ය**, න. තෘප්තිය.
**ස්කන්ද**, පු. කඳකුමරු.
**ස්කන්ධ**, පු. සමූහය, ජීය, රජ, කොටස, වෘක්ෂයාගේ මුල පටන් අගදක්වා ඇතිකඳ, උරහිස.
**ස්කන්ධශාඛා**, ස්ත්‍රී. කඳ පිළිබඳ අත්ත.
**ස්ඛනන**, ත්‍රි ගිලිහුනුදෑ.
**ස්ඛලන**, න. පැකිලීම.
**ස්ඛලිත**, න. කූට යුද්ධාදියෙහි සීමාපගමනය.
**ස්තන**, පු. තනය.
**ස්තනන්ධය**, ත්‍රි. කිරිබොන අවස්ථාවෙහි සිටි ළදරුවා, ස්ත්‍රීලිඟයෙහි ඊ ප්‍රත්‍යයව "ස්තනන්ධයී" කියාවේ.
**ස්තනප**, ත්‍රි. කිරිබොන අවස්ථාවෙහි සිටි ළදරුවා ස්ත්‍රීලිඟයෙහි ආප්‍රත්‍යයයි.
**ස්තනයිත්නු**, පු. මෙඝය.
**ස්තනිත**, න. මෙඝනාදය.
**ස්තබක**, පු. මල්නැත.
**ස්තම්බෙරම**, පු. ඌරා.

**ස්තම්බ**, පු. මූලයෙන් විනිර්ගතවූ බොහෝ ලතාපුඤ්ජ ඇති තණ ආදි පදුර.

**ස්තම්බකරි**, පු. වී ආදි ධාන්‍ය.

**ස්තම්බඝ්න**, පු. පදුරු ධාන්‍යාදිය කපන පණ්ණාදෑකැති ආදිය.

**ස්තම්බෙරම**, පු. ඇතා.

**ස්තම්භ**, පු. වැඹ, ජඩබව.

**ස්තරු**, පු. කඩු ආදියේ මිට.

**ස්තව**, පු ස්තුතිය.

**ස්තිමිත**, ත්‍රි. තෙමුනු හෝ තෙත්දෑ.

**ස්ත්‍රීධර්මිණී**, ස්ත්‍රී. ඔසප් ඇත්තී.

**ස්තුත**, ත්‍රි. ස්තුතිකරණලද.

**ස්තුති**, ස්ත්‍රී. ස්තුතිය.

**ස්තුතිපාඨක**, පු. වන්දිභට්ටයා (රජුන් තුතිගීයෙන් පුබුදුකර වන්නා)

**ස්තුභ**, පු. එළුවා.

**ස්තූප**, පු. රැස්කළ මැටි ආදිය, නිෂ්ප්‍රයෝජන.

**ස්තේන**, පු. සොරා.

**ස්තේම**, පු. තෙම්ම.

**ස්තේය**, න. සොරකම.

**ස්තෛන්‍ය**, න. සොරකම.

**ස්තෝක**, ත්‍රි. කුඩාදෑ.

**ස්තෝකක**, පු. සිඟොතුවා (කැදත්තා)

**ස්තෝත්‍ර**, න. ස්තුතිය.

**ස්තෝම**, පු. සමූහය,

**ස්ත්‍යාන**, න. සෙනහය, ඝනබව, අලසබව.

**ස්ත්‍රී**, ස්ත්‍රී. ගැහැණී.

**ස්ත්‍රීධර්මිණී**, ස්ත්‍රී. ඔසප්වූ ස්ත්‍රී.

**ස්ත්‍රීපුංස**, පු. එක්වැනිවූ ස්ත්‍රී පුරුෂ දෙදෙන (ද්විවචනයි)

**ස්ථණ්ඩිල**, න. ශයනය පිණිස වල ගොඩකැත් නැතිව සමව සැදූ බිම.

**ස්ථණ්ඩිලශායින්**, පු ව්‍රතපිණිස තෘෂ්ණාදීන් අනවච්ඡාදිත භූමි භාගයෙහි ශයනයකරන්නා.

**ස්ථපති**, පු. බෘහස්පති යාග කරන්නා, වඩුවා, රජුගේ ඇතොර රකින්නා.

**ස්ථල**, න. ගොඩබිම,

**ස්ථලී**, ස්ත්‍රී. ගොඩබිම.

**ස්ථවිර**, ත්‍රි. ශෛලෙය නම් ගඳ ද්‍රව්‍යය, පු, බ්‍රහ්මයා, වෘද්ධයා, ස්ථිර.

**ස්ථවිෂ්ඨ**, ත්‍රි පීනප්‍රකෘතිය හෙවත් අතිශය ස්ථූලය යන මේ අර්ථයි.

**ස්ථාණු**, පු. න. කනුව, පු. ඊශ්වරයා. ශූල.

**ස්ථාණ්ඩිල**, පු. ව්‍රතපිණිස තෘණාදිය අනාච්ඡාදිය හෙවත් ඇතිරීම් රහිත භූමි භාගයෙහි ශයනය කරන්නේ.

**ස්ථාන**, න. අවසර, ස්ථිතිය හෙවත් න්‍යාය අනුව පැවැත්ම.

**ස්ථානීය**, න. පුරය, "සත් ප්‍රාකාරාදිවෙෂ්ඨිතං විසාලීණිං පුරං තත් ස්ථානීයාදිනාකම් කෙවින්, ආදි ග්‍රහණයෙන් නිගම ශබ්දය ගැනේ.

**ස්ථානෙ**, අව්‍ය. යුදුස්සෙහි "ස්ථානෙහෘෂිකෙශ තවප්‍රකීර්ත්‍යා" හෘෂිකෙශය ඔබගේ යශසින් යුක්තයි යනාදි උදාහරණයි.

**ස්ථාපත්‍ය**, පු. සැට්ටලන ඇමතියා.

**ස්ථාපනී**, ස්ත්‍රී. දියමිත්තා.

**ස්ථාමන්**, න. ශක්තිය.



**ස්ථායුක**, පු. එක්ගමක අධිකෘත තැනැත්තේ හෙවත් ගම්මුදලි.

**ස්ථාල**, න. ආහාර බඳුන.

**ස්ථාලී**, ස්ත්‍රී. තාලිය, (සැලිය)

**ස්ථාවර**, ත්‍රි. නිශ්චලදෑ.

**ස්ථාවිර**, න. මහලු බව, ත්‍රි. සැත්තෑවෙත් ඔබ්බෙහි වයස්වූ මහල්ලා.

**ස්ථාසක**, පු. සඳුන් ආදියෙන් ඇඟ විලවුන් කිරීම.

**ස්ථාස්නු**, ත්‍රි. ඉතාතිරදෑ.

**ස්ථිති**, ස්ත්‍රී. හිඳීම, න. න්‍යාය පථයෙහි හෙවත් යුදුස්සෙහි පැවැත්ම.

**ස්ථිරතර**, ත්‍රි. ඉතා තිරදෑ.

**ස්ථිරා**, ස්ත්‍රී. භූමිය, අස්වැත්ත.

**ස්ථිරායු**, පු. ඉඹුල්රුක.

**ස්ථූණා**, ස්ත්‍රී. ලෝහොපිළිරුවගේ වැඹ.

**ස්ථූල**, ත්‍රි. නිෂ්ප්‍රාඥ හෙවත් ප්‍රඥාරහිත, තරදෑ.

**ස්ථූලලක්ෂ්‍ය**, ත්‍රි. බොහෝකොට දෙන්නා.

**ස්ථූලශාටක**, පු. දළපිළී.

**ස්ථූලොච්චය**, පු. අසම්පූර්ණ, ඇතුන්ගේ මධ්‍යම ගමන.

**ස්ථෙයස්**, ත්‍රි. ඉතා තිරදෑ.

**ස්ථෞණෙය**, න. ගණ්ඨිවන නම් සුගන්ධ ද්‍රව්‍යය, "ගණ්ඩිවණ්ණීය" සිද කියත්.

**ස්ථෞරින්**, පු. දිය ආදි බර අදින අශ්වයා.

**ස්නව**, පු. වැගිරීම, දියවීම.

**ස්නාතක**, පු. වෙදාධ්‍යයනයට අනතුරුව ආශ්‍රමාන්තරයකට (අනික් අසපුවකට) නොපැමිණ ගිහිබැව් පිණිස ස්නානය කළ තැනැත්තේ "ගුරවෙතු වරං දත්වාස්නානංවා තදනුඥයාවෙදව්‍රතානිවාපරං නීත්වාහ්‍යුභයමෙවවා" යනු කීයෙන් ගුරුහට වරදී හෝ වෙදාධ්‍යයනය නිමවා හෝ දෙකම නිමවා හෝ කළ ස්නානය ඇත්තේ හෝයි.

**ස්නාන**, න. නැහැම.

**ස්නායු**, ස්ත්‍රී. ඇඟපසඟබැඳ සිටියාවූ එනම් මහනහර.

**ස්නිග්ධ**, ත්‍රි. සෙනහ ඇත්තා, පු. සමවයස්වූ යහලුවා, ත්‍රි. සිනිඳු ආහාරාදිය.

**ස්නු**, පු. පර්වතයාගේ සමභූමිය.

**ස්නුත**, ත්‍රි. පෙරහනලද්දෑ හෝ වැගුරුණුදෑ.

**ස්නුෂා**, ස්ත්‍රී. පුත්‍රාදීන්ගේ භාර්‍ය්‍යාව.

**ස්නුහ්**, පු. සිනුක්ගස.

**ස්නෙහ**, පු. සෙනහය.

**ස්පර්ශ**, පු. ස්පර්ශය, උපතාපනම් රෝග විශෙෂයෙක්

**ස්පර්ශන**, න. දානය, පු. සුළඟ.

**ස්පශ**, පු. චරපුරුෂයා, යුධය.

**ස්පෂ්ට**, ත්‍රි. ව්‍යක්තදෑ.

**ස්පෘක්කා**, ස්ත්‍රී. පිඩකායයි ඛ්‍යාතවූ සුගන්ධිකුසුමය (පික්මල්)

**ස්පෘශී**, ස්ත්‍රී. කටුවැල්බටු.

**ස්පෘෂ්ටි**, ස්ත්‍රී. සම්පර්ශ ස්පර්ශනය.
**ස්පෘහා**, ස්ත්‍රී. ආශාව.
**ස්ප්‍රෂ්ටෘ**, ස්ත්‍රී. උපතප්තනම් රෝග විශේෂයෙක්.
**ස්ඵටා**, ස්ත්‍රී. සර්පපෙනය, සඵටයි පුංලිඟුද වේ.
**ස්ඵාති**, ස්ත්‍රී. වැඩීම.
**ස්ඵා(ස්ඵි)ර**, ත්‍රි. බොහෝද.
**ස්ඵිච්**, ස්ත්‍රී. පුළුය හෙවත් කටි යෙහිවූ මස්පිඬ, (තට්ටම)
**ස්ඵුට**, ත්‍රි. ව්‍යක්තද, මල්ගෙන සිටි රුක් ආදිය.
**ස්ඵුටි**, න. න. වස්ත්‍රාදිය පැලීම.
**ස්ඵුරණ**, න. සචලනය.
**ස්ඵුලිඞ්ග**, ත්‍රි. ගිනිපුපුර.
**ස්ඵූර්ජක**, පු. තිඹිරිගස.
**ස්ඵූර්ජථු**, පු. මෙසගජ්ජනාව.
**ස්ඵෙෂ්ට**, ත්‍රි. ඉතා බොහෝ යන මේ අභිවාචකයි.
**ස්ම**, අව්‍ය. පදපූරණයෙහි හෙවත් ඡන්දස් පූරණයෙහි අතීතාර්ථයි.
"හන්තිස්මරාවණං රාමඃ" රාමතෙමේ රාවණාමැරීල, යනාදි උදාහරණයි.
**ස්මර**, පු. අනඟයා.
**ස්මරහර**, පු. ඊශ්වරයා.
**ස්මිත**, න. ඊෂද්විකෂිතෛදන්තෛඃ කටාක්ෂෛඃ සෞෂ්ඨවාන්විතම් අලක්ෂිතද්විජද්වාරං උත්තමානාං ස්මිතමභවෙත්" මඳක් විකෂිතවූ දත්වලින් හා කටාක්ෂයෙන්ද උපලක්ෂිතවූ මඳක් විදහනලද මුව ඇති මඳසිනාව උත්තමයන්ට වන්නේයි, කියනලද ලක්ෂණයෙන් යුක්තවූ මඳසිනාව.

**ස්මෘති**, ස්ත්‍රී. ස්මෘති ශාස්ත්‍ර එනම් මනු ආදීන් විසින් කරණලද ධර්මශාසන ශාස්ත්‍රය, සිහිම හෝ මෙනෙහිකිරීම.
**ස්‍යද**, පු. වේගය.
**ස්‍යන්දන**, පු. කෝඹුගස, යුධ පිණිසවූ යාන හෙවත් රථය.
**ස්‍යන්දනාරොහ**, පු. රිය නැගි යොධයා.
**ස්‍යන්දිනී**, ස්ත්‍රී. කෙල.
**ස්‍යන්න**, ත්‍රි. පෙරහනලද්දද හෝ වැගුරුණුද.
**ස්‍යූත**, ත්‍රි. හූ හෙවත් නූල් දික් ගැසීම් ආදියෙන් සැදීම.
**ස්‍යූති**, ස්ත්‍රී. මැසීම.
**ස්‍රංසින්**, පු. මෝරගස.
**ස්‍රජ්**, ස්ත්‍රී. මුදුන බැඳි මල්දම.
**ස්‍රව**, පු. වැගිරීම.
**ස්‍රවද්ගර්භා**, ස්ත්‍රී. වැටෙන ගැබ් ඇති දෙන.
**ස්‍රවන්තී**, ස්ත්‍රී. නදිය.
**ස්‍රවිෂ්ඨා**, ස්ත්‍රී. දෙනවේ නැකත.
**ස්‍රෂ්ටෘ**, පු. බ්‍රහ්මයා.
**ස්‍රස්ත**, ත්‍රි. ගිලිහුනුද.
**ස්‍රාක්**, අව්‍ය. වහා.
**ස්‍රුච්**, ස්ත්‍රී. නුගපතකට බඳු ආකාරඇති උගුරැස්සලීයෙන් කළ බාහුප්‍රමාණවූ යාග භාජන විශේෂයෙක්.
**ස්‍රුත**, ත්‍රි. පෙරහනලද්දද හෝ වැගුරුණුද.
**ස්‍රුව**, පු. උගුරැස්ස ලීයෙන් කළ බාහුප්‍රමාණවූ යාගභාජන විශේෂයෙක්.



**ස්‍රූ(ස්‍රු)වා**, ස්ත්‍රී. මූෂී.
**ස්‍රුවාවෘක්ෂ**, පු. උගුරැස්ස ගස "ස්‍රුවානාමහොම පාත්‍රභෙදඃ" යනු ටීකා බැවින් හොමපාත්‍ර භෙදයටද නමි.
**ස්‍රොතස්**, න. හෝ වැල (ජලයාගේ බැසීම් වේගය) ඉන්ද්‍රිය.
**ස්‍රොතස්වතී**, ස්ත්‍රී. නදිය, "ස්‍රොතස්විනී" යනුද වේ.
**ස්‍රොතොඤ්ජන**, න. හොයඳුන් ('සුරමා) යනුමරාටියි.
**ස්ව**, පු. එක් ගොත්‍රයෙහිවූ නෑයෝ, ආත්මය හෙවත් තමා, ත්‍රි. තමා අයත්ද, පු. න. ධනය.
**ස්වච්ඡන්ද**, ත්‍රි. ස්වප්‍රධානවූයේ හෙවත් අනුන් අයත් නොවූයේ.
**ස්වජන**, පු. එක් ගොත්‍රයෙහිවූ නෑයා.
**ස්වතන්ත්‍ර**, ත්‍රි. ස්වප්‍රධානවූ අය හෙවත් අනුන් අයත් නොවූයේ.
**ස්වධා**, අව්‍ය. දෙවියන්ට යාග ද්‍රව්‍යපිදීමෙහි "ඉන්ද්‍රායස්වධා" ඉඳුරු දෙවියාට මම පුදමි යනාදි උදාහරණයි.
**ස්වධිති**, ස්ත්‍රී. පොරොව.
**ස්වන**, න. හඬ.
**ස්වනිත**, ත්‍රි. ශබ්දකළද.
**ස්වපන**, පු. නින්ද.
**ස්වප්නජ්**, ත්‍රි. නිදන සුලුවූයේ.
**ස්වභාව**, පු. ස්වභාවය.
**ස්වභූ**, පු. විෂ්ණු.
**ස්වයංවරා**, ස්ත්‍රී. ස්වච්ඡායෙන් පපත්‍යාගනිෂණය හෙවත් සැමියෙකු සෙවීම කරන්නාවූ කන්‍යා ස්ත්‍රිය.

**ස්වයම්**, අව්‍ය. තමා.
**ස්වයම්භූ**, පු. බ්‍රහ්මයා.
**ස්වර්**, අව්‍ය. දෙව්ලෝ පරලෝ යන මෙහිවේ, "ස්වර්ණද්‍යාංස් නාති නාරදඃ" නාරදතෙමේ දෙව්ලො ගඟනහයි, යනාදි යෙහි දෙව්ලොවයි.
"ස්වර්ගතස්‍ය ක්‍රියාකාර්‍ය්‍යා පුත්‍රෛඃ පරමභක්තිතඃ" පරලෝ ගියහුගේ කටයුතු පුතුන් විසින් උත්කෘෂ්ට භක්තියෙන් කටයුතුයි යනාදියෙ පරලොකය යනාර්ථයි.
**ස්වර**, පු. උදාත්ත, අනුදාත්ත, ස්වරිතයයි" තුන්වැදෑරුම් ස්වර.
**ස්වරු**, පු විදුරවිය, යාගය, යාග ටැඹ, ඊදඬු සස්නාකළ පළමු වෙන් ගැලවුණු පොතුර.
**ස්වරස**, ත්‍රි. පඬිත, මනොඥ, න. ස්වභාව.
**ස්වර්ග**, පු. දෙව්ලෝ.
**ස්වර්ජිකාක්ෂාර**, පු. සර්ජිකාක්ෂාර නම් ලුණු.
**ස්වර්ණ**, න. රන්.
**ස්වර්ණකාර**, පු. රන්කරු.
**ස්වර්ණක්ෂීරී**, ස්වර්ණයට බඳු ජිවි හා කිරි ඇති නාගජිහ්වයට බඳු ආකාර ඇති එනම් ගස, (ගොනටුගස.)
**ස්වර්ණදී**, ස්ත්‍රී. අහස් ගඟ.
**ස්වර්භානු**, පු. රාහු.
**ස්වර්වෙශ්‍යා**, ස්ත්‍රී. බහු, ඝෘතාචී මෙනකා රම්භා උර්වශීච තිලොත්තමා සුකෙශිමංජුඝොෂාද්‍යාඃ කථ්‍යන්තෙප්සරසො බුධෛඃ" යි දක්වනලද ඝෘතාචිය, මෙනකාය, රම්භාය, උර්වශීය, තිලොත්තමාය, සුකෙශීය, මංජුඝොෂාය, යනාදි දෙව් වෙසඟුනෝ.

**ස්වර්වෛද්‍ය**, පු. දෙව්වෙද්දු.
**ස්වසා**, ස්ත්‍රී. සහෝදරී.
**ස්වස්ති**, අව්‍ය. "ස්වස්තිතෙහුත්" යනාදියෙහි ආශීර්වාදයෙහිද "ස්වස්තිගච්ඡ" යනාදියෙහි ක්ෂේමයෙහිද "ස්වස්තිමාන් ස්වර්ගීගම් අස්තුතෙ"යනාදියෙහිදවේ.
**ස්වස්තික**, පු. සතරදෙර තොරන් ඇති රජුන්ගේ ගෘහ භේදයෙක්.
**ස්වස්‍රීය**, පු. සහෝදරියගේ පුතා.
**ස්වාති**, ස්ත්‍රී.එනම් පසළොස්වන නැකත.
**ස්වාදු**, ත්‍රි. රිසිදු, මිහිරිදු.
**ස්වාදුකණ්ටක**, පු. ගොකටු, උගුරැස්ස.
**ස්වාදුරසා**, ස්ත්‍රී. කවෙළු,නම් බෙහෙද" ලහාන, කාවළී, මරාටි.
**ස්වාචී**, ස්ත්‍රී. මිදිවැල්.
**ස්වාධ්‍යාය**, පු. වෙදහ්‍යාස කිරීම.
**ස්වාන**, පු. ශබ්ද.
**ස්වාන්ත**, න. සිත.
**ස්වාප**, පු. නින්ද.
**ස්වාපතෙය**, න. ධනය.
**ස්වාමින්**, පු. ස්වාමියා.
**ස්වාරාජ්**, පු. ශක්‍රයා.
**ස්වාහා**, ස්ත්‍රී. අග්නිදෙවතාවාගේ භාර්‍යාව, අව්‍ය දෙවියන්ට යාග ද්‍රව්‍යපිදීමෙහි වේ, "ඉන්ද්‍රාය ස්වාහා" ඉඳුරුදෙවියාට මේ පුදයි යනාදි උදාහරණයි.
**ස්විත්**, අව්‍ය. කිංස්විත් කුශලම්" යනාදිතන්හි ප්‍රශ්නයෙහිද, "කිං පිතතව්‍යතිරෙකාදන්‍යො ගතිරාහොස්විත් පිතතමෙවා ගතිඃ ඉති, යනාදියෙහි විතර්කයෙහි පක්ෂාන්තරාර්ථය, විනතා යන මෙයි.

**ස්වෙතමරීච**, න. මුරුංගා ඇට.
**ස්වේද**, පු. ඩහදිය.
**ස්වේදජ**, ත්‍රි. උණුසුමෙන් උපන්නාවූ පණු, ඇටමැසි මකුණු ආදී ස්වේදජ සත්වයෝයි.
**ස්වේදනී**, ස්ත්‍රී. මුනින් නැමූ කල කබලක් වැනිවූ ලෝහමය පාක පාත්‍රය, මේ සුරා සඳන භාජනයයිද සහල් බදින භාජනයයිද පෙනේ.
**ස්වෛර**, ත්‍රි. මඳ, ස්වාධීන හෙවත් තමන් අයත්.
**ස්වෛරිණී**, ස්ත්‍රී. පතිව්‍රතා නැත්ති.
**ස්වෛරිතා**, ස්ත්‍රී. කැමතිසේ යන අභිවාචකයි.
**ස්වෛරින්**, ත්‍රි. ස්වප්‍රධානවූයේ හෙවත් අනුන් අයත් නොවූයේ.

## හ

**හ**, අව්‍ය. පාදපූරණයෙහි හෙවත් ඡන්දස්පූරණයෙහි.
**හංස**, පු. හංසයා, සූර්යයා.
**හක**, පු. ගැහැණුන් පාසලඹ.
**හඤ්ජිකා**, ස්ත්‍රී. දුමුඩු (දන් දෙව් සුදු.)
**හඤ්ජෙ**, අව්‍ය. නාටකාදියෙහි දාසිය බැණවුමෙහි.
**හට්ට**, පු. ගනුදෙනුකරන ඉඩම.
**හට්ටවිලාසිනී**, ස්ත්‍රී. එනම් ගන්ධ ද්‍රව්‍යය.
**හඨිත**, ත්‍රි. ඌලින් පැලහු මස් ආදිය.
**හඨ**, පු. බලාත්කාරය,
**හණ්ඩෙ**, අව්‍ය. නාටකාදියෙහිලා නීචයෙකු බැණවීමෙහි.
**හත**, ත්‍රි. සිත් බිඳුනාලදුයේ.



**හනු**, ස්ත්‍රී. හනුව, හට්ටවිලාසිනී නම් ගන්ධ ද්‍රව්‍යය, "නඛ්‍ය ගන්ධද්‍රව්‍යම්"යනු වචනබැවින් නඛනම් ගන්ධ ද්‍රව්‍යයයි.
**හන්ත**, අව්‍ය. "හන්තලාභඃ ශත ගුණඃ"ප්‍රියයෙක ලාභය සියක් ගුණයයි යනාදිතන්හි හර්ෂයෙහි හෙවත් ප්‍රීතියෙහිද "හන්ත දීනො" අනුකම්පය, බැගෑ නැනැත්තේ රක්ෂා කටයුතුය යනාදි තන්හි අනුකම්පායෙහිද "හන්තතෙ කථයිෂ්‍යාමි" එසේනම් ඒ තට කියන්නෙමි යනාදිතන්හි වාක්‍යාරම්භයෙහිද "හන්තජාතම ජිනාගරෙඃ ප්‍රථමෙන ත්‍රියාරිණා" බෙදයෙහි පළමු වෛරවූ තා ඝාතූපත් වෛර ඇත්තකුගේ ඉපැත්මෙක යනාදි තන්හි විෂාදයෙහි හෙවත් කනස්සලුයෙහිදවේ.
**හනන**, ත්‍රි. මළපහකළේ.
**හය**, පු. අශ්වයා.
**හයපුච්ඡී**, ස්ත්‍රී. උඳුපියලිය.
**හයමාරක**, පු. අලරිය, (කනේරු)
**හර**, පු. ඊශ්වරයා.
**හරණ**, න දායාදය.
**හරි**, පු. සිංහයා, සර්පයා, වඳුරා, මැඩියා, ගිරවා, යමයා, වායු දෙවතා, ශක්‍රයා, චන්ද්‍රයා, සූර්යයා, විෂ්ණු, අශ්වයා, රශ්මිය, කිඹුල් පැහැ.
**හරිචන්දන**, පු. න. මැඩියෙකුට බඳු පත්ඇති හරිනම් පර්වතයෙහි ඇතිවන්නාවූ චිලිකුම් අඹයට බඳු සුවඳැත්තාවූ පිඟුවන් පැහැඇති සඳුන් විශේෂයෙක් රන්වන් පැහැයයිද කියත්, දිව්‍යවෘක්ෂය.
**හරිණ**, පු. මුවා, පඬුපැහැ, ඉන් යුක්තයෙහි, ත්‍රි.
**හරිණී**, ස්ත්‍රී. මුවදෙන, රත්පිළිරුව, පලාපැහැ.
**හරිත්**, ස්ත්‍රී. දිශාව, පු. පලාවන් පැහැ ඉන්යුක්තයෙහි, ත්‍රි.
**හරිත**, පු. මහරිලබෝනම් පක්ෂියා, පලාවන්පැහැ, ඉන් යුක්තයෙහි, ත්‍රි.
**හරිතක**, න. වාස්තුකාදිපලා.
**හරිතාල**, න. හිරියල්.
**හරිතාලක**, න. සිරියල්.
**හරිදශ්ව**, පු. හිරු.
**හරිද්‍රා**, ස්ත්‍රී. කහ.
**හරිද්‍රාභ**, පු. කහපැහැඉන් යුක්තයෙහි, ත්‍රි.
**හරිද්‍රු**, පු. වණුවැල්.
**හරින්මණි**, පු. මරාමිණ.
**හරිප්‍රියා**, ස්ත්‍රී. ශ්‍රීකාන්තාව.
**හරිමන්ථක**, පු. කඩල.
**හරිවාලුක**, න. සුඹුලු ඖෂධයට ගන්නා සුගන්ධ ද්‍රව්‍යයවූ එල් වළු.
**හරිහය**, පු. ශක්‍රයා.
**හරීතකී**, ස්ත්‍රී. අරළු.
**හරේණු**, පු. කලත්ම(ලීමෑ),ස්ත්‍රී. මරිචාකෘතිවූ ඵලඇති රේණුකායයි ප්‍රසිද්ධ ගන්ධ ද්‍රව්‍යය (රෑහැණිය)
**හර්ම්‍ය**, න. ධනින්ගේ මුඩුසෙවෙනි ඇති ගෘහවිශේෂයෙක්.

හර්‍ය්‍යක්ෂ, පු. සිංහයා.
හර්‍ය්‍යශ්ව, පු. ශක්‍රයා.
හර්ෂ,පු. ප්‍රීතිය,ඉත්‍යුක්තයෙහි,ත්‍රි.
හර්ෂමාණ, ත්‍රි. තුටුසිත් ඇත්තා.
හල, න. නඟුල.
හලා, අව්‍ය. නාටකාදියෙහි ලා යෙහෙළිය බැණවුම්හි.
හලායුධ, පු. බලභද්‍රයා.
හලාහල, පු. න. එනම් විෂභෙදය (හිමවත්හිද ත්‍රිෂ්කන්ධයෙහිද කොකනද දෙශයෙහිද දක්ෂිණ සමුද්‍රයෙහිද වන්නාවූ තාලපත්‍ර සංස්ථානවූ නිල්පත් හා ගොස්තනාකාරවූ ඵල ඇති ගුල්මවිශෙෂයකුදු ඇත)
හලින්, පු. බලභද්‍රයා.
හලි(ලී)ප්‍රිය, පු. බක්මිගස.
හලිප්‍රියා, ස්ත්‍රී. සුරා.
හල්‍ය, ත්‍රි. නඟුලෙන් සෑ කෙත් ආදිය.
හල්‍යා, ස්ත්‍රී. නඟුල්රැස.
හල්ලක, න. රත්හෙල්මැලි.
හව, පු. අන, කැඳවීම, යාග.
හවිෂ්‍ය, න. ගිතෙල්.
හවිස්, න. හෝමකටයුතු ද්‍රව්‍ය, ගිතෙල්.
හව්‍ය,න. දෙවතාවන්ගේ ආහාර.
හව්‍යවාහන, පු. ගිනි.
හස, පු. සිනාව.
හසනී, ස්ත්‍රී. ගිනිකබල.
හසන්ති, ගිනිකබල.
හස්ත, පු. රියන, අත, හතේ නැකත, මේ ශබ්දය කෙශපර්‍යායවූ ශබ්දයක්හු කෙරෙහි පරවූකල්හි කලාපයෙහි වැටේ.

හස්තවාරණ, න. මරණ ආදී වධයෙන්ස්වහස්තයෙන්රැකීම.
හස්තින්, පු. ඇතා.
හස්තිනඛ, පු. ඇත්නිය, (ඇතුලෙන් නිම්මග ඇතිකොට දුර්ගපුරවාරය වසා ගොඩනැගූ මැටිරැස.
හස්තිපක, පු. ඇත්ගොව්වා.
හස්තාරොහ, පු. ඇත්ගොව්වා.
හා, අව්‍ය. විෂාද, ශොක, පීඩා යන මෙහිවේ, "හාරමණීයො ගතඃ කාලඃ" අහෝ සිත්කළු කාලයගතාවී යනාදියෙහි විෂාදයි හෙවත් කලකිරීමයි, "හාපිතඃ ක්වාසි" අනේ පියේ කොයි වෙන්ද, යනාදියෙහි ශොකයි, හාහතොස්මි" පීඩාවෙන නාශනාලදුයෙම් යනාදියෙහි පීඩයි',
හාටක, න. රත්.
හායන, පු. අවුරුද්ද, ගිනිසිළු වී වර්‍ගයෙක්.
හාර, පු. මුතුහර.
හාරින්, ත්‍රි. ගෙනයන තැනැත්තේ මුතුහරින් හෙබියේ, මනහර තැනැත්තේ.
හාර්දි, න. සෙනහය.
හාලා, ස්ත්‍රී. සුරා.
හාලික, පු. සානගොන් ආදිය, "බනත්තෙන තද්බොධ්‍යෙය්‍ය දංගලික සෙනිකො" සනුවචන බැවින් හලෙනබනති, හලස්‍යවොඪා, හලස්‍ය ඉදම්" යනු යෙදේ එකල නඟුලෙන් සාන්නාටද නඟුල්විය උසුලන්නාටද නඟුලේ අවයවටදනම්.



හාව, පු. විලාසය, විබ්බොකය, විභ්‍රමය, ලලිතය, හෙලාය, ලීලායයි කියනලද ස්ත්‍රීන්ගේ ශෘඞ්ගාර භාවයෙන් උපන් ක්‍රියා.
හාස, පු. සිනාව
හාස්තික, න. හස්තිසමූහය.
හාස්‍ය, න. සිනාව.
හාහා, පු. දිවගඳඹ වෙසෙසෙක්.
හි, අව්‍ය. පාදපූරණය, හෙවත් ඡන්දස් පූරණය, හෙතුය, අවධාරණය යන මෙහිවේ.
හිංසා, ස්ත්‍රී. සොරකම, තැළීම් බැඳීම් ආදිවධ
හිංස්‍ර, ත්‍රි. හිංසාශීලීවූයේ
හික්කා, ස්ත්‍රී. හික්කාව.
හිංගු, න. සුඟු, (පෙරුම්කායම්)
හිංගුනිර්‍යාස, පු. කොසඹගස.
හිංගුල, න. සාදිලිගම්.
හිංගුලී, ස්ත්‍රී. හෙළබටු.
හිජ්ජල, පු, එනම් වෘක්ෂය.
හිණ්ඩිර, මුහුදුපෙන.
හින්තාල, පු. කිතුල්.
හිම, ත්‍රි. ශීතලවූ, න. පිනි.
හිමවත්, පු. හිමාලය පර්වතය.
හිමවාලුකා, ස්ත්‍රී. කපුරු.
හිමසංහති, පු. හිමරැස.
හිමාංශු, පු. සඳ.
හිමානී, ස්ත්‍රී. හිමසමූහය.
හිමාවතී,ස්ත්‍රී. ස්වර්ණයට බඳු ජිව්හා කිරිඇති නාගජිහ්වා කෘතිවූ ස්වර්ණක්ෂීරීනම් ගස, (ගොතටු)

හිරණ්‍ය, න. ධනය, කළ නොකළ හෙවත් ආභරණාදිය කළාවූද ආභරණාදිය නොකොට ආකරයෙන් ගොඩනැගූ පමණවූද රන් රිදී.
හිරණ්‍යගර්භ, පු. බ්‍රහ්මයා.
හිරණ්‍යරෙතස්, පු. ගිනි.
හිරණ්‍යබාහු, පු. ශොන නදියයි ප්‍රසිද්ධවූ නදීභෙදය.
හිරුක්, අව්‍ය. සමීපය, "හිරුග්ගිරිශංගෞරී" උමාතොමෝ ඉසුරුවෙතයි යනාදි උදහරණයි.
හිල්මොචිකා, ස්ත්‍රී. එනම් පලා වෙසෙසෙක්.
හී, අව්‍ය. විස්මයෙහි, හීචිත්‍රම්" විස්මයෙක ආශ්චර්‍යයෙක් යනාදි උදාහරණ.
හීන, ත්‍රි. දුරුකළද, අඩු, නින්දිත.
හුතභුක්ප්‍රියා, ස්ත්‍රී. අග්නිදෙවතාවාගේ භාර්යාව.
හුතභුජ්, පු ගිනි.
හුම්, අව්‍ය. විතර්කය, ප්‍රශ්නය යන මෙහිවේ, "හුංජලංහුංමෘගතෘෂ්ණා" ජලයදෝ මිරිඟුදෝ යනාදියෙහි විතර්කයි, "හුංදෙවදත්තොයම්" මේ තෙමේ දෙවදත්තද යනාදියෙහි ප්‍රශ්නයි.
හූති, ස්ත්‍රී. කැඳවීම.
හූහූ, පු. දිවගඳඹ වෙසෙසෙක්.
හෘණීයා, ස්ත්‍රී. පිළිකුල.
හෘද්, න. සිත, ළය.
හෘදයඞ්ගම, ත්‍රි. යුක්ති යුක්ත වචනය.

**හෘදයාලු**, ත්‍රි. ප්‍රශස්තසිත් ඇත්තේ.

**හෘද්‍ය**, ත්‍රි. අභීෂ්ට හෙවත් ප්‍රියදෑ.

**හෘෂීක**, න. චක්ෂුරාදි ඉන්ද්‍රියයෝ.

**හෘෂීකේශ**, පු. විෂ්ණු.

**හෘෂ්ට**, පු. ප්‍රමුදිතවූයේ.

**හෘෂ්ටමානස**, ත්‍රි. තුටුසිත් ඇත්තේ.

**හෙ**, අව්‍ය. සංම්බොධනාර්ථයි.

**හෙති**, ස්ත්‍රී. හිරුරැස්, ශස්ත්‍ර, ගිනිදූල්.

**හෙතු**, න. කාරණය.

**හෙම**, න. රන්, අත්තන, පු. කළු අශ්වයා.

**හෙමකූට**, පු. දඹදිව නවඛණ්ඩ යන් අතුරෙන් කිම්පුරුෂ ඛණ්ඩයෙහිවූ පර්වතභෙදයෙක්

**හෙමදුග්ධක**, පු. දිඹුල්ගස.

**හෙමන්ත**, පු. හිමකල.

**හෙමපුෂ්පක**, පු. සපුගස්.

**හෙමපුෂ්පිකා**, ස්ත්‍රී ස්වර්ණයූථිකා

**හෙමාද්‍රි**, පු. මහමෙර.

**හෙරම්බ**, පු. ගණදෙවි.

**හෙලා**, ස්ත්‍රී. "ප්‍රෞඪෙච්ඡයාගත රූඪානාං නාරීණාං සුරතොත්සවෙ ශෘඞ්ගාර ශාස්ත්‍රතත්වඥෙඃ හෙලාසාපරිකීර්තිතා" මධ්‍යම වයස්වූ හෝ ස්ත්‍රීන්ගේ රතික්‍රීඩායෙහිලා යම් වැඩුනු ආසාවක් ඇද්ද ඒ හෙලානම්.

**හෙෂා**, ස්ත්‍රී. අශ්වයන්ගේ නාදය.

**හෛ**, අව්‍ය. සම්බොධනාර්ථයි.

**හෛමවතී**, ස්ත්‍රී. ස්වර්ණක්ෂීරීයටබඳු ජිව්හා කිරි ඇති නාගජිහ්ව යට බඳු ආකාර ඇති ස්වර්ණක්ෂීරීනම් ගස, (ගොනටු) අරලු, හෙලවදකසා, උමාදෙවි.

**හෛයඞ්ගවීන**, න. ඊයේ දෙවූ කිරිමුදා ඉන් නගාගත් ගිතෙල් හෝ වෙඬරු.

**හොතෘ**, ත්‍රි. සෘග්වෙද දන්නේ.

**හොම**, පු. "අධ්‍යයනං බ්‍රහ්මයඥඃ පිතෘයඥස්තු තර්පණම් හොමොදෛවො බලිර්භෞතො නෘයඥොතිථි පූජනම්"යි. දන් වනලද පස්මහා යාග අතුරෙන් මේ අග්නි හොමය දෙවියන්ට පවත්වන දෛව නම් යාගයයි.

**හොරා**, ස්ත්‍රී. ලග්නය, රාශියකින් කොටසක්.

**හ්‍යස්**, අව්‍ය. ගියදවස, "හ්‍යස්සමී මහවන් කායසීම්" සියලු කට යුතු ඊයේ වී යනාදියයි.

**හ්‍රද**, පු. පත්ල නොදක්කහැකි තඩාගාදි ජලස්ථාන (ගැඹුරු විල.)

**හ්‍රදිනී**, ස්ත්‍රී. නදිය.

**හ්‍රසිෂ්ට**, ත්‍රි. ඉතා වාමනකයා හෙවත් මිටි යන මේ අර්ථවාචකයි.

**හ්‍රස්ව**; ත්‍රි. කුරු හෝ මිටිදෑ.

**හ්‍රස්වගවෙධුකා**, ස්ත්‍රී. කැලිය ගස.

**හ්‍රස්වාඞ්ග**, පු. ජීවක (දිවි) නම් බෙහෙද.

**හ්‍රාදිනී**, ස්ත්‍රී. විදුලිය, විදුරවීය.

**හ්‍රී**, ස්ත්‍රී. ලජ්ජාව.

**හ්‍රීණ**, ත්‍රි. ලජ්ජිතයා හෙවත් ලජ්ජාකරනු ලැබූයේ.

**හ්‍රීත**, ත්‍රි. ලජ්ජිතයා හෙවත් ලජ්ජාකරනු ලැබූයේ.

**හ්‍රීවෙර**, න. ඉරිවේරිය, මෙහි කෙශඅම්බුපයසීයයෝදවෙන්.

**හ්‍රෙෂා**, ස්ත්‍රී. අශ්වයන්ගේ නාදය.

**හ්ලාදිනී**, ස්ත්‍රී. ඉන්සළුරැක.